ආදරණීය පාඨකයිනි,

අලුත් අවුරුද්ද වෙනුවෙන් මගෙන් ඔබට තෑග්ගක්.
මේ මා විසින් 2018 වසරෙදි මුද්‍රනය කරන ලද, ලස්සන කෙටි කතා 50ක්.

අදටත් ලස්සන කෙටි කතා පනහක් පාඨකයින් අතර අතිශයින් ජනප්‍රියයි. ඒ ජනප්‍රියත්වය නිසාම මට මෙය යලිත් මුද්‍රනය කොට මුදල් උපයා ගත හැකි වුවත් මා එසේ නොකලේ හේතු කිහිපයක් නිසයි.

1) මෙය මගෙන් තෑග්ගක්. වටිනා තෑග්ගක්. ඔබේ ජීවිතය දිනවිය හැකි ජීවිතය වෙනස් කරත හැකි තෑග්ගක්. මෙහි කෙටි කතා ඔබව දෛහීර්යමත් කරාවී, ඔබව වෙනම ලෝකයකට ගෙන යාවී. විශ්වයේ ඇති අපූරු, අලංකාර සේම අදුරු හැඟීම් පවා ඔබට දකින්නට සලස්සාවී. විටෙක එය ඔබව ත්‍රාසයෙන් සහා කුතුහලයෙන් මුසපත් කරාවී. ඉතින් මෙය කියවූ පසුව ඔබ සතුටු වේවී, ඔබ යලිත් හිතන්නට පටන් ගනීවී, ඔබේ ජීවිතයේ ඇති වැරදුනු තැන් යලිත් හදා ගනීවී. ඉතින් එයම මට සතුටක් නොවේද?

2) ලස්සන කෙටි කතා පනහක් හැමෝම කියවිය යුතු පොතක්. එය මගේ මුල්ම පොත වගේම මා ලියූ පොත් වලින් මා බොහෝම ආසාවෙන් ලියූ පොතක්. ඒ නිසාම මම කැමතියි හැමෝම එය කියවනවා දකින්න.

ඉතින් කියවන්න, කියවා තවත් අයෙක්ට බෙදා හරින්න. වට්ස් ඇප්, ටෙලිග්‍රාම්, ෆේස්බුක් ඕනෑම මාධ්‍යක් හරහා මෙය බෙදා ගන්න, බෙදා හරින්න.
**ලස්සන කෙටි කතා පනහක් අද සිට ඔබට බාරයි.**

එසේම,
පීඩීඑෆ් තුලින් හෝ ඔබ පොත් කියවනවානම්, දැනුමක් ලබා ගන්නවානම් මා සේම අනිකුත් ලේඛකයින්ද එයට කැමතියි. එහෙත් කිසිම විටෙක කතෘගේ පූර්න කැමැත්තකින් තොරව ඔහුගේ පොත් කිසිම විදියකින් පීඩීඑෆ් කොට බෙදා හරින්න එපා. ලේඛකයින්, ප්‍රකාශන ආයතන සේම, එම ප්‍රකාශන ආයතන වල සේවය කරන කම්කරුවන් පවා ජීවත් වෙන්නේ ඔබ පොතකට ගෙවන වටිනාකම වෙනුවෙන්. අද පීඩීඑෆ් හොරෙන් ගසා බෙදා හැරීම ජාවාරමක් තරමටම උඩුදුවා ඇති නිසා එවන් ජාවාරම් කරුවන් දුටු වහාම ඒ වෙනුවෙන් නීතිමය පියවර ගන්න. හැකිනම් එවන්නන් ගැන අදාල ප්‍රකාශන ආයතනයට හෝ කතෘට දන්වා සිටින්න. එවිට ඔහුන් ඒ සඳහා නීතිමය පියවර ගනු ඇති. බුද්ධිමය දේපල පනත යටතේ කතෘගේ

අනුමැතියෙන් තොරව පොත් පීඩීඑෆ් මගින් බෙදා හැරීම වසර පහකට ආසන්න කාලයකට සිර දඬුවම් ලැබිය හැකි වරදක්. ඒනිසාම එවන් තැන් දුටු වහාම නිහඬව නොසිටීම ඔබට භාරයි.

## NOTICE

"ලස්සන කෙටිකතා පනහක්" නම් වූ මෙම කෘතිය එහි කතෘ වන මුතුමුදලිගේ නිශ්ශංක වන මා විසින්ම මාගේ පූර්න කැමැත්තෙන් බෙදා හරින බවත්, මෙම "ලස්සන කෙටිකතා 50ක්" පොත විද්‍යුත් මාධ්‍යන් ඔස්සේ බෙදා හරින කවරෙකු හෝ වේවා ඒ සඳහා ඔහුන්ට මාගෙන් අනුමැතිය හිමි වන බවත් මෙහින් මා දන්වා සිටිමි.






පොත් මී වෙතින්

**මුතුමුදලිගේ නිශ්ශංකගේ අනිකුත් පොත් -**

Goha Series –
1 – ගෝහාර්
2 – ගුස්තා
3 – මීෂා

Thrithwa Series (18+)
4 – ත්‍රිත්ව
5 – ත්‍රිත්ව 2 - බේබී
6 – ත්‍රිත්ව 3 (ළගදීම)

7 – සුරගන කතා කරළිය (ළමා)
8 – හොවානෙස් තුමානායාන්ගේ කතා (ළමා)
9 – ගිකෝර්
10 – එක දවසක් රෑ
11 – බෝම්බ තුනක්
12 – බාබා X (ළගදීම)
13 – පෝ (ළගදීම)

**කෙටි කතා**

14 - ලස්සන කෙටි කතා 50ක්

# ලස්සන බිරිදගේ රහස

ගෙගාම් උදෙන්ම මෂ්තෝස් වල තිබුනු මාර්කට්ටුවට ගියේ සති අන්තයට බඩුවගයක් ගන්න හිතාගෙන... මාර්කෙට්ටුවට ගොඩ වෙනවත් එක්කම ගෙගාම් දැක්කා හොදට දැකලා පුරුදු මුහුනක්... ඔහු ටිකක් විමසිල්ලෙන් බැලුවා ...
" නිකෝල් ... " ඔව් ඒ නිකෝල්... ඔහුගේ පාසැල් කාලයේ යහලුවෙක්... අවුරුදු 15කට විතර පස්සේ ගෙගාම් අදයි නිකෝල් ව දැක්කේ.... ඔහු නිකෝල්ව වැලද ගත්තා ..
" යෙරෙවාන් පාසැලෙන් අස් වුනාට පස්සේ උබට මුන ගැසුනේම නැහැ "
ගෙගාම්ටත් ගොඩක් සතුටුයි...
" ඔව් යහලුවා.... මම යෙරෙවාන් වලින් අස්තරාක් වලට ගියා..දැන් අපි ජීවත්වෙන්නේ එහේ " ඔහු තමන්ට එහා පසින් හිටපු කාන්තාවව පෙන්වමින් කිව්වා... ගෙගාම් ඇය දිහා බැලුවා ... නිකෝල් එහා පසින් සුරුපි හැඩකාර කාන්තාවක් හිටගෙන හිටියා..ඇයට තිබුනේ ලස්සන තබ කොඩයක්....ලස්සන සිනහවක්.... උස සිහින් සිරැරක් ..
" මේ මගේ බිරිද ... ලුසී "
නිකෝල් ඇයව ගෙගාම්ට හදුන්වා දුන්නා..
" බිරිද " ගෙගාම් මිමුනුවා...
" ඔව් ..."
" ෂා උබට ඉන්නේ හරි ලස්සන ගැහැනියෙක්නේ "
ගෙගාම් කිව්වා... ඒ කතාවට ලුසීටත් හිනා....

ඔහුන් මාර්කෙට්ටුව කොනේ තිබුන ලූනා කැෆේ නම් වූ කුඩා අවන් හලට ගොඩ වැදුනේ පොඩ්ඩක් කතා කරන්න... මුන ගැසුනෙත් ගොඩ කාලෙකින් නිසා මාර්කට් යන එක පස්සට කල් දාන්න පුලුවන් ...ගෙගාම් හිතුවා..

ඔහුන් කතා කරමින් ඉන්න අතර තුර ගෙගාම් කිහිප වාරයක්ම ලුසී දිහා බැලුවා ...ඔහුට පුදුමයි .... ඇයගේ වයස බොහොම අඩු වයසක් වෙන්න ඇති....නැත්නම් මේ තරම් ලස්සනට සිරැර ඇය කොහොම නඩත්තු කරන්නද ? ඔහුට මතක් වුනේ ඔහුගේ බිරිද මැගී ව ..ඇය කොයි තරම් තරබාරුද.... ඇයගේ වයසටත් වඩා ඇයට පෙනුම..අනික

මුහුනේ සන්තෝෂයක් කියලා දෙයක් නැහැ... ගෙගාම්ට ඇත්තටම පොඩි ඉරිසියාවකුත් ආවා...

නිකෝල් සහා ලුසී කතා කරන විටත් එකිනෙකාගේ අත් පටලගන්නවා... හරියට අලුත බැඳපු ජෝඩුවක් වගේ ... හිනා වෙද්දීත් හරිම ආදරෙන් එකිනෙකා දිහා බලනවා....
" උබලා අලුතින්ද බැන්දේ "ඒක දිහා ටිකක් වෙලා බලාගෙන හිටපු ගෙගාම් ඇහැව්වා..
" පිස්සුද ගෙගාම් ....අපි දැන් බැදලා අවුරුදු 15ක් වෙනවා... මම විවහා වුනේ ඉස්කෝලෙන් අස් වුන හැටියෙමයි..අපිට දැන් ලොකු දරුවොත් ඉන්නවා.. "
" වෙන්න බැහැ .. " ගෙගාම් පුදුමයෙන් වගේ කිව්වා...
" ඔය දෙන්නා කතා කර කර ඉන්න ...මම ගිහින් කෑම ඕඩර් කරන්නම් "
ලුසී නැගිටලා එතනින් යන්නට ගියා...

"ඇත්ත කියපන් උබලගේ ගෙදර වැඩ කාරයෝ දෙතුන් දෙනෙක් ඉන්නවා නේද ..මොකද උබේ ගැහැනිගේ මුහුනේ මහන්සි ගතියක් ජේන්නම නැහැ..අනික හොදට ලස්සනට ඉන්නවත් එක්කනේ " ගෙගාම් පොඩි හිනාවකුත් එක්කම කිව්වා..
" නැහැ බන්.... වයිෆ් තමයි ගෙදර හැම දේම කරන්නේ...දරුවන්ගේ වැඩයි..ගෙදර වැඩයි හැමදේම.... එයා තව පොඩි ජොබ් එකකුත් කරනවා... "
" මොකක් " ගෙගාම් පුදුමයට පත්වුනා…
" ඒ නම් උබලගේ ජීවිතයේ වෙන මොකක් හරි රහසක් ඇති ... "
" රහසක් " නිකෝල් මොහොතක් කල්පනා කලා...
" නැහැ ..එහෙම දෙයක් නැහැ ගෙගාම් ..එහෙත් මම මගේ බිරිද වෙනුවෙන් හැම දාම කරන පුංචි දේවල් ටිකක් තියෙනවා ..."
" පුංචි දේවල් ඒ මොනවද "
"ම්ම්ම්ම්... " නිකෝල් මිමුනුවා.... " මම කවදාවත් ලුසිට අතක් උස්සලා නැහැ...
හැම පවුලකම වගේ අපේ පවුලෙත් ආරවුල් තියෙනවා එහෙත් අපි කවදාවත් ඒවා හිතේ තියාගෙන නින්දට යන්නේ නැහැ...නින්දට යන්න කලින් හැමදේම කතා කරලා විසදගන්නවා..
ඒ වගේම මම හරි ලුසී හරී එලියට යද්දි අපි අනිවාර්යෙන්ම එකිනෙකාට හාද්දක් දෙනවා....නිදාගනිද්දිත් ආයේ අවදි වුනාමත් එහෙමයි ....
මම හරි එයා හරි කොච්චර කාර්ය බහුල වුනත් අපි වැඩපොලේදී අනිවර්යෙන්ම එකිනෙකාත් එක්ක කතා කරනවා...
තව ... නිකෝල් කල්පනා කලා..
" හා ... ලුසි කැමති දේවල් මම එයාට කරන්න ඉඩ දෙනවා... මම ඒවට බාදා කරන්නේ නැහැ... පිරිමි අපි ගොඩක් වෙලාවට

ගැහැනුන්ව පාලනය කරන්න උත්සහා ගන්නවනේ ..ඒක එයාලට හරිම වදයක්.. මම කැමැති නැහැ ලූසීට එහෙම වදයක් වෙන්න.... "
"ඒවගේමයි ගෙගාම්.... පිරිමි අපි සමහර වෙලාවට ආත්මාර්ථකාමියි...අපි අපේ මහන්සිය ගැන හිතුවට එයාලා වෙන මහන්සිය ගැන හිතන්නේ නැහැ... ලූසී මහන්සියෙන් ඉන්න දවස් වලට ගෙදර තියෙන වැඩ ගොඩක් කරන්නේ මම...එයත් එහෙමයි...

" පිරිමි ගොඩක් වෙලාවට ආදරය පෙන්නන්න කැමැති නැහැ.... එහෙත් කාන්තාවන් ආසයි ආදරේ විදින්න...ඒ නිසා පිරිමි අපිට අනිවාර්යෙන්ම වෙනස් වෙන්න සිද්ද වෙනවා...අපි කාන්තාවන්ට ආදරය දෙන්න දෙන්න ඒ අය තවත් ලස්සන වෙනවා... ඒක තමයි ඇත්ත...ගොඩක් ගැහැනු ගෙදර දරුවන්ගේ වැඩත් එක්ක දුක් විදිද්දී එයාලට එයාලා ගැනම හිතන්න වෙලාවක් නැතිවෙනවා... ඒ වෙලාවට අපිත් එයාලට සහයෝගයක් දුන්නනම්..එයාලට තමන්ගේ ලස්සන ගැනත් හිතන්න කාලයක් ලැබේවී....

සතුට , ආදරය ජීවිතය වෙනස් කරනවා...අපි කරන පුංචි පුංචි දේවල් වලට වුනත් පුලුවන් ජීවිතය පුදුමාකාර විදියට වෙනස් කරන්න...මම හිතන්නේ උබ කලින් ආහපු ප්‍රශ්නයට උත්තරය ඒක වෙන්න ඇති..."

මොහොතකින් ලූසී කෑමත් රැගෙන එතැනට පැමිනියා ...ඔහුන් එතැනින් පසුවත් බොහෝදේවල් එකිනෙකා සමග කතා කලත් නිකෝල් කලින් කී "පුංචී දේවල්" ගෙගාම් මුලු මනසම වෙලාගෙන තිබුනේ.

ඔහුට තමන් ගැනම දැඩි වේදනාවකුත් පසු තැවිල්ලකුත් ඇතිවුනා... ඔහුට තම බිරිද මැගීව මතක් වුනා...ඔහු ඇයට හාද්දක් දුන් අවසන් දිනයවත් ඔහුට මතක නැහැ..ඔහු ඇයව ආදරයෙන් වැලදගත් අවසන් මොහොතක්වත් ඔහුට මතක නැහැ... ඇය ඇඳුම් ගැනීමට ගිය සැමවිටම ඔහු ඇයත් සමග රංඩු වුනා... ඇය වෙලාවට කෑම එක මේසයට තැබුවේ නැති සැම මොහොතකම ඔහු ඇයත් සමග රංඩු වුනා... අඩුම තරමින් නින්දට යද්දී ඔහු ඇයට හාද්දක්වක් නොදුන් දවස් අනන්තවත් තිබුනා..විවහා වී පලමු මාස කිහිපයේ හැරෙන්නට වැඩට යන්නට කලින් කිසිම දිනෙක ඇයට හාද්දක් දුන්නේ නැහ.

ඔහුට මේ සේරම එකිනෙකට මතක් වුනා... ඒ සේරම චිත්‍රයක් වගේ ඔහුගේ මනසේ හැදුනා.... ඔහුගේ මුලු හදවතම හඩා වැලපුනා .... ඇය දරුවන්වත් රැක බලාගෙන ගෙදර හැමදේමත් කරගෙන තමන්වත් සතුටු කරන්නට කොයිතරම් දුක් විදිනවා ඇත්ද...ඔහු කල්පනා කලා.. ඔහුන් විවහා වන විට ඇය ලස්සනට සිටි හැටි ඔහුට තවමත් මතකයි. එහෙත් දැන් ඇය හාත්පසින්ම වෙනස්.

ගෙගාමි එදා මර්කෙට්ටුවට ගියේ නැහැ . ඒ වෙනුවට ඔහු නිවසට ගියා.

ඔහු නිවසට යන විටත් මැගී කෑම පිසමින් සිටියේ ....ඇය තරබාරුයි... විවහා වෙන විට තිබුනු ලස්සන දැන් ඇයගේ අහලකවත් නැහැ. මුහුනේ තිබුනු සිරියාවත් පහව ගිහින් .... ඒ සේරමට තමනුත් වරද කරුවෙක් බව ගෙගාමි සිතුනා .. "

අර පුංචි කරුනු ටික මමත් කලානම් "ඔහු ඔහුටම දොස් පවර ගත්තා...

මැගි ලගට ගිය ඔහු ඇයව වැලද ගත්තා... ඒ වැලදගැනීම තුල තිබුනේ කිව නොහැකි තරම් වූ වේදනාවක්
" මට සමාවෙන්න රත්තරං " ඔහු ඇයට කිව්වා....

---

පසුවදන - පිරිමි අපි බහුතරයක් ඇත්තටම ආත්මාර්ථකාමියි... අපි ආදරය විදින්න කැමතියි එහෙත් ආදරය දෙන්න කැමති නැහැ.මේ කතාව අපි හැමෝටම ආදරශයක් වේවී.ඔබේ බිරිදට ආදරය ලබාදෙන්න...ඇයට ආදරය පෙන්වන්න...කිසිම දවසක ආදරය හංගාගෙන ඉන්න එපා..ඔබේ ජීවිතය තවත් ලස්සන වේවී...

# ගෝහා නොහොත් අත්භූත දරුවා

මා මෙහි ලියන සියලුම දේ සියල්ලම සිදුවූ ආකාරයෙන්ම ලිවීමට මා වගබලා ගනිමි.මේ සිදුවූ සහා සිදුවෙමින් පවතින දේවල් නිසා මා උභතකෝටික ප්‍රශ්න රාශියකටම මුහුන පා සිටිමි.ඔබ මෙම කතාව කියවිය යුතුය.සමහර විට මා මුහුන දෙමින් පවතින එම ගැටලු වලට පිලිතුරු දීමට ඔබට හැකිවනු ඇත.එහෙයින් මගේ ජීවිතයේ සත්‍ය කතාවක් වන " ගෝහා" මා මෙසේ ලියා පලකරමි.

සාරා ස්කාර්ලට් ශෝරායි.අපි විවහා වී වසර කිහිපයක්ම ඉක්ම වී සිටියෙමු.සාරාත් මමත් අපි දරුවෙකු වෙනුවෙන් සිහින මැවුවාය...එහෙත් වසර කිහිපයක් යනතුරුම එය සිදු නොවීය...එහෙත් එක් දිනක් ඇය මට මේ සුන්දර පුවත දන්වා සිටියාය.

" ආර්චී ....ඔයා තාත්තා කෙනෙක් වෙන්න යන්නේ "
මා මගේ ජීවිතයේ වඩාත්ම සතුටට පත්වූ දිනයක් වේනම් ඒ දවසයි...තාත්තා කෙනෙක් වීම මගේ ජීවිතය පුරාවටම මා ප්‍රර්ථනා කල දෙයක් විය..සාරාටත් එසේමය...ගැහැනියකට ලද හැකි උතුම්ම සැපත ඇයගේ පියයුරු වලින් කිරි උරාබොන දරුවෙකුව දැකීමේ අප්‍රමාන වූ සතුට බව මා දනිමි...

ඒහෙත් ඒ සතුට වැඩි කාලයක් ගත නොවීම වේදනාවක් බවට පෙරලින..
සති 8ක් ගෙවී ගොස් තිබ්න...දිනක් රාත්‍රියෙ නිදි ඇදේදී සාරා වේදනාවෙන් ඇබරෙමින් කෙදිරි ගසනු මට ඇසින...ම අවදිවිමි....
" සාරා .. ඇයි " මා ඇසුවෙමි...
පිලිතුරු නොදීම ඇය වේදනාවෙන් අඩමින් සිටියාය...මම කාමරයේ විදුලි බුබුල දැල් වුවෙමි...ඇයගේ ගවොම ලේ විලක් වී තිබ්න....එය දුටු ඇය හඩ නගා විලාප දෙන්නට විය
" ආර්චී.... අපේ දරුවා ... " ඇය හඩා වැටින...
මම ඇයව ඉක්මනින්ම රෝහලට ගෙන ගියෙමි... ඇයගේ දරු ගැබ ගබ්සා වී තිබ්න..

සියල්ලම ක්ෂනිකයෙන් කනපිට හැරී තිබ්න...වසර ගනනාවක් පුරා අපි ප්‍රාර්තනා කල ඒ සුන්දර සිහිනය ගබ්සාවකින් අවසන් වී තිබ්න..

ඉන් දින කිහිපයකට පසුව ඇයව මම රෝහලින් නිවසට ගෙන ආවෙමි...ඇය වේදනාවෙන් පීඩිතව සිටියාය....මා ඇයව සැනසවීමට උත්සහා කලෙමි...
" අපි තව පාරක් උත්සහා කරමු සාරා ..අපිට දරුවන් ලැබේවී..ගොඩක් දරුවන්...ඔයා දුක් වෙන්න එපා රත්තරං.. "

දරුවාගේ ගබ්සා වීමත් ...අපේ සිහින බිඳවැටීමත් සමගම මෙය කතාවේ අවසානය යැයි ඔබ සිතනු ඇත...නැත... මේ කතාවේ ආරම්භය පමනකි... මේ " ගෝහා " ගේ ආරම්භයයි...

මේ සිද්දියෙන් සති දෙකකට පසුව සාරා යලිත් රෝගාතුර විය..
" ආර්චී ... මගේ කුසේ මොකක් හරි දෙයක් තියෙනවා..මට ඒක තේරෙනවා " දිනක් ඇය මට කීවාය...එදින අපි යලිත් රෝහලට ගියෙමු... සාරාව පරික්ෂා කල වෛද්‍යවරයා ඇය ගැබ්ගෙන ඇතැයි කීහ... මා විෂ්මයට පත් වීමි... සාරාගේ දරුගැබ ගබ්සා වුයේ මීට සතියකට කලිනි... මෙය කෙසේවත් විය නොහැක....
අපේ කතාවට සවන් දුන් වෛද්‍යවරුන් සාරාව ස්කෑන් පරික්ෂනයකට ලක් කල අතර ඇය ගැබ් ගෙන ඇති බව එහින් තවදුරටත් සනාථ කෙරින....
"දරු ගැබට සති 9ක් වේනවා "
" මේක නිවුන් දරු ගැබ් ගැනීමක්...සාරාගේ වම් පස ටියුබයේ සිටි දරුවා පැලොපියන් ටියුබයේ හිරවෙලා ගබ්සා වුනත් අනිත් ටියුබයේන් කලලයට ආපු දරුවා තවමත් ජිවත්වෙනවා... " වෛද්‍යවරුන් පැවසීය...
එය සැබවින්ම හාස්කමකි...පුදුමාකාර හාස්කමකී...

එහින් මාස කිහිපයකට පසුව සාරා පුතෙකු බිහිකලාය...අපි ඔහුට " ගෝර් " යැයි නම් තැබිමු...

මා මේ කියන්නට යන සිද්දිය සිදුවුයේ ඔහුගේ වයස අවුරුදු 5ක් සම්පූර්න වෙද්දීය... ඔහුගේ පස්වන උපන් දිනය ස්විස්ටර්ලන්තයේ බර්න් නගරයේ පැවැත්වීමට අපි තීරනය කලෙමි..බර්න් මගේ බිරිඳගේ උපන් ගමයි..ඇයගේ දෙමව්පියන් වාසය කලේ එහිය....

බර්න් බලා ගුවන් ගමන අතරතුරදී අමුතුම දෙයක් සිදුවිය..ගෝර් ගුවන් යානයේ කවුලුව අසල හිදගෙන සිටියේය..මොහොතකින් කවුලුවෙන් පිටත බලමින් ඔහු කිසිවෙකු හා කතා කරන්නට පටන් ගත්තේය... ඒ කවුදැයි මා නොදනිමී..එහෙත් ඔහු කතා කල ආකාරයට ඔහු ඇත්තටම කා සමග හෝ දිගු සංවාදයක නියැලී සිටිනු බව ඕනැම කෙනෙකුට හේත්තු යනු ඇත... ගෝර්ගේ මේ ක්‍රියාව එදින අපේ හාසයටත් හේතුවිය...අපි එය වැඩිය ගනන් ගත්තේ නැත...

අපි බර්න් වලට ගිය දින සිටම ගෝර්ගේ හැසිරීම වෙනස් විය.ඔහු නිතරම තනිවම කතා කරන්නට පටන් ගත්තේය...මෙහින් මගේ බිරිදගේ දෙමව්පියන් පවා බියට පත්විය...ගෝර් කිසියම් වූ මානසික විපර්යාසයකට බඳුන් වී ඇතැයි සැක කල ඔහුන් ගෝර්ව ඉක්මනින්ම මානසික වෛද්‍යවරයෙකුට පෙන්නන්නැයි අපට කීහ.
කුඩා දරුවන් මෙලෙස හැසිරීම සාමාන්‍ය දෙයකි..ඔහුන් සමහර විට තනිවම කතා කරමින් සෙල්ලම් කරයි..මෙය ඒ තරම්ම වද විය යුතු දෙයක් නොවන බව පවසා මා එය මග හැරියෙමි...

ගෝර්ගේ මෙම අමුතු හැසිරීම නිසා අපිට ඉක්මනින්ම බර්න්වලින් යලිත් ස්වීඩනයට ඒමට සිදුවිය...

යලිත් නිවසට පැමිනි දින මගේ බිරිද ගොර් ගේ කුඩා කාමරයේ ඇද පිලියෙල කරමින් සිටියාය..
' අම්මා මගෙ ඇදෙන් තවත් කොට්ටයක් තියන්න " ගෝර් පැවසීය...
" ඇයි " ඇය ඇසුවාය
"එයත් අද ඉදන් මගේ ඇදෙම නිදාගන්නවා "
" කවුද එයා "
" මගේ යහලුවා ..මේ ඉන්නේ " ඔහු බිත්තිය දෙසට ඇගිල්ල දිගුකර පෙන්වීය..එහි කිසිවෙකුත් නොවීය.. මගේ බිරිද ත්‍රසයෙන් යුතුව මා දෙස බැලුවාය..
එදින සිට සාරා ගෝර්ගැන තවත් වදවෙන්නට විය..ඔහුට කිසියම් හෝ මානසික රෝගයක් සැදි ඇත්දැයි ඇය බිය විය...

" අනේ ආර්චි අපි දරුවව ඩොක්ටර් කෙනෙක්ට පෙන්වමු " ඇය කීවාය..
ඇය නිවැරදිය... මා එයට එකග විමි...

ගෝර්ව අපි මානසික වෛද්‍යවරයෙකුට පෙන්නුවෙමු... ගෝර් සමග කතා කල ඔහු එය මානසික රෝගයක් නොවන බවත් කුඩා දරුවන්ට කුඩා අවදියේදී මෙවැනි දර්ශනයන් දැකීම සහා ඒ ගැන කතා කිරීම බොහෝවිට සිදුවන දෙයක් බවත් ඔහු කීහ....තවත් දින කිහිපයක් බලා මේ ගැන කුඩා දරුවන් සම්බන්ධ මනෝ වෛද්‍යවරයෙක්ට පෙන්වීම සුදුසු යැයි පැවසූ ඔහු අප ජීවත්ව සිටි ගුතෙන්බර්ග් නගරයේ සිටින ලමා මනෝ වෛද්‍යවරියකගේ දුරකතන අංකයක් ලියා අප ඉදිරියේ තැබුවේය..
" සමහර වෙලාවට මෙවැනි දේවල් නිසා දරුවට හානියක් වෙන්න පුලුවන්..ඒ නිසා දරුවා ගැන හැම වෙලේම අවධානයෙන් ඉන්න .. විෂේශයෙන්ම එයාව වැඩිපුර නිවසේ තනිකරන්න එපා... " ඔහු තව දුරටත් කීහ...

දිනක් වැඩරාජකාරී බහුල වූ දිනෙක ප්‍රමාද වී නිවසට පැමිනි මා ඇදෙහි වැතිර පොතක් කියවමින් සිටියෙමි...සාරා කුස්සියේ රාත්‍රී ආහාරය සූදානම් කරමින් සිටියාය... මගේ ඇදට නැගගත් ගෝර් ඔහුත් සමග සෙල්ලන් කරන්න එන්නැයි මා හට ඇවටිලි කලේය.... මහන්සිය අධික වූ නිසා ඔහුව ඇදෙහි එක් පැත්තකින් හින්ද වූ මම
" තව ටිකකින් අම්මා එනවනේ පුතා..අම්මා ආවම පුතා එක්ක සෙල්ලන් කරයි " යි පැවසුවෙමි....
මාත් සමග අමනාප වූ ගෝර් අනෙක් පස හැරී සෙල්ලන් කරන්නට පටන් ගත්තේය... සුපුරුදු පරිදිම ඔහු ඔහුගේ නොපෙනන යහලුවා සමග සෙල්ලන් කරන්නට විය.. මා මොහොතක් ඒ දෙස බලා සිටියෙමි..ඔහු සැබවින්ම කිසිවෙකු සමග කතා කරනු ඇතැයි මට සිතිය...ඔහු වචන ගලපන අයුරු සහා පිලිතුරු දෙන ආකාරය අනුව ඔහු අසල කිසිවෙකු හෝ ඇතැයි මා හට සිතින...පොත පැත්තකින් තැබූ මා ඔහු ලගට බරවී
" ගෝර් .. කාත් එක්කද ඔයා සෙල්ලන් කරන්නේ " යි ඇසීය...
" ගෝහා එක්ක... " ඔහු කීහ...
" ගෝහා ... කවුද ගෝහා .. "
" මේ ඉන්නේ ගෝහා " ඔහු ඔහුගේ කුඩා අතින් ඇදේ ඔහු හිද සිටි කොනටම ඇගිල්ල දිගු කර පැවසිය...
සැබැවින්ම මා එම මොහොතේ බියට පත්විමි...මා ඇදෙහි දිගු කොට සිටි කකුල් දෙක හකුලුවා ගතිමි.

" ඇයි ඔයා ගෝහා ව දන්නේ නැද්ද " ඔහු මගෙන් ඇසීය ..
" නැහැ ... " මා හිස වැනුවෙමි...
" අපි දෙන්නම අම්මගේ බඩේ එකට හිටියේ ... " ඔහු එසේ කියත්ම මගේ මුලු ශරීරයම සීතල වී ගියේය....සාරාගේ ගබ්සාව ගැන අපි ගෝර්ට පවසා නැත..ඔහු එය දැනගැනීමට විදියක් නැත... පවුලේ කිසිවෙකුත් එවැනි දෙයක් ගැන අවුරුදු 5ක කුඩා දරුවෙකුට නොකියනු ඇත.... එසේ නම් ඔහු එය දන්නේ කොහෝමද?

මේ සිද්දීය සාරාට කී පසුව ඇය සිහිසුන් නොවුවා පමනකී...අපි එදිනට පසු දිනම වෛද්‍යවරයා විසින් අපිට ලබාදුන් ගුතෙන්බර්ග් වල වෛද්‍යවරියට දුරකතන ඇමතුමක් ලබාගෙන ඇයව මුන ගැසීමට දිනයක්ද වෙන් කරගත්තෙමු.

ගෝර්ව රැගෙන ඇයවෙත ගිය අප සිදුවූ සියල්ලම මුලසිට අගටම ඇයට කිවෙමු..සාරාගේ ගබ්සාවීමත්,ගෝර් ගේ උපතත්, මේ සියල්ලම පැවසූ පසු ඇය ගෝර්ව සෙල්ලම්බඩුවලින් පිරී තිබුනු කුඩා කාමරයකට ගෙන ගියාය..

මේ කාමරයේ පිටතින් සිටි කෙනෙකුට එහි ඇතුලත සිදුවන කතාවන් වලට සවන් දිය හැක...එසේම වීදුරු වලින් ආවරනය කරතිබූ අනෙක් කොනේ සිට කාමරය තුල වෙන දේවල් බලා සිටිය හැක.. එය කුඩා දරුවන් වෙනුවෙන්ම සැකසූ විශේෂ කාමරයක් විය...

"මම ලූසී .. ඔයා " වෛද්‍යවරිය ගෝර් සමග සෙල්ලන් කරමින් සිටින අතර තුර ඔහුගෙන් විමසීය...
" ගෝර් " ඔහු පිලිතුරු දුන්නේය...
" එතකොට ගෝනා .... " ඇය මිමිනීය..
" ඒ මගේ යහලුවා .. "
"එයා දැන් මෙතන ඉන්නවද "
" නැහැ "
" එහෙනම් ... "
" එයා ආයෙත් එන්නේ තව දවස් ටිකකට පස්සේ "
" ඒ කිව්වේ "
" එයා කොයෙද ගිහින් " ඔහු කීහ...
" කොයේද ගිහින් තියෙන්නේ "
" දන්නේ නැහැ " ගෝර් හිස සැලීය...
"එයා හැම වෙලේම එහෙම යනවද "
" ඔව් සමහර වෙලාවට " ඔහු කීහ....

වෛද්‍යවරිය මොහොතක් නිශ්ශබ්දව සිට ගෝර් සමග සෙල්ලන් කලේය...විනාඩි කිහිපයකට පසුව ඇය යලිත් සංවාදය පටන් ගත්තේය ..
"ගෝහා මොනවගේද " ඇය ඇසීය
" මම වගේ "
" එතකොට එයා ඔයාට ආදරේද "
" ඔව් ..අපි දෙන්නා අම්මගේ බඩේ එකට හිටියේ " ගොර්ගේ මුවින් සිනාහවක් නැගින... ඔහු වටපිට බැලීය.... ඔහු ගෝහාව සොයන ආකාරයක් පෙනින... ඔහු එතන නොමැති නිසා ඔහුට තනිකමක් දැනෙන්නට ඇත...
"කවුද ඔයාට ඒක කිව්වේ "
" ගෝහා "
" ඔයා අම්මටයි තාත්තටයි ආදරේද "
" ඔව් " ගොර් සිනා සින...
සාරා මගේ උරහිසට ඇගේ හිස තබාගත්තාය...මා ඇයගේ දෙතොලට හාද්දක් දුනිමි..ඇයගේ වේදනාව මාහට දැනීන... ඒ වේදනාවන්ම මගේ හදවතත් මිරිකී ඇත...කෙසේ හෝ දරුවාවා මෙහින් ගලවා ගත යුතුය...

යලිත් ගෝර් සමග ටික වෙලාවක් සෙල්ලන් කල වෛද්‍යවරිය ටික මොහොතකින් මෙසේ ඇසීය..
" එතකොට ගෝහා අම්මටයි තාත්තටයි ආදරේද "
මොහොතක් නිශ්ශබ්දව සිටි ගෝර් " නැහැයි " පවසා හිස සැලුවේය..
"ඒ කිව්වේ "
" එයා අම්මට විතරයි ආදරේ "
" එතකොට තාත්තට "
" නැහැ " ඔහු යලිත් හිස සැලීය.. වීදුරුවෙන් පිටත සිට මෙය අසා සිටි මගේ හදවත වේගයෙන් ගැහෙන්නට විය... මා තෘෂ්නිම්භූතව බලාගෙන සිටියෙමි...
" ඇයි ඒ " වෛද්‍යවරිය ඇසුවාය...
" තාත්තා නිසා තමයි ගෝහාට අපෙන් යන්න වෙලා තියෙන්නේ "
"ඒ කිව්වේ "
වෛද්‍යවරියගේ එම ප්‍රශ්නයට ගෝර්ගෙන් පිලිතුරක් ලැබුනේ නැත... ඔහු නිශ්ශබ්ද විය....

ගෝර්ගෙන් තවත් ප්‍රශ්න ඇසිම ඔහුව පීඩාවට පත් කරන්නක් විය හැකි නිසා වෛද්‍යවරිය කතාව එතනින් අවසන් කලාය.

එහෙත් තවමත් මගේ සිතේහි කුතුහලාත්මක ප්‍රශ්නයක් ඇත... මා නිසා ගෝහාට ජීවත්වෙන්නට නොහැකි වුනේ ඇයි ?
මා ඔහුට කල වරද කුමක්ද ?
මා මේ ප්‍රශ්නය වෛද්‍යවරිය විමසුවෙමි...
" ඒක හරියටම කියන්න බැහැ... එහෙත් දරුවව ගබ්සා වුනු දවසේ ඊ මොකක් හරි වෙලා තියෙනවා... " ඇය කීවාය..

මේ කතාව මෙතනින් අවසන් වෙන්නේ නැත...ගෝහාගේ මරනයට හේතුව මා සොයා ගත යුතුය... එය සොයාගත හැක්කේද ගෝහාගෙන්ම පමනී..වෛද්‍යවරියව මුනගැසුනු තැන සිත අද වනතෙක් සතියක් සම්පූර්න වී ඇත..ගෝර් තවමත් ගෝහා එන තෙක් බලාගෙන සිටියි... තවත් දේවල් ඉදිරියේදි සිදුවනු ඇත... ඒ දේවල්ද මෙම කතාවට එකතු විය යුතුය...
" ගෝහා/ර් " මෙහින් අවසන් නොවෙයි....

---

පසුවදන - මෙය සත්‍ය කතාවක් .මගේ බිරිදගේ හොදම මිතුරියකගේ ජීවිතය තුල තවමත් සිදුවෙමින් පවතින් සිද්ධීන් දාමයක් මේ කතාව තුල අඩංගුයි.ගෝහා යලිත් ඒවිද ? ගෝහා පියාට වෛර කරන්නේ ඇයි ? මට ඔබ වගේම මේ ප්‍රශ්න ඔහුන්ටත් තියෙනවා..ඔහුන් අදටත් මේ ප්‍රශ්නත් සමග ජීවත්වෙනවා..

# ජීවිතයම වෙනස් කල සිනහවක්

මගේ ජීවිතේ ගොඩක් ප්‍රශ්න තිබුන කාලයක් තිබුනා.රස්සාවක් නැතිව මම බොහෝම කාලයක් දුක්වින්දා.ඒ අතරදි මට බොහෝම පොඩි රස්සාවක් ලැබුනා කැෂියර් කෙනෙක් විදියට රෙස්ටුරන්ට් එකක..

මගේ අධයාපන සුදුසු කම් එක්ක ඒක හරිම පොඩි රස්සාවක්.ඒ නිසාම මගේ හිතේ ඒ ගැන ලොකු සතුටක් තිබුනේ නැහැ...කොටින්ම මම කැෂියර් රස්සාව කලෙත් වැඩි කැමැත්තකින් නෙමෙයි...

කැෂියර් කෙනෙක් වුනාම කවුන්ටරයට එන මිනිස්සු එක්ක හිනා වෙන්න ඕනේ..සුහදව කතා කරන්න ඕනේ..එහෙත් මම ඒ කිසි දෙයක් කලේ නැහැ..කොටින්ම එහෙම දෙයක් කරන්න මට ඕනේ කමක් තිබුනෙත් නැහැ.මේ නිසාම මගෙත් එක්ක වැඩ කරපු අය පවා මං ගැන පැමිනිලි කලා...
" කවුන්ටරේ ඉන්නවා..මුහුනේ හිනාවක් තියා මුකුත්ම නැහැ.. මිනිස්සුන්ටත් එපා වෙනවා ආයෙත් මෙතන්ට කන්න එන්න.. "

ගොඩක් අය එහෙම කිව්වා. මම ඒ සේරම ඉවසගෙන හිටියා..මට වෙනස් වෙන්න ඕනේ කමක් තිබුනෙත් නැහැ..කොහොමත් වැඩි කාලයක් මේ රස්සාව කරන්නේ නැහැ කියලා මම තීරනය කරලයි තිබුනේ.

එක දවසක් ලස්සන සිදුවීමක් සිදුවුනා... පුංචි ගැහැනු ලමයෙන් අපේ රෙස්ටුරන්ට් එකට ආවා.එයා රෝද පුටුවක හිටියේ..එයාගේ කකුල් දෙකම නැහැ... වයස අවුරුදු 10ක් විතර ඇති...එයාගේ අම්මා රෝද පුටුවත් තල්ලු කරගෙන එයාව රෙස්ටුරන්ට් එකට එක්ක ආවා...

එයා කැෂියර් එක ලගට ආවම මම පුදුමයෙන් වගේ කකුල් දෙකම නැති මේ පුංචි දරුවා දිහා බලාගෙන හිටියා..
" සුබ උදැසනක් නැන්දේ " එයා හරිම ලස්සනට හිනාවෙලා මට කිව්වා..ඇත්තටම හිනාවෙද්දී මේ පුංචි කෙල්ලගේ මුහුනේ පුදුමාකාර ලස්සනක් තිබ්බේ....ඒ සිනහව මගේ මුලු හදවතටම වැදුනා වගේ වුනා...

එදා මුලු දවසම මගේ හිතේ තිබුනේ කකුල් දෙකම නැති ඒ පුංචි කෙල්ලගේ සිනහව..
කකුල් දෙකම නැතත්..ගොඩක් මිනිස්සුන් ලග නැති හරිම සුන්දර දෙයක් මේ පුංචි දැරිවිය ලග තිබ්බා නේද කියලා මට හිතුනා..
" සිනහව"
ඒ සිනහව මගේ මුලු දවසම ලස්සන කලා.හිතට පුදුමාකාර දෛහිර්යක් අරගෙන ආවා...

මට මං ගැනම ලැජ්ජා හිතුනා..මට මොනවද නැත්තේ..මට හැමදේම තියෙනවා..අංග සම්පූර්න ශරීරයකුත් , ලස්සන රූපයකුත් තියෙනවා..එහෙත් මම ඇයි හිනා නොවෙන්නේ....
ඒ පුංචි කෙල්ලගේ සිනහවට මගේ සිත මේ තරම් අලෝකමත් කරන්න පුලුවන්නම් මගේ සිනහවටත් ගොඩක් මිනිස්සුන්ගේ සිත් සතුටු කරන්න පුලුවන් වේවී.

මම එදාම තීරනයකට ආවා..ජීවිතේ මොන ප්‍රශ්න ආවත් හිනා වෙලා ඉන්න.

මම එදා හිදන් කැෂියර් එක ලගට එන හැම කෙනාත් එක්කම හිනා වුනා...බොහෝම හිතවත්ව ඔහුන් හැමෝවම පිලිගත්තා..ටිකෙන් ටික ගොඩක් අය මගෙත් එක්ක හිතවත් වුනා. දවසක් රෙස්ටුරන්ට් එකට ආපු අය ඊලග දවසෙත් අනිවාර්යෙන්ම ආවා...මගෙත් එක්ක වැඩ කරන අය පවා මට ගොඩක් සමීප වුනා..

ටික කාලෙකින් මට රස්සාවෙන් උසස් වීමක් ලැබුනා...මම ඒ රස්සාවෙන් අස් වුනේ නැහැ.... අද මම ඒ රස්සාවෙම ගොඩක් හොද තත්වෙක ඉන්නවා..

එකම එක සිනහවක් මගේ මුළු ජීවිතයම වෙනස් කලා...

---

පසුවදන - තව කෙනෙකු වෙනුවෙන් නොමිලේම දෙන්න පුලුවන් හිතාමත් සුන්දර දෙයක් අපි හැමෝම ලග තියෙනවා...ඒ තමයි සිනහව , එහෙත් අපේ තියෙන ආඩම්බර කමට, මහන්තත්ත උඩගුකමට අපි සිනහව හංග ගන්නවා...

සිනහවකට තවත් කෙනෙකුගේ මොහොතක් , දවසක් නැත්නම් ජීවිතයමත් සුන්දර කරන්න පුලුවන්නම් , ඔබ තවත් එය නොදී ඉන්නවාද ?

# නැන්දම්මාට වස පෙවීම

මා ඔබට කියන්නට යන මෙම කතාව බර්න් නම් වූ කුඩා ග්‍රාමයේ තවමත් සුප්‍රසිද්ද කතාවක්... බර්න් වල වැසියන් තවමත් මෙම කතාව විවහා දූවරු ලේලීවරු සමග රහසේ මුමුනයි...

බර්න් නගරයේ වාසය කල ලිලියන්ගේ පුතා පේත්‍රෝ මනාලියකව කැන්දාගෙන ආවේය...

බැදපු අලුත ඕනැම කෙල්ලෙක් කීකරු සුවච භාරීයකි... පේත්‍රෝ කැන්දාගෙන ආපූ මීහා නම් වූ ගමේ කෙල්ලද එලෙසම ශාන්ත දාන්ත සුවච කීකරු කෙල්ලෙක් විය...

පේත්‍රෝගේ මව ලිලියන් සහා මීහා මුල් කාලයේ එකිනෙකා සමග සුහදව සිටියත් මාස කිහිපයක් ගත වෙත්ම තත්වය වෙනස් විය....

මීහා වෙනස් වී ඇතැයි ලිලියන් සිතීය...ලිලියන් කෲර වී ඇතැයි මීහා සීතීය...

කෙසේ හෝ මාස කිහිපයක් යත්ම නැන්දම්මා සහා ලේලී අතර ගැටුම් ඇතිවිය....කල් යත්ම ඒවා උග්‍ර වි දෙදෙනාම එකිනෙකාට සතුරන් බවට පත්විය.

" මදැයි ඉදලා ඉදලා තෝත් එකියක්ව කරගහගෙන ආවා... හිටියේ කොහොමද , දාහකින් ගනින්න බැරි ගානට..ඒකට දැන්... ඒකිගේ ගැස් නිකන් අපි ඒකිව ගමේ ඉදන් බලෙන් එක්කගෙන ආව වගේ... "

පෙත්‍රෝගේ මව නිතර නිතර ඔහුට දෙස් තියන්නට විය...

අනිත් පසින් ඔහුගේ බිරිද මීහාගේ බැනුම්ය....

" ඔයාගේ අම්මා යක්ෂනියක් වගේ මගේ ඇගේම එල්ලී එල්ලී එනවා... මම ආයේ ලෝකෝ වලට යනවා ... ඔයාගේ අම්මත් එක්ක ඉන්න මට තියා දෙවියන්ටවත් බැහැ...ඒ ගැහැනී ඒ තරමටම දුෂ්ට ගැහැනියෙක්... ""

අම්මගෙත් , බිරිදගේත් මේ කාලගෝට්ටිය පේත්‍රෝට හිසරදයක් විය..සමහර දිනෙක ඔහු වැඩ අවසන් වී බාර් එකට ගොස් ඇති තරම් පදම් විය... පෑ දෙක තුනක් පරක්කු වී ගෙදරට එන්නට පටන් ගත්තේය...අඩුම තරමින් ඒ වෙලාවට ගැනීත් අම්මත් දෙන්නම නිදිය....

නින්දේදී සුරදූතියන් වගේ පෙනෙන ගැහැනුන් අවදිවූ විට යක්ෂනියන්ය... පෙත්‍රෝගේ ජිවිතය එහෙන් පිටින්ම අපායකට හැරී තිබින....

මේ සියල්ල මේ විදියට සිදුවෙද්දී නැන්දම්මාගේ කරදරයෙන් බේරීමට මීහා වෙනම ගැටයක් ගැහුවාය...මීහාගේ පියාගේ යාලුවෙකු සිටියේය...ඔහු දක්ෂ වෛද්‍යවරයෙකි...ඊටත් වඩා ඔහු පෞරාණික වස විස ක්‍රමය ගැන හසල බුද්ධියක් ඇත්තෙකි... කෙනෙකුව නොමරා මරන්නත් .... මුලු සර්වාංගයම අඩපන කරන්නත් හැකි පාරම්පරිකව ගෙන ආ ප්‍රබල වස වට්ටෝරු ඔහු සතුව තිබින....

මීහාට , ලිලියන්ගේන් කරදරයෙන් කෙසේ හෝ බේරීමට අවශය විය... ඇයට නැන්දම්මාව යක්ෂනියකි..යක්ෂනියක්ව මෙල්ල කල නොහැක... මෙල්ල කලත් ඇය යක්ෂනිය...එහෙයින් කලත හැකි හොදම දේ මරා දැමීමයි...ඇය තීරනයක් ගෙන තිබින....

පසුවදාම මීහා තම පියාගේ යහලුවෙකු වූ කලින් කී වස වෙලෙන්දව හමුවීමට ගියේය... ඔහුව මුනගැසී තමන්ට මුහුන දීමට සිදුවී ඇති කරදරත් ...නැන්දම්මගේ කෲරත්වයත් ඇය ඔහුව කීහ... ඒ සියල්ලටම වඩා පෙත්‍රෝත්, නැන්දම්මගේ මේ ගෝරනාඩුවෙන් දුක් විදින බවත් තමන්ගේ මුලු විවහා ජීවිතයම එහෙන් පිටින්ම අපායක් වී ඇති බවත් ඇය ඔහු ඉදිරියේ දිගු චිත්‍ර කතාවක් මෙන් කියාගෙන කියාගෙන ගියාය...

මේ සියල්ලටම හොදින් ඇහුන්කන් දුන් ගොගෝ නම් වූ මේ විෂ වෙලෙන්දා මීහාට අපූරු සැලැස්මක් ගැන කීහ...

" හොදයි මෙහෙම කරපු...හැබැයි මම මේ කියන දේවල් ඒ විදියටම කරන්න ඕනේ....මොකද මේක බොහොම භයානක වැඩක් .... පොඩ්ඩක් එහා මෙහා වුනොත් ඔය ලමයයි මමයි දෙන්නම ඉවරයි .."

" හා ගොගෝ අංකල්... ඔයා කියන විදියටම මම කරන්නම් " මීහා කීවාය...

" විෂ එකපාරම දීලා ඒ ගෑනී මලොත් ඔය ලමයව මිනිස්සු සැක කරනවා... ඒ නිසා කාටවත් නොතේරෙන විදියට...අඩුම තරමින් ඒ ගැනිටවත් නොතේරෙන විදියට හිමිහිට මරන්න පුලුවන් කෙමක් මගේ ලග තියෙනවා... "

ගෝගෝ කාමරයට ගොස් කුඩා කුප්පියකුත් රැගෙන යලිත් පැමිනියේය...

" හැමදාමත් ඔය ලමයා හොද රසට උයලා .. ඒ ගැනීට දෙන බත් පිගානට මේ කුප්පියෙන් එක බින්දුවක් දාන්න... ඒවගේම ඒ ගැනීට කිසිම සැකයක් හිතෙන්නේ නැතිවෙන්න එයත් එක්ක හොදට ඉන්න ඕනේ.... රංඩු කරගන්න යන්න එපා ... පුලුවන් තරම් හොදින් ඉන්න

බලන්න... මොකද මේකෙන් මැරෙන දවසට මිනිස්සු දැනගන්න ඕනේ ඔයා ඒ මනුස්සයත් එක්ක සතුටින් සමාදානයෙන් හිටියා කියලා.. "

" හරි ගෝගෝ අංකල් මම ඒ විදියටම කරන්නම් " මීහා ගෝගෝට පොරොන්දු විය...

එතැන් සිට මීහා උපක්‍රමශීලී විය... ඇය සැම දිනෙකම නැන්දම්මට රසවත් කෑම පිලියෙල කලාය... නැන්දම්මා ගෝරනාඩුවට ආ දින වලත් ඇය කට වහගෙන නිශ්ශබ්දව සිටියාය...ඇය කියූ සැම දේටම අවනත විය.... ඇයට කෝප යන අවස්තාවල ඒ කෝපය පුලුවන් තරම් පාලනය කර ගත්තාය... ගෝගෝ කිව්ව විදියටම සතුටින් සාමදානයෙන් ජීවත්විය...එහෙත් ඇය එක් දෙයක් අමතක නොකලාය...

සැම දිනෙකම ඇය නැන්දම්මාගේ බත් පිගානට අනිවාර්යෙන්ම වස බිංදුවක්නම් දැම්මාය..

මෙලෙස කාලයක් ගෙවී යත්ම ලිලියන්ගේ හිතේ මීහා ගැන තිබුනු නපුරු සිතුවිලි නැතිවී ගියේය...

"දැන් නම් ලේලී ගොඩක් හොදයි..ඉස්සර වගේ තරහා ගන්නේ නැහැ... කියන දේත් අහනවා...මට රස කෑමත් හදලා දෙනවා..මාත් එක්ක වාදෙට එන්නෙත් නැහැ.. " ඇය දිනක් පේත්‍රෝට කියනු මීහාට ඇසින...මෙහින් පෙත්‍රෝ අන්දුන් කුන්දුන් විය... එහෙත් පෙරලුනු පිට හොදයි කියනවා වගේ පේත්‍රෝත් එහින් සතුටට පත්විය..කෙසේ හෝ නැන්දම්මා සහා ලේලියගේ කන්කරච්චලේ නැතිවෙනවනම් ඒකත් ලොකු දෙයකි.

එදා සිට පේත්‍රෝ බොන එක අතහැරියේය..කලට වෙලාවට නිවසට ආහ.. නිවසට ආ පසු අම්මත් බිරිදත් සමග සතුටින් කාලය ගත කලේය..

දිනක් ලේලීයගේ කීකරු කම ගැන ගොඩක් පැහැදුනු ලිලියන් ඇයට මෙසේ කීවායා..

" මටත් ඕනේ වුනේ ඔයා වගේම දුවක්ව...මට දැන් ගොඩක් සතුටුයි.... මට මම බලාපොරොත්තු වුනු දුවවම ලැබුන එක ගැන... ඇයගේ දෙනෙතෙන් කදුලක් කඩා වැටින..

මීහා ඇයව වැලද ගත්තාය...

" මට සමාවෙන්න අම්මේ " ඇය ලිලියන්ට කීවාය..

" සමාවෙන්න මොකටද " ලිලියන් ඇසුවාය..

මීහා වස ගැන ඇයට කීවේ නැත..එසේ කියත නොහැක.

"මම මෙච්චර කල් අම්මට නරක විදියට සැලකුවාට ..

මීහාගේ හදවතෙහි එතැන් සිට ලොකු බරක් විය... තව දින කිහිපයකින්ම නැන්දම්මා මිය යනු ඇත... " අනේ දෙවියනේ..මම මහා දුෂ්ට ගැහැනියක්...මහා පව්කාරියක්..ඇය ඇයටම දෝස් තියා ගත්තේය...ඇයගේ හදවතේ නැන්දම්මා ගැන අනුකම්පාවකුත් ආදරයකුත් ඇතිවී ඇත... කෙසේ හෝ නැන්දම්මාගේ ජීවිතය බේරාගත යුතුයැයි ඇය තීරනය කලාය..ඇය එදිනම ගෝගෝ නම් වූ ඒ වස වෙලෙන්දාව හමුවීමට ගියාය..

" අනේ ගෝගෝ අංකල් මට නැන්දම්මාව බේරලා දෙන්න...ඒ වස ඇයගේ ඇගෙන් අහින් කරන්න විදියක් කියලා දෙන්න..ඇය දැන් මගෙත් එක්ක ගොඩක් හොදයි..හරිම කරුනාවන්තයි... මගේම අම්මා වගේ..මට ඇයව නැතිකරගන්න බැහැ ..

ගොගෝ සිනාසින... සිනා සී මෙසේ කීවේය...

" ඇයගේ ඇගෙන් වස අහින් කරන්න දෙයක් නැහැ දරුවා...මෙච්චර කල් තිබ්බ වස ඔය දෙන්නගෙම ඇගෙන් විතරක් නෙමෙයි මනසෙනුත් දුරුවෙලයි තියෙන්නේ..වස තිබුනේ ඔයාගේම මනසේ .... ඔයා ඔයාගේ ආඩම්බර කම් හිතුවක්කාර කම් අහින් කරලා ඔයාගේ නැන්දම්මට ලං වුනා. හිතවත් වුනා... ඒකට පැහැදුනු ඔයාගේ නැන්දම්මත් එයාගේ හිතේ තිබුනු වස අහින් කරලා දැම්මා .... "

" එතකොට ගෝගෝ අංකල් දුන්න අර කුප්පිය ? " මීහා ඇසීය..

"ඒකේ තිබුනේ නිකන්ම නිකන් වතුර විතරයි ... " ගෝගෝ කිසිම ගානක් නැතිව කීහ.

---

පසුවදන - මේක යුරෝපයේ සහා චීනයේ හිතාමත් ජනප්‍රිය ජන කතාවක්... එක් එක් රටවල් වල මේ කතාව කියන විදිය වෙනස්. ඉතින් මේ කතාව මුලින්ම මගේ බිරිද කියපු වෙලේ මට හිතුනා ඒකෙන් කෙටිකතාවක් නිර්මානය කරන්න. මේ කතාව නැන්දම්මලා සහා ලේලිලා වෙනුවෙන්.

# ලිංගයක් නැති මිනිහා

මගේ ජීවිතයේ අමතක නොවන කතා කිහිපයක් ඇත..එහින් එකක් මා ඔබට ලියන්නට යන මේ කතාවයි..හිතාමත් දිගු කතාවක් වන මෙය සංක්ෂිප්ත කොට ඔබට පැවසීමට මා වගබලා ගනිමි... මනුස්ස ලෝකයේ ඉපදුනු තිරිසනුන්ව ඔබ දැක ඇතුවට සැකයක් නැත.සමහර තිරිසන්නු මනුස්සයින් කල හැක එහෙත් තවත් සමහරු තිරිසනුන් ලෙසම මුලු ජීවිත කාලයම ජීවත්වෙයි.මෙයත් එවන් කතාවකි..

ඉවාන්, ඔහුව මට මුන ගැසුනේ මා පාසල් සිසුවියක් ලෙස සිටි අවසන් වසරේදීය...ඔහුගේ පියා කොමිතාස් නගරයේ ජීවත් වූ දේශපාලකයෙකු වු නිසාවෙන් ඔහු බුසෝෆ් උසස් පාසල තුල ජනප්‍රියම චරිතයක් විය.ඔහු කඩවසම්ය...ඔහුට කෙනෙකුව එක් වරම ආකර්ෂනය කර ගත හැකි තරම් වූ සිනහවක් තිබින..මගේ පියාට කොමිතාස් නගරයට මාරුවක් ලැබුනු නිසාවෙන් එහි තිබුනු බුසෝෆ් පාසලට ඇතුලත් වීමට මා හට සිදුවිය.
පාසලට පිටස්තරව පැමිනි කෙල්ලෙකු වූ නිසාවෙන් කිසිවෙකුත් මාව ගනන් ගත්තේ නැත...එහෙත් ඉවාන් මුල්ම දවසේ සිටම මා සමග කතා කලේය...අපි මුල්ම දින කිහිපයේම මිතුරන් බවට පත් වී සිටියේමු..

පාසැලට අලුතින් පැමිනි මමත් ඉවානුත් කතා කරමින් සිටිම බොහොමයක් කෙල්ලන්ගේ ඕපාදූපයට හේතුවූ බව කිවයුතුය.කිසිවෙකුත් එය මගේ මුහුනට නොකීවත් ඔහුන්ගේ දෑස් වලින් එය පෙනින...පාසැලට අලුතින් පැමිනි කෙල්ලෙකු පාසැලේ ජනප්‍රියම කොල්ලෙකු සමග යාලුවීම ඔහුන්ගේ ඉරිෂීයාවට හේතුවී ඇතැයි මා මුලින් සිතුවෙමි..එහෙත් එය වැරදිය.

දිනක් මා පාසැල් කැන්ටිමේ දිවාආහාරය ගනිමින් සිටියෙමි... මා හිදගත් මේසයට එහා පසින් වු තවත් මේසයක අප පංතියේම ගැහැනු ලමයින් දෙදෙනෙකු හිදගෙන සිටියාය...ඔහුන් නිතරම මගේ දෙස බලමින් එකිනෙකාට මොනවදෝ මිමිනු අතර ටික වෙලාවකින් එහින් එක් ගැහැනු ලමයෙකු ඇයගේ කෑම පිගානත් රැගෙන විත් මගේ මේසයෙන් හිදගත්තාය... සතියක් ඉක්මව ඇතත් ඉවාන් හැරෙන්නට

පාසැලේ කිසිවෙකුවත් මා අසල හිදගෙන නැතිබැවින් මා පුදුමයට පත් වුනෙමි...
"මම හන්නා " ඇය මට ඇයව හඳුන්වා දුන්නාය..
" මම සොෆී " මා කීවෙමි..
ඇය ඇයගේ යහලුවා දෙස බැලුවාය... ඇය යමක් මට කියන්නට යන්ත දරනු මට දැනින...ඇය ඇයගේ මුහුනට වැටුනු තබ පැහැ හිසකෙස් මදක් ඇත් කරගෙනම මා දෙසට වඩාත් ලන්විය.
" සොෆි.... මම... " කියත්දිම කැන්ටිමේ දෝර වේගයෙන් ඇසෙන හඩ ඇසුනෙන් ඇය තිගැස්සී එ දෙස බැලුවාය... ඉවාන් ඔහුගේ යලුවන් සමග කැන්ටිමට ඇතුලුවෙනු දුටු ඇය ඇයගේ පිගානත් රැගෙන ක්ෂනිකවම එතනින් නැගිට්ටාය...පිගානේ කෑම ටික කුනු බාල්දියට හිස් කල ඇය ඇයගේ යහලුවාත් සමගම කැන්ටිමෙන් පිටතට දිව ගියාය.... ඒ මා ඇයව දුටු අවසන් වතාවයි...ජීවිතයටම අවසන් වතාවයි....
" මොකක්ද හන්නා කියන්නේ " මා ලගට විත් හිදගත් ඉවාන් කැන්ටිමෙන් ඉවතට දිවයන හන්නා දෙස බලා ඇසීය...
"නැහැ මුකුත් නැහැ'' යි මා කිවෙමි.." ඇයි ඔයා එයාව දන්නවද " මා ඔහුගෙන් ඇසිමි...
" ඔව්.. "ඉවාන් හිස වැනීය.... " ඉස්කෝලේ ඉන්න සයිකෝ කේස් එකක් " ඔහු සිනාසින...
ඔහුගෙ කතාව අසා සිටි ඔහුගේ මිතුරන්ද සිනා සින..
"සොෆී .. අද රෑට අපේ ගෙදර පොඩි පාටියක් තියෙනවා ඔයත් එන්න ඕනේ " ඉවන් ඔහුගේ සුපුරුදු සිනහවත් සමග කීහ...
" පාටියක් " මා ඇසුයෙමි..
"ඔව්... පොඩි එකක් ..අද හතට ... ඔයා අනිවර්යෙන්ම එන්න ඕනේ... මේක විශේෂයෙන්ම ඔයාට " ඔහු කීහ...
"ඇයි මට " මා ඇසුයෙමි...
" ඔයා අලුත් නිසා " ඔහු සිනාසින....

මා කලින් කීවක් මෙන් ඔහුගේ සිනහව පුදුමාකාර විදියට ආකර්ෂනීය එකකී..එලෙස සිනාසී කරන කිසිම ඉල්ලිමක් කිසිම කෙල්ලෙකු ප්‍රතික්ෂේප නොකරනු ඇත..මටත් එය ප්‍රතික්ෂේප කල නොහැකි විය... අනිත් අතින් උසස් පාසැල්වල සාද පැවැත්වීම හිතාමත්ම සාමාන්‍ය දෙයකි.. ගිම්හාන නිවාඩුව ආරම්භයේදි පවත්වන විශාල සාද වලට අමතරව පිලිගැනීමේ සාදද පාසැලේ නිතරම සිදුවිය...එහෙයින් ඒ ගැන මම දෙවරක් නොසිතුවෙමි..

එදින හවස් වරුවේ මා කොමිතාස් වීදිය කෙලවරේ වූ ඉවාන්ගේ සුවිසල් නිවසට ගියෙමි.මා එහි යනවිටත් එහි තරුනයින් 4 දෙනෙකු සහා ගැහැනු ලමයෙකු විය... මා දුටු විගසම මා ඉදිරියට පැමිනි ඉවාන් " සොෆ් ස්තුතියි ආවට " කියමින් මාව වැලද ගත්තේය...

" මේ ඉන්නේ සොෆි'' යැයි කියමින් මාව ඔහු වටා සිටි යහලුවන්ට හදුන්වාදුන් ඉවාන් ඔහුන් අතර සිටි ගැහැනු ලමයෙකු අසලට ගොස් " මේ සෙලීනා " යි ඇයව මට හදුන්වා දුන්නේය

නිවසේ තිබුනු විශාල කාමරයක සාදය පැවැත්වූ අතර එහි සිටියේ මා කලින් කී කිහිප දෙනා පමනකී ...මා කිසිම දිනෙක මත්පැන් පානය කර තිබුනු කෙනෙකු නොවිමි..එහෙත් එදින ඉවාන්ගේ පෙරැත්ත නිසාම මා හට එය කිරීමට සිදුවිය... සෙලීනා ද සිටින නිසා මා හට චකිතයක් නොවීය... අනිත් අතින් මා ඉවාන්ට ආදරය කරන්නට ඇත.... අපි හමුවී සතියක් වැනි කෙටි කාලයකදී වුවත් මා ඔහුට දැඩි සේ ආකර්ෂනය වී සිටින්නට ඇත.... ඒ විශ්වාසයට අදටත් මා මටම සාප කරගන්නෙමි...

මට සාදයේ අවසන් මතකයකට ඇත්තේ ඉවාන් මට ගෙනත්දුන් මත්පැන් වීදුරුව ගැන පමනී...ඉන් එහාට කිසිවක් ගැන මට මතකයක් නැත...මා යලිත් අවදි වූයේ පසුදින මගේ කාමරයේදීය...මා අවදිවන විට මගේ මව ඇදෙහි කොනක හිදගෙන සිටියාය...
" සොෆී ... මොනවද මේ කරන්නේ .... ඔයාට මතකද ඊයේ ඔයා ගෙදර ආවේ කොහොමද කියලා " ?
මා හට කිසිමදෙයක් මතක නැත... මගේ මව පැවසූ විදියටනම් තවත් ගැහැනු ලමයෙකු මාව නිවසට ගෙනවිත් ඇරලවා ඇත...මා හොදටම බීමත්ව සිට ඇත..පෙරදින ගත් මත් පැන් නිසා තවමත් හිසෙහි දැඩි වේදනාවක් ඇත..මා හිසට අත තබා ගතුයෙමි...
එදින මුලු දවසේම මා දැඩි හිසේ වේදනාවකින් ගත කලෙමි.මා හට පාසැලට යාමට නොහැකි විය..එසේම මගේ යටි බඩ ප්‍රදේශයෙන් දැඩි වේදනාවක් පැමිනියෙන් මා හට ඇවිදීමට නොහැකිව ඇදෙහිම මුලු දිනයම ගත කිරීමට සිදුවිය...සාදයත් මත් පැන් වලටත් අමතරව මා හට තවත් දෙයක් සිදුවී ඇත... එය මට නිශ්චිතය....

මම ඉවාන්ට දුරකතන ඇමතුමක් ගෙන " ඉවාන් ඊයේ මොකක්ද වුනේ " යැයි ඇසුයෙමි...
" මුකුත් නැහැ " ඔයා බීලා වැඩිවෙලා සෙලීනා ඔයාව ගෙදරට ඇරලුවා "
"එච්චරද " මා ඇසිමි.
"ඔව් ඇයි "
" නැහැ නිකන් " කියූ මා දුරකතනය විසන්දි කලෙමි...

එදිනට දවස් දෙකකට පසු මා යලිත් පාසැලට ගියෙමි... සියල්ලම සුපුරුදු පරිදි සිදුවිය..එහෙත් පාසැල අවසාන වීමට විනාඩි කිහිපයකට පෙර විදුහල්පතිගේ විශේෂ කතාවක් පාසැල් රේඩියෝවෙන් ප්‍රකාශයට පත් කලේය...

" අද බුසෝෆ් පාසැලට කනගාටු දායක දවසක්. අපේ පාසැලේ අවසන් වසරේ සිසුවියක වන හන්නා අද උදේ සියදිවි නසාගෙන ඇති බවට අපට ඇයගේ දෙමව්පියන් දැනුම් දි තිබෙනවා..මෙය පාසැලක් තුලින් අනුමත නොකරන ක්‍රියාවක් වුනත් ඇයගේ පවුලේ අයටත් ඇයගේ යහලුවන්ටත් අපි අපේ කනගාටුව ප්‍රකාශ කර සිටිනවා...."

හන්නාගේ මරනයත් සමග සියල්ලම වෙනස් වූ බව කිව යුතුය....ඉවාන්ව ඊට පසු දවස් කිහිපයක්ම පාසැලේදි දක්නට නොලැබුනු අතර ඔහුගේ යහලුවන්ද හිතාමතාම මාව මග හරින බව පෙනින ..

හන්නාගේ අවසන් කටයුතු වලට මා සහභාගී වුයෙමි...එයට පාසැල් ලමුන් කිහිපදෙනෙක්ද පැමින සිටි අතර ඉවාන් හෝ ඔහුගේ යහලුවන් කිසිවෙකුත් එහි නොවීය..එහි සිටි එක් ගැහැනු ලමයෙකුව මම හදුනා ගත්තෙමී..ඒ එදා හන්නා සමග සිටි ගැහැනු ලමයාය. අවමංගලය අවසානයේදි ඇය ලගට ගිය මා ඇය අසල හිට ගත්තෙමි...
" හන්නා එදා මට මොනවද කියන්න හැදුවා . එහෙත් හදිස්සියේම එයා එතැනින් යන්න ගියා ... " මා ඇයට කිවේමි .
ඇය මාදෙස බැලුවේය ...
" ඔයා තවමත් ඉවාන්ගේ යහලුවෙක්ද ? ඇය ඇසීය
"ඇයි " මා ඇසිමි ..
" ඉවාන් හන්නාව දූෂනය කලා... ඒකයි එයා සියදිවි නසාගත්තේ ... ඉවාන් එයාට ඊටත් වැඩිය දේවල් කලා... එහෙත අපිට කිසිම දෙයක් කරන්න බැරි වුනා... හන්නා මේ දේවල් එයාගේ දෙමව්පියන්ට කියන්න බයෙන් හිටියේ ... ඉවාන් හන්නාව නැති කලා..තිරිසනා " කියූ ඇය මගේ උරහිසට හිස තබා හඩාවැටෙන්නට විය...
" ඉස්කෝලෙට අලුතින් එන ගැහැනු ලමයින් හැම කෙනාටම වෙන්නේ මේ දේ ... ඒ හැමෝගේ ජීවිත විනාශ වෙලා යද්දි ඉවාන් අදටත් සතුටින් ඉන්නවා.. එයාට සල්ලි තියෙනවා..එයාට අතක් තියන්නවත් කාටවත් හයියක් නැහැ...හැමෝම කට වහගෙන ඉවසගෙන ඉන්නවා.. " ඇය කීවාය...

මා හට සාදය ගැන මතක් විය...ඉවාන් මාවද දූෂනය කර ඇති බවට මට සැකයක් නොවීය...එදා සාදයේදී මත් පැන් වලට ඔහු කුමක් හෝ දමන්නට ඇත...නැතහොත් මගේ මතකය සම්පූර්නයෙන්ම මෙලෙස අතුරුදහන් වීමට නොහැක... ඔහු මාව දූෂනය කර ඇත....එහෙත් ඊට විරුද්දව කිසිම දෙයක් කිරීමට මා හට නොහැකි විය..අඩුම තරමින් පොලීසියට පැමිනිලි කිරීමටවත් කිසිම සාක්ෂියක් මා සතු නොවීය.. හන්නා වගේම දෙමව්පියන්ට මේ ගැන කීමට මමද බිය වුනෙමි.මට කලහැකි එකම දෙය වුයේ කොමිතාස් වල ඇති වෙනත් පාසැලකට

මාරු වීම පමනකී...එයත් මා කලේ බොරු හේතුවක් ගොතා මිස ඇත්තම හේතුව දෙමව්පියන්ට පැවසීමෙන් තොරවය...

සති කිහිපයක්ම ඉක්ම ගියේය මම ඉවාන්වත් අතර සිදුවූ සැම දෙයමත් අමතක කර දමන්නට වෙර දැරීය..ඉවාන් මට අපරාධයක් කර ඇත..එයට ස්වභාවදර්මයෙන්ම ඔහුට දඩුවම් දෙනු ඇත..එයට එරෙහිව නැගී සිටිමට තරම් මා ශක්තිමත් නොවිමි...

මාහට එමැනුවෙල්ව මුන ගැසුනේ මේ කාලයේදීය..අලුත් පාසැලේ ශිෂයෙකු වූ මමත් ඔහුත් අතර මිත්‍රත්වයක් ඇති විය... මා සිටි දැඩි වේදනාවෙන් සිත සැහැල්ලු කරගැනීමට මා හට ආදරයක් අවශය විය..ඒ ආදරය ඔහු මට සැබැවින්ම ලබා දුන්නේය...සියලු දෙයම යලිත් සුභවාදිව සිදුවෙද්දී මාහට ඉවාන්ගේන් දුරකතන ඇමතුමක් ලැබින..
" සොෆී ...මට ඔයත් එක්ක කතා කරන්න ඕනේ......අද හවසට අපේ ගෙදරට එන්න" ඔහු කීහ..
මම එය ප්‍රතික්ෂේප කලෙමි.
" ඉවාන් උබ එදා කරපු හැම දේම මම දන්නවා... මට මගේ සැනසිල්ලේ ඉන්න දීලා මට කරදර නොකර ඉදපන්..මම උබට වෛර කරනවා..ආයේ උබව දකින්න තියා උබේ මුහුන දකින්නවත් මට ඕනේ කමක් නැහැ.. " මා ඔහුට බැනවැදුනෙමී..
" මම උබට එන්න කිව්වේ උබත් එක්ක කතා කරන්නම නෙමෙයි.මට උබව ඕනේ නිසා.. හරී මාව දැක්කේ නැති වුනාට කමක් නැහැ... මම තව ටිකකින් උබට ඊට වැඩිය දකින්න හොද එකක් එවන්නම්.. " ඔහු දුරකතනය විසන්දි කලේය...
ටික මොහොතකින් මගේ දුරකතනයට පනිවිඩයක් ලැබින..එහි තිබුනේ මගේ සම්පුර්න නිරුවත් පින්තූරයකී...එයට යටින් ඔහු මෙසේ ලියා තිබින.
"ඔය එකක් විතරයි...උබට දකින්න ඕනේ නම් විඩීයෝවත් මම එවන්නම් ... "

එතැන් සිට ඉවාන් මට යලිත් ඔහුව හමුවීමට එන ලෙස පවසමින් කරදර කරන්නට ගත්තේය...එසේ නාවොත් මේ පින්තූරත් වීඩීයෝත් කොමිතාස් වල ප්‍රසිද්ධ කරන බවට ඔහු මට තර්ජනය කලේය..එහෙත් මා ඉවසාගෙන සිටියෙමි.. මා ශක්තිමත් විමි....ඔහු හදන්නේ හන්නාට කලාක් සේම මාව බියට පත් කරන්නටය... එහින් යලිත් වරක් මාව ඔහු වෙත ගෙන්වා ගැනීමටය... මා එයට යටත් නොවිමී.... මෙය තවත් දුරදිග ගියහොත් නිතිය ඉදිරියට යැමට පවා මා හිත හදාගෙන සිටියෙමි....

මේ කියන්නට යන සිද්දිය සිදුවූයේ ඊට දවස් කිහිපයකට පසුවය...

එදින මමත් එමානුවෙලුත් පාසැල අවසන් වී නිවස් බලා යමින් සිටියෙමි..එක් වරම විශාල ජීපයක් විත් අප ඉදිරියේ නැවැත්විය. එහින් බැස්සේ ඉවාන්ය..ඔහුගේ අතෙහි හොකී පොල්ලක් තිබින....එමැනුවෙල් ඉදිරියට පැමිනි ඔහු එහින් ඔහුට පහර දෙන්නට පටන් ගත්තේය... එමැනුවෙල්ව බිම ඇද වැටෙන තුරු ඔහුට පහර දුන් ඉවාන් බිම ඇද වැටුනු එමැනුවෙල්ගේ බඩට ඔහුගේ පයින් අනිමින් පහර දුන්නේය..මා ඔහුව තල්ලු කොට එමැනුවෙල්ව බේරාගැනීමට හැදුවත් එය ව්‍යර්ථ විය...
එමැනුවෙල් සම්පුර්නයෙන්ම අඩපන වුනු පසු මා වෙත පැමිනි ඉවාන් මාව මහමග වූ බිත්තයට තද කොට අල්වා ගත්තේය.
" බැල්ලී.. මට පිටුපාන්න තරම් තොට කොයේද හයියක් .. බලපන්... හොදට ඇස් හැරලා ..එකෙක්වත් මාව නවත්තන්න එන්නේ නැහැ..." ඔහු කිවේ සත්‍යකි..පාරේ වහාන කිහිපයක් ගියත් කිසිවෙකුවත් අපව බේරාගැනීමට පැමිනීයේ නැත.
"මේක අපේ පලාත යකෝ... තෝ මේ ඉන්නවන මම කියන විදියට හිටපන් නැත්නම් හත්නා වගේ මැරිලා පලයන්.. " මාව තාප්පයට තදකරගෙන ඔහු බෙරිහන් දුන්නේය...

" මාව අත හැරපන් ඉවාන්...මාව අත හැරපන් . " මා කෑගැසුයෙමි... මාගේ කටහඩත් සමග නැගිටගත් එමානුවෙල් දිව විත් ඔහුව ඉවතට තල්ලු කර දැමීය..
" සොෆී දුවන්න ... දුවන්න " එමැනුවෙල් කෑගැසුවේය ...කුමක් කරන්න දැයි නොදැන මා අසරන විමි.... මා කොයිතරම් බියට පත්වී සිටියේද යත් මූත්‍රා වලින් මගේ යට ඇදුම් තෙත්වී තිබින..මා දුවන්නට පටන් ගත්තෙමි... එමැනුවෙල් ද මා පසුපසින් දුව එන්නට විය....
" නැවතියන් සොෆී නැවතියන් " ඉවාන් කෑගැසීය...මා පිටුපස හැරි බැලීය. ජීපයේ දෝර විවර කල ඔහු එතුලින් කුමක් හෝ එලියට ගත්තේය ..
" නැවතියන් නැත්නම් මම මූව කුඩු කරනවා " ඔහු එමැනුවෙල් දෙසට එය දික් කරමින් පැවසිය... ඔහු අත වූයේ කුඩා බෝම්බයකි .... මා එක් වරම නැවතුනෙමී.. මා නැවතෙනු දුටු එමැනුවෙල් යලිත් කෑගැසීය .." දුවන්න සොෆි දුවන්න "
එහෙත් සමගම බෝම්බයේ කට්ට ගැලවූ ඉවාන් එය අප වෙත විසි කරන්නට වෙරදැරීය..එහෙත් එය ඔහුගේ අතින් ලිස්සා විත් ඔහු අසලටම වැටුනේය... මොහොතකින් ගිනි ජාලයක් සමග එය පුපුරා ගියේය.... සිදුවුයේ හෝ සිදුවන්නේ කුමක්දැයි නොදත් මා බියෙන් ත්‍රාසව බිම ඇද වැටින.. මා හට සිහිය එන විට මා සිටියේ රෝහලේය...

මේ සිද්දියෙන් මටත් එමැනුවෙල්ටවත් සුලු තුවාල සිදුවුනත් ඉවාන්ගේ තත්වය බරපතල විය.. ආරංචි වූ විදියට මෙහින් ඔහුගේ

පාදයන් දෙකත් එක් අතකුත් නැති වී ඇත.... එසේම ඔහුගේ ලිංගයට සිදුවූ හානිය නිසා එයත් කපා ඉවත් කොට ඇත...

මෙය සිදුවුයේ මීට අවුරුදු 20කට පෙරයැයි මා ඔබට කිවෙමි...මෙයින් පසු අපි කොමිතාස් වලින් සදහටම මිදී වෙනත් නගරයකට පදිංචියට ආවෙමු...මමත් එමැනුවෙලුත් පසුකාලීනව විවහාවිය.අපිට දැන් දරුවන් දෙදෙනෙකුද ඇත.

මෙය අවසන් කිරිමට කලින් මා ඔබට තවත් රහසක් පවසමි... මා අදටත් සමහර දිනවලදි කොමිතාස් නගරයට යන්නෙමි..මෙය එමැනුවෙල්වත් දන්නේ නැත...කොමිතාස් වල වෙලෙන්දන්ගෙන් " ලිංගයක් නැති මිනියා ඉන්නේ කොයේදැයි අසන්නෙමි " ඉවාන් කොමිතාස් විදියේ ප්‍රසිද්ධ එම නමින්ය... " ඒ කාලකන්නියා කෙරවලේ තියෙන ලුසාවෝර් පල්ලිය ඉස්සරහා හිගාකනවා " ඔහුන් මට පවසයි..එහින් මගේ සිතට ඇතිවන්නේ සියුම් වූ තෘප්තියකී..
සමහර දිනවලදී මා ලුසාවෝර් පල්ලිය ඉදිරියටද යන්නේමි..ඒ මාවත් අනිකුත් ගැහැනු ලමයින්වත් දූෂනය කල ඒ අමන තිරිසනාව දැකීමටය... මා ඔහු ලගට නොයමි..ඔහු මාව දුටුවත් හදුනා නොගනු ඇත..ඔහුට ඈතින් සිට ඔහු පල්ලියට යනෙන මිනිස්සුන්ගෙන් හිගාකන ආකාරය මා බලාසිටින්නේමි...ජරා ජීර්නව අපිරිසිදු කිලිටි වස්ත්‍රයන් ඇදගෙන පල්ලියට යනෙන මිනිසුන්ගේ දෙපාමුල වැදි වැටි හිගකන ඒ තිරිසනාව දකිමින් මම අදටත් සියුම් වූ සතුටක් විදිමි...ඔහු දූෂනය කල ඔහු නිසා මරනයට පත් වූ අනෙක් ගැහැනු ලමයින්ද අද සිටිනාම ඔහුන්ද මා මෙන්ම සතුටු වනු ඇත... ඒ සතුට මිලේච්ච සතුටකි..එය මා දනිමී.. එහෙත් ඒ සතුට තුල නිරාමිශ වූ තෘප්තියක් සැගව ඇත...

ඔබත් කොමිතාස් නගරයට යන්නේ නම් එහි ලුසාවෝර් දේවස්තාන විදියේ ඇති වෙලෙන්දන්ගේන් මෙසේ අසන්න
" ලිංගයක් නැති මිනිසා කොයේද "
ඔබට ඔහුන් කාලයක් මනුස්ස වෙසින් සිටි තිරිසනෙකුව පෙන්නනු ඇත.

---

පසුවදන -
හන්නලා සහා සොෆීලා අදත් සමාජය තුල බහුලව ඇත.... සමහරු නිහඩය... සමහරු දෙවියන්ට සියල්ල භාර කොට අතීතය සගවා දමා ඇත... එහෙත් දෙවියන්වත් දඩුවම් නොකල ඉවාන්ලා අද තවමත් තමන්ගේ සුපුරුදු ජඩකමේම නියැලෙමින් සිටි..

# තාත්තා

ඉවාන්ගේ අම්මා නැතිවුනාට පස්සේ ඉවාන් තාත්තව එයාලගේ ගෙදරට ගෙනාවා...මොකද එතකොට තාත්තගේ මහා ගේ විකුනගන්න පුලුවන්නේ....හැබැයි මේ උප්පරවැට්ටියනම් ඉවාන්ගේ නෙමෙයි එයාගේ බිරිද මැඩී ගේ...

අර්සුමාන්යන් වීදියේ තිබුනු ඉවාන්ගේ ගෙදර ඒ තරම් ලොකු ගෙයක් නොවුනත් ගෙදර කුස්සිය ලග තිබුන පොඩි කාමරයක් ඉවාන් තාත්තට ලැස්ති කරලා දුන්නා.... තාත්තගේ ගෙය විකුනලා ගත්තු ඩ්‍රාම් ලක්ෂ ගානත් ඉවාන් එයාගේ බැංකු පොතේ පුරව ගත්තා.

" තාත්තට ඒ තරම් ලොකු ගේක ජීවත් වෙන්න අමාරුයි...තත්තගේ උදව්වටත් කවුරු හරි ඉන්න එපැයි.... මේ හිටියම මැඩීත් ඉන්නවා උදව්වට.... "

ඉවාන්ගේ තාත්තට ගොඩක් වයසයි...ශෝරා සිරෝබ්යාන්.අවුරුදු 80ක් විතර වයස..ශෝරගේ බිරිද මරීටා මැරුනේ මාසයකට විතර කලින්....ඒ දුකත් එක්කලා ශෝරත් පරලොව යන්න හිත හදාගෙන හිටියේ...ඒ නිසාම ජීවත්වෙන ඉතිරි ටික කාලයේ ඉවානුත් මුනුබුරාත් එක්කලා ජීවත්වෙන්න හිතාගෙන ශෝරා ඉවාන්ගේ ඉල්ලීමට කැමති වුනා..

කලින් කිව්වා වගේම ශෝරට ඉවාන් කුස්සිය ලග තිබුනු පුංචි කාමරයක් ලැස්ති කරලා දුන්නා...ඒ කාමරය කොච්චර පුංචිද කියනවනම් ඒකේ අඩි 10ක්වත් එහාට මෙහාට ඇවිදින්නවත් බැහැ. ඒ නිසාම ශෝරා එයාගේ මුලු දවසම ගත කලේ එතන තිබුනු බැල්කනි එකේ...බැල්කනියේ හිදගෙන එයා තමන්ගේ අතීතය ගැන කල්පනා කලා.... හැමවෙලාවෙම වගේ....

ඉවාන්ට පුංචි පුතෙක් හිටියා...වයස අවුරුදු 5ක විතර... එයාගේ නම " ගෙගාම්"

මේ පුංචි දරුවා ශෝරාත් එක්ක හරිම එකමුතුයි.ශෝරගේ දවසේ තනිකම මේ දරුවා නිසාම ගොඩක් වෙලාවට අඩුවෙලා ගියා....

මෙහෙම කාලයක් ගෙවිලා ගියා...ශෝරා ටිකෙන් ටික තවත් වයසට ගියා....

දවසක් මැඩී සුප් එකක් හැදුවා... සේරම කෑම මේසයේ හිඳගත්තා.... සුප් එක බොන්න ශෝරා හැන්ද අතට ගත්තා...එයාට ඒක හරියට අල්ලා ගන්න තරම් හැකියාවක් නැහැ.... අත වෙවුලනවා...ශෝරා හැන්ද සුප් එකට දාලා බොහෝම අමාරුවෙන් ඒක කටට දාගත්තා.... එහෙත් අතේ වෙවුලීම නිසාම සුප් එක මේසය හැමතැනම ඉහිරුනා...

" අර බලන්න ඔයාගේ තාත්තගේ වැඩ... මේසය සේරම ජරා කරනවා...දැන් ඉතින් මම එපැයි මේවා අස්කරන්න..." මැඩී ඉවාන්ගේ කනට කරලා කේන්තියෙන් කියෙව්වා...

ශෝරාගේ අතේ වෙවුලීම නිසාම අර සුප් භාජයනත් මේසයෙන් බිමට වැටුනා....ඒක බිදිලා ගියා.. ඒකේ තිබුන සුප් පොලව හැමතැනම..මැඩීට හොඳටම තරහා ගිහින් ශෝරටත් ගස්සාගෙන කාමරේට ගිහින් මහා අයියෙන් කාමරයේ දෝර වහගත්තා...

මේ විදියට දවස් කිහිපයක් ගෙවුනා....ශෝරාගේ අතේ වෙවුලවීම දවසින් දවස වැඩිවුනා.... ඉවාන්වත් මැඩිවත් ශෝරව රෝහලට එක්කගෙනවත් ගියේ නැහැ...සල්ලි වියදන් වෙනවනේ....ශෝරගේ අතින් දවසින් දවස කෑම භාජන බිමට වැටිලා ඒවා බිදෙන්නට පටන් ගත්තා...

දවසක් කෑම කද්දී ඉවාන් මැඩී ට මෙහෙම කිව්වා

" මැඩී තාත්තට ඔයා කෑම කවන්න ..ඔයාගේ අතින් කැවුවොත් එයාගේ අතින් පිගන් බිමට වැටෙන එකක් නැහැ "මැඩී හිරිකිතයෙන් වගේ ඉවාන් දිහා බැලුවා...

" ඔයාට පිස්සුද... ඊයා.... ඔයා කවන්න ඔයානේ එයාගේ පුතා... " මැඩී කිව්වා....

"මට බැහැ ....මට ඕවා කරන්න ලැජ්ජයි " ඉවානුත් ගානක් නැතිවම කරබාගත්තා....

එයාලගේ පුතා ගේගාම් මේ සේරම අහගෙන හිටියේ...එයා සීයා ලගට ගිහින් සීයට කෑම කවන්නට පටන් ගත්තා...එහෙත් එයා පොඩියිනේ...ඒ නිසා එයා කවද්දී සීයා කනවටත් වැඩිය හපන්...

එදා හවස මැඩී ෂොපින් ගිහින් එද්දී ලී වලින් හදාපු පිගානක් අරගෙන ආවා...

" මේවා මොනවටද " ඉවාන් මැඩීගෙන් ඇහැව්වා...

"තාත්තට ..නැත්නම් එයා හැමදාමත් ගෙදර තියෙන පිගන් බිදිනවනේ."

එදා ඉදන් ශෝරා කෑම කෑවේ ලී පිගන් වලින්....ඒවා කිහිප වාරයක්ම බිම වැටුනත් කැඩුනේ නැහැ... මැඩී ඒ හැම මොහොතකම දෙයියන්ටත් බැන බැන පොලව පිහදලා දැම්මා...එහෙත් එයාගේ හිතේ පුංචි සතුටකුත් තිබුනා...

"ලී පිගන් කැඩෙන්නේ නැහැනේ"

මෙහෙම ටික දවසක් ගෙවිලා ගියා...දවසක් ඉවානුයි මැඩී යි දැක්කා එයාලගේ පුංචි පුතා ගෙගාම් ලී කෑල්ලක් අරගෙන මොනවද කරනවා...දෙන්නම ගෙගාම් කරන දේ දිහා ටික වෙලාවක් බලාගෙන හිටියා....දෙන්නටම හිතාගන්න බැහැ පොඩි එකා මොනවද මේ ලී කෑල්ලත් එක්කලා කරන්නේ කියලා...

" මොනවද පුතා ඔය ලී කෑල්ලට කරන්නේ.. ? "

බැරිම තැන මැඩී දරුවා ලගට ලං වෙලා ඇහැව්වා...

" මම ලී පිගානක් හදනවා" ගෙගාම් එයාගේ කටත් උලුක් කරගෙන උත්තර දුන්නා...

" ලී පිගානක් .... ඒ මොනවටද ? මැඩී ඇහැව්වා....

" අම්මයි තාත්තයි වයසට ගියාම කන්න දෙන්න "

පොඩි එකාගේ කතාවට ඉවානුයි මැඩීයි දෙන්නට දෙන්නගේ මුහුන බලාගත්තා... දරුවට මොනව කියන්නද කියලා එයාලටත් තේරුම් ගන්න බැහැ....

---

පසුවදන - ජීවිතයේ අපිට ගොඩක් දේවල් පාලනය කරන්න පුලුවන් එහෙත් වයසට යන එක ?

අපි හැමෝම වයසට යනවා..

අද වැඩිහිටියන්ට ඔබ සලකන විදිය බලාගෙන ඉන්න ඔබේ දරුවනුත් ඔබ වයසට ගියාම ඒ විදියටම ඔබටත් සලකාවී... ඒ නිසා වැඩිහිටියන් වෙනුවෙන් ඔබ කරන කියන දේ ගැනත් විමසිලිමත්වෙන්න.

# අම්මාගේ මරනයෙන් පසු

මගේ අම්මා වයස අවුරුදු 49 දී හර්ධා බාධයකින් මිය ගියාය.

හර්ධා බාධය ඇතුවූ විගසම අපි ඇයව රෝහල් ගත කලත් ඉන් පලක් නොවීය.රෝහලට ඇතුලත් කොට විනාඩි කිහිපයකින් ඇය අපෙන් සමුගත්තාය.ඒ වන විට වෙලාව පස්වරු 5 පමන වී තිබින.

ඇයගේ මාතෘ දේහය රෝහලේ මෝචරියට ගෙන ගිය අතර එය පහුවෙනිදා අප නිවසට යලිත් ගෙන ඒමට නියමිතව තිබ්න.සියලුම දේ සුදානම් කොට අපි රාත්‍රී 8ට පමන නිවසට ආවෙමි.

මමත් අක්කාත් අයියාත් නිවසේ මැද ශාලයේ හිදගෙන සිටියෙමු.කිසිවෙකුත් කිසිවෙකු සමග කතා නොකලහ.අපි වැලපුනෙමු.මගේ පියා මිය ගිය ගිය පසුව අපිට සිටියේ මව පමනකි.ඇයත් දැන් යන්නට ගොස්ය.ජීවිතයේ පුදුමාකාර තනිකමකුත් වේදනාවකුත් එදා දැනින.මම මගේ අක්කට මුහුනලාත් ,මගේ අයියා මට එහා පැත්තේ ඇති පුටුවකත් වාඩිවී සිටි අතර , ටික වෙලාවක් වේදනාව හිරකරගෙන සිටි මමත් අක්කාත් මහා හයියෙන් හඩන්නට විමු.

එක්වරම අම්මා අප ඉදිරියේ දර්ශනය විය.ඇය හරියටම අපි තුන් දෙනාගෙම මැද හිටගෙන සිටියාය...මා එය සහතිකවම දැක්කෙමි.ඇයගේ දෙනෙතෙහි තිබුනේ නිශ්චල බැල්මකි.සතුටක් හෝ වේදනාවක් එහි නොවීය.එය තනිකරම නිශ්ශබ්ද බැල්මකි.තත්පර කීහිපයක් අප ඉදිරියේ දර්ශනය වුනු ඇ නොපෙනී ගීයාය..

මාව එක් වරම පුටුවෙන් නැගිට්ටින.මගේ අය්යා සහා අක්කත් එසේ කලහ...අපි තුන් දෙනාම භීරාන්විතව එකිනෙකාගේ මුහුනවල් දෙස බලාගෙන සිටියෙමු.

" අම්මව දැක්කද ? අක්කා මගෙන් ඇසීය..

"ඔව්.. " මා කීවෙමි.

අපි දෙදෙනාම අයියා දෙස බැලීය.

"ඔව් .." ඔහු හිස වැනීය…

ඒ අපි තුන් දෙනා මවට දුටු අවසන් වතාවයි…ඇය යලිත් අපි ඉදිරියට ඒවී යයි අපි බලාපොරොත්තුවෙන් සිටියෙමු.එහෙත් එය කිසිම දිනෙක සිදුනොවීය…සමහරක් විට ඇය අවසන් වතාවට අපිව බලන්නට එන්නට ඇත

ඉන් දින කිහිපයකට පසුව අපි ඇයගේ භූමිදානය සිදුකලෙමු.එදින අපි යලිත් නිවසට එන විට නිවසට ඇතුලුවන තැන පඩිපෙලෙහි පාර්සලයක් විය.. එහි " සෝෆි " ලෙස නමක් සදහන් කොට ඇත.

සොෆි පාසැල් කාලයේ පටන් මගේ හොද මිතුරියකි.ප්‍රංශයේ ජීවත් වූ ඇය නිවාඩුවට බර්න් වලට එන සැම විටෙම මාව බැලීමටද පැමිනෙයි…අදත් ඇය පැමින ඇත.අපි නිවසේ නොසිටි නිසාවෙන් ඇය රැගෙන ආ තෑගී පාර්සලය තබා ඇය යන්නටත් ඇත…නිවස තුලට ගිය මම ඇයට දුරකතන ඇමතුමක් ගත්තෙමි.

" සොෆි මට සමාවෙන්න …අපි ගෙදර හිටියේ නැහැ…. අපේ අම්මා … " මා එසේ කියත්ම ඇය පෙරලා කතා කලාය..

"ඔයාගේ අම්මත් හරිම කෙනෙක් තමයි ලූසී…. එයා මට ගේ ඇතුලට එන්න දුන්නේ නැහැ .. " ඇය කීවාය..

" මොකක් " මා වික්ෂිප්ත වුනෙමි.

" ඔව්… එයා ගේ ඇතුලේ ඉදන් මන් දිහා බලාගෙන හිටියා විතරයි …දොර හැරියේ නැහැ… "

ඇය කීවාය…

---

පසුවදන - මෙයත් මගේ බිරිද විසින් කියූ ඇය මුහුන දුන් තවත් සත්‍ය කතාවක්…ඇයගේ අම්ම නැතිවෙන්නේ අවුරුදු 49 දී හර්ධාබාධයකින්.අම්මගේ මරනයෙන් පසුව ඇය මොහුන් තිදෙනා ඉදිරියේ දර්ශනය වෙනවා.මා මේ කතාවට තේමාව විදියට යොදාගන්නේ එම සත්‍ය සිද්ධියයි.

# අරාරත් කඳුපාමුල හෙලූ අවසන් හුස්ම පොද

“මම උබට වෛර කරනවා,මගේ මුලු ආත්මෙම වෛර කරනවා " දික්කසාදයට අත්සන් කොට එලියට පැමිනි අමේලියා ලුවිස් තමන්ගේ අත පපුවට තබා ගනිමින් සිමියොන් ඉදිරියේ ප්‍රකාශ කලාය.සිමියොන් මුකුත් කීවේ නැත...මොහොතක් නිහඬව සිට දික්කසාද කාර්යාලයේ පඩිපෙල දිගේ පහතට පැමිනි ඔහු යලිත් අමේලීයා දෙස හැරී බලා
" ඔයා තවත් කසාදයක් කරගන්න...හොදින් ඉන්න " කියා කාරයේ නැගී යන්නට ගියේය...
සිමියොනුත් අමේලීයාත් අතර වූ ජවනිකාව එසේ අවසන් විය.සිමියොන් ගේ කාරය ඊලගට කෙලින්ම නැවතුනේ ගුවන් ටිකට් පත් කාර්යාලය ලගයි...ලගම ඇති දිනයකට ජර්මනියට ඔහු ගුවන් ගමන් බලපත්‍රයක් වෙන් කරගත්තේය... ඒ හෙට විත් මුදල් ගෙවන පොරොන්දුව පිටය.

සිමියොන් සහා අමේලීයා ලුවිස් විවහා වී වසර දහයක් පමන ගත වී තිබුනත් ඔහුන්ට දරුවන් සිටියේ නැත.සිමියොන්ට කිසිම දිනෙක ලොකු පවුල් බරක් නොවීය.එහෙත් මෙහි අවසානය දික්කසාදයකින් තීරනය විය යුතු යැයි ඔහු මීට මාස කිහිපයකට පෙර නිශ්චිතවම තීරනය කලේය...
ගුවන් ටිකට් පත් කාර්යාලයෙන් ඉවතට පැමිනි ඔහු ඔපේරා හන්දිය හරහා ඒ අසලම ඇති ආදරවන්තයින්ගේ උයන අසල තම කාරය නැවත්විය.
එය "ආදරවන්තයින්ගේ උයන” ලෙස හැදින්වුයේ ආදරවන්තයින් වෙනුවෙන් පමනක් එය වෙන් කොට තිබුනු නිසාය....
සීතල දෙසැම්බරයේ නත්තල් දිනයට පලමු දින ඔහු එම උයනේ ඇවිදිමින් සිටියේය...මුලු උයනම සුදු පැහැ හිම වලින් නැහැවී තිබ්න.ඔහු එදා උයනට පැමිනියේ ඇයි දැයි ඔහුට නිශ්චිතවම මතකයක් නැත.දෙයිවය එය තීරනය කරන්නට ඇතැයි ඔහු සිතීය... එදා උයනේ මිනිස් පුලුටක්වත් නොසිටි දිනයකි...සීතල හිමෙන් පිරී ගිය දිනක උනුහුමට ගුලි වෙමින් නිවෙස් වලට සිටිනවා හැරෙන්නට ආදරවන්තයින් මෙම උයනට පැමිනෙන්නේ අල්ප වශයෙනි.

උයනේ කුඩා මන්තීරුවක ඇවිදිමින් පැමිනි ඔහුගේ දෙනෙත ඇතින් එන රුවක් ලග නැවතින. ඔහු යන මන්තීරුව දිගේම එම රුවත් ඇතින් කෙමෙන් කෙමෙන් ඔහුට ලන් විය.ඒ තබ කැරලි සහිත කොන්ඩයකින් යුත් තරුනියකි..සිහින් සිරුරකින් යුක්ත වූ ඇය වැඩි උසක් ඇති කෙනෙකු නොවීය...සිමියොන්ගේ මුලු සිතම ඇය වෙත ගොස් ඇත...කිසිවෙකුත් නැති උයනේ තනියෙම ඇවිදින ඇය කවුද ?

ඇය ලංවත්න් සිමියොන් ඇය දෙස වඩාත් විමසිලිමත්ව බැලීය...ඇය ඇයගේ විශාල නිල් දෙනෙත් වලින් හොරෙන් සිමියොන් දෙස බැල්මක් හෙලීය.ඒ බැල්ම සිමියෝන්ගේ හදවත ගැබුරමට කිදා බැස ගියේය...මිදී ගොස් අයිස් බවට පත්වී ඇති හිම මත ඔහුව ඇදගෙන වැටින. ඇය දුවගෙන විත් ඔහුට නැගිටින්නට උදව් කලාය.අමේලියා ලුවිස් සහා සිමියෝන් ඩේවිඩ් ගේ මුනගැසීම ඒ ආකාරයෙන් සිදුවිය.... ඒ වසර 10 කටත් පෙරය.

උයන දෙසබලා සිටි සිමියොන්ගේ මනස තුල ඒ සිදුවීම් සියල්ලම චිත්‍රපටයක් සේ එකින් එක හැදී ගියේය...ඔහු තරම් අමේලීයාට ආදරය කරන්නෙකු මේ ලොව නැත.ඔහුට එය ඒකාන්තය...එහෙත් ඇයට හදවතින්ම ආදරය කරන කෙනෙකු සමග ඇයට යලිත් විවහා වීමට ලැබෙවායි ඔහු ප්‍රාර්ථනා කලේය.ඔහුගේ දෑසට කදුලක් කඩා වැටින...වහානය පනගැන්වූ ඔහු එතැනින් නික්ම ගියේය...

ඊට පසු දින ඔහුට දුරකතන ඇමතුමක් ලැබින ..ඒ සුසාන භූමියේ සේවකයෙක්ගෙනි "මහත්තයා කිව්ව විදියටම වැඩේ කරලා තියෙන්නේ ... ඇවිත් බලන්න පුලුවන් " ඔහු කීවේය..
" හරි අද හවසට එන්නම් " කියු සිමියොන් දුරකතනය විසන්දි කලේය.

ඔහු සුසානයට ගියේ හවස කලුවර වැටෙන්නට ඔන්න මෙන්න කියා තිබියදීය..සුසානයේ වැඩ සියල්ල අවසන් වී ඇත... මෙය නිතයානුකූල වැඩක් නොවු නිසා ඔහු සොහොන් පල්ලට අමතර ගාස්තුවක්ද ගෙවීය..
සියල්ලම ඔහු සැලසුම් කරගත් අයුරින්ම අවසන් වී ඇත... සොහොන් කොත ඉදිරියේ සිට ඔහු හිස ඔසවා ඔහුගේ දෙනෙත් ඉදිරියෙන් විරාජමානව නැගී සිටින දැවැන්න්ත අරාරාත් කදු පන්තිය දෙස බැලීය.... රාත්‍රී අන්දකාරයත් සමග එය වායාවක් සේ මුලු අහස් තලයම වසා පැතිරී ඇත....මේ සොබාදහමේ විශිෂ්ටතම නිර්මානයයි... බයිබලයේ සදහන් වන ආකාරයට මහ ජලගැන්මෙන් පසු නෝවාගේ නැව නැවතුනේ අරාරාත් කදු මුදුනේය...මෙම සොහොන නිර්මානය කර තිබුනේ හරියටම අරාරාත් කදු පන්තිය පාමුල පිහිටි අරාරාත් නම්

වූ සෝහොන් බිම තුලමය... සොහොන් පල්ලාට ස්තුති කල ඔහු එතැනින් නික්ම ගියේය...

එදිනම රාත්‍රියේ සිමියොන්ට අවසන් කිරීමට තවත් වැඩක් ඇත... සොහොන් බිමෙන් එන අතර තුරම ඔහු අරෙන් ට දුරකතන ඇමතුම් ගෙන ඔහු දැන්නම අර්ජූත් වෙත එන බව ඔහුට දැනුම් දුන්නේය..

කදු දෙකක් අතර පිහිටි නගරය යන අර්ථයෙන් එය අර්ජූත් ලෙස හැදින්විය.වචනයේ පරිසමාප්ත අර්තයෙන්ම එය හිතාමත් දැකුම්කලු නරගයකි.නගරයේ සිට පැය දෙකක් දුරින් පිහිටි අර්ජූත් වෙත යාමට ඔහු ඒ මොහොතේම පිටත් විය...
අරෙන් යනු අමේලීයාගේම සහෝදරයෙකි..නැකමටත් වඩා ඔහු සිමියොන්ට හිතාමත් ලග මිත්‍රයෙකු විය... අරෙන් විවහා වී දරුවන්ද සිටි අතර ඔහු තම බිරිදගේ ගම වූ අර්ජූත් වල ජීවත් විය...
එදින රාත්‍රියේ අර්ජූත් වල පිහිටි කුඩා ආපනශාලාවක ඔහුන් හමුවීමට තීරනය කොට ඇත.... තමා කරන්නට යන කටයුත්තෙ බරපතල කම නිසාම ඔහුන් නිවසින් පිට තැනක් මේ සදහා ඔහුන් සූදානම් කොට තිබ්න... මේ කරන්නට යන කිසිවක් අමේලීයා හෝ අරෙන්ගේ බිරිද දැනගත යුතු නැත..ඒ නිසා මේ සියල්ලම රහසිගතව හමාරවිය යුතුය....

සිමියොන්ව දුටු අරෙන් ඔහුව වැලද ගත්තේය...
" නංගී මට කෝල් කලා ..එයා ගොඩක් දුකින් ඉන්නේ ..'' අරෙන් පැවසීය. සිමියොන් දිගුසුසුමක් හෙලීය...
ඔහු දෙස බලා සිටි අරෙන් " දැන් සේරම හරිද'' යි ඇසීය...
" ඔව් අද සොහොනේ වැඩ ඉවර කලා...'' කී සිමියොන් ඔහුගේ සාක්කුවෙන් ලියුම් කවර දෙකක් ගෙන එකක් අරෙන් ඉදිරියෙන් තැබ්ය..
" උබට ඕක ඕනේ වෙයි "
එහි ඇත්තේ කුමක් දැයි අරෙන් හොදාකාරවම දනී.එය කිහිප වරක්ම ඔහු ප්‍රතික්ෂේප කොට තිබ්න
"එපා මගේ ලග සල්ලි තියෙනවා " කී ඔහු එය යලිත් සිමියොන් දෙසටම තල්ලු කලේය...
" නැහැ අරෙන් කරුනාකරලා මේක ගන්න .නැත්නම් මට සැනසිල්ලක් ලැබෙන එකක් නැහැ...මම සැලසුම් කරපු විදියටම මේ හැමදෙයක්ම සිද්ද වෙන්න ඕනේ " කී ඔහු එය යලිත් අරෙන් දෙසටම තල්ලු කලේය... සුසුමක් හෙලූ අරෙන් සිමියොන් දෙස මොහොතක් බලාසිට එය ගෙන කෝට් සාක්කුවේ දාගත්තේය.
සිමියොන් ඔහු දෙස බලා මද සිනාවක් නැගීය. ඉන්පසුව තම අනිත් ලියුම් කවරයද ගත් ඔහු එය අරෙන්ට දිගු කොට මෙසේ පැවසීය
" මේක අන්නට දෙන්න ... උබ දන්නවා කවද්ද කියලා "

මධයම රාත්‍රියත් නික්මී තිබින... ඔහුගේ සංවාදයේ අවසානයට පැමිනි විට සිමියොන් නැගින අරෙන්ව තරයේ වැලද ගත්තේය.
" එහෙනම් මේක ඉවර වෙන්නේ මේ විදියටද සිමියෝන් " අරෙන් ගේ දෑසින් කඳුලු කැටයක් විත් පොලොවට වැටින...
" අමේලීයා වෙනුවෙන් " සිමියෝන් අරෙන් ව යලිත් වැලද ගනිමින් පැවසීය... ඒ වැලද ගැනීම විනාඩි කිහිපයක් පුරා තිබූ උනුසුම් වැලද ගැනීමක් විය.ඒ තමන්ගේ අවසන් වැලදගැනීම යැයි ඔහුන් දෙදෙනාම දැන සිටියේය...

පසු දින අමේලීයා ලුවිස්ට ගුවන් ගමන් කාර්යාලයෙන් දුරකතන ඇමතුමක් ලැබින..
සිමියොන් ඩේවිඩ් මහත්තයා එක්ක කතා කරන්න පුලුවන්ද "
" එයා දැන් මේ නැහැ " අමේලීයා පිලිතුරු දුන්නාය..
" හා සමාවෙන්න... ටිකට් එකේ තියෙන්න මේ අංකය ඒකයි මේකට කෝල් කලේ"
" ටිකට් එකේ "
" ඔව් ගුවන් ටිකට් එකේ "
අමේලීයාගේ සිරැර තරහින් වෙවුලා ගියේය ....
" සිමියොන් කියලා කෙනෙක් නැහැ " කියූ ඇය රිසිවරය බිත්තියට දමා ගැසීය.

සිමියොන් ඊලගට එලබෙන සියලුම දවස් වෙන් කොට තිබුනේ රෝහල වෙනුවෙනි..පසු දිනම රෝහලට ගිය ඔහු තමන්ගේ වෛද්‍යවරයා හමුවිය...
"එහෙනම් සේරම ලැස්තිද සිමියොන් "වෛද්‍යවරයා ඇසීය...
සිමියොන් හිස සොලවා ඊට පිලිතුරු දුන්නේය.
ඔහු දෙය මොහොතක් බලාසිටි වෛද්‍යවරයා " සිමියොන් උබ මේ කරන්නේ මේ ලෝකේ කවුරුවත් කරන්නේ නැති දෙයක්..එහෙත් උබේ කැමැත්ත ඒකනම් ඒක ඒ විදියටම සිද්ද වේවී... " යැයි පැවසීය...
" ස්තුතියි ඩොක්ටර් " සිමියොන් පිලිතුරු දුන්නේය..

ඒ ඔහුගේ සැලැස්මේ අවසන් පියවරයි...

මේ අන්ඩරදෙමලය කුමක්දැයි ඔබට දැන් සිතනවා නොඅනුමානය...
එය හරිහැටි පැවසිමටනම් අප යලිත් කතාවේ මුලට යායුතුය...
සිමියොන්ගේ ජීවිතයේ ඔහුගේ ජීවිතයම වෙනස් කල දෛවෝපගත සිදුවීම් දෙකක් ඇත... එකක් නම් අමේලීයාගේ ආදරයයි.... (අමේලීයා ලුවිස් සහා සිමියොන් ඩේවිඩ් හමුවුනු ආකාරය මා ඔබට කියා ඇත) .
මා මේ කියන්නට යන්නේ අනෙක් සිද්දියයි...

මෙය සිදුවන්නේ මීට මාස කිහිපයකට කලිනි..

සිමියොන් සහා අමේලියා හට ඔහුන්ගේ නිවසේ ඉදිරිපිට ඇති නිවසේ විසූ වයසක යුවලක් රාත්‍රී ආහාරය සදහා ආරාධනා කලෝය…එම රාත්‍රී සාදයේදී සිමියොන් වඩාත් ප්‍රිය කල මත්පැන් බෝතලයක රස බැලීමට ඔහුට හැකිවිය.ඒ නිවසේම සාදන ලද වොඩ්කා විශේෂයකි…මෙම වොඩ්කා සාදා තිබුනේ මීපැනි සහා බෙරී එකට මිශ්‍ර කිරීමෙනී..ඒනිසා එය හිතාමත් ප්‍රනීත රසයකින් යුක්ත විය…

රාත්‍රීයේ යලිත් නිවසට පැමිනෙන විට සිමියොන් හොදටම වෙරි වී සිටියේය..වෙරි මතින්ම ඇදට ගිය සිමියෝන්ගේ හිස අනපේක්ෂිත ලෙස ඇදෙහි ඇති මිටෙහි වැදින…බීමත්ව සිටිනිසා ඔහුට එය ගානක් නොවීය..එසේම ඔහුට එය අමතක වී ගොස් තිබින…පසුදින සිට ඔහු සිය සුපුරුදු රාජකාරි වල නියැලින….

හරියටම ඊට දින 4කට පසු බ්‍රහස්පතින්දා දිනෙක ඔහුගේ හිස පිටුපසින් දැඩි වේදනාවක් නැගින…ඔහු එය වැඩි පුර ගනන් නොගත්තේය.එහෙත් කල් යත්ම එම වේදනාව වැඩිවනන්ට විය…එක් සති අන්තයක එම වේදනාව තවදුරටත් වේදනානාශක පෙතිවලට පාලනය කල නොහැක්කක් බැව් ඔහුට වැටහින.එහෙත් ඒ සතිඅන්තය නිසා රෝහලට යාමට සදුදා වන තෙක් සිටින යුතුව ඇත…

සදුදා දින ඔහු පෞද්ගලික රෝහලකට ගියේය..එහිදි ඔහුගේ හිස පරික්ෂා කල වෛද්‍යවරුන් විසින් සිමියෝන්ගේ හිසෙහි හිතාමත් විරල පිලිකා ගෙඩියක් වර්ධනය වන බව සොයාගන්නා ලදී.එය සුවකිරිමේ හැකියාවද අනපේක්ශිත බව ඔහුන් පැවසීය…. එය සුවපත් කල හැකි මට්ටමට වඩා වර්ධනය වී තිබුනෙන් එය සුවපත් කිරීමනම් කිසිසේත්ම කල නොහැකි දෙයක් බව වෛද්‍යවරුන්ගේ අවසන් නිගමනය වී තිබින.

ඊලග මාස කිහිපය පුරාම ඔහුගේ රෝගය තවත් වර්ධනය විය. කෙමියෝ ප්‍රතිකාර වලින් ඔහු තවත් දුර්වල විය.එයම අතකොලුවක් කරගත් ඔහු තමන් මත්ද්‍රවය වලට ඇබ්බැයි වී ඇති බව බිරිදට හේත්තු ගැන්විය… තම රෝගය ඔහු බිරිදගේන් සම්පූර්නයෙන්ම වසන් කර තැබීය.
තමන්ට ඉදිරියේදී මුහුන දීමට සිදුවන අන්ත දුක්ඛිත ජීවිතය ගැන ඔහු දැන සිටියේය. අමේලීයාව ඒ දුකෙන් සම්පූර්නයෙන්ම අහින් කර තැබීමට ඔහුව අවශය විය…. ඒ නිසාම තමන්ට අනියම් සම්බන්දයක් ඇතිබවට ඔහු අමේලීයාට හැගවුවේය..ඇයත් සමග නිතර නිතරම ආරවුල් ඇති කරගත්තේය…අන්තිමේදී ඇයට ඔහුව අන්තටම එපා

විය...දිනක් දිගු ආරවුලකින් පසුව දෙනෙතේ කඳුලු පුරවාගෙන ඇය ඔහුට මෙසේ පැවසුවාය.
" මට තවත් මේ විදියට ජීවත් වෙන්න බැහැ...මට දික්කසාද වෙන්න ඕනේ.. "
එය සිමියෝන් අපෙක්ෂා කල දෙයම විය.... එය ඒ ආකාරයෙන්ම සිදුවින...

දික්කසාදයෙන් පසුව ඔහු යලිත් ජර්මනියට යනබව හේත්තු ගැන්වීමට ගුවන් ටිකට් පතට අමේලියාගේ නිවසේ දුරකතන අංකය ලබාදුන්නේය.ඒ ගුවන් කාර්යාල සේවකයන් එම අංකයට අමතන බව ඔහු ඒකාන්තයෙන්ම දැන සිටි නිසාය.

ඔහු අමේලියාට හැම දේටමත් වඩා ආදරේ කලේය...ඔහුට දෙමව්පියන් නොවීය. අඩුම තරමින් සහෝදරයෙක්වත් නොවිය. ජර්මනියෙන් පැමිනි දා පටන් ඔහුගේ මුලු ජිවිතයම වුයේ අමේලියාය.... පිලිකා ප්‍රතිකාර වලින් තමන් විරූපි වනු ඇත...ඊටත් වඩා ඇයට ඇයගේ ඉතිරි ජිවිත කාලයම පිලිකා රෝගියෙකුගේ බර දරන්නට වනු ඇත...එහින් ඇයගේ ජිවිතය අන්ත දුක්ඛිත එකක් වනු ඇත...ඇයට තවමත් දරුවන් ලැබිය හැක..හොද පවුල් ජිවිතයක් ගත කල හැක...තමන්ගේ බියකරු අනාගතයට ඇයත් වැටුනොත් ඇයට ඒ සියල්ලම අහිමි වනු ඇත...
සිමියෝන් කාත් කවුරුත් නැති තමන්ගේ මුලු ජීවිතයම ඇයගේ සතුට වෙනුවෙන් කැපකලේය.... ඔහු මේ කරන්න යන්නෙත් එයමය.... ඇය තවත් විවහායක් කරගත යුතුය..සතුටින් ඉතිරි ජිවිතය ගත කල යුතුය...ඇයට ගතකල හැකි ජිවිතයක් ඇත..එහෙත් තමන්ට ඇත්තේ තවත් මාස කිහිපයක් විය හැක..මේ මාස කිහිපය වෙනුවෙන් ඇයගේ ජිවිතයත් අපායක් කිරීමට ඔහුට නොහැක... ආදරය යනු පරිත්‍යාගයකි...ඔහු ඒ පරිත්‍යාගය මුලු හදවතින්ම කිරීමට සුදානම් වී සිටියේය...

විවහා වු පසුව ඔහුන් තමන්ගේ ජිවිතයේ මුල්ම සතිය ගත කලේ අරාරාත් කදු පාමුල ඇති පුංචි තානායමකය...දිනක් අරාරාත් කදු පාමුල සිට අමේලියා සිමියොන්ගේ අත අල්වාගෙන ප්‍රාර්ථනාවක් කලාය.

“සිමියොන් මට පොරොන්දු වෙන්න කවදා හරි මම මැරුනොත් මාව මේ කදු පාමුලම වලදානවා කියලා...මම පුංචි කාලේ ඉදන්ම මේ සුන්දර කන්දට ගොඩක් ආදරය කරපු කෙනෙක් ..මම ආසයි මරනයෙන් පසුවත් මේ සුන්දර භූමියේම ජිවත්වෙන්න "
සිමියෝන් ඇයගේ දෑත අල්වාගේන ඒ තේජමාන කන්ද දෙස බලා ඇයට ඒ පොරොන්දුව දුන්නේය.

" ඔයත් එක්ක මගේ සිරුරත් දවසක මෙතැනම තිබේවි .. එකම තැනක... එකට හිදගෙන අපි දෙන්නම මේ කන්ද දිහා බලාගෙන ඉමු"

-------------------------------

වසර ගනනක් ගත වී ගියේය... සිමියොන්ගෙන් පසු අමේලියා විවහා විය... ඇයට දරුවන්ද ලැබිනා... සිමියෝන් ප්‍රාර්ථනා කල ආකාරයටම ඇය හිතාමත් සුන්දර ජීවිතයක් ගෙවිය...

දිනක් ඇයට අරෙන්ගෙන් දුරකතන ඇමතුමක් ලැබිනා...තමා මරනයේ අභියස සිටින බැවින් කරුනා කර ඔහුව මුනගැසීමට පැමිනෙන ලෙස ඔහු ඇයට දන්වා තිබිනා...

ඇයගේ පුතෙකු විසින් ඇයව අර්ජුන් වෙත ගෙන ගියාය.... එහිදි අරෙන් සිමියොන්ට පොරොන්දු වූ විදියටම ඔහු දුන් ලිපිය අමේලියාගේ අත මත තැබීය...

" අමේලියා... මට සමාවෙන්න .... මමත් මේකේ පංගුකාරයෙක් වුනාට...එහෙත් සිමියොන්ට ඕනේ වුනා මේක මේ විදියටම වෙනවා දකින්න " අරෙන් ඔහුගේ වියපත් දෑස් කදුලින් පුරොවමින් පැවසීය...
අමේලීයා ලියුම විවර කලාය..එය ලියා ඇත්තේ මීට අවුරුදු 25කටත් පෙරය...ඒ සිමියොන්ගෙනි.... එහි ඔහුගේ අත් අකුරු දකිද්දීම ඇයගේ දෑස කදුලින් තෙත්වී ගියාය....

" මගේ රත්තරන් අමේලීයා...
ඔයාට මම කොයිතරම් ආදරේ කලාද කියලා ඔයා කිසිම දවසක තේරුම් ගන්න එකක් නැහැ... මම මේ ලෝකේ තනි වුන මිනියෙක්...ඒ තනිකම සුන්දරත්වයෙන් පිරෙව්වේ ඔයා...ඔයාගේ ලස්සන හිනාව දකින හැම මොහොතකම මම ජීවිතයේ සුන්දරත්වය හැබැයින්ම වින්දා.... ඔයාගේ ආදරය , කිසිම දෙයක් නොතිබුනු මගේ ජීවිතයට හැම දෙයක්ම දුන්නා... ඒ සුන්දර හදවතට දුකක් දෙන්න මට බැහැ අමේලීයා...මම නැති කාලයක වුනත් ඔයාගේ ඔය ලස්සන හිනාව ඔය විදියටම ඔයා ලග රැදෙන්න ඕනේ.... ඔයාට දරුවන් ලැබෙන්න ඕනේ..ඔයාගේ ජීවිතය ගොඩක් ලස්සන වෙන්න ඕනේ....එහෙත් තවදුරටත් ඔයා මගේ ලග හිටියොත් ඔයාගේ ජීවිතයත් දුක්ඛිත එකක් වේවී..මට ඔයාට ඒ තරම් වේදනාවක් දෙන්න බැහැ....
ඔයා මේක කියවන කොට මම මේ ලෝකේ නැහැ.... අරෙන් ඔයාට හැම දේම කියයි... ඒ කියන හැම දේම ඇත්ත.... මේ කතාව ඔහු හැරෙන්න වෙන කිසි කෙනෙක් දන්නේ නැහැ...

මගේ සොහොන මම ඔයාට පොරොන්දු වුනු විදියටම අරාරාත් කඳු පාමුල ඉදිකලා...ඔයා වගේම අරාරාත් කඳු පාමුල ඉඳන් ඒ සුන්දරත්වය විඳින්න මමත් ආස කලා....ඉතින් මම එතැන ඉඳන් ඔයා එනකන් බලාගෙන ඉන්නවා... දවසක අපි දෙන්නම එකම තැනක ඉඳගේන ඒ දිහා බලාගෙන ඉමු...

මගේ රත්තරන් ... ඔයාව රිදවන හැම මොහොතකම මම ඔයාටත් වැඩිය දහස් වාරයක් දුක් වින්දා ... එහෙත් ඒ හැම දේම කලේ ඔයා හැමදාමත් සතුටින් ඉන්නවා දකින්න මට ඕනේ වුන නිසා...
මට සමාවෙන්න...
- හැමදාමත් ඔයාටම ආදරේ කරන සිමියොන්

---

පසුවදන - මීට සති කිහිපයකට කලින් හොඳටම බීලා ඇවිත් නිදාගන්න යද්දී ඇඳේ ඔලුව වැදෙනවා...ඊට පස්සේ එතන පුදුමාකාර වේදනාවක් එනවා... මට අන්නව මුනගැහෙන්නේ පෙරෙදා ටුවර් එකකට බස් එකේ අර්ජුන් යද්දී ... එයා බ්ලොන්ඩ් කොන්ඩයක් තියෙන නිල්පාට ලොකු ඇස්දෙකක් තියෙන වැඩිය උසක් නැති කෙල්ලෙක්. ඒ ලස්සනට මම ගොඩක් කැමතියි... අපි මුලු ගමනම එක එක විකාර කතා කර කර යනවා..ඒ අතර මම එයාට මම ලියන ඩාර්ක් ෆැන්ටසීස් ගැන කියනවා... බිලා ඇවිත් කරගත්ත දේත් කියනවා , එයා මට විහිලු කරනව " උබව එහෙනම් මැරෙයිද දන්නේ නැහැ " කියලා....
ඒ ගමනෙදීම මම ඔය සිද්දීන් කිහිපය එකතුකරලා කතාවක් ගොතනවා... " අරාරාත් කාඳු පාමුල හෙලූ අවසන් හුස්ම පොද"

# හිමි අහිමි

පිරුසාට ලස්සන රූපයක් නොතිබින.අනිත් කෙල්ලන්ට මෙන් ලාලිත්‍යවත් ශරීරයක්වත් සුන්දර සිනහවක්වත් නොතිබ්න.එහෙත් ඇන්තෝනියෝ ඇයට ආදරය කලේය.

ඔහු සැම මොහෝතකම ඇය ගැන සිතීය.ඇයව සතුටු කල හැකි හැම දෙයක්ම කලේය.එහෙත් ඇය ඔහුට එතෙක් ආදරය ප්‍රකාශ කොටවත් තිබුනේ නැත.

" අහසේ මාලිගා හදන්න කලින් පිරුසා උඹට ඇත්තටම ආදරේද කියලා අහලා බලපන්.." දිනක් ඔහුගේ හොදම යහලුවා ඔහුට කීහ.

එය සත්‍යකි.සේරටම කලින් ඔහුගේ ආදරය ඇයට පවසා ඇයගේ කැමත්ත ගත යුතුය.ඇන්තෝනියෝ මේ සදහා හොදම කාලය එනතුරු බලා සිටියේය.දිනක් ඇයට තම නිවසේ රාත්‍රී ආහාරය සදහා ආරාධනා කල ඔහු රාත්‍රී ආහාරයෙන් පසු ඇයට තම ආදරය ගැන ප්‍රකාශ කලේය." ඇන්තෝනියෝ ..මම ඔයාට ආදරය කලේ නැහැ..මම හිතාගෙන හිටියේ ඔයාව හොද යහලුවෙක් විදියට" ඇය එදින ඔහුගේ ආදරය ප්‍රත්ක්ෂේප කලාය.

මේ සිද්ධියෙන් දින කිහිපයක් ගෙවී ගියේය.මෙය ඔහුගේ මිතුරන්ටද ආරංචි වී තිබ්න.කෙල්ලගේ ආදරය ප්‍රතික්ෂේප වීමෙන් පසුව ඇන්තෝනියෝ මත්ද්‍රවය වලට ඇබ්බැයි වනු ඇතැයිද , ඔහු පිස්සෙකු වනු ඇතැයිද, සිය දිවි නසා ගැනීමට පවා ඔහු ප්‍රයන්ත දරනු ඇතැයි ඔහුගේ යහලුවන් සිතීය...

එහෙත් ඒ කිසිම දෙයක් නොවීය...පෙර පරිදිම ඇන්තෝනියෝ ඔහුගේ සුපුරුදු සිනහවෙන්ම ජීවිතය ගත කලේය...වෙනත් කොල්ලෙකු නම් මේ වනවිටත් මානසිකව කඩා වැටී අන්ත දුක්ඛිත තත්තවයට පත් වනු ඇත..එහෙත් ඇන්තෝනියෝ එසේ නොවිය.මේ ගැන ඔහුගේ මිතුරන් පවා පුදුමයට පත් විය.බලාගෙන සිටිනු බැරිම තැන ඔහුගේ මිතුරෙකු ඔහුගේන් මේ ගැන ඇසීය..

" ඇන්තෝනියෝ....අර කෙල්ල උබට අකමැති වෙච්ච එක ගැන උබට ඇත්තටම දුකක් නැද්ද...වෙන කොල්ලෙක්නම් මේ වෙනකොටත් මොකක් හරි පිස්සුවක් නටලා.. "

මේ කතාව ඇසූ ඇන්තෝනියෝ යහලුවගේ උරහිසට අත තබා මෙසේ කීහ.." යහලුවා....මට නැතිවුනේ මට හීනෙන්වත් ආදරය කරලා නැති කෙල්ලෙක්...එහෙත් ඒ කෙල්ලට නැති වුනේ එයාට මේ ලෝකේ හැමදේටමත් වඩා ආදරේ කරපු කෙනෙක්....හිතින් මම මොකටද දුක් වෙන්නේ "

# චූ කතාව

සමහරක් ආදර කතා පටන් ගන්නේ වයස අවුරුදු 15දි 16දී වගේ..තවත් ඒවා ඊටත් පස්සේ...එහෙත් මගේ ආදරය පටන් ගත්තේ අවුරුදු 9දී..මමත් එයත් එකම වයස..අවුරුදු 9යි...

ඒක ආදරයද ආකර්ශනයද කියන්න මම දන්නේ නැහැ...කොහොම හරි මම එයාට ආදරය කලා..ඒ ආදරයත් පටන් ගත්තේ අපුරුම සිද්දියක් එක්ක...

මම කිව්වා වගේම එතකොට මගේ වයස අවුරුදු 9යි...මාගරීටා සබේ... මට එයාව මුනගැසුනේ මගේ මුල්ම පාසැලේදී ඒක මිශ්‍ර පාසලක්...කෙල්ලෝ කොල්ලෝ කියලා වෙනසක් තිබ්බේ නැහැ..අපි හැමෝම හිටියේ එකට...

පුංචි කාලේ ඔයා වැඩියෙන්ම බය කාටද ? හොල්මන් අවතාර වලට ? තාත්තට ? ලොකු සර්ට ... ඔබෙන් මම ඒ ප්‍රශ්නය අහද්දි ඔබට ඒ හැමදේම මතක් වෙයි...එහෙත් එක දෙයක් හැරෙන්න....
" කලිසමේ චූ යනවට "

ගොඩක් අය මතක් කරන්න අකමැති දෙයක්....ඒ නිසාම පොඩි කාලේ වැඩියෙන්ම බය මොනවටද කියලා ඇහැව්වම ගොඩක් අයට ඒක මතක් වෙන්නේ නැහැ....

කලිසමේ චූ යන එක කොයිතරම් භයානක දෙයක්ද කියලා දන්නේ කලිසමේ චූ කරගත්තු අයම විතරයි....ඒක බයක් , ලැජ්ජාවක්....ඒ හැමදේටමත් වඩා ලොකු මානසික වදයක්...

මටත් දවසක ඒ දේ වුනා....පංතියේ ඉදිද්දිම මට ඉබේම චූ ගිහින් ...මගේ කලිසම තෙත් වෙලා....මම දන්නේ නැහැ එහෙම වුනේ කොහොමද කියලා... මට තේරුනේවත් නැහැ...කලිසම ටිකෙන් ටික තෙත් වෙලා කකුල දිගේ චූ බේරෙනකොට තමයි මමත් දැනගත්තේ මට චූ යනවා කියලා...එහෙත් ඒ වෙද්දී හැමදේම වෙලා ඉවරයි....

එතකොට සේබේවයි මගේ චූ යන එකයි සම්බන්ද වෙන්නේ කොහොමද ? ඒක තමයි මේ කතාවෙන් කියන්න යන්නේ...

සේබේ ඒ වෙලාවේ හිදගෙන හිටියේ මගේ පුටුව ලගමයි...ඒකිට ලස්සන ලා කොල පාට ඇස් දෙකක් තිබුනා..ලා තබ පාට කොන්ඩයක් තිබුනා...පාසැලට ආපු මුල්ම දවසේ ඉදන් මම ඒ කෙල්ලට ආදරේ කලාද මන්දා...නැහැ.... සමහර වෙලාවට ආකර්ශනය වෙන්න ඇති...කොල පාට ඇස් දෙකට මම කොහොමත් ආසයි....තවමත්....

සෙබේට තිබුනු කැමැත්ත නිසාම මම එයා ලගින්ම හිදගන්න ඇති...එහෙත් ඒ කෙල්ල ඉස්සරහාම කලිසමේ චූ යයි කියලා මම හීනෙකින්වත් හිතුවේ නැහැ....සේබේ කොයිවෙලාවෙත් හරිම විමසිල්ලෙන් ඉන්න කෙල්ලෙක්...පන්තියේ සිද්ධ වෙන හැමදේම ඒකිට හොදට මීටර්...පුංචි වෙනසක් දැක්කත් සිද්දිය හරියටම හොයාගන්නකන් විනාඩි දෙක තුනක්ම එක දිගට බලාගෙන ඉන්නවා....ඉතින් මගේ කලිසමේ චූ ගිය එක ඒ කෙල්ල නොදැක හිදිවිද ...

මම ලැජ්ජාවෙන් ඇබරි ඇබරි හිටියා...මගේ පුටුවට පිටුපස්සෙන් තවත් ලමයි හිදගෙන ඉන්නවා..මම හිට ගත්තොත් හැමෝම ඒක දකිනවා...මට කරතියාගන්න දෙයක් තිබුනේ නැහැ.. චූ පොලව දිගේ ගලාගෙන පිටුපස්සට ගියොත් අනෙක් ලමයින් ඒක දකින්න පුලුම්වන්....කවුරු හරි දැක්කොත් විසුමක් වෙන්නේ නැහැ...හැමෝම විහිලු කරයි... කෙල්ලො ඉස්සරහා එහෙම විහිලු කලොත් මොනවා කරන්නද . මම කලිසම දිහා බැලුවා...කලිසම හොදටම තෙමිලා... අද නම් කොයෙත්ම ගැලවීමක් නැහැ...මගේ ඇස් දෙකෙන් කදුලු ආවා...

ටික වෙලාවකින් සේබේ නැගිටලා එලියට ගියා...එහෙත් එක්කම මම දැක්කා කොරිඩෝව දිගේ ටීච පන්තියට එනවා... මගෙ ඇස්දෙකෙන් කදුලු කඩා වැටුනා..මොකද මම දැනගෙන හිටියා ටීචට මාව අහුවෙන වින්තිය.... මම ඇඩුවේ බයට නෙමේ ලැජ්ජාවට...

එකපාරම සේබේ ලොකු වතුර කෝප්පයක් අරගෙන පන්තියට ආවා.... මම හිදගෙන හිටිය තැනම තාප්පේ උඩ පන්තියේ මල් පෝච්චි තිබුනා...සේබේ තමයි හැමදාමත් ඒකට වතුර දාන්න භාරව හිටියේ...මම හිතුවේ එයා මල් වලට වතුර දාන්න යනවා කියලා..එහෙත් නැහැ..වතුර කෝප්පය අරන් ඇවිත් ඒ කෙල්ල එක පාරටම ඒක මගේ ඩෙස්ක් එක උඩට හැලුවා... මගේ මුලු ඇගේම වතුර...මගේ ඇදුම් සේරම තෙමිලා ගියා...මම තෘෂ්නිම්භූත වෙලා සේබේ දිහා බැලුවා..ඒයා මුකුත් කිව්වේ නැහැ

...අර කොල පාට ඇස් දෙක ලොකු කරගෙන මගේ දිහා බලාගෙන හිටියා..

"මොනවද මේ ලමය මේ කරන්නේ" ටීච දුවගෙන ඇවිත් සේබේව පැත්තකට තල්ලු කලා.." බලන්න මේ ලමයගේ ඇගේ සේරම වතුර " ටීච මාව පෙන්නල සේබේට බැන්නා...

" මම මල් වලට වතුර දාන්න ටීච ගියේ " සේබේ හිමිහිට මිමිනුවා.

ටීච මාව තවත් ලමයි දෙන්නෙක් එක්ක බාත් රූම් එකට යැවුවා.... ටික වෙලාවකින් මට ඇඳගන්න අලුත් කලිසමකුයි සර්ට් එකකුයි ලැබුනා... තව මොනවද ...මට ඉතින් මාරම සතුටුයි.

ටීච ලමයින්ට කියලම පොලව පිහදලා දාන්නත් ඇති... එදා සේබේ මාව බේරුවා...මම ඒක හොදටම දන්නවා....එයා ඒක හිතාමතාමයි කලේ...එහෙත් පව් ඒ කෙල්ල..ටීචගෙන් හොදටම බැනුම් ඇහැව්වා...

එදා ඉඳන් මම සේබේට ගොඩක් ආදරේ කලා..සේබේ ගොඩක් නිහඬ කෙල්ලෙක්..එහෙත් හැම අවස්තාවකම කරන්න ඕනේ දේ එයා හොදටම දැනගෙන හිටියා...මොන දේ වුනත් එයා එයාට ඕන දේ කලා.ඒකී හරිම නිර්භීත කෙල්ලක්.. එහෙත් මට සෙබේව ලබාගන්න පුලුවන් වුනේ නැහැ... අපි උසස් පාසැලේදි වෙන්වුනා...

සේබේ දේශපාලනයට එකතු වුනා..අද එයා කොන්ග්‍රස්මන්ඩලයේ සාමාජිකාවක්....එහෙත් මම ....
මම වෙන කෙනෙක් එක්ක විවහා වුනා.. පලමු ආදරය අමතක කරන්න බැහැ කියනවනේ.... මටත් එහෙමයි..අදටත් මට සේබේව මතක් වෙනවා... මේ තමයි මගේ " වූ කතාව "

---

පසුවදන - " එහෙත් මට සේබේව ලබාගන්න හැකි වුනේ නැහැ.... අපි වෙන්වුනා.... ඊට පස්සේ මම වෙන කෙනෙක් එක්ක විවහා වුනා..එහෙත් අදටත් මට සේබෙව මතක් වෙනවා...මේක ලියන මේ මොහොතෙත් ...

# ජීවිතයම ගිනියම් කල මගේ අනියම් ප්‍රේමය

මට අනියම් සම්බන්දයක් ඇත...
ගැහැනියක් තුල චපල ගැහැනියක් ජීවත්වෙනවා වගේම පිරිමියා තුලත් චපල පිරිමියෙකු ජීවත් වෙයි..තමා විසින්ම ගොඩනගා ගත් මනංකල්පිත ලෝකයක සිරවී සිටින මේ චපල පිරිමියා හෝ ගැහැනිය කසාදයෙන් පසුව කිසියම් හෝ දවසක එලියට පැමිනෙනු ඇත..එදිනට කුමකින් කුමක් සිදුවේදැයි දන්නේ දෙවියන් පමනකි...සමහරුන් කසාදය කටු ගා ගනිති තවත් සමහරු යාන්තමින් එය රැකගනියි...
එහෙත් මට සිදුවුනේ ඊට හාත්පසින්ම වෙනස් දෙයකි.

ස්කාර්ලට් සොෆි - මම ඇයට සොෆි යැයි ආදරයට ඇමතීමට පුරුදුව සිටියෙමි...මගේ බිරිදත් ඇයත් කාලයක් ඇමෙරිකානු තානාපති සේවයෙහි නියුක්ත විය..ඇය මුලින් මගේ බිරිදගේ යහලුවෙකු වුවත් පසුව මගෙත් යහලුවෙකු බවට පත්විය.තඹ පැහැ කොන්ඩයකුත් තද කොල පැහැ ඇස් දෙකකුත් ඇයට විය...කොටින්ම මගේ බිරිදත් ඇයවත් එකට තැබූ විට ඔහුන් දෙදෙනා අතර ලොකු වෙනසක් නොතිබින..දෙදෙනාටම තිබුනේ එකම රූපකායකි...ඒ තරමටම ඔහුන් දෙදෙනා එකිනෙකාට සමාන විය...මගේ බිරිදගේ රූපයම ඇති තවත් කෙනෙකුට ආදරය කිරීමට මා කිසිම විටෙක නොසිතුවෙමි...බොහෝමයක් පිරිමින් අනියම් සම්බන්දයක පැටලෙහි නම් ඒ තමන්ගේ බිරිදට වඩා හාත්පසින්ම වෙනස් රූපයකින් සහා ගතිගුන වලින් යුක්ත කෙනෙකු සමගය....එහෙත් මා එසේ නොවිමි...

මගේ බිරිදගේ සහෝදරයෙකු අර්ජුන් වල විසීය...ඒ නිසාම අපි නිතර නිතරම එහි යන්න එන්නට පුරුදු වී සිටියෙමි. කදු දෙකක් මැදි කොට ගෙන පිහිටා තිබු එම විශාල නගරය මගේ සිත මන්මත් කල අපුරු ස්තානයක් විය... ඊටත් වඩා මගේ සිත පිනවූ තවත් දෙයක් එහි විය...සොෆී.... ඇය ජීවත් වූයේ එහිය... ඒ නිසාම මමත් මගේ බිරිදත්

අර්ජූත් යන සෑම විටකම මගේ බිරිදට බොරුවක් ගොතා ඇයව බලන්නට යාමට මා පුරුදුවී සිටියෙමි...

ඇයත් මගේ බිරිදත් මිතුරියන්ව සිටි බව මා ඔබට කියන්නට ඇත..මාත් සමග සම්බන්දය පටන් ගත් පසුව සොෆි කෙමෙන් කෙමෙන් මගේ බිරිදත් සමග ඇති ආශ්‍රය නතර කලාය...ඒ ඇයිදැයි මා අද වනතුරුත් දන්නේ නැත. ඇය අවංකය..ඒ නිසාම මගේ බිරිද ඉදිරියේ බොරු මවා පෑමක් කිරිමට ඇයට නොහැකි බව ඇයට හැගෙන්නට ඇති බව මා විශ්වාස කරමි...කෙසේ හෝ ඇයත් මාත් අතර ඇති සම්බන්දය ගැන මගේ බිරිද හාන්කවින්සියක්වත් දැනගෙන නොසිටියාය.එය කොයි තරම් සූක්ශම ලෙස අප දෙදෙනා කලේද යත් මගේ බිරිදට මම වෙනත් ගැහැනියක සමග ඇති සම්බන්දයක් ගැන අංශූ මාත්‍රයකවත් සැකයක් නොවීය...

මාස ගනන් ගත විය...මගෙත් සොෆිගේත් අවසානයක් නොපෙනෙන ආදරයද ඒ මාස ගාන තුල මුදුනටම නැගී තිබින.එලබෙන සති අන්තයේ අපි අර්ජූත් යාමට තීරනය කරගෙන සිටියෙමු..මමත් මගේ බිරිදත් ඊට අවශය කලමනා හසුරවිමින් සිටියමු...

" රත්තරන් .. මේ පාරනම් අර්ජූත් ගිහින් දවසකට වඩා ඉන්න බැහැ " ඉරිදට තානාතිපති කාර්යාලයේ උත්සවයක් තියෙනවා..මම ඒකට ඉන්නම ඕනේ..ඒ නිසා අපි ඉරිදා උදෙන්ම එමු " මගේ බිරිද කීවාය...
" ඔව් අපි ඉක්මනට එමු " මා පැවසුවෙමි..
එදින රාත්‍රීයේම ඇය නින්දට ගිය පසු සොෆීට පනිවිඩයක් යැවූ මා සෙනසුරාදාට අර්ජූත් එන බව ඇයට පැවසුවෙමි..ඇය එහින් බොහෝ සෙයින් සතුටට පත් වූවාය...

මා අර්ජූත් යන සෑම විටම සොෆී සමග නිතරම යන එන කුඩා තානායමක් තිබින...ඇයත් සමග එම තානායමේ පැයගනනක් ගත කිරීම මා පුරුද්දක් ලෙස කලෙමි...මේ සෙනසුරාදාටත් පැය 4ක කාලයකට මම තානායමේ කාමරයක් වෙන් කර ගත යුතුය.... මෙවර අපි හමුවන්නේ සති කිහිපයකට පසුව බැවින් වැඩි වෙලාවක් ඇයත් සමග ගත කිරීමට ලැබුනොත් එය හොදය...එදින රාත්‍රිය පුරාවටම මට ඇයව මතක් වන්නට විය...එයින් මා මහත් වූ ආශ්වාදයක් ලදිමි..

මේ කියන්නට යන සිද්දිය සිදුවුයේ මේ ගමන අතරතුරදීය...කතා කරගත් පරිදිම මමත් මගෙ බිරිදත් සෙනසුරාදා උදැසනම අර්ජූත් ගියෙමු.එදින සවස මමත් සොෆිත් මුනගැසීමට වෙලාව වෙන් කරගෙන සිටියත් සොෆි තානායමට නොපැමිනියාය..ඒ වෙනුවට මගේ දූරකතනයට කෙටි පනිවිඩයක් තැබු ඇය " අද එන්නට වෙන්නේ නැති " බව පවසා සිටියාය...

මෙය සති අන්තය ගත කිරීමට මා සැලසුම් කර සියල්ලම කඩා කප්පල් කර දමන්නක් විය.සති අන්තයේ මගේ බලාපොරොත්තු සියල්ලම බිදිගොස් ඇත.මා පශ්චාත්තාපව කල්පනා කරමින් සිටියෙමි..

මගේ බිරිද එය දුටුවාය.මගේ ලගට පැමිනි ඇය
" ඇයිදැයි ඇසීය"
"නැහැ මුකුත් නැහැ" මම කීවෙමි..
"මුකුත් නැති වෙන්න බැහැ " මගේ බිරිද මගේ ලගටම විත් හිදගත්තාය.
ඇය මගේ මුහුන දෙසම බලාගෙන මගෙන් පිලිතුරක් ලැබෙන තෙක් සිටියාය...එය මගේ සිත වික්ෂිප්ත කෙරුවක් විය...ඇයට කුමක් හෝ කියා එය මග හැරිය යුතු බව මා තීරනය කලේ එවිටය..

" හරියට ඔලුව රිදෙනවා " පැත්තට බරවෙමින් මම කීවෙමි..
ඇය මගේ හිසට අත තබා බැලීය...ඇයගේ මුහුන මොහොතකින් මැලවී ගියාය..
" අනේ රත්තරන් සමාවෙන්න ... ඔයාව මහන්සි කෙරුවට " " පැය ගානක් එක දිගට වහානය එලවලා ඔයාට මහන්සි ඇති.... "
ඇය මගේ හිස හීන් සීරුවේ පිරිමදින ගමන් පැවසීය... ඉන්න මම නෙමිසීන් එකක් දෙන්න ... ඒක බිව්වම ඔය හිසේ අමාරුව මග හැරිලා යයි.... ඇය මගේ හිස දැතින්ම බදාගෙන මගේ නලලට හාද්දක් දුන්නාය... මගේ දෑසට කදුලු නොනැගුනා පමනකී..ඒ හාද්දට මුලු හදවතම තෙත්වී ගියේය..

මා ඇයට කෙරූ රැවටීම කොයිතරම් චපල එකක්දැයි මට තේරින....ඇය ගෙනා බෙහෙත් වතුර එක බීව මම ඇය කියූ පරිද්දෙන්ම මොහොතකට පුටුවේ ඇලවින...එදින දවසම අසනීප කාරයෙකු සේ ගත කරන්නට මට සිදුවිය....එය එසේය... නැතහොත් ඇය මාව සැක කරන්නට ඉඩ තිබින... කාන්තාවට සැමියාගේ සුලු වෙනස් කමක් වුවද දැනෙයි... ඔහුවූ ඒ තරම් සියුම්ය දක්ෂය.... එහෙයින් මේ රගපැම හෙට වෙන තෙක්ම කිරීමට මා සිතා ගත්තෙමී.... හෙට උදැසනම අවදිවන විට මගේ බිරිද අසන මුල්ම ප්‍රශ්නය වනුයේ " ඔයාට සනීපද " යන්නයි..මා ඇයව ඒ තරමම හොදින් දනිමී..එවිට " අද මට සනීපයි " යැයි පවසා මේ බොරුවෙන් මිදීමට හැක...

එහෙත් ඉරිදා උදැසන අවදිවන විට දුරකතනයේ තිබු පනිවිඩයත් සමග ඒ සියල්ලම ඒ සියල්ලම කනපිට හැරින...
" අද හවස හමුවෙමුද " සොෆී අසා තිබින...

මා දෙවරක් නොසිතුවෙමි...ඇයත් සමග තානායමේ ගත කරන හෝරා කිහිපය මගේ මුලු මාසයම ප්‍රබෝදමත් කරන්නක් විය...ඇයගෙන් ලැබෙන පහස මගේ බිරිඳ ඉදිරියේ මාව චපලයෙකු කලත් එහින් දුන් ආස්වාදය ඒ සිතුවිලි මකා දැමීය....

තානායම තුල ඇයත් මාත් ලිංගිකව එකතුවෙන හැටි මගේ මනසේ චිත්‍රයක් මෙන් ඇඳී ගියේය ..
" අනිවාර්යෙන්ම " මැ ඇයට පිලිතුරු පනිවිඩයක් යැව්මි...
එහෙත් සමගම මගේ බිරිඳ අවදි විය...

ජනේලයෙන් වැටුනු සූර්යාලෝකය කුඩා රැලි මෙන් අපේ ඇදමතට වැටී ඇත...ඒ අලෝකය මගේ බිරිදගේ මුහුනට අපූරු සුන්දරත්වයක් ලබාදින.හිරු එලියෙන් ඇයගේ කොලපාට දැස දිලිසින.. එය ඇයගේ දෑසට අමුතුම චමත්කාරයක් එක් කලේය..
මම අවදිවී සිටිනු දුටු ඇය මට උදෑසන හාදුව දුන්නාය.
" කොහොමද රත්තරන් දැන් සනිපද " ඇය ඇසුවාය.ඇයගේ සුන්දරත්වයත් ආදරයත් අතර අතරමන් වූ මගේ සිතුවිලි වලට ඇයගේ එම ප්‍රශ්නයත් සමගම සොෆිව යලිත් මතකයට ආහ.. ...මගේ සිරැර හරහා තැවරී ඉහලටත් පහලටත් යමින් ආලිංගනයේ යෙදෙන සොෆිගේ ශරීර උනුසුමෙහි මා මොහොතකට අතරමන් විය... මගේ බිරිද මගේ ලග ඉන්නා බවවත් මට නිනච්චක් නොවීය...මා ඒ තරමටම ඒ සිතුවිලි වල කිදාබැස තිබින...
"රත්තරන් " මගේ බිරිද මගේ දෑසට එබී බැලිය....
" හා " මා ඇසුවෙමි...
" ඔයාට කොහොමද " ඇය යලිත් ඇසීය.ඇයට දිය යුතු පිලිතුර මට ප්‍රතයක්ෂ විය.... සොෆිව අද හමු වීමටනම් මා මෙහි නැවතිය යුතුය..එයට ඇත්තේ එකම එක ක්‍රමයකි... මේ රගපැම තවදුරටත් ඇදගෙන යා යුතුය....
" අද නම් සැහෙන්න හිසේ කැක්කුමයි" හිස අල්වාගෙන මා පැවසුවෙමි...අපිට සුදානම් වී අර්ජුත් වලින් පිටවීමට තිබුනේ පැය කිහිපයක කාලයක් පමනී.... මගේ බිරිද මගේ පපුවට හිස තබාගෙන කල්පනා කලාය....
" ඔයා එහෙනම් අද මෙහේ ඉන්න ...මම බස් එකේ යන්නම්...අසනීපයෙන් ඔයාට ඩ්‍රයිව් කරන්නත් බැහැනේ" ඇය කීවාය...
"හ්ම් " මම මිමිනුවෙමි...

මා ඇයව බස් නැවතුමට ගෙන ගියෙමී..යලිත් නගරයට යැමට පිටවන මොහොතේ ඇය මාව වැලද ගත්තාය.

"ඔයා හොඳට විවේක ගන්න ඕනේ, මම කිව්ව විදියටම කලානම් හෙට උදේට ඔයාට හොඳටම සනීප වෙවී. මට සමාවෙන්න රත්තරන් අද ඔෆිස් එකේ වැඩ නැත්නම් මම ඔයත් එක්කම ඉන්නවා "
ඇය කීවාය.ඇයගේ කොලපැහැ දෙනෙත් දිල්සින.මා හට දිගු හාද්දක් දුන් ඇය බසයට නැංගාය.
එය ඇය මට දෙන අවසන් හාදුව යැයි මම කිසිම දිනෙක නොසිතුවෙමි.

එහින් පැයකට පමන පසු මට දුරකතන ඇමතුමක් ලැබින...මගේ බිරිඳ ගමන් කල බසය අනතුරකට ලක්වී ඇති බව පමනක් එහින් කියවින...මා රෝහලට දිව ගියෙමි...එහිදී පොලිසියේ කෙනෙකු බසයෙන් අනතුරට ලක්වූවන්ගේ මලසිරුර දමා තිබූ කාමරයකට මාව රැගෙන ගියේය...ඇයගේ නිසල දේහයත් එහි විය.... මා එය හඳුනා ගතිමි....

මේ සිද්දියෙන් පසුව මගේ ජීවිතය එහෙම් පිටින්ම කනපිට හැරින.යලිත් කිසිම දිනෙක සොෆිව මුනගැසීමට මා නොගියෙමි.මගේ බිරිඳගේ මරනයට මා මටම දෝස් පවරවා ගතිමි.එදා මා විසින් ගත් බොරු හිසේ කැක්කුමටත්,සොෆිගේ ආලිංගන සිහිනයටත් මා මටම වෛර කෙරුවෙමි..මම මටම අනේක වාරයක් ශාප කර ගත්තෙමි...

මට ඇයව යලිත් ගෙන යාමට හැකියාව තිබියදීත් මා අමනයෙකු විය. කාමය මාව තිරිසෙනෙකු කලේය...මගේ බොරුව ඒ රත්තරං කාරුනික හදවත හිස මුදුනින්ම පිලිගත්තාය...අවසන් මොහොතේ පවා ඇය මා ගැන සිතන්නට ඇත...මට ඉක්මනට සනීප වෙන්න යැයි ඇය ප්‍රාර්ථනා කරන්නට ඇත..මා සනිප වී ඇත්දැයි ඇය තවමත් එලොව සිට සොයනවා විය යුතුය....එහෙත් මේ සියල්ලම මා විසින් කල බොරුවක් බැව් දැනගත් විට ඇය එය කෙලෙස දරා ගනු ඇත්ද ?
එකම එක බොරුවකින් මා ඇයව සදහටම මරා දැම්මේය...එහෙත් ඒ බොරුව දිනපතාම සැම මොහොතක්ම මාව මරාදමයි...අදටත් මම මටම ශාප කරගන්නෙමි...සිදුවුනු සැම දෙයකටම මා මටම වෛර කරමී..

---

පසුවදන - පසුගිය සතියේ මමයි බිරිඳයි ටුවර් එකක් යනවා...කතාවේ කියනවා වගේම වැනඩ්සෝර් වල තියෙන අර්ජුත් කියන ලස්සන පලාතකට.. කොහොම හරි ගිහින් එන දවසේ මට හදීසී මැසේජ් එකක් එනවා..ඒ මැසේජ් එක නිසාම මම තව දවසක් ඉන්න තීරනය කරනවා..එහෙත් වයිෆ්ගේ වැඩත් එක්ක වයිෆ් ගෙදර යනවා...ආයෙත් එද්දි වයිෆ්ව තනියෙම යැව්ව එක ගැන එන වේදනාවත් එක්ක මම මේ ෆැන්ටසිය ලියනවා.

# සංසානා ගමේ ආරවුල

සර්බියාවේ තියෙන සංසානා කියන ගමේ ජීවත් වුනා එමිලී සහා රීනා කියලා පුංචි ගැහැනු ලමයින් දෙන්නෙක්.දවසක් මේ දෙන්නා එලියේ සෙල්ලන් කර කර ඉදිද්දී එමිලිගේ කකුලේ පැටලිලා රීනාව වැටුනා.රීනා හිතුවේ එමිලින් ඒක ඕන කමින්ම කලා කියලා.රිනා මහ හයියෙන් කැගහලා ඇඩුවා.රීනාගේ කැගැහිල්ල ඇහිලා එයාගේ අම්මත් දුවගෙන එතනට ආවා.

රීනාගේ අම්මා තමයි සංසානා ගමේ හිටිය රංඩු කෙක්ක.එමිලීන් රීනාව ඕනැකමින්ම තල්ලු කලා කියලා රීනාගේ අම්මා ඒ කෙල්ලට හොදටම බනින්න පටන්ගත්තා.මේක ඇහුන එමිලින්ගේ අම්මත් එතනට ආවා.තමන්ගේ කෙල්ලට ගමේ ඉන්න රන්ඩු කෙක්ක දෙස්තියනවා දැක්ක එමිලිනේ අම්මට යකා ආවේශ වුනා...
" මොකද ගැහැනියේ මගේ දුවට බනින්නේ... මගේ කෙල්ල උබේ එකීව වැට්ටුවේ නැහැ උබේ එකී නිකන්ම වැටිලා මිසක් "

තමන්ගේ ගැහැනු දෙන්න ගම් මැද්දේ රංඩු වෙනවා දැකපු දෙන්නගේ සැමියන් දෙන්නත් මෙතැනට ආවා.ගැහැනු දෙන්නගේ රංඩුව බේරනවා වෙනුවට පිරිමින් දෙන්නත් කලේ එකිනෙකා එක්ක මරා ගන්න එක.ටික වෙලාවකින් මේ දෙන්නගේ යහලුවනුත් නෑදැයෝත් එතනට ඇවිත් පිල් දෙකකට බෙදිලා ගහගත්හා...

මේක ටික වෙලාවකින්ම මහා දරුනු ආරවුලක් බවට පත් වුනා විතරක් නෙමෙයි දෙපැත්තෙම ඇයෝ ගෙවල් කුඩු කරමින් , ගිනිබත් කරමින් එකිනෙකාගේ හයිරන් පෙන්නන්න පටන් ගත්තා...

මේ සේරම දේවල් මේ විදියට සිද්ද වෙන අතරේ පුංචි එමිලීන්, රීනා ලගට ගියා.
"එන්න අපි සෙල්ලන් කරමු "
රීනාගේ ඇස්දෙකේ තිබුනු කදුලු නිකන්ම නැතිවෙලා ගිහින් එයාගේ මුහුනට ලස්සන සිනහවක් ආවා.
"හා " ඇය කදුලු පියදාගෙන එමිලින්ගේ අත අල්ලගෙන ආයෙත් සෙල්ලන් කරන්න පටන් ගත්තා..

තවමත් ගමේ අය මරාගන්නවා...

# අමුතුම ආදර කතාවක්

(මෙය සත්‍ය කතාවක් ආශ්‍රයෙන් නිර්මානය කරන ලද කෙටිකතාවකි)

දින දෙකකටත් වඩා කාලයක් නොනැවති ඇද වැටුනු හිම වර්ෂාව තව දින ගනනාවකටම නොනැවති හැද හැලෙනු ඇත.හලාබ්යන් උදයානයේ කුඩා කොලු කෙල්ලන් හිම බෝට්ටු සෙල්ලම් කරයි...ඔහුන්ට හිම වරුෂාව ගැන ගානක්වත් නැත... හිමෙන් පිරුනු පොලෝ තලයත් රාත්‍රී විදුලි පහන් ආලෝකයත් එකතු වුනු විට එහි අමුතුම සුන්දරත්වයක් ඇත.... එහෙත් සැම් ඒ කිසිවක් ගැන තැකීමක් කලේ නැත.. වෙරිමතින්ම හලාබ්යාන් උදයානයේ තිබු පටු මාවත දිගේ පැමිනි සැම්, තුමෝ හන්දියෙන් හැරී හලාබ්යන් පාලම දෙසට එන්නට විය...

හලාබ්යන් පාලමට තවත් මීටර් 200ක් පමන ඇත.තම කෝට් සාක්කුවෙන් වොඩ්කා බෝතලය යලිත් එලියට ගත් ඔහු ඉතිරිව තිබූ සියල්ලම එක් වරම කටට හලා ගත්තේය...ඒ පැයක් තිස්සේ ඔහු අවසන් කල දෙවැනි බෝතලයයි...උදයානය තුලින් ඇසෙන ලමයින්ගේ සිනහව ඔහුගේ මනසේ දෙදුරුම් දුන්නේය..හලාබ්යන් උද්යානයේම යහලුවන් සමග හිම බෝට්ටු සෙල්ලම් කල අතීතයක් ඔහුටත් තිබින. ඔහුගේ යහලුවන් සියල්ලම දැන් විවහා වී ඔහුන්ට දරුවන්ද ඇත.
එහෙත් තමන් තවමත් එතැනය.විවහයක් නැත,දරුවන් නැත.පීයෙක් නැත, නැදැයන් සියල්ලම වෙනස් වී ඇත..ඔහු සමග සිටියේ ඔහුගේ මව පමනකී..ඇයගේ භූමිදානයත් අද සිදු විය..

තනිකම යනු ලොව දරුනුම වේදනාව බව එය අත්විදින තුරු කිසිවෙකුත් දන්නේ නැත...ඒ වේදනාව සැම්ට දැනින...

හලාබ්යන් මාවත තනිකරම හිමෙන් වැසී තිබුනෙන් වැඩිපුර වාහන නොවීය..හිම වර්ෂාව අවසන් වන තුරු සියල්ලම නිවෙස්වල හිරවී ඇත..වෙලාව රාත්‍රී 7 හමාර පමනක් වී තිබුනත් මුලු හලාබ්යන්

මාවතම හිස් වූ ස්වරූපයක් ගත්තේය...හලාබියන් පාලමට ඇත්තේ තවත් කෙටි දුරකී.

සැම්ගේ තාත්තා ඔහුගේ අම්මාව අතහැර වෙනත් ගැනියෙකු සමග ගියේ ඔහු කුඩාකාලයේදීමය...එහෙහින් ඔහුන්ට හලාබියන් වල කුඩා කාමරයක් තුල පදිංචියට ඒමට සිදුවිය..පසුගිය වසර කිහිපය තුලම ඔහුට හරි හැටි රැකියාවක් කිරීමට නොලැබින ...මවගේ ඔත්පල වීම නිසා ඔහුට ඇයව රැකබලාගැනීමට සිදුවිය,ඔහු එම කාලයේදී රැකියාවන් කිහිපයක්ම කලත් ඒ හැම එකකින්ම ඔහුව ඉවතට විසිවූයෙන් ඔහුගේ ආර්ථිකය අන්තිම බින්දුවටම වැටින...

මවගේ බෙහෙත් වියදමත් නිවාස කුලියත් පියවීමට ඔහු අතර වටේටම ණය විය..දැන් ඒ සියල්ලම හිස්මුදුනටම විත් ඇත...මෙතෙක් කල් කුලියට සිටි නිවසෙනුත් ඔහුව මහපාරටම ඇද වැටී ඇත...ඔහුගේ මවත් මේ ලෝකය අතහැර සදහටම නික්ම ගොස් ඇත..ඔහුගේ දැස් කඳුලින් තෙත්වී ගියේය..තම කටුක අතීතයේ එකින් එක ඔහුට සිහිපත් විය..එහි දුකම වීනා සතුටින් සිටි දවසක් ඔහුට සොයාගැනීමටත් නොහැක..අහසේ ඇදෙන විදුලි සැර මෙන් ඔහුගේ මනස පශ්චාත්තාපයෙන් වැසී ගියේය..ඔහුව කිහිපවරක්ම හලාබියන් පාරේ ඇද වැටින..ඔහුට ඇවිදිය නොහැක.. හිම තුලට කිඳා බසින පය ඔහු යලිත් ඉවතට ගත්තේ හිතාමත් අසීරුවෙනි..මාවත් හිස්ව ඇත,එහෙයින් බීමත්ව වැටෙමින් ඇවිදින සැමුවෙල්ව කිසිවෙකු හෝ දැක්කායැයි සිතිය නොහැක..ඔහු අවසානයේදී හලාබියාන් පාලම වෙත පැමිනියේය..

හලාබියන් පාලම පිටතින් සිට බැලුව් විට එය අපූරුම රූපරාමු මවන්නෙකි..එහෙත් එය මත සිටගෙන පහත බැලූ කෙනෙකුට එය කොයිතරම් හයානක නිර්මානයක්දැයි වැටහෙනු ඇත...එහින් පහත ඇත්තේ ගැඹුරු හෙලකී...අඩී ගනනක පෙනෙන නොපෙනෙන මානයක ගැඹුරින් කුඩා දියපාරක් ගලා ගිය අතර පාලමේ බඳය සම්පූර්නයෙන්ම තනි යකඩයෙන් නිර්මානය කොට තිබින...පාලම හරහට උස යකඩ ආරුක්කුවක් බැඳ ඇත්තේ එය හරහා ගමන් කරන මිනිස්සුන්ගේම යහපත වෙනුවෙනි.. සැම් එම යකඩ වැට දැතින්ම අල්ලා පහත බැලීය..ඔහුගේ දෑසින් කඳුලු ඇද වැටින.

තම ජිවිතය මේ අකාරයෙන් නිම කරගැනීමට සිදුවේයැයි ඔහු කිසිම දිනෙක සිතුවේ නැත.. එහෙත් එය දැන් සිදුවෙන්නට යන්නේය..ඔහු හිස ඔසවා අඳුරු ආකාශය දෙස බැලීය..
" නිකන්ම මැරිලා යන්න ඇයි මාව මේ ලෝකෙට ගෙනාවේ දෙය්යනේ " ඔහු ආකාශය දිහා බලාගෙන කෑගැසීය....එහෙත් එය දෙවියන්ට ඇසේදැයි සැක සහිතය...එය එසේනම් මෙතෙක් කල් ඔහු දෙවියන්ගෙන් ඉල්ලූ දේවල්ද දෙවියන්ට ඇසිය යුතුය... "

ඔහුගේ මනස සම්පූර්නයෙන්ම හිස්ව ගොස් ඇත.පාලමෙන් පහල ඇති ගැඹුරු හෙල දිහා බලාගෙන ඔහු සිනාසින..

" අම්මේ මම එනවා....මේ කාලකන්නී ලෝකයෙන් මම සදහටම එනවා " කියූ ඔහු පාලමේ බැම්ම අල්ලා එක් පාදයක් යාන්තමින් ඒ මත තැබීය..
වොඩ්කා ඔහුගේ මුලු සිරුරෙම වැඩ කරමින් ඇත..තම ශරීරයවත් හරි හැටි සෙලවීමට නොහැකි වන ලෙස එය ඔහුව අඩපන කොට ඇත.එහෙත් ඔහුගේ මනසේ දැවුනු වේදනාව ඒ සියල්ලම යටපත් කරගෙන නැගී ආහ..
තවත් තත්පරයකින් ඔහුගේ ජීවිතය අවසන් වනු ඇත.ඔහු අනෙක් කකුලත් ඔසවා බැම්ම මත තබා එහි කුඩා බැම්මේ වාරුවෙන් හිදගෙන ගැඹුරින් පේන අන්ධකාර හෙල දෙස බැලීය.මාරයා අන්ධකාරයේ ගිලී ඇත.පාලමෙහි රදවා සිටි දෑත ඉවතට ගත් ඔහු දෑස වසාගත්තේ ඊලග ක්ෂනිකයින් සිදුවන්නට යන දේ දත් නිසාවෙනි... ඔහු යාන්තමින් තම සිරුර බුරුල් කොට බැම්මෙන් පහතට නැඹුරු විය....

එහෙත් එක්වරම කිසිවෙකු හෝ පිටුපසින් ඔහුව ඉවතට අදින අයුරු ඔහුට දැනින... ඔහුව හිම ගොඩ මතට ඇද වැටින...
" පිස්සෙක්ද මැරෙන්න යන්නේ " ඔහු යාන්තමට ඇස් දෙක ඔසවා බැලීය...ඔහු දුටුවේ කාන්තා රූපයකී ...ඔහුට මතක එපමනකී..හිම මතම ඔහුගේ දෑස වැසී ගියේය...

ඊලග දින ඔහු අවදි වුයේ කොයේදැයි ඔහුවත් දැනගෙන සිටියේ නැත...තමා මියගොස් ඇත්දැයි සිතූ ඔහු එය හරියටම දැනගැනීමට වට පිට බැලීය.ඔහුගේ හිස තවමත් වොඩ්කා මතින් නිදහස් වී නැත..එක්වරම කාමරයේ දොර විවර විය.රෝස පැහැ ගවුමක් ඇදගත් කාන්තාවක් එහින් ඇතුලට පැමිනියාය...

"හා නැගිට්ටද " තම අතවූ කෝපි කොප්පය සැමි අත තැබූ ඇය ඇදෙහි කොනක හිදගත්තාය...
" මම ස්ටෙලා " ඇය පැවසුවාය...

අපේ කතාවේ ආදරවන්තයින්ගේ හමුවීම නිල වශයෙන් සිදුවන්නේ මේ ආකාරයෙනි..
මෙය ආරම්භය පමනකී.එම හමුවීමෙන් පසුව ඔහුන් එකිනෙකාට ආදරය කරන්නට පටන් ගත්තෝය...පසුකාලීනව ඔහුන් විවහා විය.ඔහුන්ට දරුවන් දෙදෙනෙකුද ලැබින. සැමිගේ නය පියවීමට ස්ටෙලා ඔහුට උදව් කලාය. ස්ටෙලා නිසාම සැමිට ජීවත්වීමට නිවසක් ලැබින...ඔහුන් සම්පූර්න පවුලක් ලෙස ජීවත්විය.. තවමත් ජීවත්වෙමින් සිටින්නෝය..

ස්ටෙලා පැවසූ විදියට ඇය එදින හලාබ්යාන් පාලම වෙත ගියේ අහම්බෙනි.එහෙත් එහින් සියදිවි නසාගැනීමට උත්සහා කල කෙනෙකුව බේරාගැනීමට හැකිවේයැයි ඇය සිහිනෙකින්වත් සිතා නැත...ඒ කොහොම වෙතත් එම හමුවීම ආදරයක් දක්වා දුරදිග යාවී ඇය කොහෙත්ම නොසිතුවාය...

දිනක් ඔහුන්ගේ 10 වෙනි විවහා සන්වත්සර දින සැම් ඇයව රාත්‍රී ආහාරය සඳහා ගෙන ගියේය..එය හිතාමත් විශේෂිත වූ තැනකී. සැම් එම හෝටලයේ බැල්කනියේ මේසයක් ඔහුන්ගේ විවහා සංවත්සර රාත්‍රීය වෙනුවෙන් වෙන් කොට තිබින..එතැන් සිට බැලූ විට සන්දන්ත යෝධයෙකු මෙන් නැගී සිටින හලාබ්යන් පාලම ඈතින් පෙනෙයි..

එය අපූරුම චිත්‍රයකි. සැම් ඇයව මෙතනට ගෙන ආවේ ඇයිදැයි ස්ටෙලා හොදාකාරවම දත්තාය... එය ඔහුන් දෙදෙනාගේ සුන්දර ජීවිතයේ ආරම්භයයි. කොටින්ම හැමදෙයක්ම පටන් ගත් අපූරුම තැන එය විය...
ස්ටෙලා සැම් දෙස ගැඹුරු බැල්මක් හෙලුවාය.... ඈතින් පෙනෙන හලාබ්යන් පාලමත් සැම්ගේ දෙනෙතත් බැලූ ඇය ඔහුගේ දෑත ඇයගේ දෑත මත රදවාගත්තාය...ඇයගේ දෑසින් කඳුලු බිඳක් කඩාගෙන විත් එය පොලොවට වැටින..
" සැම් ඔයාට මෙච්චර කාලයක් නොකීව දෙයක් මම කියන්නද "
" මොකක්ද සෙටෙලා " සැම් ඇසුවේය...
"මම පාලමට ආවේ අහම්බෙන් නෙමෙයි "
"එහෙනම් "
"මමත් ආවේ මැරෙන්න හිතාගෙන " ඇය කීවාය....

---

පසුවදන - මෙය සත්‍ය කතාවක් ආශ්‍රයෙන් නිර්මානය කරන ලද කෙටිකතාවක් දරුවන් දෙදෙනෙකුද සමග මොහුන් අදටත් සතුටින් ජීවත්වෙනවා.කාලයත් එක්ක ජීවිතයේ තියෙන ගොඩක් ප්‍රශ්න විසදෙනවා.ඔබේ ජීවිතයෙත් ප්‍රශ්න ඇති.ඒක අපි හැමෝටම උරුම දෙයක්.. කිසිම දවසක ප්‍රශ්න විසදන්න හිතාගෙන ජීවිතයට හානියක් කරගන්න එපා.සැම් එදා මියගියානම් අද ඔහුට ස්ටෙලාවත් , දරුවන්වත් නැහැ.අද ඔබේ ජීවිතයේ නැති සතුට කවදාහරි දවසක ඔබට ලැබේවි.එතෙක් කාලයට ඉඩදෙන්න.

# අපේ දික්කසාදය

මමත් මැගීත් විවහා වෙලා අවුරුදු 10ක් වෙනවා.. අපිට අවුරුදු 3ක පුංචි පුතෙක් හිටියා...එහෙත් විවහා වෙලා අවුරුදු 10 කින් පස්සේ අපේ ජීවිතේ හැමදේම වෙනස් වෙන්නට ගත්තා....
ලුසී ස්කාර්ලට් මගේ ජිවිතේට ආවේ ඒ කාලෙදි....

ලුසිගේ ආදරයත් එක්ක හැමදේම වෙනස් වුනා...මැගිගෙන් මම ටිකෙන් ටික දුරස් වෙන්න ගත්තා...එයත් එක්ක එකට නිදියගත්තත් ඉස්සර වගේ එයාව තුරුල් කරගත්තේ නැහැ....අපි පුරුද්දක් විදියට ගෙදරින් එලියට යද්දි එකිනෙකාට හාද්දක් දෙනවා....මම ඒකත් මග හැරියා... එයා දිහා ආදරයෙන් බලන්නවත් මම උත්සහා කලේ නැහැ...මේ වෙනස් කම් හැමදෙයක්ම මැගීටත් තේරෙන්නට ඇති...

"තිශ්‍රාන් ... ඔයාට යන්න ඕනෙනම් යන්න....එහෙත් මට මේ තරම් දුක් දෙන්න එපා....ඔයා වෙනස් වෙනවා දරාගෙන ඉන්න මට බැහැ " ඇය මට කිව්වා ... මැගී එහෙම කියන්න ඇත්තේ බලාගෙන හිදලා බැරිම තැන වෙන්න ඇති.
මම දික්කසාදයට ලෑස්ති වුනා....මගේ වත්කම් වලින් භාගයක්ම මැගීටයි දරුවටයි ලිව්වා...මම දික්කසාද කොලේ මැගිගේ අතට දුන්න දවසේ එයා ඒක කෑලී වලට ඉරලා විසිකරලා දැම්මා....
"ඔයා දන්නවා තිශ්‍රාන්...මට ඔයාගේ කිසිම දෙයක් ඕනේ නැහැ.... ඔයා දරුවව බලාගන්න මට ඒ ඇති.... " ඇය කිව්වා...
"කවුද ඒ ගැහැනු කෙනා "
" ලුසී "
"ඔයාට එයා ආදරේද "
"හ්ම්"
" එහෙනම් කමක් නැහැ....ඔයා සතුටින් ඉන්න... " ඇය මිමිනුවා...
"තිශ්‍රාන්" මැගීට තිබුනේ තද කොලපාට ඇස් දෙකක්....එහෙත් එයාගේ හිතට දුකක් දැනෙද්දී ඒක ලා කොල පාටට හැරෙනවා ....
"මට පුලුවන්ද එක උදව්වක් කරන්න" මැගී ඇසුවා.
" මොකක්ද "
" එකම එක මාසයක් මගෙත් එක්ක ඉන්න....අපි විවහා වුන මුල් කාලේ වගේම මට ආදරේ කරන්න.... ඒකාලේ අපි ගත කරපු ඒ ජීවිතයම ඒ විදියටම ගත කරන්න....එකම එක මාසයක් විතරක්...ඊට පස්සේ ඔයාට ඕනේ දෙයක් ඔයා කරගන්න....ඒකට කමක් නැහැ."

මම ඒ ඉල්ලීම භාරගත්තා....එකම එක මාසයක්....

මැගීගේ ඉල්ලීම මම ලූසීට කියද්දි ඇය හිනාවුනා....
' ඒක මහා විකාරයක් " ඇය කිව්වා...
මම ලූසීව වැලඳ ගත්තා....
" ඔයා අමනාප වෙන්න එපා රත්තරං... එකම එක මාසයයිනේ....ඊට පස්සේ මම හැමදාමත් ඔයාගේ...." මම ඇයට හාද්දක් දුන්නා....ලූසී මැගීට වඩා තරුනයි...ලස්සනයි....ඒ වෙද්දි මගේ මුලු ලෝකයම එයා වෙලයි තිබුනේ....

මැගී කියපු විදියටම ඒ මාසේ මම අපි විවහා වුන මුල් කාලේ වගේම එයත් එක්ක එකට ජීවත් වෙන්න පටන් ගත්තා..
නිදාගනිද්දී එයාව තුරුලට ගත්තා...හැමදාමත් උදෙන්ම එයා ඇහැරෙද්දී එයාට කෝපි එකක් ගෙනත් දුන්නා... එයා ඔෆිස් යද්දී එයාව මගේ දෑතට අරගෙන දෝර ලගට අරගෙන ගියා...

අපේ පුංචි පුතා මේ සේරම බලාගෙන හිටියා...එයා ගොඩක් සතුටු වුනා....සමහර වෙලාවට අපි දිහා බලාගෙන අත්පුඩි ගැහැව්වා...
"හා... හා.... තාත්තා අම්මව වඩාගෙන යනවා.... " එයා කෑගහලා නැටුවා, උඩපැන්නා....

දවසක් මම මැගීව දෑතට ගනිද්දී එයා එයාගේ හිස මගේ පපුවට තියාගත්තා....මම එයා දිහා බැලුවා...එයාගේ ඇස් දෙක ලාකොල පාටින් දිලිසෙනවා....අපි විවහා වුන මුල් කාලයේදි තිබුනු ලස්සන තවමත් ඒ ඇස් දෙකේ තියෙනවා..මම එයාට හාද්දක් දුන්නා...ඒ හාද්ද බොරුවට දුන්න එකක් නෙමෙයි ඇත්තටම දුන්න එකක්....

දවස් කිහිපයක් ගත වුනා..රත්‍රියේ එයාව තුරුලුකරන් නිදාගන්න කොට එයාගේ හිසකෙස් වලින් එන ඔලිව් සුවද මට දැනුනා...මට ඒ සුවද කාලෙකින් දැනිලා නැහැ....සමහර විට මම මේතරම් ලගින් එයාව තුරුලු කර නොගත් නිසා වෙන්න ඇති...

මම වැඩට යද්දී එයාව තුරුලු කරගත්තා...අපි විවහා වුනු මුල් කාලයේ දැනුනු උනුසුමම මට දැනුනා....මම ආයෙමත් එයාට ආදරේ කරනවත්ද ? මම මැගිගේ ඇස් දිහා බැලුවා....ඇයගේ දෙනෙතින් කදුලක් කඩා වැටුනා.... " මට ඔයත් එක්ක හැමදාමත් මේ විදියටම ඉන්න තියෙනවනම් " ඇය කිව්වා...

එදා වැඩට ගියත් මට වැඩක් කරන්න තරම් හිතක් තිබුනේ නැහැ...ඇයි මම මැගීව අත හරින්න ගියේ.ලූසිට ආදරේ කරපු නිසාද ? නැහැ ඊටත් වැඩියෙන් එහා ගිය දෙයක් එදි තිබුනා....

විවහා වෙලා ටික කාලයක් ගියාම අපිට අනෙක් කෙනාගේ ලස්සන පේන්නේ නැත්තේ....ඒ ලස්සන අඩුවෙලා යනවා වගේ දැනෙන්නේ...ඇත්තටම ඒ ලස්සන නැතිවෙලා යන නිසා නෙමෙයි..අපි ඒ ලස්සන දකින්න උත්සහා කරන්නේ නැති නිසා...අපි ආදරයට ඒ හැඟීම් වලට ගලාගෙන යන්න නොදී අපි අපිවම පාලනය කරගන්නවා..විවහා වෙලා ටික කාලයක් ගියාම මේ පාලනය ඉබේම ඇතිවෙනවා...එහෙත් සැමියෙකු සහා බිරිදක් අතර එහෙම පාලනයක් තිබිය යුතු නැහැ...එකිනෙකාගේ ආදරය එකිනෙකාට දැනෙන්න ඕන...එකිනෙකා ඒක විදින්න ඕනේ...එතකොට ආදරය තවත් අලුත් වෙනවා...මටත් වුනේ ඒක...මම කවදාවත් මැගීගේ ආදරය දකින්න උත්සහා කලේ නැහැ..මගේ ආදරය එයාට දෙන්න උත්සහා කලෙත් නැහැ...ඒ වෙනුවට මම කලේ වෙනම ආදරයක් හොයාගන්න එක...මම මැගීට කරන්න ගිය දේ වැරදි බව මට තේරුනා....මට මගේ දරුවව මතක් වුනා....අපි ආදරයෙන් සතුටින් කොයිතරම් කල් ජීවත් වුනාද...ඇයි අපිට ඉස්සරහාටත් එහෙම ඉන්න බැරී...

මම ඒ වෙලාවෙම ලුසීව හමුවෙන්නට ගියා...
"ලුසී මම මැගීව දික්කසාද කරන්නේ නැහැ...මට සමාවෙන්න "
"මොකක් " ලුසී මගේ දිහා වික්ෂිප්තව බැලුවා...
"ඔව් ලුසී ...මම හිතන්නේ මම තවමත් මැගීට ආදරය කරනවා... "
ලුසී තරහයින් මගේ කම්මුලට ගැහැව්වා....
" උබනම් මහා නිවටයෙක් " කියූ ඇය එතනින් යන්නට ගියා...

මම එදා ගෙදර ගිහින් මැගීව තුරුලු කර ගත්තා..ඇයට හාද්දක් දුන්නා...ඇත්තම එකක්..මුලු හදවතින්ම..
"මට සමාවෙන්න මැගී... මට මාවම තේරුම් ගන්න බැරි වුනා...මම ඔයාට ආදරෙයි....අපි හැමදාමත් මේ විදියටම ඉමු " ..මම එහෙම කියද්දී මැගීගේ ඇස් දෙකේ කඳුලු කඩාගෙන වැටුනා....

" රත්තරන් ....මට ඔයාට දෙයක් කියන්න තියෙනවා... "
ඇය කිව්වා....
" ඔයාට මාසයක් අපි ආදරයෙන් ජීවත්වෙමු කිව්වේ හේතුවක් නිසා...." ඇය මිමිනුවා...
" හේතුවක්"
"ඔව්.... මට පිලිකාවක් තියෙනවා... මට තවත් ජීවත්වෙන්න ඉතුරුවෙලා තියෙන්නේ මාසයක් වගේ පොඩි කාලයක් විතරයි.... ඔයා මේ වෙනකොටත් වෙන කෙනෙක්ට ආදරය කරන විත්තිය මම දැනගෙන හිටියා....එහෙත් මම ඔයාට මුකුත් කිව්වේ නැත්තේ මම මැරුනත් ඒ කෙනා ඔයාව සතුටින් තියයි කියලා මම දැනගෙන හිටිය නිසා.... මගෙත් එක්ක මාසයක් ආදරයෙන් ජීවත්වෙන්න කියලා මම ඔයාගෙන් ඉල්ලුවේ අපේ පුංචි පුතා වෙනුවෙන් "

" පුතා වෙනුවෙන් ? "
"ඔව් රත්තරන් ... මම මැරුනත් ... මම මගේ ජිවිතේ අන්තිම වෙනකන්ම ඔයත් එක්ක සතුටින් හිටියා කියලා පුතා දකින්න ඕනේ....එයා කවදා හරි ආදරේ කරන කාලෙකදී එයාගේ ආදරයත් ලස්සන එකක් වේවී.... අම්මයි තාත්තගෙයි ආදරය දරුවන්ගේ ජීවිතයටත් බලපානවා... අපි දෙන්නගේ ආදරය එයාගේ ආදරය ලස්සන කරාවී...."
මම මගේ මැගිව වැලද ගත්තා...ගොඩක් ආදරයෙන්.

---

පසුවදන - දෙමව්පියන්ගේ එකිනෙකාට ආදරය කරන විදිය දරුවන්ගේ ජීවිත වලට බලපානවා.... ලංකාවේ සංස්කෘතියත් එක්ක අම්මයි තාත්තයි එයාලගේ ආදරය දරුවන්ට පෙන්නන්නේ නැහැ... තාත්තා අම්මට හාද්දක් දෙනවා සමහර දරුවන් කවදාවත් දැකලා නැතිව ඇති...අම්මයි තාත්තයි තුරුලු වෙලා ආදරයෙන් කතා කරනවා ... වැඩට යන්න කලින් එකිනෙකාව ආදරයෙන් වැලද ගන්නව සමහර දරුවෝ දැකලා නැතිව ඇති... ඒ දරුවන් කවදා හරි වැඩිහිටියන් වුන දාට ඔහුනුත් ආදරය කරන්නේ දෙමව්පියන්ගෙන් ආදරය ගැන ඉගෙනගත්තු විදියටමයි... ඒ වගේමයි අම්මයි තාත්තයි දරුවන් ඉදිරියේ ගහා මරා ගන්නවනම් කුනුහරුපයෙන් බැන ගන්නවනම් කවදා හරි ඒ දරුවනුත් විවහා වුනු දාට කරන්නේ ඒ දේමයි....

# ලොතරැයිය

මිකා බේබද්දෙකි, සුදු කාරයෙකු...ඔහු විවහා වී සිටියේය.ඔහුට දරුවන් දෙදෙනෙකුද විය.ඔහුන් දෙදෙනාම ගැහැනු ලමයින්ය.ඔහුන් පාසල් යන වියේ පසු වූවත් ඔහුන්ට පාසැල් යාමට නොහැකිවිය.පාසැලට ඇතුල්වීමට තරම් මුදලක් ඔහුන්ට නොතිබින.මිකා දිනපතාම සූදුවේ සහා බේබදුකමේ යෙදුන නිසා ඔහු ඉතිරි කල මුදලක් නොවීය.අඩුම තරමින් එදා වේල කන්නවත් නිවසට යමක් ගෙන ඒමට ඔහුට නොහැකි විය...
ඔහුගේ බිරිද මැගිලින් මේ ගැන මහත් වූ පසුතැවීමෙන් පසු වුවාය.
" මේ මිනිහා මගේ ජීවිතය එහෙම් පිටින්ම විනාශ කලා... ඒකට කමක් නැහැ කියමු..එහෙත් මගේ දරුවන්ගේ ජීවිතය.... "
ඇය කොයිතරම් ඔහුට දෙස්තීවත් මිකා ඒ ගැන ගනන් ගත්තේවත් නැත.ඔහුගේ දරුවන් වෙනුවෙන්වත් සුරා සූදුව ඔහු කිසිදිනෙක නැවැත්වූවේ නැත.

දිනක් කුලී වැඩ අවසන් කොට නිවසට එන අතරතුර ඔහු සේතුන් වීදියේ ලොතැරැයි කූඩුවෙන් පුරුදු පරිදිම ලොතැරැයියක් මිලදී ගත්තේය.එය සාක්කුවේ දමා ගත් ඔහු කලිසම් සාක්කුවට අත දමා එහි තව කාසී කීයක් ඇත්දැයි බැලීය.එහි ඇත්තේ ඩ්‍රාම් 500කි.ඩ්‍රාම් 500කට කොන්ග්‍යැක් භාගයක් මිලදී ගත් හැක.

ඔහු තැබැරුමට ආයේය.ඩ්‍රාම් 500 ය තැබැරුම් කරුගේ අතෙහි තැබූ ඔහු කොන්ග්‍යැක් භාගයක් මිලදි ගත්තේය.ඔහුට එය බී අවසන් කිරීමට විනාඩි පහක්වත් ගියේ නැත.අන්තීම කොන්ග්‍යැක් බිංදුවත් කටට හලාගත් ඔහු තවත් බොන්නට යමක් ඇත්දැයි බෝතලය ඔසවා බැලීය.බෝතලය අඩියටම හිදී ඇත.එහෙත් මිකාගේ හිත පිරී තිබුනේ නැත.තවත් කොන්ග්‍යැක් භාගයක්වත් බොන්නට තිබුනානම් හොදයි යැයි ඔහුට සිතින.

ඔහු කලිසම් සාක්කු සියල්ලෙම පතුලටම අත දමා සොලවා බැලීය.එහි සතයක්වත් නැත.ඔහුගේ මුහුන බෙරී වි ගියේය...එහෙත්

තවත් කොන්ග්‍යැක් භාගයක් කොහොම හරි මිලදී ගත යුතුය.ඔහු කල්පනා කලේය...කිසිවෙකුගෙන් ඩ්‍රාම් 500ක ණයක් ගත හැකිදැයි ඔහු තැබැරුම හතර වටේ විමසිල්ලෙන් බැලීය.

ඔහුගේ මේසයට අඩි කිහිපයක් එහායින් දාවිත් හිදගෙන සිටියේය.ඔහුගේ නිවෙස් අසලම ජීවත් වූ දාවිත් තද මසුරෙකි.ඔහුගෙන් ඩ්‍රාම් 500ක් ඉල්ලුවොත් ඔහු කොයෙත්ම දෙන්නේ නැත...ඒ බව මීකා ඉරහඳ වගේ දැනගෙන සිටියේය...එහෙත් උත්සහා කල යුතුය...මොන අටමගරයක් කර හෝ දාවිත්ගෙන් ඩ්‍රාම් 500ක් ඉල්ලගෙන කොන්ග්‍යැක් භාගයක් නම් කොහොම හරි මිලදී ගත යුතුය. මීකා සිතීය..

දාවිත්ගේ මේසය ලගට ගොස් හිදගත් මීකා ඔහු සමග කතාවට වැටී විනාඩි කිහිපයක් ගිය පසු වටින් ගොඩින් මෙසේ ඇසීය..
"යහලුවා..උබත් එක්ක කතා කලත් හිතට මාරම සැහැල්ලුවක් දැනෙන්නේ.... මට පොඩි උදව්වක් කරපන් ...ඔන්න අද විතරයි මම උබෙන් මෙහෙම හරි උදව්වක් ඉල්ලන්නේ... මම මීට කලින් උබෙන් උදව් ඉල්ලලත් නැහැ ..ආයේනම් කොහොමත්ම ඉල්ලන්නේ නැහැ.”
" කියපන් මීරා මොකක්ද " දාවිත් ඇසීය..
"මට පුලුවන්නම් ඩ්‍රාම් 500ක් දියන් කොන්ග්‍යැක් භාගයක් ගන්න.... "
දාවිත් ඔහු දෙස බලා හැල්ලුවට මෙන් සිනාසුනේය.
" මීකා උබ අහලා ඇතිනේ මේ දාවිත් ප්‍රයෝජනයක් නැතිව සතයක්වත් වියදන් කරන කෙනෙක් නෙවෙයි කියලා " ඔහු ගත් කටටම කීහ.

මීරා මෙය හොදාකාරවම දැන සිටියේය. ඔහු මොහොතක් කල්පනා කලේය...ඔහුට තැබැරුමට ඊමට කලින් ගත් ලොතැරැය්ය මතක් වූයේ මේ වෙලාවේදීය.
" නිකන් නෙමේ දාවිත් ... මෙන්න මේ ලොතැරැය්ය අරගෙන මට ඩ්‍රාම් 500ක් දියන්..ඕක මම ගත්තේ 600 යට....උබට සීයක්ම ලාබයි "
ඔහු ලොතරැය්ය දාවිත් ඉදිරියේ තබමින් පැවසීය..
ලොතරැයිය දෙස බැලූ දාවිත් එය අතට ගෙන මීකා දෙස ඇස්කොනකින් බැලීය.
"හරි...උබ ඉල්ලනම නිසා මම දෙන්න..මට මේකෙන් වැඩක් නැහැ...එහෙත් උබේ කීම අහක දාන්න බැරි නිසා මම උබට උදව් කරන්නම් "
කියූ ඔහු සක්කුවෙන් ඩ්‍රාම් 500ක් ගෙන මීකාගේ අතෙ තැබීය..

මීකා තමන්ට මහමෙරක් වාසනාව පහල වූවක් මෙන් තැබැරුම් කරු ලගට දිව ගොස් එහින් කොන්ග්‍යැක් භාගයක් මිලදී ගත්තේය.

ඊලග දවසේ මීකා යලිත් තැබැරුමට එන විට තැබැරුම සරාසා තිබෙනු ඔහු දුටීය.ඔහු එයට ගොඩවිය...තැබැරුමේ සාදයක්

ඇත.සේතුන් වීදියේ බේබද්දන් සියල්ලම පාහේ එතැනට එක් රැස් වී සිටියේය..
" කාගේ හරි සාදයක්නම් මටත් අද සල්ලි නැතිවම පදම් වෙන්න පුලුවන් " යි මිකා සිතීය.

මිකා තැබැරුම තුලට යත්ම දාවිත් ඔහු අසලට විත් ඔහුව වැලඳ ගත්තේය..
" යහලුවා...උබ ආව එක හොදයි ...පලයන් ගිහින් හොදට බීමන්..උබට ඇති තරන් බීපන්..මේ සේරම හරි බීමන්..සේරම අද මං ගානේ.. උබ මාව වාසනාවන්තයෙක් කලා "
මිකා උඩ බිම බැලීය..
" මම මොකක් කලා " ඔහු පුදුමයෙන් මෙන් දාවිත්ගේ කනට කර ඇසීය.
" ඔව් යාලුවා... උබ මාව වාසනාවන්තයෙක් කලා..උබ මට ඊයේ දුන්න ලොතැරැයියට පලවෙනි තැග්ග හැදුනා.. දැන් මම කෝටීපතියෙක්... "

ඔහුගේ මේ වචන ටික ඇසෙත්ම මිකාට කලන්තේ දැමීමට තරම් දැඩි වේදනාවක් ඇතිවිය..
මිකාගේ මුහුන වෙනස් වී යනු දුටු දාවිත් ඔහුගේ උරහිසට තට්ටු කොට මෙසේ කීහ....

" ඒ ගැන දුක් වෙන්න එපා යාලුවා... අද ඇති තරම් පදම් වෙයන්... ඒ සේරම මේ දාවිත් ගානේ... හැබැයි අද විතරයි..හෙට ඉදන් මම සේතුන් වල නැහැ....මම නගරයේ පදිංචියට යනවා... "

කියූ ඔහු එතනින් යන්නට ගියේය.

---

පසුවදන : පවට පින දෙන්න බැහැ කියලා කියමනක් තියෙනවනේ.. සමහර මිනිස්සු අවාසනාවන්ත විදියටම ඉපදිලා ඒ විදියටම මැරිලා යනවා.. දෛවය මා නොපිලිගන්න දෙයක්.මම විශ්වාස කරනවා දෛවය , උත්සහාය සහා කැපකිරීම තුලින් වෙනස් කරන්න පුලුවන් විත්තිය. එහෙම වෙනස් කරගත්තු මිනිස්සුත් අනන්තවත් ඉන්නවා... බොහෝවිට අවාසනාව කියන්නේ ඔබ විසින් උප්පත්තියෙන්ම කරගහගෙන එන දෙයක් නෙමෙයි. ඔබ කරන කියන දේවල් තුලින් ඔබ විසින්ම ගොඩනගාගන්නා දෙයක්.

# අම්මාව හීනෙන් දැකීම

උදෑසන 7 වන විටත් සූර්යාලෝකය පතිත වී නොතිබුනෙන් අවට ඝන අන්ධකාරයෙන් යුක්ත වී ඇත.නොවැම්බරයේ පලමු වෙනිදාට එය සාමාන්‍ය දෙයකි.මේ ශීත කාලයේ ආරම්භයයි....
ඇඳ අසල තිබුනු කුඩා විදුලි ලාම්පුව දැල්වූ මා ඇදෙහි හිද ගත්තෙමි.මගේ හිස දැඩි බරකින් යුක්ත විය...එහින් ආවේ දැඩි මූසල හැගීමකී... වෙනදා උදෑසන අවදිවන විට ඇති ප්‍රබෝධය එහි නොවීය...
" ඇයි රාසා " මා කොට්ටයට හිස තබාගෙන හිද ගෙන හිදිනු දුටු පියෙර් ඇසීය...
" නෑ ඔලුව කැක්කුමයි " මා කීවෙමි...
" ඇයි ඊ නින්ද ගියේ නැද්ද " නින්දෙන් මුමුනමින් මෙන් ඔහු පැවසීය...ඔහු තවමත් නින්දේය...
" ම්ම්ම්... මා මොහොතකට නිහඩ වුනිමී....මා සැබෑ හේතුව පැවසුවහොත් පියෙර් නින්දෙන් අවදි වනු ඇත... එක්වරම හතේ කනිසම වැදින ..මේ ඔහුගේ අවදි වන වේලාවයි....එහෙයින් එය ඔහුට කීවත් කම් නැත...
" අම්මව හීනෙන් දැක්කා " මා කීවෙමි... මා සිතූ ලෙසම දෑස් පියදමා අවදි වුනු ඔහු ඇදෙහි හිදගෙන මා දෙස බලාගෙන සිටියේය.
" අම්මව ? "
"ඔව් "
ඔහු මගේ අත සිහින් ව පිරිමැදීය....
" දුක් වෙන්න එපා රාසා... ඒක සාමාන්ය දෙයක් " ඔහු කීහ...

එහෙත් එය සාමාන්‍ය දෙයක් නොවීනී... පියෙර් නොදන්නා දෙයක් එහි ඇත...මගේ මව හදීසී කම්පනයක් නිසා සිදුවු හර්ධාබාදයකින් මීය යන විට ඇයගේ වයස අවුරුදු 49ක් විය... මගේ පියා නිසා ඇය වින්දේ අපමන වූ දුකකි. ඒ නිසාම ඇය සතුටින් මැරුනා යයි මා නොසිතමී...
ඇය මියගොස් වසර 10ක් පමන ගෙවී ගොස් ඇතත් මා ඇයව වසරකට එක් වරක් හෝ සිහිනයෙන් දකින්නට පටන් ගතුයෙමි... එහෙත් ඒ සෑම දවසක්ම අවසන් වුයේ දැඩි වේදනාවකිනි... කුමක් හෝ විපතකිනි.. ඒ නිසාම ඇයව සිහිනයෙන් දකින සෑම දිනයකම මා භීතියට පත් වුනිමි.ඒ කුමක් හෝ විපතක පෙරනිමිත්තකි... පියදෝර් එය දන්නේ නැත.මා ඔහුට එය කියා නැත.මා එය කිව්වත් ඔහු එය

විශ්වාස කරන එකකුත් නැත.එය නිකන්ම නිකන් විකාර කතාවක් බව ඔහු සිතනු ඇත....

මගේ ජීවිතයේ මා මෙතෙක් මුහුන දුන් ලොකුම විප්පත්තිය සිදුවුයේ අම්මාව සිහිනයෙන් දුටු පලමු දිනයේදිය..මා එකල සති කිහිපයක ගැබිනියක් විමි...ඒ අපි දෙදෙන අපේ පලමු දරුවා බලාපොරොත්තුවෙන් සිටි කාලයේය...එදින කාර්යාලයකට යන විට සිදුවූ අනතුරක් නිසා මා ගබ්සා විමි...මගේ දරුවාව මගේ කුසින් ඉවත් කිරීමට සිදුවිය.

ඇයව මා දෙවෙනි වතාවට දුටු දිනයේදි පියේර්ගේ පියා පැරිසීයේ සිට බර්න් නුවරට ගුවනින් එමින් සිටියේය...ඔහු බර්න් නගරයට පැමිනෙන ප්‍රථම වතාව එය වුයෙන් සියල්ලම හොදින් සිදුවිය යුතුය...මමත් පියෙරුත් ඔහු වෙනුවෙන් විශේෂ රාත්‍රී ආහාරයක් පිලියෙල කරමින් සිටියෙමු.එහෙත් ඔහුට පැමිනිමට නොහැකි විය.ඔහු පැමිනි ගුවන් යානය අනතුරකට පත්වීය .අද වනතෙක් අපට ඔහුගේ සිරුරවත් සොයා ගැනීමට නොහැකිවිය... ඔහු වෙනුවෙන් ස්මාර්කයක් ඉදි කලත් එහි භූමිදානය කිරීමට ඔහුගේ සිරුර නොවීය... ඒ මීට අවුරුදු කිහිපයකට පෙරාතුවය.

"රාසා ඕක අමතක කරලා දාලා ඔෆිස් යන්න ලැස්ති වෙන්න ..." පියෙර් කීයෙන් මා යන්තමින් ඇදෙන් නැගිට ගතුයෙමි...එහෙත් අම්මාගේ සිහිනය මා හට අමතක කල නොහැකි විය..අද කුමක් හෝ විපතක් සිදුවනු ඇත... ඒ කුමක් වනු ඇත්ද ? කාර්යාලයට යාමට සුදානම් වන මොහොතේ පවා මා සිතුවේ එයයි...
වෙලාව 9යට ලගාවී ඇත..කාර්යාලයට යැමට එලියට බැස ගත් මා පියෙර්ව තරයේ වැලද ගතුයෙමි.

" පරිස්සමෙන් රත්තරන් " මා ඔහුට කිවේමි...
" මොකද ඔය බය වෙලා වගේ " පියෙර් කියේ ඇත්තකි... හිතේ කොනකින් අද මට ලොකු බයක් ඇත.... අද කුමක් හෝ දෙයක් සිදුවනු ඇත... එහෙත් පියෙර්ට කුමක් හෝ සිදුවුනොත් මගේ ජීවිතයම විනාශ වී යනු ඇත.... මා ඒ තරමටම ඔහුට ආදරය කරමි...

" පියෙර් අම්මව දකින හැම දවසෙම මොකක් හරි දෙයක් සිදුවුනා..මට බයයි " පියෙර් සිනා සින.. " පිස්සු නැතිව ඉන්න රාසා ... ඕවා මනස්ගාත...ඔයත් ඕවා විශ්වාස කරනවද " ?
මිදුලේ ගේට්ටුවෙන් වෙන් වෙන තැනට විත් මම යලිත් පියෙර්ව වැලද ගත්තෙමි....ඔහු ඈත්වී යන තුරු ටික වෙලාවක් ඔහු දෙස බලා සිටි මා

" පියෙර් හයියෙන් වහනේ පදින්න එපා " යි කෑ ගසා ඔහුට කිවෙමි..මා දෙස හැරි බලා ඔහු සිනා සින...

එදින කාර්යාලයට ගියත් මගේ සිතේ තිබුනේ දැඩි පශ්චාත්තාපි බවකි...මොකක් හරි දෙයක් අද සිද්ද වෙනවා...මට නිතරම සිතින...බෑගයේ තිබුනු කුඩා පෙති බෝතලය ගත් මා එහින් පෙති දෙකක් කටට හලා ගතුයෙමි.එය හිසේ කැක්කුමත් මගේ බ්ලඩ් ප්‍රෙෂර් එකත් අඩු කරනු ඇත.මා සන්සුන් විය යුතුය....කුමක් වුවත් එය දරා ගත යුතුය...එ සඳහා සූදානම් විය යුතුය...මා සිතුවෙමි... අම්මාව දුටු සැම දිනෙකම මා මෙලෙස සිතට දෛහිර්ය ගෙන ඇත්තෙමි.ඒ නිසාම සිදුවූ සියලුම දේවලට මුහුන දීමට තරම් සිත ශක්තිමත්ව තිබින.මා අධි රුධිර පීඩනයෙන් පෙලෙන්නෙක්මී....රුධිර පීඩනය ඉහල යෑමෙන් හදවතට හානියක් සිදුවිය හැක.මා හට කල හැකිව තිබුනේ එකම එක දෙයකි,ඒ කුමක් සිදුවුවත් සන්සුන්ව එයට මුහුන දීමය....මා එය අධිෂ්ටාන කර ගතුයෙමි....
අද කුමක් හෝ දෙයක් සිදුවනු ඇත.

පස්වරු 4 වන විටත් කිසිම දෙයක් සිදුනොවීය..මා මගේ පවුලේ අයටත් පියෙර්ටත් නිතර නිතර දුරකතන ඇමතුම් ගෙන ඔහුන් කරන සැම දෙයක් ගැනම සොයා බැලුයෙමි.මගේ පියා යුධ හමුදාවේ ලුතිනල්වරයෙකු වූ අතර ඔහු මේ වන විට විශ්‍රාම ගොස් සිටියේය..මගේ සොහොයුරා ජොර්ජියානු ප්‍රවහන සමාගම සේවය කලේය....ඔහුන් දෙදෙනාත් පියෙරුත් හැරුනු විට මට නෑදෑයන් සිටියේ හිතාමත් කිහිප දෙනෙකි.

මා කාර්යාලයෙන් නිවසට පැමිනියෙමි. පියෙර් මටත් කලින්ම නිවසට පැමින ඇත.දොර විවර කල ඔහු මට හාද්දක් දුන්නේය.මා නිවසට ඇතුලුවෙත්ම සුලගක් හමාවිත් මිදුලේ දූවිලි අවුස්සා දැමුයෙන් මා පිටුපස්ස හැරි බැලුයෙමි.මොහොතකින් සුලන් වැඩි වන්නට විය...ගස් දෙපසට වැනෙන්නට විය.... මා ගෙදරට ඇතුලු වී දොරවසා ගතුයෙමි.
"සුලි සුලගක් එන්න වගේ " මම මා අසල සිටි පියෙර්ට කීවෙමි.ජනේලයේ තිරරෙදි ඉවත් කොට ඔහු පිටත බැලීය.

" ඔව්... ටොර්නෝඩාවක් ... අපේ ගෙයත් එක්ක ගහගෙන යන්න යන්නේ " ඔහු කීයෙන් මා ඔහු අසලට ගොස් පිටත බැලුයෙමි.මගේ හදවත වේගයෙන් ගැහෙන්නට විය...මාගේ තෘෂ්නිම්භූත වුනු දෙනෙත් දෙස මොහොතක් බලා සිටි පියෙර් මහා හයියෙන් සිනා සෙන්නට පටන් ගත්තේය.
" මම විහිලුවක් කලේ...මොකද මේ බය වෙලා " ඔහු නොනවත්වාම සිනාසින... " ඔයා තවමත් ඉන්නෙ අර හීනයේ . රාසා ඕක අමතක කරලා දාන්න ... ඕවා මන්ස්ගාත " ඔහු සිනාසෙමින් කීහ.

මට එය අමතක කල නොහැක..අද කුමක් හෝ දෙයක් සිදුවනු ඇත..එය මට ඒකාන්තය...

අපි රාත්‍රී ආහාරය ගත්තෙමු..මා නිතර නිතර මගේ පවුලේ අයට දුරකතනයෙන් කතා කොට ඔහුන්ගේ සුවදුක් විමසා බැලිමි..මගේ සොහොයුරා ජොර්ජියාවට යමින් සිටි අතර මගේ පියා ඔහුගේ නිවසේ සිටියේය.... සියල්ල හොඳින් සිදුවෙමින් පවතී.

රාත්‍රී අහාරය ගත් මමත් පියෙරුත් ඇඳට ආයෙමු.වේලාව රාත්‍රී 10 පමන වි ඇත... පොතක් අතට ගත් මා එය කියවන්නට විමි.තව මොහොතකින් මධයම රාත්‍රීය එලබෙනු ඇත... අද කිසිම දෙයක් සිදු නොවනු ඇත.... සමහර විට පියදෝර් කී පරිද්දෙන්නම මා සිටින්නේ මනස්ගාතයකය.මා සැනසුම් සුසුමක් හෙලුයෙමි...

එක්වරම දුරකතනය නාදවිය.... මා එය අතට ගතුයෙමි... ඒ ඇමතුම ආයේ මගේ මල්ලි සේවය කල ජොර්ජියානු ප්‍රවහන ආයතනයෙනි.එහින් කී පරිද්දෙන්නම් මගේ මල්ලිව අනතුරකට ලක්වී ඇත...මගේ හදවත වේගයෙන් ගැයෙන්නට විය....
" මගේ මල්ලිට අනතුරක් වෙලා ... " මා කෑගැසුවෙමි. පියේර් එතනට දුවගෙන ආවේය..."මම කිව්වේ අද මොකක් හරි දෙයක් සිද්ද වෙනවා කියලා "
මා අඩා වැලපුනෙමි... ඔහු මා සැනසීමට කල යුතු සැම දෙයක්ම කලේය...මගේ ඇග සීතල වී ගොස් ඇත. හදවත වේගයෙන් ගැහෙන්නට විය....කුමක් සිදු වුවත් එයට මුහුන දිය යුතුය...බැගය විවර කල මා බෙහෙත් බෝතලයේ තිබුනු පෙති කිහිපයක් ගෙන කටේ හලා ගතුයෙමි.

මල්ලිගේ දුරකතනය මා කිහිපවරක්ම ඇමතිමට උත්සහා කලත් එහින් කිසිම ප්‍රතිචාරයක් නැත...මා පියාට ඇමතුමක් ගත්තෙමි... ඔහු දුරකතනය එසවීය...
" තාත්තේ මල්ලිව ඇක්සිඩන්ට් වෙලා" මා හට කියන්නට ලැබුනේ එපමනකි.එක්වරම මල්ලිගේ දුරකතනයෙන් ඇමතුමක් ලැබෙමින් තිබුනු නිසා මා එයට පිලිතුරු දුන්නෙමි..
"අක්කේ බයවෙන්න දෙයක් නැහැ....මගේ කකුල පොඩ්ඩක් තුවාල වුනා එච්චරයි....මම හොස්පිටල් එකේ ඉන්නේ ඩ්‍රයිව් කරපු කෙනාටනම් අන්තීමයි .."

මම පස්සෙ ගන්නම්ම් කී ඔහු දුරකතනය විසන්දි කලේය.මා සැනසුම් සුසුමක් හෙලුයෙමි.දෙවියන්ට ස්තුති වන්ත විය යුතුය...ඔහුගේ ජීවිතය බේරී ඇත... පියේර් මා ලගින් හිදගෙන මගේ උරහිස මිරිකමින් සිටියේය..මට එක් වරම මගේ පියාව සිහිවිය.මල්ලිගෙන් පැමිනි දුරකතන ඇමතුම නිසා මා පියාට ගත් ඇමතුම නොදැනුවත්වම

විසන්දි කරන්නට ඇත.මා ඔහුට යලි යලිත් අමතන්නට උත්සහා කලත් ඒ සියල්ලම ව්‍යර්ථ වී ගියේය.... ඔහු දුරකතනය ඔසවන්නේ නැත..මෙය සිදුවිය නොහැක්කකි...මොන දේ සිදුවුනත් මගේ පියා දුරකතන ඇමතුමට පිලිතුරු නොදි සිටින්නේ නැත.... මා මෙහින් බියට පත්විමි..ඔහු ජිවත් වුයේ අප සිටි හලාබියන් මාවතේම වූ බැවින් ඒ මොහොතේම මමත් පියෙරුත් ඔහුගේ නිවසට නික්ම ගියෙමු..

නිවස ඇතුලතින් අගුලු ලා තිබින...කොයි තරම් දොරට තට්ටු කලත් එය විවර නොවීය.පියෙර් දෝර කඩා දැමීය...අපි ගෙතුලට දුව යනවිටත් ඔහු බිම වැටි සිටියේය...මා ඔහුව බදාගෙන හඩා වැලපුනෙමි....ඔහුගෙන් කිසිදු ප්‍රතිචාරයක් නොමැත.

බිත්තියේ එල්ලා තිබු දුරකතනය ඔහු අසල බිම ඇද වැටි ඇත.මා මල්ලි ගැන කියු දෙය නිසා ඔහුට හර්ධාබාදයක් සැදෙන්නට ඇත...ඔහු දුරකතන තදින් අල්ලාගෙන ඇත්තේ එ නිසා විය යුතුය..එයත් සමගම ඔහුව බිම වැටෙන්නට ඇත.තාත්තා මිය ගියේ මා නිසාය...මම එක් වරම මල්ලි ගැන එලෙස කීව්වේ ඇයි.... මා නොදනිමි..අර කාලකන්නී හිනය මාව සම්පූර්නයෙන්ම අඩපන කොට ඇත..මා එයට වෛර කරමී..මා එයට වෛර කරමි...

තාත්තාගේ භූමිදානය සිදු කල දිනයේදි නිවසට පැමිනි මා කාමරයේ හඩමින් සිටියෙමි.. පියේර් මා ලගට විත් හිදගත්තේය.
"මම මගේ අම්මාට වෛර කරනවා පියේර්... එදා අර හීනය නිසා මගේ මුලු ඔලුවම අවුල් වෙලා තිබුනේ...මට තාත්තට එක පාරම එහෙම නොකියන්නයි තිබුනේ..."මා හඩා වැලපුනෙමි.. " මම එහෙම නොකලා නම් අදටත් තාත්තා ජිවත් වෙනවා "
"මම අම්මාට වෛර කරනවා පියේර් ... එයා මැරිලත් මට සැනසිල්ලේ ඉන්න දෙන්නේ නැහැ " ම පීයෙර්ගේ උරහිස තරයේ අල්ලා ගතුයෙමි...මා සිටියේ දැඩි ආවේගයකිනි..

" රාසා ... ඔයා අම්මට වෛර කරන්න එපා...සමහර විට අම්ම ඔයා ලගට එන්නේ ඔයාට තියෙන ආදරේ නිසා වෙන්න බැරිද ? " ඔහු ඇසීය..
" ආදරේ නිසා... ඒ හැම දවසකම අපිට ලොකු විපතක් සිදු වුනා පියේර්... " මගේ කතාවෙන් ඔහුගේ මුහුන හැකිලී ගියේය..ඔහු කල්පනා කරන්නට විය...
" රාසා ... ඔයත් ඔයාගේ අම්මා වගේම ගොඩක් දුර්වල කෙනෙක්. ඔයාටත් අම්මට වගේම බ්ලඩ් ප්‍රෙෂර් එක තියෙනවා...මේ වගේ දේවල් එක පාරම ඔයාට දරාගන්න අමාරුයි...හරියට ඔයාගේ තාත්තට වුනා වගේ...අපිට යමක් එක පාරම ඇහෙද්දි අපිට ඒක දරාගන්නට බැරිවෙනවා... "

" ඔයාගේ අම්මව හිනෙන් පේද්දී ඔයා දන්නව එදාට විපතක් වෙන්න යනවා කියලා....ඔයා ඒකට ලැස්ති වෙනවා..අද ඔයා කිප වාරයක්ම බෙහෙත් බිව්වා... මොකද ඔයා ඒක බලපොරොත්තුවෙන් හිටියේ... "
" මොකක්ද ඔයා කියන්නේ උත්සහා කරන්නේ පීයෙර් " මා ඇසිමි...

" ඔයාගේ අම්මා ඔයාට ආදරෙයි... එයාට ඕනේ ඔයාව ජීවත් කරවන්න...මේ වෙන විපත් අම්මාව හිනෙන් නොපෙනුනත් ඒවා වෙන්න තියෙනවනම් කොහොමත් වෙනවා... එහෙත් එයාට ඕනේ ඒ ගැන ඔයාට කලින්ම කියන්න....මොකද එතකොට ඔයාට ඒක දරාගන්න පුලුවන් ... ඔයා ඒකට ලැස්ති වෙනවා... අම්මා ඔයාට ආදරෙයි රාසා..සමහර වෙලාවට එයාට ඕනේ නැතිව ඇති එයා වගේ ඔයත් හදීසී කම්පනයකින් මැරෙනවා දකින්න.... අම්මා හදන්නේ ඔයාව ජීවත් කරවන්න.... ඔයාට ඒක දුකක් වෙන්න පුලුවන් එහෙත් එයා ඔයාගේ ජීවිතය බේරනවා... "

---

පසුවදන : මිනිස්සුන්ගෙන්ම හම්බ කරගන්න ජ්‍යෝතිෂය,අංජනම් , සාස්තරකාරයින් අද කෝටිපතියන් වෙලා හිදිද්දී ඔහුන්ව කෝටිපතියන් කරන සාමාන්‍ය ජනතාව අන්ත දුගීන් බවට පත් වෙලා.මිනිස්සු දුක් මහන්සිවෙලා හම්බුකරන දේ පැත්තක ඉන්න වංචාකාරයින්ට පූජා කරලා තමන් විහින් දුක් විදින තත්වයට පත්වෙලා.ඇයි ? මේ සේරම තමන් විසින්ම තමන්ගේ හිසට ඔබ්බවා ගත් මිථ්‍යා මත නිසා..මිනිස්සු මිථ්‍යාවන්ට ඇබ්බැයි වෙලා..ජීවීතය හොයන්නේ ඒ මිථ්‍යාවන් තුලින්.වාසනාව උදාකරගන්න කියලා අතේ තියෙන තුට්ටු දෙකත් වියදන් කරලා වාසනාව එනකන් කට ඇරගෙන බලාගෙන ඉන්නවා..මිථ්‍යාව ...ජීවීතය විනාශකරනවා..

# වයස 85 යේ ශිෂ්‍යයාව

එකල මා උසස් පංතියේ සිටියදී අපූරු සිදුවීමක් විය

දිනක් මා උදැසන පංතියට එන විට පංතියේ ඉදිරියෙන්ම ඇති බංකුවක කාන්තාවක් හිදගෙන සිටියාය…වයස අවුරුදු 80ක පමන හිතාමත් මහලු වයසේ කෙනෙකු වූ ඇය මගේ පංති කාමරයේ හිදගෙන සිටීම මගේ විමතියට හේතුවිය..පංති කාමරයේ එම මොහොතේ සිටි ලමුන් පවා සිටියේ " ඇය කවුදැයි යන උභතෝකෝටික ප්‍රශ්නයේය …
එය ඔහුන්ගේ මුහුන වල් වලින් පෙනින…ඔහුවූ එකිනෙකා සමග රහසේ මිමුනුහ.

කෙමෙන් කෙමෙන් පංති කාමරය ලමුන්ගෙන් පිරී ගිය අතර පන්තිය ආරම්භ වීමේ සීනුව නාද කෙරින… පංතිය ආරම්භ වන විටවත් මෙම වයසක කාන්තාව අප පංතියෙන් පිටත්ව යාවී යැයි අපි සිතා සිටියත් එය එසේ නොවීය…සිසුන් සියල්ලම සිදුවන්නේ කුමක්දැයි දැනගැනීමට බලා සිටිමුත් කිසිවෙකුත් එම කාන්තාව සමග කතා කිරීමට උත්සහා නොකලෝය…
සමහරු ඇය මානසික ආබාධයක් ඇති කෙනෙකු ලෙසත් තවත් සමහරු ඇය පන්තීයේම කෙනෙකුගේ ආච්චී කෙනෙකු විය යුතු බවටත් එකිනෙකා අතර මුමුනා ගත්තෝය…

පංති ආරම්භ කිරීමේ සීනුව නාදවත්ම පන්ති භාර ගුරුතුමිය අප පංතියට පැමිනියාය…ඇයත් අර වයසක කාන්තාවව දැක පුදුමයට පත් වනු ඇති බවට අප සිතා සිටියත් එය එසේ නොවීය…පන්ති කාමරයට පැමිනි ඇය වයසක කාන්තාවත් සමග සිනාසී ඇයව පිලිගත්තාය..
" ලමයි මේ ඉන්නේ මැටිල්ඩා " ඇය අපට අර වයසක කාන්තාවව හදුන්වාදුන්නාය…
" මැටිල්ඩා අද ඉදන් ඔයාලත් එක්ක මේ පංතියේම ඉගෙන ගන්නවා " ඇය මෙසේ කියත්ම පන්තියේ සිටින් සිසුහු සියල්ලම සිනාසුනෝය….
මැටිල්ඩා එය ගනන් ගත්තේ නැත…ඇයද අප දෙස බලා සිනා සුනාය..

එතැන් සිට මැටිල්ඩා අප පංතියේම කෙනෙකු බවට පත්විය…සමහරු ඇයට " මැටිල්ඩා ආච්චි නමින්ද…තවත් සමහරු නිකන්ම "ආච්චී" නමින්ද ඇයට ඇමතු අතර පංතියේ සිටි විසේකාර කොල්ලො කෙල්ලෝ ඇයට " නාකිච්චී " යැයි කීහ… ඇයටද එවැනි වදන් ඇසුනත් ඇය ගනන් ගත්තේ නැත…ඇය ඒ සැම මොහොතකම කලේ

සිනාසීම පමනකී...මෙය ඇයට නාකිච්චී යැයි කියූ අයට ගහන අතුල් පහරක් වැන්නක් විය...

දින කිහිපයක් ගෙවී ගියෙය..ඇය කෙමෙක් කෙමෙන් ලමුන්ට සුපුරුදු චරිතයක් බවට පත්විය...මුලදි ඇයව ප්‍රතික්ෂේප කල ලමුන් පවා පසු කාලයේදී ඇයත් සමග මිත්‍ර විය..ඇය දිනපතාම වේලපහින්ම පාසැලට ආවාය.. මම පංතියට එන විට ඇ තනිවම පංති කාමරය අතුගානු මා සුලභව දුටු දසුනකි..සමහර දිනවලදී ඇය ඇ විසින්ම උයා පිලියෙල කල ආහාර වර්ග පංතියට රැගෙන ආ අතර පංතියේ ලමුන් හැමෝම පාහේ ඒවා කැමට ප්‍රිය කලෝය..කෙමෙන් කෙමෙක් අපි හැමෝම ඇයගේ මිතුරු මිතුරියන් බවට පත් විමු...

එහෙත් පාසැලේ ලමුන්ගේ දෙමව්පියන්ට මැටිල්ඩා අප පාසැලේ ඉගෙන ගැනීම ගැන එතරම් කැමැත්තක් නොතිබින...අඩු වයසේ ලමුන් සමග වයසක කාන්තාවකුත් හින්දවීම ගැන බොහෝ දෙනෙකු විදුහල්පතිනිනට පැමිනිලි කොට පවා තිබින...

කෙසේ හෝ කාලය කෙමෙන් ගෙවී ගොස් අප පාසැලේ මාසික රැස්වීම පැවත්වෙන දිනය එලබියේය...විදුහල්පතිනිය මේ සභා රැස්වීමේදී මැටිල්ඩාටද කතාවක් කිරීමට අවස්තාවක් ලබාදී තිබින...

රැස්වීම් දිනය එලබින ...මැටිල්ඩාගේ නම කියනවාත් සමග ඇය කෙමෙන් කෙමෙන් වේදිකාව වෙතට ගමන් කලේය...ඇයට සම්පූර්නයෙන්ම වේදිකාවට ගොඩ වීමට විනාඩී කිහීපයක් ගත වන්නට ඇත...රැස්වීම් ශාලාවේ සිටි සියල්ලෝම නොරිස්සුම් සහගතව හිමින් හිමින් වාරුවෙන් වේදිකාවට නගින මැටිල්ඩා දිහා බලා උන්නාහ...
වේදිකාවට ගොඩවුනු මැටිල්ඩා මයික්‍රෆෝනය ඉදිරියේ හිටගත්තාය...ඇයගේ අතෙහි වූ උපැස් යුවල පැලදගෙන වේදිකාවේන් පහල සිටි අප දෙස මොහොතක් බලාසිට ඇයගේ කතාව පටන් ගත්තාය..

"මම මැටිල්ඩා... වයස අවුරුදු 83 යි...
මගේ හිතේ ලොකු ආශාවක් තිබුනා ඉගෙන ගන්න..පුංචි කාලේ මට ඉගෙන ගන්න ලැබුනේ නැහැ..ඒ දෙවන ලෝක යුද්ද කාලේ...පුංචි දරුවන් පවා යුද්දෙට බයේ ජීවිතය රැකගන්න දුක් වින්දා මිසක් ඉගෙන ගන්න ඒ අයට වාසනාවක් ලැබුනේ නැහැ..මමත් එහෙම එක්කෙනෙක්. යුද්දේ කාලෙදි අපි ජීවත් වුනේ කැලැවල් වල...කැලැවෙන් කැලැවට පැනලා ගිහින් අපි ජීවිතේ බේරගන්නවා... මම වැඩිවියට පත් වෙනකන්ම අපේ ජීවිතේ තිබුනේ එකම එක සටනක් විතරක්...ඒ තමයි ජීවිතය බේරාගෙන ජීවත් වීමේ සටන...ඒ

සටන කරන මිනිස්සුන්ට ඉගෙන ගැනීමක් අදාල නැහැ...තියෙන්නේ මරන බය විතරයි...

අවුරුදු 15දී මම විවහා වුනා..එතන හිදන් දරුවනුත් සැමියත් වෙනුවෙන් දුක් වින්දා.. දරුවන්ව ලොකු මහත් කලා..එයාලට හොදට ඉගැන්නුවා..එහෙත් කවදාහරි ඉගෙනගන්න ඕනේ කියන ආශාව මගේ හිතේ හැමදාමත් තිබුනා...

මගේ දරුවන් ලොකු වෙලා ඒ අය විවහා වුනා.වෙනම පදිංචියට ගියා....මමයි මගේ සැමියයි විතරක් තනිවුනා...දැනට මාස 2කකට කලින් මගේ සැමියත් මියගියා...

ඇයගේ දැසින් කදුලු කඩා වැටින..

" මගේ සැමියා මිය ගියහම මට තේරුනා මටත් ජීවත්වෙන්න වැඩි කාලයක් නැති විත්තිය..ඒ නිසා මම තීරනය කලා පුංචි කාලේ ඉදන්ම මගේ හිතේ තිබුනු ආශාව ඉෂ්ටකරගන්න...මට ඕනේ ඉගෙන ගන්න විතරයි..මැරෙන්න කලින් මම ගොඩක්ම ආස කරන පොත් කියවන්න... මගේ දරුවන්ට මගේම අත් අකුරින් ලියුමක් ලියන්න... එතකොට මට පුලුවන් සතුටින් මැරෙන්න... පුංචි කාලේ ඉදන් හිතේ තිබුනු හීනය ඉෂ්ටකරත්තු කෙනෙක් විදියට.. "
ඇය කතාව අවසන් කරත්ම මුලු සභාව පුරාම පැතිර ගියේ දැඩි නිශ්ශබ්දතාවයකි...මොහොතකින් එම නිශ්ශබ්දතාවය විශාල අත්පොලොසන් නාදයක් වී සභාව පුරා පැතිර යන්නට විය....

එතැන් සිට මැටිල්ඩා අප පාසලේ දරුවනුත් දෙමව්පියන් අතරත් හිතාමත් ජනප්‍රිය චරිතයක් බවට පත් විය...පාසැලේ ගත කල ඉතිරි අවුරුදු කිහිපය තුලදී ඇය ලිවීමත් කියවීමත් හොදින්ම ප්‍රගුන කලාය..පාසැල් සගරාවට නිතර නිතරම ලිපි ලියු ඇය පසුකලෙක පාසැල් සගරාවේම කතෘ ධූරයටද පත් විය...
මෙහින් වසර දෙකකට පසුව මැටිල්ඩා මිය ගියාය...ඇයගේ මරනයට පාසැලේ සිසු සිසුවියන් සැම කෙනෙකුම පාහේ සහභාගි විය...

" ජීවිතයේ මා දුටු ධෛර්යවන්තම ගැහැනිය කවරෙක්දැයි " කිසිවෙකු හෝ මගෙන් ඇසුවොත් මා හට කීමට ඇත්තේ එකම එක පිලිතුරකි ..
" ඒ මැටිල්ඩය " කිසිවෙකුත් ලග නොමැති අප්‍රහිත ධෛර්යක් මා ඇයගෙන් දුටුවෙමි...

ඇය බලාපොරොත්තු වූ ලෙසම " පුංචි කාලේ ඉදන් හිතේ තිබුනු හීනය ඉෂ්ටකරත්තු කෙනෙක් විදියට " ඇය මිය යන්නට ඇත.... මා එය විශ්වාස කරමි.

# රාත්තලේ වංචාකාරයා

ෆ්‍රැරැන්සිස් අල්පොන්සෝ ගාර්නි කියන ගමේ විසූ දූප්පත් චීස් වෙලෙන්දෙකි.ගාර්නී වල මිනිසුන් චීස් වෙලදාමෙන් යහමින් හම්බ කරගත්තත් අල්පෝන්සෝට එවන් වාසනාවක් නොවීය..ඒ නිසාම ඔහු ජීවිතය පුරාම දූප්පත් චීස් වෙලෙන්දෙකු ලෙස ජීවත් විය.

ඔහු දිනපතම වෙල හෙලදාම් කරන කඩ කිහිපයක් තිබ්බින.ලොරෙන්සෝගේ කඩේ මෙහින් එකකි..ලොරෙන්සෝ පාන් වෙලෙන්දෙකි..ගාර්නී වල විශාලම පාන් බේකරිය තිබුනේ ඔහුටය ...
ගාර්නී වල ලොරෙන්සෝ තරම් සට කපට කයිරාටු කඩ හිමියෙක් තවත් නොවීය.එහෙත් ඔහු නිතරම තමන් තරම් නිහතමානීව වෙලෙදාම් කරන කිසිවෙකුත් ගාර්නී ගමේම නැති බැව් කියමින් පම්පෝරී ගැසීය.මෙහින් තමන් කපටියෙකු යැයි මිනිසුන්ගේ සිතෙහි ඇති අදහස නැතිවී යනු ඇතැයි ඔහු සිතීය.

ෆ්‍රැරැන්සිස් අන්ත දූප්පත් වූ නිසාවෙන් ලොරෙන්සෝ ඔහුව ගනන් ගත්තේ නැත..චීස් විකුනන්නට ෆ්‍රැරැන්සීස් කඩේට එන සැම විටම ලොරෙන්සෝ ඔහුගෙන් චීස් ගත්තේ කේවල් මුදලටය...ඔහු තබ සතේටම කේවල් කලේය...අන්තිමට බොහෝම අඩු ගානට චීස් මිලදී ගත්තේය..ෆ්‍රැරැන්සීස්ටත් චීස් ලැබෙන ගානකට විකුනනවා හැරෙන්නට වෙන කිසිවක් කල නොහැක.ඒ සේරටමත් වඩා ලොරෙන්සෝ සමග අමනාප කම් ඇති කරගත නොහැකි තවත් හේතුවක් තිබ්බින...
ෆ්‍රැන්සිස් දිනපතාම පාන් ගත්තේ ලොරෙන්සෝගේ කඩෙනි .. සමහර විට චීස් වලට හිලව් වෙන්නටය ..තවත් සමහර විට නයටය.. ඒ නිසාම ලොරෙන්සෝව අමනාප කරගැනීම නුවනට හුරු ක්‍රියාවක් නොවින.
දිනක් උදැසනම අල්ෆෝන්සෝගේ කඩෙට ගිය ෆ්‍රැන්සිස්ට නොසිතූ අකරතැබ්බයකට මුහුන දෙන්නට සිදුවිය.
ෆ්‍රැන්සිස් එන තුරු මග රැකගෙන සිටි අල්පෝන්සෝ ඔහුගේ ඇගට ගොඩ විය..
" මිනිහෝ...තෝ හිතුවද මම මෝඩයෙක් කියලා...මම අල්පෝන්සෝ මේ ගාර්නී වලම ඉන්න සාධාරනම වෙලෙන්දා...තෝ වංචා කලේ එහෙව් එකෙක් එක්ක බව මතක තියා ගනින් .. "
" වංචාවක් " ෆ්‍රැන්සිස් උඩ බිම බැලීය..
" ඔව් .. වංචාවක්..උබ දාන චීස් වල බර අඩුයි...මම ඒක දවස් කිහිපයක්ම කිරලා මැනලා බැලුවා.. උබ හැමදාම දාන්නේ රාත්තලකට වඩා අඩුවෙන්... මේ බලපන් " කියූ අල්පෝන්සෝ ඔහු ගේ අතේ වූ චීස් රාත්තල තරාදියට තබා බැලීය..ඔහු කියන්නේ ඇත්තකි...ඒ චීස් එකේ රාත්තලක් නොමැත...

" මේ තියෙන්නේ උබ ඊයේ විකුනපු චීස් රාත්තල... "මම මේක අරගෙන යනවා නඩුකාරයා ලගට..උබටත් එන්නට වෙයි.... උබ මට දවස් ගානක් මේ විදියට වංචා කරලා ඇති ... ඒ නිසා උබෙන් මේකට වන්දියක් අරගෙන මිසක් මම පස්ස බලන්නේ නැහැ... "
ෆැරැන්සිස් කොයිතරම් බැගැපත් වුනත් අල්පෝන්සෝ ඔහුගේ තීරනය වෙනස් කලේ නැත.ඔහු නඩුකාරයා ලග ෆැන්සිස්ට විරුද්ධව නඩුවක් දැමීය...

"මේ නඩුවෙන් මම කොහොමත් දිනනවා ...එතකොට ගමේ එවුන් දැනගනියි මට වංචාව පෙන්නන්නම බැරි එකෙක් විත්තිය.ගාර්නි ගමේම මගේ නම ප්‍රසිද්ධ වෙයි ..ඒකෙන් මගේ බේකරියේ වෙල හෙලදාමත් සරු වෙයි.... " අල්පෝන්සෝ සිතීය...
නඩුව අසන දිනයේදි ෆැරැන්සිස් සහා අල්පෝන්සෝ නඩුකාරයා ඉස්සරහා පෙනී සිටියේය..මේ නඩුව ගාර්නී වල ජනප්‍රිය කල යුතු නිසාවෙන් අල්පෝන්සෝ ගාර්නී ගමේ ධනපතියන් කිහිප දෙනෙකුටත් , අවට ගම් වල ප්‍රසිද්ධ මුදලාලිලා කිහිප දෙනෙකුටත් නඩු අසන සභාවට එන්නටැයි ආරාධනා කොට තිබින. එසේම ගාර්නී වල පුවත්පතකුත් සිද්ධිය වාර්තා කිරිමට පැමින සිටියේය...

නඩුව ආරම්භ වීමට පෙර ගාර්නී වල පුවත්පතට ප්‍රකාශයක් කල අල්පෝන්සෝ "මම තමයි ගාර්නී වල සාධාරනම වෙලෙන්දා...මට වංචාව පෙන්නන්නම බැහැ..මෙවැනි වංචාකාරයින්ගෙන් අපි ගාර්නී ගම ආරක්ෂා කරගන්න ඕනේ " යි උදම් ඇනීය...

පත්තර කරුවන් අල්පෝන්සෝගේ ජායාරූපයක්ද ගත් අතර නඩුව ජයගත් පසුව එය තම පත්තරයේ මුල්ම පිටුවේ පලකරන බව ඔහුන් අල්පෝන්සෝට පොරොන්දු විය.
මේ සියල්ලම මේ ආකාරයෙන් සිදුවෙද්දී දුප්පත් ෆැරැන්සිස් නඩුකාර සභාවේ කොනට වී නිශ්ශබ්දව වාඩි වී සිටියේය.කිසිවෙකුත් ඔහු සමග කතා කලේ නැත..සියල්ලෝම අල්පෝන්සු වටා රැස්වි සිටි අතර නඩුවටත් කලින්ම ෆැරැන්සිස් හෝරෙකු ලෙස සියල්ලෝම හංවඩු ගසා තිබින..
නඩුව පටන් ගත්හ.
නඩුකාරයා මුලින්ම අල්පෝන්සෝගෙන් ප්‍රශ්න කල අතර පැමිනිලි කූඩවට නැගුනු අල්පෝන්සෝ බොහෝම උත්තුන්ග ලීලාවෙන් ෆැරැන්සිස් නම් චීස් වෙලෙන්දා කල වංචාව ගැන සභාවට කීහ..
ඔහුගේ සාක්ෂියෙන් පසුව නඩුකාරයා ෆැන්සිස්ව විත්ති කූඩුවට කැදවීය.

" ඔබද මේ චීස් අල්පෝන්සෝට විකිනුවේ " නඩුකාරයා අල්පෝන්සො ගෙනා චීස් රාත්තල පෙන්වා ඇසීය.
" ඔව් ස්වාමීනි " ෆැරැන්සිස් එය පිලිගත්තේය..

ෆ්‍රැරන්සිස් ඉදිරියේම චීස් එක කිරා බැලු නඩුකාරයා එය රාත්තලට වඩා අඩු බව නිශ්චය කලේය...
" මේ චීස් එක රාත්තලට වඩා අඩු නිසා තමුන් මේකට අනිවාර්යෙන්ම වැරදි කරු වෙනවා... " නඩුකාරයා එසේ කියත්ම අල්පොන්සෝගේ මුහුනෙන් මද සිනහවක් මතු විය.. ඔහු සභාවේ සිටි අනෙකුත් මුදලාලා දෙස බොහෝම ගාම්භීර බැල්මකින් බැලීය....
" එහෙත් මේකට තමුන්ව වැරදි කරු කරන්නට කලින් මට තව එක ප්‍රශ්නයක් අහන්න තියෙනවා." නඩු කාරයා ෆ්‍රැන්සිස් දෙස බැලීය...
" ඔබ බොහෝම දුප්පත් චීස් වෙලෙන්දෙක් .. සමහරක් විට ඔබට චීස් කිරන්නට තරාදියක්වත් නැතිව ඇති...... ඔබ කොහොමද චීස් කිරන්නේ ? "
" ස්වාමිනි මට බොහෝම පරන තරාදියක් තියෙනවා..එහෙත් ඒකට රාත්තලේ පඩියක් නැහැ... "
ෆ්‍රැන්සිස් බොහෝම බයාදු ලෙස කීහ...සභාවේ සිටි සියල්ලන්ම මේ කතාවෙන් සිනාසුනු අතර ඔහුන්ගේ සිනහව නැවැත්වීමට නඩුකාරයටා කිහිප වතාවක්ම මේසයට ලී මිටියෙන් තලන්නට සිදුවිය..
" රාත්තලේ පඩියක් නැතිව කොහොමද මනුස්සයෝ චීස් වල බර කිරන්නේ... "
" ස්වාමිනී " ෆ්‍රැන්සීස් යලිත් ඔහුගේ බයාදු හඩ අවදිකලේය..
" මම හැමදාම අල්පෝන්සෝගේ කඩෙන් පාන් රාත්තලක් ගන්නවා..ඒ පාන් රාත්තලෙන් තමයි චීස් රාත්තල කිරලා අරගන්නේ... "
ෆ්‍රැන්සීස්ගේ මේ කතාවත් සමගම සභාවේ සිටියවුන්ගේ කටවල් වැසී ගියෝය.... අල්පෝන්සෝගේ සහයට ආ සමහරු හීන් සීරුවෙන් එතනින් ලිස්සලා ගිය අතර සමහරු ඔහුන් හිදසිටි පැත්ත වෙනස් කරමින් අනෙක් පැත්තෙන් හිදගත්තෝය... නඩුකාරය අල්පොන්සෝ දෙස බැලීය...ඔහුගේ හීන් කනින් දහඩිය දමමින් තිබින.

මේ නඩුවෙන් අල්පෝන්සෝ පරාද විය.ෆ්‍රැරන්සීස් වෙනුවට අල්පෝන්සෝව වැරදි කරුවිය.බොරු වංචාවකට පැටලුවට අල්පෝන්සෝට ෆ්‍රැන්සීස්ට වන්දි මුදලක් දීමටත් සිදුවූ අතර ඊට පහුවෙනිදාම ගාර්නී පුවත්පතේ ලොකු අකුරින්ම " පාන් රාත්තලේ වංචාකාරයා " යනුවෙන් අල්පෝන්සෝගේ ඡායාරූපයත් සමග දිග වාර්තාවක්ද පලවිය.

---

පසුවදන - අනුන්ට කපන වලේම තමනුත් ඇදවැටී විනාශ වෙන අය අද සමාජයේ අනන්තවත් ඇත. අල්පෝන්සෝත් එවැන්නෙකි.

# අල , කෝපි සහා බිත්තර

ජීවිතයේ විදින්නට වී ඇති අනේක විද දුක් කම්කටොලු ගැන මීරා හොදටම වේදනාවට පත් වෙලා හිටියේ...ඇය දවසක් ගියා ඇයගේ පියා වැඩකරමින් සිටි හෝටලයට.ඔහු එහි කෝකියෙක්.ඇය තාත්තවත් බදාගෙන , හඬමින් ඇයගේ දුක කියන්න පටන් ගත්තා.
" ඇයි තාත්තේ මටම මේ තරම් ප්‍රශ්න...මට ජීවත් වෙන එකත් එපා වෙලා තියෙන්න ..මේ ප්‍රශ්න නිසා බයයි මට පිස්සු හැදෙයිද කියලත් " ඇය කිව්වා...

එයාගේ තාත්තට තේරුනා තමන්ගේ දුවව මේ හිත් වේදනාවෙන් ගලවගන්න ඕනේ විත්තිය... ඔහුගේ හිතට අපූරු අදහසක් ආවා
ඔහු කුස්සියේ තිබුනු ලොකු භාජනයක් රත් කලා...වතුර හොදට රත් වීගෙන එනකොට ඒකට දැම්මා අල ගෙඩියක් , බිත්තරයක් සහා කෝපි ඇට කිහිපයක්..

" තාත්තා මොනවද මේ කරන්නේ " මීරා ඇහැව්වා..
" දුව බලාගෙන ඉන්නකෝ " ඔහු කිව්වා...

විනාඩි පහල්වකට විතර පස්සේ ඔහු ඒසේරම ටික උනුවතුර භාජනයෙන් ඉවත් කලා..

"මේ බලන්න " ඔහු ඉවතට ගත්තු අල ගෙඩිය දුවට පෙන්නුවා...මේක පොඩ්ඩක් අල්ලලා බලන්න... මීරා අල ගෙඩිය යාන්තමට ඇල්ලුවා..ඒක හොදටම මෙලෙක් වෙලා...ඊට පස්සේ ඔහු ඇයට බිත්තරය පෙන්නුවා...ඒක ගලක් වගේ හයි වෙලා තිබුනා.එතකොට කෝපී ඇට..කෝපී ඇට අමුතුම විදියට වෙනස් වෙලා ඒකෙන් හොද සුවදකුත් හමනවා..මේ සේරම දුවගේ ඉස්සරහා තිබ්බ තාත්තා දුවට මෙහෙම කිව්වා..
" පොඩ්ඩක් හිතන්න ..මේ උනුවතුර එක තමයි අපේ ජීවිතයට එන ප්‍රශ්න..මේ දේවල් තුනම මේ ප්‍රශ්න වලට එක විදියටම මුහුන දුන්නා....

" අල මේ උනුවතුරට දාන්න කලින් හොද හයියට තිබ්බා..එහෙත් උනුවතුර නිසා ඒක මෙලෙක් වෙලා ගියා..එහෙත් බිත්තර උනු වතුරට ගලක් වගේ හයි වුනා...කෝපි ඇට මේ දෙකටම වඩා වෙනස්..ඒක වතුර එකත් වෙනස් කරලා අපූරූ සුවදක් දෙන්න පටන් ගත්හා.... "

මේ දේවල් තුන තුන් විදියකට මේ ප්‍රශ්න වලට මුහුන දුන්නා...
ඔයාම හිතන්න ඔයා මේ තුන් දෙනාගෙන් කවුද , ප්‍රශ්න නිසා මෙලෙක් වෙලා යන කෙනෙක්ද , ප්‍රශ්න නිසා තවත් ශක්තිමත් වෙන කෙනෙක්ද..එහෙමත් නැත්නම් ප්‍රශ්න වලට මුහුන දීලා අලුත් විදියට නැගී සිටින කෙනෙක්ද "

" දුවේ ප්‍රශ්න අපි හැමෝගෙම ජීවිත වලට තියෙනවා..මිනිස්සු වෙනස් වෙන්නේ ඒ ප්‍රශ්න වලට අපි මුහුන දෙන විදිය අනුව... ඔයාම තීරනය කරන්න ඔයා ප්‍රශ්න වලට මුහුන දෙන්නේ මොන විදියටද ? "

තාත්තා එහෙම කියද්දී මීරාගේ ඇස් දෙකෙන් කඳුලු කඩා වැටුනා...

---

පසුවදන - ජීවිතයේ ප්‍රශ්න අපි හැමෝටම තියෙනවා..ඒ අතින් අපි හැමෝම එක සමානයි .එහෙත් අපි අසමාන වෙන තැනකුත් තියෙනවා..ඒ.. ප්‍රශ්න වලට අපි පිලිතුරු සොයන ආකාරය අනුව... සමහරු ප්‍රශ්න නිසා හෙම්බත් වෙලා මානසික කඩා වැටිලා ජීවිතය පවා නැතිකරගන්න යද්දි..තවත් සමහරු ඒ ප්‍රශ්නම ජීවිතයට ආශිර්වාදයක් කරගෙන ආයෙමත් ශක්තිමත්ව නැගී සිටිනවා..ඔබම තීරනය කරන්න ...ඔබට අවශය ප්‍රශ්න නිසා මානසිකව කඩා වැටෙන්නද, ඒවා ජීවිතයට ශක්තියක් කරගෙන යලිත් නැගී සිටින්නද?

# තෙරේසාගේ කතාව නොහොත් ඇනොරෙක්ෂියා

මම ඔබට කියන්නට යන මෙම සිදුවීම සිදුවුයේ මීට වසරකට පමන පෙරය...එකල සෙවනවාන්ක් නම් වූ හිතාමත් පැරනී දේවස්තානයක පියතුමෙකු ලෙස මම ජීවත් වුයෙමි.

දිනක් හවස පූජාව අවසන් වී දේවස්තානය පිරිසිදු කරමින් සිටි මට දේවස්තානයට ඇතුල් වන අයෙකුගේ ජායාවක් දැකගත හැකි විය... මා ඔබට ජායාවක් යැයි පැවසුවේ සාමාන්‍ය මනුස්සයෙකුගේ සිරුරට වඩා එම සිරුර සිහින් වූ නිසාය..හිරු එලිය ප්‍රධාන දොරටුවෙන් ඇතුලට වැටෙමින් තිබුනෙන් ඇතුලත සිටි මාහට හිරු එලියට ආවරනය වුනු එම රූපය හරියටම දැකගත නොහැකි විය. හිස් ආවරනයක් සහිත විශාල කලු ලෝගුවකින් එම තැනත්තා මුලු සිරුරම ආවරනය කොටගෙන තිබ්න...මා අසලටම පැමිනි පසු ඇය ලෝගුවේ හිස ආවරනය පහත දැමීය... ඇයගේ රූපය දැකීමෙන් මගේ මුලු සිරුරම එතනම නතරවිය..එය මොහොතකට සීතල වී ගියේය...පූජක දිවියේ කිසිම දිනෙක මම එවැනි විරූපි වු රුවක් දැක නොතිබ්න... එහි දැස එලියට නෙරපී තිබ්න....මුහුනේ මස් ඇතුලට කිදා බැස තිබුනෙන් එය මුහුනක ඇටසැකීල්ලක් බදුවිය...හිස් ලෝගුව ඉවත්කරත්ම කලු පැහැ කොන්ඩය බිමට එල්ලී වැටින... ඇය කාන්තාවක් යැයි මම හඳුනා ගත්තේ එම කොන්ඩය නිසා යයි මම සිතමී...

"පියතුමනි මම ගොඩක් ප්‍රමාදද? ඇය මගෙන් ඇසීය...
දේවස්තානට ? මම ඇසිමි
" නැහැ... පාපොච්චාරනයක් කරන්න " ඇය කීහ...
" නැහැ දරුවා ... එන්න " කියූ මම දේවස්තානයේ පෞද්ගලික කුටියට ඇයව රැගෙන ගියෙමී..

මෙම දේවස්තානය හිතාමත්ම පැරනි එකක් යැයි මම ඔබට කීවෙමි..එය ක්‍රිස්තු පූර්ව 4 වන ශතවර්ෂයේ ජේසුස් ක්‍රිස්තුස් වහන්සේගේ උප්පත්තියටත් පෙර ඉදිකරන ලද එකකි..සෙවාන් නම් වූ විශාල විල මත ඇති කුඩා දූපතක එය ඉදිකර ඇත... මා ඇයව ගෙන ගිය කුඩා කුටීරය මෙම දේවස්තානයේ පැරනීම කුටීර වලින් එකක් විය... ඉදිකරන දා පටන්ම මෙය භාවිතා කර ඇත්තේ " පවු

සමාකරගැනීමේ සහා පාපොච්චාරනය " වෙනුවෙන්ම ඉදිකරන ලද කුටිරයක් ලෙසය..අදටත් එය එසේමය..
සම්පූර්න කලු ගලින්ම සාදා තිබු මෙම කුටීරයේ මැද සූර්යාලෝකය ඇතුලට වැටීමට හැකිවන පරිද්දෙන් නිර්මානය කල කුඩා කවුලුවක් විය.
එම කවුලුවෙන් එන අලෝකය එක එල්ලේම බිත්තියට වැටී ඇත....එහි හරි මධයයේ තනි කලුගලින්ම කල ආසන දෙකකි.... කූටීරය තුලට ගියමා එහි ඇයට හිහගන්නට කීවෙමි.... එහි හිදගත් ඇය මොහොතක් මා දෙස බලා සිටියාය...

"මම අද සියදිවි නසාගන්නවා " මා දෙස ගැබුරු බැල්මක් හෙලමින් ඇය පැවසුවාය...
මෙම කුටීරයට අද වෙනතුරු දහස් ගනනක් පැමින පාපොච්චාරනය කර ඇත...එහෙත් මේ සිද්දීය මගේ හදවතට තදින්ම කිදාබැසගත් දෙයක්විය...
" ඇයි " මා ඇයගෙන් ඇසුවෙමි..
ඒ ප්‍රශ්නයත් සමග ආසනයෙන් නැගිටි ඇය ඇයගේ සිරැර වසාගෙන සිටි කලු ලෝගුව ඉවත් කලාය.... ඇයගේ මුලු සිරැරම කවුලුවෙන් වැටෙන ආලෝකයෙන් මනාව දර්ෂනය විය.... ඇය ඇද සිටි සුදු පැහැ ගවොම ඇයගේ සිරැරටම කිදා බැස තිබුනාය... ඇයගේ මුලු සිරැරම බයන්කාර දර්ෂනයක් මැවීය... එලියට පෙනෙන ඇයගේ දෑත සම්පූර්නයෙම ඇට සැකිල්ලක් බදු විය... එහී මාංශයකට ඇත්තේ එම ඇටසැකිල්ලටම ඇලි ඇති සම පමනකී... ඔබේ දෑත එක් කල විට ඒය ඇගේ මුලු සිරැරම ඒ තුලට රදවා ගැනීමට සමත්වනු ඇත..ඒ තරමටම ඇයගේ සිරැර කෙසගය...

"මට ඇනොරෙක්ෂියා ... මට තවත් මොනවද කරන්න ඉතුරු වෙලා තියෙන්නේ ෆාදර් "
ඇය මා ඉදිරියේ දනින් වැටුනාය...මා ඇයව නැගිටුවා යලිත් ආසනය මත හින්දෙව්වෙමි...
" මොකක්ද ඔයාගෙ නම "
"තෙරේසා"
" දෙවියන් ඉදිරියේ අපි හැමෝම අංග සම්පූර්නයි දරුවා" මා ඇයට කීවෙමි...
" එහෙත් ලෝකය ඉදිරියේ මම නිකන්ම නිකන් ඇටකටු ගොඩක් විතරයි ෆාදර් " ඇය මගේ දෑත ඇයගේ අත්ල මත තැබීය..
" බලන්න ෆාදර් ... මම නිකන්ම නිකන් ඇටකටු ගොඩක් විතරයි.. ඇවිදින මලමිනියක්... ෆාදර් මාව දැක්කම බය වෙච්ච විදිය මම දැක්කා... මාව දැක්කම ෆාදර්ට වැඩිය අනිත් මිනිස්සු බය වෙනවා.. හරියට මලමිනියක් දැක්කා වගේ... මම තව කොච්චර කාලයක් මාව මේ විදියට වහගෙන ජිවත් වෙන්නද ෆාදර්.... මට මේ ජිවිතය ලොකු

වේදනාවක් ....මට මේකේ ඉවරයක් දකින්න ඕනේ ෆාදර්... කරුනාකරලා දෙවියට කියන්න මට සමාව දෙන්න කියලා "

කියන්නේ කුමක්දැයි නොදැන මම මොහොතකට අතරමන් වී සිටියෙමි... සියදිවි නසාගැනීමට පෙර පාපොච්චාරනයක් කරගැනීමට පැමිනි අය මා මීට කලින් හමුවී ඇත...ඔහුන් බොහොමයකගේ ජීවිත මා බේරාගෙන ඇත.... මොහොතක් නිහඬව " ඇයගේ ජීවිතය බේරාදීමට මට සහායක් වෙන්නැයි මා නිහඬවම දෙවියන්ට කන්නලව් කලෙමි...සමහර විට ඇයට එය දැනෙන්නට ඇත..
" එපා ෆාදර් " මගේ ජීවිතය බේරාගන්න කියලා දෙවියන්ගෙන් ඉල්ලන්න එපා ... මට දැන් හිටියා හොදටම ඇති... මේකේන් මිදෙන්න පුලුවන් විදියක් නැහැ...පහුගිය අවුරුදු කිහිපය තුලම මට මේ වෙනුවෙන් කරන්න පුලුවන් හැමදේම කලා... අද මම ආවේ මාව බේරගන්න කියන්න නෙමේ... මම කරන්න යන මේ දුෂ්ට දේට මට සමාව දෙන්න කියන්න "
එහෙත් දෙවියන්ව විශ්වාස කරන මට ඇයට එයට පිලිතුරක් දිය නොහැක..දෙවියන් අපේ ජීවිතය තුල ක්‍රියා කරන විදි කිහිපයක් ඇත..එකක් උන්වහන්සේ අපිට ජීවිතය කුමක්දැයි හරි හැටි වටහා ගැනීමට අපිට උපකාර කරයි...එය හිතාමත් දුක්ඛිත පරික්ෂනයක් විය හැක...එහෙත් එය අපේ ජීවිතයට අවශය බව උන්වහන්සේ දනියි..උන්වහන්සේගේ විශ්වාසයේ පරික්ෂාවට මෙලොව සැම සත්වයාම භාජනය වෙති....

" තෙරෙසා විවහා වෙලාද " මා ඇයගෙන් ඇසුවේ ඇයගේ සිත වෙනස් කිරීමට මාර්ගයක් සොයනු සදහාය..
එම ප්‍රශ්නයත් සමගම ඇයගේ මුහුනේ සිහින් සිනාවක් නැගින...
" මට තාම 25යි ෆාදර්... මට දැන් ඉතුරු වෙලා තියෙන්නේ මේ ඇටකටු ගොඩ විතරයි..මාව කවුද විවහා කරගන්නේ... "

'එහෙත් ජීවිතය නැති කරගන්න එක දෙවියන් වහන්සේගේ කැමැත්ත නෙමෙයි දරුවා "
මා ඇයට කීවෙමී.. මා කතා කලේ සිහින්ව වුවත් කලුගලින් නිම කර තිබු කුඩා කුටීරය තුල එයින් මද දෝංකාරයක් නැගින...

" මගේ ජීවිතයට මේ වගේ දුක්ඛිත වෙන එකත් දෙවියන් කරපු දෙයක් කියලා මම හිතන්නේ නැහැ ෆාදර්... දෙවියන් නොකරපු දෙයකට උන්වහන්සේට මම දෝස් කියන්නෙ නැහැ.... මේක මමම විදගත යුතු දෙයක්..මම ඒ දුක අවුරුදු ගානක්ම වින්දා..දෙවියට මට උපකාරයක් කරන්න ඕනෙනම් ඒ ගත වෙලා ගිය අවුරුදු ගානම ඇති...එහෙත් උන්වහන්සේ මාව සම්පූර්නයෙන්ම අමතක කරලා දැම්මා... මම මේ තීරනය ගත්තේ උන්වහන්සේ වෙනුවෙන් අවුරුදු ගානම බලාගෙන ඉදලා..එහෙත් තවමත් මට උන්වහන්සේ ගැන

ආදරයක් තියෙනවා...ඒකයි මම අද ආවේ... උන්වහන්සේගෙන් සමාව ඉල්ලන්න "

ඇයගේ ජීවිතය බේරාගැනීමට මට කියත හැකි සැමදෙයම කියූ පසුවත් ඒ සියල්ල ඇය ඉදිරියේ නිකන්ම නිකන් වචන බවට පෙරලී ගීයේය... ඇයත් මමත් බොහෝ වෙලාවක් එම කුටීරය තුල යාච්ඤා කරන්නට ඇත... එහෙත් ඇයගේ සිත වෙනස් කරන්නට මා හට නොහැකි විය... මා හට කියන්නට හැකි වූයේ " ජීවිතයට හානියක් කරගන්න එපා තෙරේසා " යන්න පමනකි...ඇයගේ සිහින් මුවින් සියුම් සිනහවක් නගමින් ඇය ඒ වචන සියල්ලම ඇයගේ කදුලු වලින්ම පහකරදැමීය...
කුඩා කුටීරයෙන් එලියට එත්ම මා ඇයට තවත් ආයාචනයක් කලෙමි.

" තෙරේසා ..හෙට අපේ පූජාවට සහභාගීවෙන්න... ඔයාගේ ජීවිතය ගැන අනිත් අයත් එක්ක බෙදාගන්න... ඔයාට පුලුවන්ද දෙවියන් ඉදිරියේ තෙස්තමනියක් දෙන්න... ඔයා ගැන.. " මා ඇසුවෙමි... ඇය ඊට කිසිවක් නොකීය.... ඇය යන්නට ගියාය...ඒ ඇයව මා දකින අවසාන මොහොත යයි මා සිතුවෙමි...එදින මුලු රාත්‍රිය පුරාම මම ඇය වෙනුවෙන් දෙවියන් යැද්දෙමි....

පහුවෙනිදා පල්ලියේ පූජාව පටන් ගත්ම මා ඇයගේ ජායාවක් දකිනු රිසියෙන් පල්ලියේ පිරි සිටි මිනිසුන් දෙස බැලුවෙමි..එහෙත් ඇය එහි නොසිටියාය... දිවය ප්‍රසාදය අවසන්ව තෙස්තමනි හුවමාරු කරගැනීමේ මොහොතකට පැමිනි විට මා දෙවියන් ඉදිරියේ හිටගතිමි..කුමක් කියනදැයි මම දැනගෙන නොසිටියෙමි.. මගේ මුලු හිසම ඇය ගැන පශ්චාත්තාපිත සිතුවිලි වලින් පිරී තිබින.

පල්ලියේ ප්‍රධාන දෝරටුව තුලින් ඇතුලුවන ජායාවක් යාන්තමට මෙන් මා දැක්කේ ඒ මොහොතේදීය...ඒ ඇයයි.. තෙරේසා…මුලු ශරීරයම වැසූ ලෝගුවකින් ඇය සැරසී සිටියාය.... වික්ෂිප්තව මා ඇය දෙස බලා සිටිනු ඇය දකින්නට ඇත.ඇය හිස් ආවරනය ඉවත් කොට හිස ඔසවා මා දෙස බැලීය....ඒ තෙස්තිමනි ආරම්භ වන මොහොත නිසාවෙන් ඇයට ඉදිරියට පැමිනෙන්නැයි මා පැවසුවෙමි...

ඇය මා සිටි තැනට විත් සිට ගත්තාය... පල්ලියේ ආසන සියල්ලම ඒ වනවිටත් පිරී තිබින...පසුපසින් ඇසුනු පියානෝ හඩ සෙමින් වියැකී ගියේය..දෙවියන් වෙනුවෙන් සාක්ෂය හුවමාරු කරගන්නා හෝරාව වෙනුවෙන් සියල්ලෝම නිහඩ වී සිටියේය.. තෙරේසාගේ සාක්ෂය වෙනුවෙන් ඉඩ ලබාදුන් මා , පිටුපසින් ඇති ආසනයක හිදගත්තෙමි...

ඇය සියල්ලෝම ඉදිරියේ ඇයගේ සිරුර වසා සිටි කලු ලෝගුව උනා දැමුවාය.... එයත් සමග පල්ලියේ හැමෝගෙම මුව තුලින් නැගුනේ

රාවයකි... සමහරු ලොමු ගැන්වුනු දෑස් විවර කර වික්ෂිප්තව ඇය දෙස බලා සිටියාය..තවත් සමහරු එකිනෙකා අතර රහසින් දෝඩවන්නට විය... ඇයගේ ශරීරය වසා තිබූ සුදු පැහැ ගවුම හැරෙන්නට පල්ලීයේ ආකරය මතසිට ගත් ඇටසැකිල්ලක් මෙන් ඇයගේ මුලු සිරුරම දර්ශනය විය...

" මම තෙරේසා ... ඔයාලා හැමෝම වගේ මමත් මනුස්සයෙක්.... මටත් අම්මා තාත්තා ඉන්නවා... අපි ගොඩක් සතුටින් ජීවත් වුනු අය... ජීවිතයට සතුට වැඩිවෙද්දී අපි ඒ සතුට තුලින් මොකක් හරි දුකක් හොයාගන්නවා... මනුස්ස ජීවිත සම්පුර්න සතුටම ඒ විදියටම විදින්න පුරුදු වෙලා නැහැ... මොකක් හරි වේදනාවක් නැත්නම් අපිට අපි ජීවත්වෙනවද කියලා තේරෙන්නේ නැහැ... මමත් එහෙමයි...අපේ සතුටින් පිරුනු ජීවිතයේ මමත් වේදනාවක් හෙව්වා... මම හොයාගත්තා...
මගේ ශරිරය...
හැමදේම ජීවිතයට තිබුන නිසා... ශරීරයත් අංග සම්පූර්න වෙලා තිබුනේ.... වැඩිවියට පත්වුනාට පස්සේ මම ශරීරය ගැන වැඩි පුර හිතන්න ගත්තා... මට ලස්සන ශරීරයක් තිබුනා.... එහෙත් ඒ ලස්සන මට පෙනුනේ මහතක් විදියට.... ටීවී එක බලද්දී ...ඒවායේ නිලියන්ගේ ශරීරය බලද්දී මටත් ඕනේ වුනා මගේ ශරීරයත් ඒ විදියට හදාගන්න...

මම කෑම කන එක අඩු කලා.... වේල් තුනක්ම සතුටින් කාපු මම වේල් දෙකක් කන්න පටන් ගත්තා...ඊට පස්සේ ඒක එක වේලක් වුනා...මගේ ශරීරයත් මට ඕනේ විදියට කෙට්ටු වෙන්න ගත්තා... කෙට්ටු වෙන්න කෙට්ටු වෙන්න.. මට ඒක පෙනුනේ පුදුමාකාර ලස්සනක් විදියට....

දවසකට කන එකවේලත් මම අඩු කලා... ඒක පුංචි ලාවාෂ් කෑල්ලකට පමනක් සීමා වුනා... මගේ අම්මා තාත්තා මං ගැන බය වුනා... ඒ අය සමහර වෙලාවට මගේ ඉස්සරා වැදවැටුනා...මොකේටවත් නෙමේ.... එක වේලක්වත් වැඩියෙන් කන්න කියලා..එහෙත් ඒ අයව තේරුම් ගන්න තරම් හැකියාවක් මට තිබුනේ නැහැ... ලස්සන කියන්නේ කෙට්ටු වෙන එකට කියලා මම රැවටිලා හිටියේ...පාරෙදී දකින මහත ගැහැනු ලමයින් දිහා බලද්දී මට ඉබේම හිනා ගියා..මගේ කෙට්ටුව මම දැක්කේ පුදුමාකාර ලස්සනක් විදියට..
කාලයත් එක්ක..මගේ ශරීරය වෙනස් වෙන්න ගත්තා...එහෙත් ඒ වෙනස ලස්සනටත් වැඩිය අවලස්සනක් වුනා.මගේ මස් දියවෙලා ඇටකටු එලියට එන්න ගත්තා.... එදා මට හිතුනා මම කරපු මෝඩකම...මම තීරනය කලා ආයෙත් සාමාන්‍ය විදියට ජීවත් වෙන්න..එහෙත් මම පරක්කු වැඩියි... මම කාපු තරමට වඩා කන්න

ලැබුනේ නැහැ...මට කෑම අප්‍රිය වෙලා තිබ්බේ....කෑම කෑවත් ඒවා ශරීරයට ඇල්ලුවේ නැහැ....

අම්මයි තාත්තයි මාව ඩොක්ටර් කෙනෙක් ලගට එක්කන් ගියා...එතනදි තමයි මම දැනගත්තෙ මට ඇනොරෙක්ෂියා හැදිලා තියෙන බව.... මම බෙහෙත් කලා..මේක සනීප කරගන්න කරන්න පුලුවන් හැම දේම කලා..එහෙත් ආයෙත් ඉස්සර තිබුනු ශරීරය ලබා ගන්න එක හීනයක් විතරයි...

මම අදටත් ප්‍රාර්තනා කරනවා " මහතට හිටිය තෙරේසා වෙන්න " ඒ මහතට මම එදා වෛර කලත් අද මම ඒකට ආදාරය කරනවා .. " ඇයගේ දෑසින් කඳුලු කඩා වැටින...
ඇය හිස පහතට නමා ඒවා වසන් කරගත්තේය..
"බලන්න මගේ ශරීරය දිහා...මොනවද ඔබ දකින්නේ... නිකන්ම නිකන් ඇවිදින මලකදක් .. " මේ සිරුරට දකිද්දී ඔබට ඇතිවන පිලිකුලට වඩා පිලිකුලක් මට මං ගැන ඇතිවෙනවා.....

එදා මට නොතේරුන ගොඩක් දේවල් අද මට තේරෙනවා... ... මහත කියන්නේ අවලස්සනට නෙමෙයි..එදා මම මහතයි කියලා හිනා වුනු ගොඩක් අය අද ලස්සන ජීවිත ගත කරද්දී කෙට්ටුව ලස්සනක් කියලා හිතාගෙන හිටපු මම ජීවිතය විදවනවා... " ඇය හඩා වැටෙන්නට විය... අදෝනාවකුත් සමග කබාය ඇගට දමා ගත් ඇය දේවස්තානයෙන් පිටතට දිව ගියාය....ඒ මා ඇයව දුටු අවසන් මොහොතයි...

ඉන් පසු කිසිම දිනෙක මට ඇයව මුන නොගැසින... ඇනොරෙක්ෂියා සැදුනු ගැහැනු ලමයෙකු ගැන සොයමින් මම සෙවාන් නගරය පීරුවත් මට තෙරේසාව යලිදු සොයා ගත නොහැකි විය.... ඇය සියදිවි නසා ගන්නට ඇත..නැතහොත් කොයේ හෝ තවමත් ජීවත් වෙනු ඇත... ඒ කොයේ දැයි මා නොදනිමි..
අදටත් තරුන ගැහැනු ලමයින් දුටු විට ඇයගේ කතාව මම ඔහුනුත් සමග බෙදා ගනිමි... ඒ කිසිම තරුන ජීවිතයට එවැනි ඉරනමක් ලැබිය නොයුතු යැයි මා විශ්වාස කරන නිසාය...
තෙරේසා අද නැතත් එවැනි තෙරෙසා වරු බොහොමයක් අදත් අප අතර ජීවත් වෙයි..

පසුවදන -
මේ කතාව ලියන දවසේ අහම්බෙන් වගේ මට තෙරේසාව මුන ගැහෙනවා... ඒ මීට අවුරුදු ගානකට කලින් හිටිය " මහත " තෙරේසා නෙමෙයි..මටවත් හඳුරගන්න බැරි වුනු විරූපි කෙට්ටුවක් තිබුන තෙරේසා කෙනෙක්.. පස්සෙයි මට ආරංචී වෙන්නේ තෙරේසා කෙට්ටු වෙන්න ඕනේ නිසා නොකා නොබී ඉන්න බව .. තෙරේසගේ පවුලේ අයත් ඇය ගැන ඉන්නේ බයෙන් ...

සෙවානවාන්ක් කියන්නේ සෙවාන් ප්‍රදේශයේ තියෙන ක්‍රි පූ 4 වන ශතවර්ශයේ ඉදිකරපු දේවස්තානයක්..දැනට ප්‍රයෝජනයක් නොගත්තත් මම කියපු අදුරු කුටීරය තවමත් එහි තියෙනවා…

# ඉක්කා

දිනක් යහලුවෝ දෙදෙනෙක් දිවා අහාරය ගනිමින් සිටියේය...මෙසේ ආහාර ගන්නා අතරතුර එක් යහලුවෙකු ඉක්කා ගහන්නට පටන් ගත්තේය.
" මොකද උබ ඉක්කා ගහන්නේ " අනෙක් යහලුවා ඇසීය..
" මගේ බිරිද මට ගොඩක් ආදරෙයි..එයා මාව මතක් කරද්දී මට ගොඩක් ඉක්කා යනවා "

මේ කතාව නිසා අනෙක් යහලුවට හොදටම තරහා ගියේය... " මගේ බිරිද මං ගැන පොඩ්ඩක්වත් හිතන්නේ නැහැ... මට කවාදාවත් ආහාර ගනිද්දී ඉක්කා ගිහින් නැහැ...මේ ගැහැනි මට පොඩ්ඩක්වත් ආදරේ නැතිව ඇති " ඔහු සිතීය..

එදා වැඩ අවසන් වී නිවසට ගිය ඔහු තම බිරිදට හොදටම බැන වැදින.
"මගේ යහලුවා කෑම කද්දී හොදටම ඉක්කා ගහනවා...ඒ එයාගේ බිරිද එයාව ආදරයෙන් මතක් කරන නිසා..එහෙත් ඔයා මට ආදරේ නැහැ....මට කවදාවත් ඉක්කා ගිහින් නැහැ... "
ඔහුගේ මේ කතාව අසා සිටි ඔහුගේ බිරිදට කාරනය වැටහින..

පසුදින ඇය ඔහුගේ කෑම එකට හොද හැටි මිරිස් දමා වැඩට ගෙන යන්නට එය ඔතා දුන්නාය.දිවා අහාරයේදි ඔහු එය කන විට මිරිස් අදික කම නිසා ඔහු දැවිල්ලෙන් බෙරිහන් දෙමින් ඉක්කා ගසන්නට පටන් ගත්තේය..

තම යහලුවා තමා දෙස බලා සිටිනු දුටු ඔහු , ඔහුටත් ඇසෙන්නට මෙසේ කීහ...
" අනේ රත්තරං මාව මෙච්චර මතක් කරන්න එපා...මට ඉවසන්නම බැහැ... "
ඔහුගේ ඉක්කාවත් ..තමන්ගේ බොරුවට ඔහු ඇන්දී ඇති අයුරුත් දුටු යහලුවාට සිනහව ඉවසා ගත නොහැකි විය...

# අන්තිම අසාර්ථක මිනිහෙක්

මාවෙලෝ ආන්ද්‍රේ - අන්තිම අසාර්ථක මිනිහෙක් වෙලා හිටියා..
විවහයෙන් පසුවත් දරුවන් ලැබුනු පසුවත් සාර්ථකත්වය ඔහුට හීනයක් විතරක් වුනා..

" සල්ලි ගැන හිතන්න එපා... අපි තියෙන විදියට සතුටින් ජීවත්වෙමු..." ඔහුගේ බිරිඳ නාරා ඔහුට නිතරම කිව්වත් ඔහු ඒ ගැන සැලකුවේ නැහැ... ඔහුට තිබුනේ එකම අරමුනයි සාර්ථක වෙන්න...

කාලයක් උත්සහා කරලා කරලා අන්තිමේදී ඔහුට රජයේ රස්සාවක් ලැබුනා... ඒක තමයි ඔහුගේ සාර්තකත්වයේ මුල්ම අඩිතාලම වුනේ...ඔහු ඒ රස්සාව කරන ගමන්ම ලිපිකරු විභාගයට අයදුම් කලා... ඔහුව පාඨමාලවට තෝරා ගත්තා..

එදා හිදන් ඔහුගේ ජීවිතය පාඨමාලාවම විතරක් වුනා..
" නාරා..මොන දේ වුනත් මම මේකෙන් පාස් වෙනවා... ආයේ වෙන මුකුත් හිතන්නේ නැහැ "
" එතකොට මමයි දරුවයි ගැනවත් හිතන්නේ නැද්ද " නාරා වේදනාවෙන් යුතුව ඇසුවා
" එහෙම නෙමේ රත්තරන් ..ටික කාලයකට විතරයිනේ... "
ඔහු පිලිතුරු දුන්නා...

ඔහු විභාගයෙන් ඉහලින්ම සමත් වුනා..මේ නිසාම ඔහුට රස්සාවෙන් උසස් වීමකුත් ලැබුනා..ඔහු එදා නිවසට ආවේ පුදුමාකාර සතුටකින්...
"ඇති යන්තම්.... දැන්වත් ඔයාට ටිකක් නිදහසේ ඉන්න පුලුවන් .. "
නාරා ඔහුව වැලඳ ගන්න ගමන් කිව්වා..
"පිස්සුද ..එහෙම කොහොමද... මේක පොඩි උසස් වීමක් විතරයි... මම හිතාගෙන ඉන්නේ ජේෂ්ට පාඨමාලවාවත් කරන්න..එතකොට මට අපේ අංශයේ ප්‍රධානියා වෙන්න පුලුවන් .."
ඔහු ගත් කටටම කිව්වා...නාරාට කියන්න දෙයක් තිබුනේ නැහැ..ඇය කලේ සුසුම් ලන එක පමනයි..

එදා හිදන් මාවෙලෝ දෙවැනි පාඨමාලාව හැදැරුවා...ඔහු නාරා එක්කවත් දරුවා එක්කවත් වැඩිපුර කතා කලේ නැහැ...ගෙදරට ආපු හැටියෙම කලේ කාමරයට ගිහින් දොර වහගේන පාඨමාලාවේ වැඩකරන එක...
" ඔයා ඇයි අපිට මෙහෙම කරන්නේ මාවෙලෝ...මම ගැන හිතන්න ඕනේ නැහැ..අඩුම තරමින් දරුවා ගැනවත් හිතන්න .." ඔහුගේ බිරිද දවසක් ඔහුට කිව්වා..

" නාරා... තව ටික දවසයිනේ..මේකෙන් පාස් වුනොත් මගේ පඩියත් වැඩිවෙනවා...දෙවැනි උසස් වීමට රජයෙන් ගෙයකුත් දෙනවා... "
නාරා කටවහගෙන පැත්තකට වුනා..

මාවෙලෝ විභාගයෙන් සමත් වුනා...එහෙත් එක්කම රජයෙන් ඔහුට නිවසකුත් ලැබුනා... ඔහුට පුදුමාකාර සතුටක් දැනුනා..
ඔහු අලුත් ගෙදරට ගිය මුල්ම දවසේ ඔහුගේ දරුවව වැලද ගත්තා...
" ඔන්න පුතේ දැන් අපිට අලුත් ගෙයක් තියෙනවා..'' ඔහු දරුවට කිව්වා...එහෙත් දරුවා ඒක ගනනකට ගත්තේ නැහැ...
ඔහු මාවෙලෝව තල්ලු කරලා එතනින් යන්නට ගියා...

" මේ ළමයට මොකද වෙලා තියෙන්නේ...මෙච්චර සතුටු දවසකවත් මේ ළමයට සතුටු වෙන්න බැරිද .."
"නැහැ මාවෙලෝ ..ඔයා දරුවව වැලද ගත්තේ අවුරුදු කීයකට පස්සෙද...පුතාට දුක හිතෙන්න ඇති.. " නාරා ඔහුට කිව්වා..

" හරි අපි ඒවා අමතක කරමු..ඔයාට දැන් ගෙයක් තියෙනවා... හොද රස්සාවක් තියෙනවා... අද ඉදන්වත් අපිත් එක්ක කාලය ගත කරන්න... පුතාත් ඔයත් එක්ක හරිම අමනාපෙන් ඉන්නේ ඔයා එයත් එක්ක කතා කරන්නේ නැති එකට ... "
" පිස්සුද නාරා..මේ මම පටන් ගත්තා විතරයි..ඔයා දන්නවද අපේ ලොක්කගේ පඩිය කීයද කියලා...ඒයාගේ මාසේ පඩිය මම දැන් හම්බුකරන ගානට වඩා දෙගුනයකටත් වැඩියි.. ".. " මම තව විභාගයක් ඉවර කලානම් එයාගේ තැනටත් යන්න පුලුවන්..අපි අලුත්ම වහානයක් ගන්න ඕනේ මම දැන් ඉන්න පෝස්ට් එකත් එක්ක බස් වල යන්නත් බැහැනේ.... " ඔහු සිනාසෙමින් නාරාට කිව්වා

කලින් වගේමයි වෙනසක් වුනේ නැහැ... මාවෙලෝ රස්සාවට ගිහින් ඇවිත් කෙලින්ම යන්නේ කාමරයට....නාරා , දරුවා කිසි දෙයක් ගැන ඔහුට සැලකිල්ලක් නැති වුනා...රෑ එලි වෙනකන් පාඨමාලාවේ වැඩ කලා...

නයිරට මේ දේවල් හූලන්නම බැරි තැන නයිරා දරුවවත් අරගෙන එයාගේ ගෙදරට ගියා..එහෙත් මාවෙලෝට ඒක ඒ තරම් ගානක් ගියේවත් නැහැ..

" මේ ගැනීට පිස්සු...මෙච්චර ලොකු ගෙයක් දාලා අර දුප්පත් අම්මට වද දෙන්න ඒ මනුස්සයගේ ගෙදරට ගියානේ... කමක් නැහැ.... තව ටික දවසකින් දුක් විඳලා එපා වුනාම ආයේ එයි... " ඔහු හිතුවා..
අවුරුදු කීහිපයක්ම ගෙවිලා ගියා... නාරා කවදාවත්ම නිවසට ආවේ නැහැ... මාවෙලෝ අලුත්ම කාර් එකක් අරගත්තා... තව තවත් පාඨමාලා කරමින් ඉහලටම ගියා... දවසක් ඔහු අලුත්ම කාර් එක පෙන්නන්නත් එක්ක නාරා ජීවත් වුනු දුප්පත් ගෙදරට ගියා..
ඔහුගේ පුතා ඔහුව දැක්ක හැටියෙම මග හැරියා...

" පිස්සු නැතුව එන්න යන්න... මේ ගුබ්බැයමේ ඉන්නේ දරුවත් එක්ක මටත් ලැජ්ජයි.. " ඔහු නාරාට කිව්වා..
" නැහැ...අපේ පුතා දැන් රස්සාවක් කරනවා..එයාගේ සල්ලි වලින් අපිට ජීවත් වෙන්න පුලුවන්...ඔයාගේ උදව් ඕනේ වෙන්නේ නැහැ.. ඔයාගේ පාඨමාලා ඉවරද ?

මාවෙලෝ ටික වෙලාවක් කල්පනා කරන්න ගත්තා...ඔහු කල්පනා කරලා මෙහෙම කිව්වා

" පිස්සුද නාරා.. ඔයා දන්නවද මම දැන් සම්පූර්න කොම්පැනියක්ම පාලනය කරනවා..තව ටික දවසකින් ඩිරෙක්ට බෝඩ් එකටත් යන්නයි ඉන්නේ.... පාඨමාලා නිසානේ මේ හැම දේම... ඒක නවත්තලා කොහොමද... "
ඒ කතාව ඇහුනා විතරයි නාරාට තරහා ගිහින් දෝර වහගත්තා...

මාවෙලෝ අවුරුදු කිහිපයකින්ම ආයතන කීහිපයකම ප්‍රධානියා බවට පත් වුනා... ඔහු විශ්‍රාම යන වයසත් ආවා.... විශ්‍රාම යද්දී ඔහුට හැමදේම තිබුනා - සතුට හැරෙන්න...
ඔහු විශ්‍රාම ගිය දවසේ රාත්‍රියේ, ඔහු ඔහුගේ ජීවීතය ගැනම කල්පනා කලා..

" මට හැමදේම ලැබුනා.... එහෙත් දරුවත් ..නාරාත් අවුරුදු 30ක්ම මගෙන් වෙන්වුනා... මට සල්ලි ලැබුනත් ජිවිතේ තිබුනු සතුට සම්පූර්නයෙන්ම මගෙන් ඈත් වෙලා ගියා... දැන් මට සල්ලි තියෙනවා..මම බලාපොරොත්තු වුනු හැම දේමත් තියෙනවා... අද ඉඳන් විශ්‍රාම යන නිසා දරුවත් බිරිඳත් එක්ක ජිවත්වෙන්නත් ඇති වෙන්න කාලය ලැබෙනවා... ඒ නිසා හෙටම ගිහින් නාරවයි පුතාවයි

එක්ක එන්න ඕනේ...දැන් විශ්‍රාම ගිහින් නිසා එයාලා අනිවාර්යෙන්ම ඒවී... ඔහුගේ මුහුනින් සිනා රැල්ලක් මතුවුනා.. " හැමදේම හරියයි... නැතිවෙච්ච සතුට ආයෙමත් මගේ ජීවිතේට ඒවී "

ඔහු එදා රාත්‍රියේ නිදාගත්තේ හෙට ඉදන් ජීවිතයේ නැතිවෙලා ගිය සතුට ආයෙත් ගන්න හිතාගෙන... එහෙත් ඒ ඔහුගේ අන්තිම නින්ද වින්තිය ඔහු දැනගෙන හිටියේ නැහැ... එදින රාත්‍රියේම ඔහු මියගොස් සිටියා...

---

පසුවදන - ලුසින්... මගේ බිරිද මට හැමවෙලේම කියන කතාවක් තියෙනවා " ප්‍රශ්න හැම මොහොතෙම ජිවිතයට එනවා..එහෙත් ඒ ප්‍රශ්න නිසා ජිවිතයේ සතුට මග හැරියොත් ඒ සතුට ආයේ කවදාවත්ම එන්නේ නැතිවෙයි... "

මේ කතාව අපි අතර ඉන්න මාවෙලෝලා වෙනුවෙන්.

# මහළු අවතාරය

විවහයට පසුව මගේ මව ඇයගේ නිවස මටත් සැමියාටත් භාරදී ඇය කුලී නිවසක පදිංචියට ගියාය.අර්සුමාන්යාන් වීදියේ පිහිටා තිබුනු නිවාස සංකීර්නයක 4 වන මහලේ "58 " නම් වූ එම නිවස හිතාමත් පැරනි මාදිලියේ එකකි..මම මේ කියන්නට යන සිද්ධියත් සිදුවුයේ මගේ මව පදිංචිවී සිටි මෙම නිවස තුලය...

පසුගිය වසර මැද මගේ මව දැඩි සේ රෝගාතුර විය..ඇයගේ උදව්වට කිසිවෙකුත් නොසිටි නිසාවෙන් ඇයගේ නිවසට ගොස් ටික කාලයක් නැවතී සිටින්නට මා තීරනය කලෙමි...ඒ වන විට මගේ සැමියා ස්ටෙපානවාන් නගරයේ රාජකාරියේ නියුතුව සිටියෙන් ඔහු නිවසට පැමිනියේ මසකට දින කිහිපයක් පමනකී.... මගේ මවගේ අසනීප තත්වය ඔහුට සැලකල මම, මගේ පුතාත් සමග මවගේ නිවසට ගියෙමී... මගේ පුතා ලූකාස්ට ඒ වන විට වයස අවුරුදු 3ක් පමන විය.

දෙවන ලෝක යුද්ද සමයේදි ඉදිකර තිබුනු මෙම නිවාස සංකීර්නය හිතාමත් පැරනි මාදිලියේ එකක් විය...එය මීට අවුරුදු කිහිපයකට පෙර නාසි එස් එස් හමුදා සාමාජිකයින් නැවති සිටි නිවාස පේලියක් යැයි මා අසා ඇත..අර්සුමාන්යාන් වීදීය එම නමින් හැදින්වුයේත් ඒ නිසාය...
නිවසේ මැද බිත්තීයේ හරි මැදට වන්නට වයසක මිනිසෙකුගේ ජායාරූපයක් විය.... නාසි හමුදා ඇදුමින් සැරසී සිටි ඔහුගේ එක් ඇසක් කලු පැහැති රෙදි කැබැල්ලකින් වසා තිබින... දෙවන් ලෝක යුද්ද සමයේදී ඇසට සිදුවන හානියකදී ඇස ඉවත් කල පසු මෙවැනි පැච් දාගෙන සිටීම සාමාන්‍ය දෙයකි....එහෙත් මේ නිසාම ඔහුගේ රූපය බියකරු ස්වභාවයක් ගත්හ...ඔහුගේ ඔඩොක්කුවේ ලා තබ පැහැ හිසකෙස් ඇති කුඩා දරුවෙකු වාඩිවී සිටියේය....

මුලදී මා මෙම ජායාරූපය ගැන තැකීමක් නොකලත් නිවසේ ප්‍රධාන ශාලාව හරහා යාමේදි මෙය නිතරම දකින්නට ලැබෙන නිසාවෙන් එම ජායාරූපය මගේ මනසට වද දෙන්නට විය...ඒ නිසාම එය එතැනින් ගැලවූ මා එය ගබඩා කාමරයේ තැබුයෙමි...

මගේ මවගේ රෝගී තත්වය නිසාම ඇයට එහා පසින් වූ කුඩා කමරයේම නැවතීමට මා තිරනය කලෙමි...රත්‍රියේදි ඇයගේ රෝගී

තත්වය ඉහල ගියෙන් හදිසියකදි ඇයගේ කාමරයට යාමට එය පහසුවක් වනු ඇත..

මේ සිද්දිය සිදුවන විට මධයම රාත්‍රියද පසු වී තිබින...මම දැඩි නින්දේ පසුවිය....ලූකාස් මට එහා පසින් නිදාගෙන සිටියේය...
මුලදී මට සිහින් කට හඩක් ඇසින.එය කිසිවෙකු හෝ යමක් මුමුනන හඩකි...දැඩි නින්දේ සිටි නිසාවෙන් මම මුලදි එය ගනන් නොගත්තෙමි..ඒ අම්මගේ කෙදිරිලි හඩ යැයි සිතු මා නින්දේන්ම ටික මොහොතක් එයට සවන් දුනිමි... මිමිනුම් හඩ නොනවත්වාම ඇසෙන්නට විය... එය කිසිවෙකු හෝ කතා කරන හඩ යැයි දැනුන නිසාම නින්දෙන් සම්පූර්නයෙන්ම අවදි වූ මා එයට කන් දී සිටියෙමි...එය එන්නේ මගේ මවගේ කාමරයෙන් නොව මගේ ලගින්මය...මා එක්වරම අනික් පස හැරුනෙමි.... ලූකාස් මොනවදෝ කියවයි... විදුලි බල්බය දැමු මා " ලූකාස් ...ලූකාස් " යි කෑගැසුයෙමි.... ඔහු මා දෙස බැලීය
" මොනවද ඔය කියවන්නේ " මා ඇසිමි
කිසිම පිලිතුරක් නොදුන් ඔහු අනෙක් පස හැරි නිදාගත්තේය...

පහුවෙනිදාත් සුපුරුදු ලෙස ගෙවී ගියේය.... ලූකාස් නින්දෙන් මුමුනන්නට ඇතැයි සිතු මම ඒ ගැන වැඩිය නොසිතුවෙමි... ඊට පසුදින රාත්‍රියේත් ලූකාස් නින්දෙන් මුමුනන්නට විය...මා අනෙක් පසට නොහැරීම ඔහු කිය දේට සවන් දුන්නෙමි...ඔහු කිසිවෙකු හා කතා කරයි... ඔහු වචන ගැලපූ ආකාරයෙන් ඔහු නිසැකවම කිසිවෙකු හෝ කතා කරනු ඇතැයි නිශ්චය කරත හැක.... එහෙත් ඔහු කියන්නේ කුමක්දැයි පැහැදිලි නැත...මා අනෙක් පස හැරුනෙමි...
" ලූකාස් මොනවද ඔය කරන්නේ" මා එම ප්‍රශ්නය අසන විටත් ඔහු අවදියෙන් සිටියේය...එහෙයින් එය ඔහු සිහිනයක් නිසා කරන දෙයක් නොවන බවටනම් පැහැදිලිය...
ඔහු කිසිම පිලිතුරක් නොදින.... ඒ වෙනුවෙනට ඔහු කලේ අනෙක් පස හැරි නිදා ගැනීම පමනකී.

පසුදින උදැසන අවදි වූ විට මෙම කාරනය යලිත් ඔහුගෙන් අසන්නට සිතුවත් එය මට අමතක වී ගියේය... එදින උදැසන මම නිවසට අවශය කලමනා ටිකක් ගැනීමට මීනානෙර් කඩපේලියට යැමට තීරනය කලෙමි..එය අර්සුමාන්යාන් වීදියේම පිහිටා තිබුනු කුඩා මාර්කෙට්ටුවකී.

මා එහි තිබූ කඩයකින් කලමනා කිහිපයක් ගත් අතර ඒවායේ බිල ගෙවන්නට කෑෂියර් කූඩුවට පැමිනියෙමි...එහි සිටියේ වයස අවුරුදු 35ක් පමන කියත හැකි තරුන කාන්තාවකි...
" නොනාව මීට කලින් දැකලා නැහැ... මෙහාට අලුතින්ද ආවේ"
" ඔව්... මගේ අම්මා ඉන්නවා අර්සුමාන්යාන් සංකීර්නයේ "

" එහෙමද ? ඇය සිනාසින ...
" අලුතින් කුලියට දුන්නු ගේ වෙන්න ඇති "
" නැහැ ... 4 වන තට්ටුවේ 58 ගෙදර "
ඇය එක් වරම මගේ මුහුන දෙස බැලීය.... ඇය කුමක් හෝ කියන්නට තැත් කලත්මට පිටුපසින් තවත් කිහිප දෙනෙකු මුදල් ගෙවීමට බලාසිටි බැවිනි ඇය ඉක්මනින්ම මගේ ඉතිරි මුදල් යලිත් දුන්නාය...

එදින මා නිවසට පැමිනි විට මා දුටු දෙයින් තෘෂ්නිම්භූත විමි.... මා විසින් ගලවා ගබඩා කාමරයේ තැබූ පින්තූරය යලිත් බිත්තියේ ඇත.... මගේ අතෙහි වූ කදමලු ටික බිම ඇදවැටින....මා එක්වරම අම්මගේ කාමරයට දිව ගියෙමි..

" අම්මේ ..අම්මද අර පින්තූරය ආයෙත් එල්ලුවේ " මම ඇයගෙන් ඇසුයෙමි...
"මොන පින්තූරයද .... මම තවම කාමරයෙන් එලියට ආවෙත් නැහැ.."
මම මගේ කාමරයට දිවුවෙමි...ලූකාස් එහි සෙල්ලන් කරමින් සිටියේය... ඔහුගේ කලිසමේ දූවිලී තැවරී ඇත...ඔහු නිසකවම ගබඩා කාමරයට යන්නට ඇත..මා ඔහු ලගින් හිදගත්තෙමි..
" ලූකාස්... ඔයා ගබඩා කාමරයට ගියාද ?
" ඔව් " ඔහු හිස වැනීය...
" පින්තූරය එල්ලුවේ ඔයාද "
"ඔව් "
" ඇයි ඒ "
" සීයා කීවා ඒක ආයේ එල්ලන්න කියලා "
" සීයා … මොන සීයද .... " මා ඔහුගෙන් ඇසිමි...
" ඊයේ රෑ මගෙත් එක්ක කතා කරපු සීයා..."
මගේ මුලු ගතම සීතල වී ගියේය...

එදින රාත්‍රියේ නින්දට යද්දි මා කාමරයේ විදුලි පහන දල්වා තැබුයෙමි....පසුගිය රාත්‍රී දෙකේම ලූකාස් ඔහු කී සීයාත් සමග කතා කල බැවින් ඔහු අදත් එම දෙයම කරනු ඇතැයි මා හට නිශ්චිත විය...

මධයම රාත්‍රීය පසුවිය...මා දැස වසාගෙන සිටියෙමි..එහෙත් මට නින්ද ගියේ නැත..මා කෙසේ හෝ මෙය සොයා ගත යුතුය....බිත්ති ඔරලෝසුවේ තත්පර කට්ට සෙමින් චලනය වන හඩ පවා මට මනාව ඇසෙහි... ටික මොහොතකින් ලූකාස් අවදි වූ හඩ මට ඇසින...ඔහු ඇදෙහි එහා පැත්තට හැරින.... මට ඔහුගේ චලනය දැනින...ඔහු කෙමෙක් කෙමෙක් මුමුනන්නට පටන් ගත්තේය... ටික වෙලාවකින් එය කතාවක් බවට පත් විය..මා සිත දැඩි කරගත්තෙමි... මගේ පුතාට අනතුරක් වීමට මට ඉඩ දිහ නොහැක..මෙය සොයා ගත යුතුය..දැඩි අධිෂ්ටානයෙන් යුක්තව මම එක්වරම අනෙක් පස

හැරුනෙමි...ලූකාස්ගේ ඇද අසල කිසිවෙකු හෝ හිටගෙන සිටියේය...එය මුලදි ජායාවක් සේ දැක්කත් ඒ වයසක පිරිමි කෙනෙකු බව පසුව මට වැටහින....ඔහුගේ මුහුන බියකරු එකක් විය...ඔහුගේ එක් ඇසක් මුහුනෙන් ඇතුලට ගිලා ගොස්ය....මා භීරාන්තව කෑගැසුයෙමි...එක්වරම ඔහු අතුරුදහන් වී ගියේය...

ඒ අර ජායාරූපයේ වූ වයසක පුද්ගලයා බැව් මා හට හොදටම විශ්වාසය.... එදිනම මම යලිත් දරුවත් සමග මගේ නිවසට යැමට තීරනය කලෙමි...මගේ මවගේ නිවසේ තවත් ජීවත් වෙනවාට වඩා ඇයවත් රැගෙන මගේ නිවසට යැම හොදයැයි මා සිතුයෙමි....ඇයට සිදුවූ සියල්ල පැහැදිලි කල මා ගෙන යායුතු බඩු අසුරමින් සිටියෙමි...

එක්වරම නිවසේ සීනුව නාද විය....මගේ මව යාන්තමින් ඇවිද ගොස් එය විවෘතකලාය...

" පොඩ්ඩක් කතා කරන්න පුලුවන්ද " මට කාන්තාවකගේ හඩක් ඇසුනෙන් මා දොර අසලට ගියෙමි... එහි සිටියේ මට ෂිනානෙර් මාර්කෙට්ටුවේදි මුනගැසුන කාන්තාවයි..

" ඊයේ මට කතා කරන්නත් බැරි වුනානේ...ඒකයි අද උදෙන්ම ආවේ.. " ඇය කීහ...
"එන්න ඇතුලට "
" බැහැ ..මම දැන් යන්න ඕනේ . " ඇය ඇතුලට ඒම ප්‍රතික්ෂේප කලාය...
" ඔගොල්ලෝ එන්න කලින් මම මේ ගෙදර කුලියට හිටියා ..මමයි මගේ පුතායි.. " ඇය මදක් සිනාසී කීහ... ඉන්පසුව වටපිට බැලූ ඇය...රහසක් කියන්නට යන්නාක් මෙන් මා ලගට ලන්විය....ඇයගේ දෙනෙත් තුල වූයේ බියකි....
" මේ ..'' ඇය මිමිනිය...ඇයගේ මුවින් වචන එලියට ආවේ නැත..
" මොකක්ද " ඇයගේ මේ ක්‍රියවෙන් ඇයටත් වඩා මා තැතිගත්තෙන් ... තෘෂ්නිම්භූතව මා ඇසිමි...
" අර වයසක අවතාරය ...තවමත් ඉන්නවද " ඇය මගේ කනට කර ඇසීය.

---

පසුවදන - දරුවන් සහා මහලු මිනිසා අතර අතර සම්බන්දයක් ඇත.මොහු වැඩිපුරම කුඩා දරුවන් වෙත පැමිනෙන්නේ මේ නිසාවෙනි...මෙයිම දෙවැනි කොටසත් දිනෙක මා ඔබට පවසමි.

# අම්මගේ පුරුද්ද

තාත්තා අම්මව දාල යද්දී මට අවුරුදු 5යි....
එදා ඉඳන් අම්මා මාව ලොකු කරන්න පුදුමාකාර විදියට දුක් වින්දා...

සොලිකොෆෙන් වල තිබුනු දුප්පත්ම ගේ අපේ ගේ වෙන්න ඇති..අම්මා කලේ පළා විකුනන එක...හැමදාම උදේට කැලැව පීරල පළා හොයන අම්මා දවල් ඉඳන් රෑ වරුව වෙනකන්ම පොලේ පළා විකුනනවා... ඒකෙන් අපිට ජීවත්වෙන්න හරිහැටි මුදලක් හොයාගන්න බැරිවුනත්..අඩුම තරමින් යාන්තමින් හරි කාලා බීලා ජීවත්වෙන්න පුලුවන් කමක් ලැබුනා...

අම්මගේ පුරුද්දක් තිබුනා...ලැබෙන මොනම දෙකින් හරි පොඩ්ඩක් ඉතිරි කරන්න...අපිට කොච්චර නැති බැරි කම් තිබුනත් අම්මා හම්බුකරන දෙයින් ෆ්‍රැන්ක් එකක් හරි ඉතුරු කලා..

"බලහන් පුතේ .... අපිට මේ ඉතිරු කරන සල්ලි කවදා හරි ලොකු දේකට ඕනේ වෙනවා... " අම්මා මට හැම වෙලේම කියලා තියෙනවා....

සෙලිකොෆේන් වල අපි සරනාගතයෝ වගේ හිටපු මිනිස්සු...කවුරුත් අපිට උදව් කලේ නැහැ..කාටවත් එහෙම උවමනාවක් තිබුනෙත් නැහැ...එහෙමයි කියලා අම්මයි මමයි කාගෙන්වත් කිසිම දෙයක් ඉල්ලන්න ගියෙත් නැහැ..කොච්චර අගහිග කම් තිබුනත් අම්මා මට අඩුවක් කලේ නැහැ...මගේ ජීවිතේ හදාගන්න ඕනේ දේවල් හරිම වෙලාවට අම්මා මට දුන්නා..හරියට මට ඉස්කෝලේ යන්න වාසනාව ලැබුනා වගේ..

අපි දුප්පත් නිසා කවුරුවත් හිතුවේ නැහැ මට සෙලිකොෆෙන් වල පාසලට ඇතුලත් වෙන්න පුලුවන් වෙයි කියලා..එහෙත් ඒක හාස්කමක් වගේ වුන දෙයක් ..ඒ හාස්කම කලේ මගේ අම්මා... එයා

ඉතිරිකරගත්තු සල්ලි වලින් එයා මාව ඉස්කෝලෙට දැම්මා... එදා මම ගොඩක් සතුටු වුනා...ඉස්කෝලෙට යන එක අනිත් ළමයින්ට එපාම කරපු දෙයක් වෙන්න ඇති.. එහෙත් දුප්පත්ව ඉපදුනු මට ඉගෙන ගන්න ලැබුන එක ලොකුම ලොකු දෙයක්...

" උබට මම කිව්වා නේද මයේ පුතේ සල්ලි ඉතිරි කලොත් මොකක් හරි ලොකු දෙයක් කරන්න්න පුලුවන් වෙයි කියලා .. " එදා මාව ඉස්කෝලෙට දාපු දවසේ අම්මා එහෙම කියලා මාව වැලඳ ගත්තා.. එදා ඉදන් අම්මා තමයි මගේ වීරයා වුනේ..
අම්මා එදා මට තවත් කතාවක් කිව්වා..
" පුතේ අද ඉදන් උබ ඉස්කෝලේ යනවා.. උබ දන්නවා උබේ අම්මා වගේම උබත් දුප්පත් එකෙක් විත්තිය.. උබට ඒ දුප්පත් කම පරාද කරන්න ඕනේ නම් හොදට ඉගෙන ගනින් මයේ පුතේ... එතකොට මේ අම්මා වගේ උබටත් දුක් විදින්න ඕනේ නැහැ... "

දවසක් කැලැවේ පළානෙලන්න ගිය අම්මව සර්පයෙක් දෂ්ට කරලා හොදටම අමාරු වුනා...මගේ වයස අවුරුදු 10ක් විතර ඇති...අම්මා සතිගානක් ලෙඩ ඇදේ හිටිය නිසා අපිට ජීවත්වෙන්න විදියක් තිබ්බෙම නැහැ...මම එදා ඉදන් පොලට ගිහින් පළා විකුනන්න ගත්තා..අම්මා සනීප වෙනකන්ම මම ඒක කලා...
මම ඔබට මේ කතා කිහිපය කිව්වේ මේ හැම අත්දැකීමක්ම පසුකාලීනව මගේ ජීවිතයට ගොඩක් බලපැව නිසා..
කාලයක් ගෙවිලා ගියා...දුප්පත් කම පරාද කරන්න පුලුවන් එකම විදිය අධයාපනය කියලා අම්මා කියපු ඒ කතාව හැම මොහොතෙම මගේ ඔලුවේ තිබුනා... සෙලිකොෆෙන් පාසලෙන් සමත් වෙලා මම විශ්ව විද්‍යාලයට ගියා.මට හොද රැකියාවක් ලැබුනා ඒ නිසාම බර්ලීන් වල මට පදිංචියට යන්න සිද්ද වුනා...

අම්මාගේ ජීවිතයෙන් මම ඉතිරි කිරීම ගැන ඉගෙන ගත්තු පාඩම මම දිගටම ඒ විදියටම කලා..මගේ වැටුපෙන් කාලක් මම ඉතිරි කලා..අනිත් කාල මම අම්මට යැව්වා..
ටික කාලෙකින් මගේ ආදායම ගොඩක් සරු වුනා..මම අම්මවත් බර්ලීන් වලට ගෙන්න ගන්න තීරනය කලා... අම්මා මගේ ලගින් හිටියොත් මට අම්මව බලාගන්න පුලුවන්... ඒක එයාටත් ශක්තියක් වෙයි...
එහෙත් මට ඒ වාසනාව ලැබුනේ නැහැ...

දවසක් මට ඇමතුමක් ලැබුනා මගේ අම්මා මියගිහිල්ල කියලා...මම එදාම සෙලිකොෆෙන් වලට ගියා..
අම්මාව මගේ ලගට ගන්නත් කලින්ම අම්මා මියගිහිල්ලා හිටියා..එහෙත් පුතෙක් විදියට මම සතුටු වුනා..අම්මා වෙනුවෙන්

කරන්න පුලුවන් හැම දෙයක්ම මම කරපු නිසා.... අම්මගේ අවසන් කටයුතු ඉවර වෙලා මම අම්මගේ ගෙදරට ආවා..

මගේ කාමරයේ හැම දෙයක්ම ඒ විදියටම තිබුනා මම ගිය දවසේ වගේම..අම්මා කිසිම දෙයක් වෙනස් කරලා නැහැ...
මම අම්මගේ කාමරයට ගියා..

අම්මගේ කාමරය හරිම පිලිවෙලයි... අම්ම මට පොඩි කාලේ කියලා දුන්නු හැමදෙයක්ම මගේ සිහියට ආවා..මම අම්මගේ කොට්ටයට ඔලුව තියාගෙන පොඩ්ඩකට හැලවුනා...
එක්පාරම මට දැනුනා අම්මගේ කොට්ටය යට මොනවද තියෙනවා... මම කොට්ට උරය අහින් කරලා බැලුවා.එතන තිබුනේ සල්ලි මිටියක්...

මට පොඩි කොලයක සටහනක් ලියලා තිබුනා...
" පුතේ උබට මේක කවදා හරි උවමනා වෙයි "

අම්මගේ පරන පුරුද්ද මතක් වුනා... ලැබෙන මොනම දෙයින් හරි අම්මා කීය කීය හරි ඉතිරු කරනව...මම එවපු සල්ලි වලිනුත් අම්මා ඉතිරි කරන්න ඇති…

---

පසුවදන - ජීවිතයේදි අපිට හමුවෙන හැමෝම අපිට හමුවෙන්නේ මොකක් හරි හේතුවක් නිසා..සමහර වෙලාවට ඔහුන් නිසා අපේ ජීවිත වෙනස් වෙනවා..නැත්නම් අපි නිසා ඔහුන්ගේ ජිවිත වෙනස් වෙනවා...සමහරුන්ගේ මුන ගැසීම නිසා අපි අමතක නොවන පාඩම් ඉගෙනගන්නවා... ජීවිතය ගොඩනැගෙන්නේ ඒ හැමදෙයක්ම මත..

# අන්නා සහා මීලා

මෂ්තෝස් වීදියේ කෙලවරේ වූ කුඩා නිවසක ග්‍රිගෝර් නම් වූ ගිනිකූරු වෙලෙන්දා ජීවත් විය.ඔහුගේ නිවස ගැන නොදන්න කෙනෙක් නැත....

මෂ්තෝස් වීදියේ ඕනැම කෙනෙකුගෙන් " ග්‍රීගෝර්ගේ නිවස " කොයේදැයි ඇසුවහොත් ඕනැම කෙනෙකු ඔබට එය පෙන්වනු ඇත.... මෙම කුඩා විදියේ බොහොමයක් දේවල් කාලෙන් කාලෙට වෙනස් වුවත් වෙනස් නොවුනු එකම දෙයක් වේනම් ඒ ග්‍රිගෝර් ගේ නිවස පමනකී..එය බොහොසෙයින් අබලන්ය..මෙම වීදියේ ඇවිද යන සමහර දිනවලදී ග්‍රිගෝර් මෙම නිවස ඉදිරිපිට හිදගෙන තම නිවස දෙස බලා සුසුම්ලනු ඔබටත් දැක ගත හැකි වනු ඇත..

" මේ ගේ කවදා හරි බිමටම සමතලා වෙනවා " බොහොමයක් වෙලා තම නිවස දෙස බලා සුසුම්ලන ග්‍රිගෝර්ගේ අවසන් වැකිය එයයි..

එයත් සමග උන් තැනින් නැගී සිට විදියේ එහා කොනේ ඇති ලුසාවෝර් පල්ලිය අසලට යන ඔහු පල්ලියේ අයිනේ ඇති ලොතැරැයි කූඩුවෙන් ලොතැරැයක් මිලදි ගනී... එයත් රැගෙන නිවසට එන අතර තුර පල්ලිය දෙසට හැරී බයාදු බැල්මකින් එය දෙස බලාගෙන සිටින ග්‍රීගොර් මන්තරයක් මතුරන්නාක් මෙන් දෙයියන්ට රහසින් මොනවදෝ මුමුනා අහස දෙසත් පල්ලිය දෙසත් මාරුවෙන් මාරුව බලා ඉන්පසුව ලොතැරැය්යට සියුම් තට්ටුවක් කර තම නිවසට පිටත් වෙයි.... මෙය මෂ්තෝස් විදියේ හැන්දැ කොරේ යන එන ඕනැම කෙනෙකුට දිනපතාම දැකග්ගත හැකි සිද්දියකී..

අන්නා සහා මිලා නමින් කුඩා දූවරුන් දෙදෙනෙකු ඔහුට විය...

පිලිවෙලින් අවුරුදු 4ත් 5ත් අතර වූ ඔහුන් නිතරම කෙලිදෝලෙන් ගත කලේය... ලුසාවෝර් පල්ලිය ඉදිරියේ මුලු දවස පුරාම ගිනි කූරු විකුනා නිවසට එන ග්‍රීගෝර් ඉතුරු වී ඇති තම ගිනිකූරු පෙට්ටි බෑගය දෙන්නේ අන්නාටය ඇය හිතාමත් පරිස්සමෙන් එය නිවසට ගෙන

යයි.... පුංචි මීලාට ඔහු එදින මුලු දවසෙම හම්බ කල මුදල් දෙයි. එවිට ඇය එය දිවගොස් ඇයගේ මව අත තබයි. ඉවන්යා නම් වූ ග්‍රිගෝගේ බිරිද කිසිම දිනෙක නිවසින් එලියට පැමිනෙනු කිසිවෙකුත් දැක නැත...ඇය එලියට එන්නේ නම් එය හිතාමත් අහම්බයෙනි... මන්ද පෝෂනයෙන් පෙලෙන්නෙකු මෙන් හිතාමත් සිහින් සිරුරක් තිබු ඇයට මෂ්තෝස් වල අනිකුත් කාන්තාවන් සමග වැඩි ඇයි හොදැයියක් නොතිබින....

ඒ සේරටමත් වඩා ග්‍රීගෝර් සමග දීගෙට ඒම ගැන ඇය නිතරම තමන්ට දෝස් පවරා ගත්තාය... ග්‍රීගෝර් අන්තිම අසාර්තක මිනිසෙකු බව ඇය ඔහුට නිතරම දොස් කීවාය... ඔහු දවසකට වේලක්වත් හරියට කන්න තරම් මුදලක් ඔහු හරි හම්බ කරානම් ඒ අහම්බෙනි...දිනෙන් දින වලපල්ලට යනවා හැරෙන්නට මේ ගිනිකූරු වෙලදාමෙන් ඔහුටවත් ඔහුගේ පවුලේ අයටවත් ඇති සෙතක් නැති බව ඇය ඔහුට නිතරම කීවාය.... ගිනි කූරු වෙලදාම නවත්වා වෙනත් රස්සාවකට යන ලෙස ඇය ඔහුට බලකර කීවත් ග්‍රීගෝර් කිසිම දිනෙක ගිනිකූරු රස්සාව අත හැරියේ නැත...

" මේක අපේ තාත්තගේ රස්සාව යෝධියේ...තාත්තගේ විතරක් නෙමේ අපේ සීයගෙත්...මේක පරම්පරාවෙන් පරම්පරාවට අපි කරපු රස්සාව...මට පුතෙක් හිටියෙත් ඒකත් කරන්න ඕනේ මේකම තමා "

" කිසිම වගතුවක් නැතිව රස්සාවක් කරන එකෙන් ඇති තේරුම මොකක්ද මනුස්සයෝ "

" වගතුවක් තිබ්බා නැතැ මේක තමා මගේ රස්සාව.. උබ ඒකට අකමැතිනම් උබ මෙතනින් තොලොන්චි වෙලා පල "

දිනපතාම ඇසෙන මේ කන්කරච්චලය ග්‍රිගොර්ට දැන්නම් හොදටම පුරුදු වී ඇත...
ඔහු ඇයට තොලොන්චි වී යන්නැය් සිය වරක් නොව දහස් වරක් කිවත් ඇය නිවස හැරදා නොයන බව ඉරහද මෙන් ඔහු දැන සිටියේය... ඒ ඇයට යාමට වුවමනාවක් නොතිබූ නිසා නොවේ ..ඇයට යන්නට තැනක් නොතිබු නිසාය...

කාලයක් ගෙවී ගියේය... ගිගෝර්ගේ ගිනිකුරු වෙලදාම වගේම ලොතරැය්යෙනුත් කිසිදු වැඩක් නොවීය... ගිනිකුරු වෙලදාමෙන් ලැබෙන සොච්චමෙන් කීයක් හරි එයට වැයවෙනවා මිසක ඔහුට ලොතැරැයි වලින් ලැබුනු දෙයක් නැත.... අනිත් මිනිස්සුන්ට කාලාන්තරයකින් සුලු දිනුමක් හෝ ඇදුනත් ග්‍රිගෝර්ට එසේ නොවීය...

"දෙවියනුත් මාව අමතක කරලා වගේ " ඔහු ගිනිකූරු විකුනන අතර තුර පල්ලිය ඉදිරිපිටට වී කල්පනා කලේය... " අනෙ දෙය්යනේ මට ඉන්නේ දූලාම දෙන්නෙක් ... මං ගැන හිතන්නෙ නැති වුනත් කමක් නැහ උන් දෙන්නා ගැන හිතලා හරි මට දිනුමක් දෙන්න... " ඔහු විටක පල්ලිය දෙස බලා කෙදිරි ගැවේය....ඒ කෙදිරි ගැසීම සතියකට දෙතුන් වරක්වත් ඔහු කරන්නට ඇත... එහෙත් කෙදිරියෙන් හෝ බයාදු ආයාචනයෙන් කිසිදු වගතුවක් නොවීය... සැම දවසක්ම එකවගේම ගෙවී ගියේය...

ශීත කාලය එලඹින... මේ එලිමහනේ කරන වෙලහෙලදාම් වලට කන කොකා අඬන කාලයයි... ශීත කාලයේ මිනිස්සු එලියට ආවේ බොහොම කලාතුරකිනි..එහේයින් ග්‍රිගෝර්ගේ වෙලදාමෙන් ලැබෙන සොච්චම් ආදායමත් නැත්තටම නැති වී ගියේය....ඔහු තවත් දරිද්‍රතාවයට පත්විය ....

දැඩි ශීතලෙන් යුත් හිම වැටෙන දිනවලදී වුවත් ග්‍රිගෝර් ගිනිකූරු අලෙවි කරන එක නැවැත්වුයේ නැත...ඔහු එය දිගටම කරගෙන ගියේය...උදැසනම පල්ලිය අසලට යන ඔහු එහි හිම වැටී ඇති මාවත සුද්ද පවිත්‍ර කොට එතැන හිටගෙන ගිනිකූරු අලෙවි කරන්නට පටන් ගනියි..මුලු දවසෙම ශීතලේ ගැහෙමින් ගිනිපෙට්ටි එකක් දෙකක්වත් විකුනාගන්නට ඔහු දැඩි දුකක් වින්දේය.... එහෙත් සමහර දවස් වලට එකක්වත් විකිනුනේ නැත... එහෙත් ගිනිකූරු වෙලදාම හැරෙන්නට ශීත කාලයේදීවත් වෙන වෙලදාමකින් ජිවත්විය යුතුයැයි ඔහු කිසිම විටෙක නොසිතුවේය...

දිනකට යාන්තමින් දේවේලක් කා බී ජිවත් වූ ඔහුගේ පවුලේ අයට එක වේලක් හෝ කන්නට ලැබුනේ හිතාමත් අපහසුවෙනි.... මේ සැම දෙයකින්ම ග්‍රිගෝර්ගේ බිරිද ඉවන්යා දැඩි ලෙස පීඩාවටත් පත් වී සිටියාය... ග්‍රීගෝර් කිසිම දිනෙක පවුලක් නඩත්තු කරන්නට තරම් හැකියාවක් ඇති මිනියෙකු නොවන බව ඇය දැනගෙන සිටියාය.... එය ඇයට ප්‍රත්‍යක්ෂය...එහෙත් තමන්ගේ දරුවන් කුසගින්නේ සිටිනු ඇයට ඉහිලිය නොහැක...

මේ නිසාම කැමැත්තෙන් හෝ අකැමැත්තෙන් ඇය වෙනත් රැකියාවක් සොයාගත්තාය.... මෂ්තෝස් මාවත දහවල් වරුවේ මාලු වෙලෙන්දන්ගෙන් සුලබ වුනු මාවතකි...මේ බොහොමයක් වෙලෙන්දන් පිටපලාත්වලින් නරගයට ආ අය විය... ග්‍රිගෝර් උදැසනම ගිනිකූරු වෙලදාමට නික්ම ගිය පසු ඇය තම නිවස ඉදිරිපිරින් යන එන වෙලෙන්දන්ට ඇග විකුනන්නට පටන් ගත්තාය..

මෂ්තෝශ් වල ගැවසුනු මාලු වෙලෙන්දන්ගේ අපිලිවෙල ගැන මා ඔබට අමුතුවෙන් කිව යුතු නැත...ඔහුන් ඒ තරමටම කිලිටුය... මාලු

ගද ඔහුන්ගේ ඇදුම් වලින් කිසිදා ඉවත්වී නොගියේය..ඒ නිසාම මෂ්තෝස් මාවතේ යන එන මිනිස්සු මාලු කාරයින් ලගින් යද්දීත් උස්ම මොහොතකට හිර කර ගත්තෝය... එහෙත් ඉවන්යාගේ කෙසග සිරුරර මේ ගද ගසන මාලු කාරයින් හැරෙන්නට වෙනත් අය සොයා ගැනීමට හැකි වුයේ නැත... එහෙයින් ග්‍රිගෝර් නිවසේ නැති උදෑසන වල් වල ඇය මාලු කාරයින් සමග නිදා ගත්තාය... ඇයට එහින් යහමින් උපායාගන්නට හැකි වුයේ නැත.... එහෙත් අඩුම තරමින් තම දරුවන්ට වේල් තුනක් කන්න දෙන්නටවත් ප්‍රමානවත් මුදලක් ඇය එහින් හම්බු කරගත්තාය...

ටික කාලයකින්ම තමන්ගේ බිරිද ගනිකාවක් වී ඇති බවට ග්‍රිගෝර්ටද දැනගන්නට ලැබින..එහෙත් ඔහු ඇයව නැවැත්වූයේ නැත... ඔහු එය නොදන්නා ගානට කට වහගෙන ඇය හම්බු කරන මුදලින් කා බී ජිවත්විය...

ශ්‍රීත කාලයේ අවසානයේ එක්තරා හැන්දෑවක ග්‍රිගෝර් පුරුදු පරිදිම ලොතැරැය්යක් ගත්තේය... එහෙත් ඒ වෙලෙහි දෙවියන් ඔහුගේ මුහුන බලා තිබින..ඔහුට එහින් පලමු තැග්ග ඇදි ඇත... ඔහු සන්තෝෂයෙන් නිවසට දිව ගියේය... ඒ සන්දයාවේ ඔහු මෙතෙක් හිරකරගෙන සිටි සියලුම වේදනාවන් පිටකර දැමීය...

" ඉවන්යා මම දන්නව උබ මාලු කාරයින් එක්ක නිදියන විත්තිය..එහෙත් උබට අද ඉදන් එහෙම කරන්න අවශයතාවයක් නැහැ... මට ලොතැරැය්යක් හැදුනා... කරුනාකරලා උබ ඔය ජරා වැඩේ හොදහිතින් නවත්තවපන්... " ඔහු කීවේය...
" මම ඒක නවත්තනවා ... උබ අපිට කන්න බොන්න සල්ලි ගෙනාපු දවසට " ඇය ඔහුගේ මුහුනටම කීවාය...

" හෙට....හෙට මම සල්ලි ගේනවා.. අපි තවදුරටත් මේ ඉන්නේ නැහැ.. අපි මීට වැඩිය හොද ගෙයක් ගමු.... මේ සල්ලි ඇති අපේ මුලු ජීවිත කාලෙම හොදට කාලා බීලා ජිවත් වෙන්න ...උබ බයවෙන්න එපා ඉවන්යා...අදින් පස්සේ අපේ අවසනාවන්ත කාලේ ඉවරයි.... හෙටින් පස්සේ අපේ හොදකාලේ..උබ ඒකට ලැස්ති වෙයන්... " කියු ඔහු ඇයව වැලදගත්තේය... පොඩි ලමයෙක් මෙන් ඇයව ඔසවා දෑතට ගත්තේය..එහෙත් ඔහුට ඇයගේ සිරුරින් නික්මුනු මාලු ගද දැනුනෙන් පිලිකුල් ලෙස ඇයව යලිත් බිමින් තැබීය...

පසුදා උදෑසනම ලොතැරැයි කාර්යාලයට ගිය ඔහු තම තැගී මුදල ලබා ගත්තේය...සල්ලිත් රැගෙන නිවසට එන අතරතුර ලුසාවෝර් පල්ලියට ගිය ඔහු දෙවියන්ට ඇති ලෙස පින් දුන්නේය... තමාට ලබාදුන් වාසනාවට ස්තුතිකරන්නට පඩුරක් ලෙස නෝට්ටු කිහිපයක් ඔහු දේවස්තනයේ කැටයට දැමීය..

එදින සවස සාදයක් පැවැත්විය යුතුයැයි ඔහු තීරනය කලේ මෙහිදීය..තම නිවසේ ප්‍රිය සම්භාෂනයක් පැවැත්වූ දිනයක් ඔහුට මතක නැත... අද සතුටු විය යුතු දිනයකි... අනිත් දිනයන් වගේ අද කාලකන්නි ලෙස ගත කල යුතු නැත... දේවස්ථානය අසල ඇති මාර්කට්ටුවට ගිය ඔහු මීලා සහා අන්නාට සුදු පැහැති සේද ගවුම් දෙකක් මිලදී ගත්තේය... ඔහුගේ බිරිදට ගවොමක් මිලදී ගැනීමට යද්දී ඔහුට ඇයගෙන් නික්ම ආ මාලු ගඳ සිහිවුනු නිසා ඔහු එම අදහස අත හැර දැමීය.... එතැනින්ම අන්නා සහා මිලාට සවසට සෙල්ලම් කිරීමට නිලා කූරු පැකට් දෙකක්ද සාදයට ඇති තරම් ආහර පානද ගත් ඔහු නිවසට පිටත් විය...

එදින රාත්‍රියේදී ග්‍රිගෝර්ගේ පවුලේ සාදය ආරම්භ විය...සියල්ලෝම එකට හිද ආහාර ගත්තෝය...අනිත් දිනයන් හී මෙන් නොව එදින මේසය පිරෙන්නටම කෑම තිබ්න...මීලා සහා අන්නාද තම පියා ගෙනා සුදුපැහැ සේද ගවුම් ඇද සිටියාය..ඔහුන් බොහෝ සේ සතුටට පත් විය... ග්‍රිගොර් සහා ඉවන්කා වොඩ්කා බෝතලයක් පමන අවසන් කොට තිබ්නෙන් දෙදෙනාම පදමට වෙරි වී සිටියේය...

ඒ සාදයේ අවසාන භාගයයි... ග්‍රිගෝර් තාලයට ගීයක් මුමුනන්නට පටන් ගත්තේය..ඒ තාලයට ඉවන්කා පියානෝව වාදනය කලාය.. ඉවන්කාගේ පියානෝ වාදනයට සහා ඇයගේ සිනහවට ... මත් වී සිටි ග්‍රිගොර් ගේ සිත ඇවිස්සී ගියේය... ඇය අද ලස්සනය... ග්‍රිගෝර්ට සිතින ..
ඇයව ඔසවාගෙන කාමරයට ගෙන ගිය ඔහු ඇයව ඇදට දමා ඇයගේ ඇගට ගොඩවිය.... ඇයගේ උරහිසට සහා බෙල්ලට හාදු දෙද්දී ඔහුට ඇයගෙන් සුපුරුදු මාලු ගඳ දැනුනත් පදමට මත් වී සිටි ග්‍රිගෝර්ට එහින් ගානක් නොවීය...
" මේ මොනවද කරන්නේ ... දරුවන් බලාගෙන ඉන්නවා " ඉවන්යා කෑගැසීය... ග්‍රිගොර් හිස ඔසවා බැලීය ..ඇය කිවේ සත්‍යකි ... මීලා සහා අන්නා විවුර්ත වී ඇති කාමරයේ දොර තුලින් ඔහුන් දෙස බලාගෙන සිටී... වහාම ඉවන්යාගෙන් නැගිට්ට ඔහු තමන් ගෙන හා නිලාකූරු පෙට්ටි දෙක ඔහුන් අත තැබීය...
" යන්න සාලයට ගිහින් සෙල්ලම් කරන්න " ඔහුනට කී ඔහු කුඩා දරුවන් දෙදෙනා එතනින් නික්ම ගිය පසු කාමරයේ දෝරවසා යලිත් ඉවන්යාගේ ඇගට ගොඩ විය...

ගිගොර් දුන් නිලාකූරු පෙට්ටියෙන් නිලාකූරු සියල්ල එලියට ගත් අන්නා එහින් එකක් පත්තු කර සාලය වටා දුව ගියේ සතුටිනි...එය දකිද්දී කුඩා මීලාටද නිලාකූරක් පත්තු කිරීමට ආසාවක් ආහ...අක්කා මෙන් නිලාකූරක් පත්තු කරගෙන ගෙය වටා දුවා යා යුතුය... ඇය

සිතීය...ගිනිකූරු පෙට්ටිය අතට ගත් ඇය එහින් ගිනිකූරක් දල්වා නිලාකූර පත්තු කරගැනීමට වෙර දැරීය..
එහෙත් ගිනිකූරු දැල්ලේ රස්නය ඇයගේ කුඩා ඇගිලි තුඩු වලට වේදනාවක් දුන්නෙන් ඇය ගිනිකූර ගැසුවාය..එය විසිවී විත් ඇයගේ සේද ගවුමේ තැවරින .. මොහොතකින් එය ගිනි ජාලයක් බවට පත් විය..ඇය වේදනාවෙන් කෑගසිමින් දුවගොස් අන්නාව බදාගත්තේ ගින්දරින් දැවෙන ඇයව අන්නා බේරාගනීවී යයි සිතමිනි...ගින්දර අන්නාගේ ගවොමටත් ඇවිලී ගිය අතර ක්ෂනිකයකින් ඔහුන් දෙදෙනාම ඒ ගිනි ජාලයට කොටු විය...එම ගින්න සාලයේ තිර රෙදි වලටත් පැතිර මුලු නිවස පුරාම ඇවිලි යමින් තිබින...

ග්‍රිගෝර් සහා ඉවන්යා කාමරයෙන් එලියට පැමිනෙන විටත් අන්නා සහා මීලා සම්පූර්නයෙන්ම වාගේ දැවී ගොස් සිටියේය... ග්‍රිගෝර් ඔහුන්ගේ ශරීරයෙන් ගින්දර නිවාදැමුවත් ඒ වන විටත් සියල්ලම සිදුවී හමාරය.... ඔහුන් දෙදෙනාම ගින්නෙන් මිය ගොස් සිටියෝය....

ඔබ අදත් මෂ්තෝස් වීදියට යන්නෙ නම තවමත් ග්‍රිගොර්ව එහිදි දැකගත හැක... ගිනිකූරු වෙලදාම වෙනුවට ඔහු ලූසාවෝර් පල්ලිය ඉදිරියේ අදටත් හිගමන් යදියි... පල්ලිය අසලම කුඩාරමක් අටවා ගෙන ඔහු ජිවත්වෙයි...

" මෂ්තෝස් වල මාලූ ගනිකාව " කොයෙදැයි ඇසුවහෝත් අදටත් ඔබට ඉවන්යාව එහිදි දැකගත හැක.. ගින්නෙන් දැවී අලු වී ගිය නිවසෙහි කුඩා කාමරයක් තුල තවමත් මෂ්තෝස්වල මාලූ කාරයින්ට ඇගවිකුනමින් ඇය ජිවත් වෙයි...

ග්‍රිගෝර්ගේ ලොතැරැයියෙන් ඔහුට ලැබුනු මුදල්වලට කුමක් සිදුවුනි දැයි කිසිවෙකුත් දන්නේ නැත ..සමහර විට ඒ සියල්ලම ගින්නට දැවී අලුවී යන්නට ඇත.

---

පසුවදන - මෂ්තොස් වීදිය සහා ලූසාවොර් පල්ලිය මම අදටත් ප්‍රිය කරන ස්ථානයන් දෙකකි... මේ නම් දෙක යොදා කෙටිකතාවක් කිරීමට ආසාවක් මගේ සිතේ තිබුනේ බොහෝ කාලයක සිටන්ය..ග්‍රිගෝර් සහා ඉවන්යා මා හට සැබෑ ජිවිතයේ හමුවුනු දෙදෙනෙකි... කතාවේ අවසානය ෆැන්ටසියකි... ඒ ෆැන්ටසිය දරුනුය..එහෙත් " අන්නා සහා මීලා" ගේ අවසානය එලෙස සිදුවිය යුතුයැයි මා තීරනය කලෙමි...

# පුංචි බෙන්

එකල මා කොලරාඩෝ ප්‍රාන්තයේ ලිට්ල්ටන් නම් වූ කුඩා ගම්මනයක පිහිටා තිබුනු රෝහලක හෙදියක් ලෙස සේවය කලෙමි...හිතාමත් සුන්දර කඳුපන්තියක් මධයයේ පිහිටා තිබුනු ලිට්ල්ටන් ගම්මානය හිතාම සුන්දර ස්ථානයකි...තවමත් මා ඒ සුන්දරත්වයට ප්‍රිය කරමි..මා මේ කියන්නට යන සිදුවීම සිදුවුයේද මෙම මනරම් ස්ථානයේදීය...

මා සේවයේ නියුතුව සිටි රෝහලට " බෙන්" නම් වූ කුඩා දරුවෙකුව ඇතුලත් කලේය...වයස අවුරුදු 6ක් පමන වූ ඔහුට හරිම ලස්සන සිනහවක් තිබ්න. ලස්සන නිල්පාට දෙනෙතක් සහා ලා තබ පැහැ කොන්ඩයකින් යුක්ත වූ ඔහුගේ මුහුන හිතාමත් ශාන්ත ප්‍රියමනාප එකකි.... ඔහුව දකින ඕනැම කෙනෙකු ඔහුව අතට ගෙන මොහොතකට හෝ නලවනු ඇත....ඔහු ඒ තරමට සියුම් ය... සුන්දරය.... එහෙත් දෛවය ඔහුට මිනිසුන් තරමටවත් ආදරය කොට නැත...ඔහුට ලියුකේමියාව වැලදී තිබ්න...

පිලිකා ප්‍රතිකාර දරුනුය...එවන් දරුනු කිමියෝ ප්‍රතිකාර මෙවන් කුඩා දරුවෙකු කොහොම දරා ගන්නද....එහෙත් මේ පුංචි දරුවා ඒ සියල්ල දරාගත්තේය...මාසයක් පමන ප්‍රතිකාර කරද්දි ඔහුගේ ලස්සන තබ කොන්ඩය ගැලවී ගියේන් එය සම්පුර්නයෙන්ම කපා දමන්නට අපිට සිදුවිය..ඔහුගේ නිල්පැහැති දෙනෙත් වල තිබුනු සුන්දරත්වය නිමී යන්නට විය..එහෙත් ඔහු ඒ සියල්ලටම මුහුන දෙමින් ශක්තිමත් ව සිටියේය...

බෙන්ට කුඩා සහෝදරියක් සිටියේය... අමේලීයා නම් වූ ඇය වයස අවුරුදු 8ක පමන කුඩා දැරියකි...පියාත් සමග නිතර නිතර රෝහලට පැමිනෙන ඇය බෙන් සමග රෝහල් වාට්ටු වේ සෙල්ලන් කරමින් සිටිනු අපට නිතරම දැකගත හැකි විය... දින කිහිපයක් ගෙවී යද්දී අමේලීයාත් එක් වරම රෝගාතුර විය... බෙන්ගේ මවත් මියගියේ ලියුකේමියා රෝගයෙන් නිසාවෙන් මෙය ජානමය හේතුවක් විය හැකියැයි සැක කල අපි අමේලීයාව පරික්ෂාවට ලක් කලෙමු... එහිදි ඇයටත් ලියුකේමීයාව සැදි ඇති බැව් අපට සොයා ගත් හැකි විය..

මෙහිත් ඔහුන්ගේ පියා හොදටම අසරන විය...බිරිද මියගොස් මාස කිහිපයකට පසු තම පුතාටත් දැන් තම දුවටත් මෙම මාරාන්තික රෝගය සැදීම තාත්තා කෙනෙක් කොහොමනම් ඉවසන්නද...ඔහු තම

සේවයෙන් පවා අස්වී රෝහලේම නැවතී තම දරුවන්ව රැකබලා ගත්හ...

දිනක් මා වාට්ටුවට යන විට පුංචි බෙන් තම ඇඳට එහා පසින් ඇඳේ සිටි තම සොහොයුරිය දෙස බලාගෙන සිටියේය...
" අක්කට තවම සනීප නැහැ " මාව දුටු ඔහු සෙමෙන් මිමිනුවේය..
" ඉතින් ඔයාටත් සනීප නැහැනේ " මා ඔහුට කීවෙමි..
" මට සනීප වුනොත් අක්කටත් සනීප වෙයිද " ඔහු මගෙන් ඇසීය..
මා සිනාසුනිමි..දරුවන්ගේ ප්‍රශ්න වලට පිලිතුරු දීම සමහට විටෙක හිතාමත් තීරනාත්මකය..
" ඔව්... ඔයාට සනීප වුනොත් අක්කටත් සනීප වෙනවා... " මා සිනා සී කීයෙමි...
" එහෙනම් මමත් සනීප වෙනවා " ඔහු කීවේය.
මේ කතාවෙන් දින කිහිපයකට පසු අපූරු දෙයක් සිදුවිය...බෙන්ගේ තත්වය කෙමෙන් කෙමෙන් යහපත් වන බැව් අපිට දැකගත හැකි විය.... මේ කුතුහලත් එක්කම අපි බෙන් ගේ රුධිරය පරික්ෂාවට ලක් කලේමු...
ඔහුගේ රුධිරය ලියුකේමියා සෙයිල විනාශ කරත හැකි සුදුරුධිරානු නිපදවිම වීම වේගවත් වී ඇත... ..එය නම් හාස්කමක් විය යුතුය... බෙන් තව දින කිහිපයක් මේ ආකාරයෙන්ම ප්‍රතිකාර ගත හොත් ඔහුව අනිවාර්යෙන්ම සුව වන බව වෛද්‍යවරුන් තීරනය කලේය...

මෙයින් අමේලියා ගේ ජීවිතයත් බේරාගැනීමට අපිට හැකිවනු ඇත... බෙන්ගේ රුධිරය අමේලීයාට ලබා දීම තුලින් ඇයගේ රුධීරය පිරිසිදු කිරීමටත් හැකිවෙනු ඇත.. බෙන්ගේ තත්වය ගොඩක් හොද අතට හැරෙද්දී අමේලීයාගේ තත්වය තවත් දරුනු වන්නට වූයෙන් මෙය ඉක්මන් කල යුතු විය...අප මේ සදහා බෙන්ගේ පියාගෙන් අවසර ලබාගත්තෙමු .... මෙය බෙන්ටත් කිව යුතු බැව් ඔහු සිතීය... අපි එය ඒ ආකාරයෙන්ම කිරීමට තීරනය කලෙමු...

" පුතේ ...ඔයාට මතකද මම කිව්ව ඔයාව සනීප වුනොත් ඔයාගේ අක්කවත් සනීප කරන්න පුලුවන් කියලා... "
" මම් " ඔහු හිස සැලීය..
දැන් ඔයාට සනීපයි.... ඒ නිසා ඔයාගේ ලේ අක්කටත් දුන්නොත් අක්කවත් සනීප වෙයි... ඔයා ඒකට කැමතිද ..
ඔහු සිනාසින...ඒ සිනාව තුල වචනයෙන් කිව නොහැකි අවයාජ වූ ආදරයක් ගැබ් වී තිබින..
" මගේ ලේ දුන්නොත් අක්කව සනීප වෙනවද "
" ඔව් "
" එහෙනම් මම අක්කට ලේ දෙනවා " ඔහු සිනාසෙමින් පැවසීය....
" එහෙත් ඊට කලින් මට අම්මව බලන්න යන්න ඕන... " ඔහු ඔහුගේ පියාට කීහ... ඔහුගේ පියා විමතියෙන් මෙන් මා දෙස හැරී බැලීය..

බෙන් ගේ ඉල්ලීම පරිදි බෙන්ගේ පියාත් මමත් ඔහුව මවගේ සොහොනට එක්කර ගෙන ගියෙමු..බෙන් ඔහුගේ මවගේ සොහොන බලා යලිත් රෝහලට එන අතරතුර මගෙන් මෙසේ ඇසීය...
" මාව මැරුනම මාවත් අම්ම ලගට යනවද "
" ඔයා විතරක් නෙමේ පුතේ අපි හැමෝම මැරුනම එතනට තමා යන්නේ... " මා ඔහුව තුරුලු කර ගතුයෙමි...

එතැන් සිට බෙන් සිටියේ බොහොම සතුටිනි...ඔහු නිතරම අක්කගේ ඇද ලගට ගොස් ඇයගේ හිස අතගාන්නටත් ඇයදෙස බලා සිටින්නටත් පටන් ගත්තේය... අමේලියාගේ තත්වය දරුනු වෙද්දි ඇයට කතා කල නොහැකි වූයෙන් තමන්ට අවශය දේවල් කීමට ඇය පොතක් භාවිතා කලේය... බෙන් සහා අමේලියා එකට සිටින විට ඔහුන් මේ පොතේ විවිද චිත්‍ර අදිමින් සෙල්ලන් කලෝය.

බෙන්ගේ රුධිරය පාරිවිලනය කරන දින පැමිනියේය..මෙහින් බෙන්ට වේදනාවක් ඇති විය හැකි බැවින් මමත් ඔහුගේ පියාත් ඔහු ලගින්ම සිටීමට තීරනය කලෙමු...
"අක්කව සනීප වෙයි නේද " ඔහුව මේ සදහා සූදානම් කරද්දි ඔහු මගෙන් ඇසීය...මා ඔහුව වැලද ගතුයෙමි..
" ඔව් පුතේ ..ඔයාගේ ලේ අක්කට දුන්නම අක්කව සනීප වෙනවා.. " මා කිවෙමි...
ඔහු මේසය මත වූ අක්කගේ පොත මා අතෙහි තැබීය....
" අක්කා ඇහැරුනාම අක්කට මේක දෙන්න... එයා දැන් නිදිනේ... ඒ නිසා මම ලිව්ව දේ එයාට කියවන්න බැහැ... " පොත අතට ගත් මම ඔහුගේ හිසට හාද්දක් දුන්නෙමි..
" පුතා බය වෙන්න එපා... මේකෙන් ඔයාට රිදෙන එකක් නැහැ.. " එන්නත් කටු දැකීවෙම් දරුවන් බියට පත් වෙන නිසාවෙන් මා සිතුවේ ඔහුද බියට පත්වී ඇතැයි කියාය..

රුධිර පාරිවිලනය ආරම්භ විය... විනාඩී කිහිපයක් දෙනෙත් වසාගෙන සිටි බෙන් විටින් විට දෙනෙත් විවර කර වටපිට බලන්නට විය... මෙය ඔහු කිහිප වතාවක්ම සිදු කලෙන් ඔහු ලගට ලංවුනු මා
" ඇයි පුතේ ඔයාට රිදෙනවද " යි ඇසිමි..
" නැහැ " ඔහු කීහ..
" එහෙනම්... "
" මාව මැරෙන්න තව කොච්චර වෙලා යනවද " ඔහු ඇසීය...

මෙය අසා සිටි බෙන්ගේ පියාටත් මටත් හිනා ගියේය... ඔහු මෙතෙක් සිතා සිටින්නට ඇත්තේ රුධිරය දීමෙන් ඔහු මිය යන බව විය යුතුය...ඔහු මවගේ සොහොන බලන්නට යන්නට අහන්නට ඇත්තෙත් ඒ නිසා විය යුතුය...මට එක්වරම බෙන් දුන් පොත මතක්

විය...බෙන්ගේ පියා ඔහුවත් බදාගෙන සිනාවෙද්දි මම හීන් සීරුවේ අර පොතත් අරගෙන වට්ටු කාමරයෙන් පිටතට ආයෙමි..

එය " අමේලියාත් - බෙනුත් " ඇඳපු චිත්‍ර සටහන් වලින් පිරී ඇත...එහි පිටු කිහිපයක් එක දිගට බලාගෙන ගිය මගේ දෙනෙත් එහි තිබුනු බෙන්ගේ අත් අකුරු මත නැවතින... එය කියවූ මගේ දෙනෙතින් කඳුලු කඩා වැටින... ඒ කඳුලු තුලින්ම සිනහවකුත් නැගින...මා සිනාසුනිමි,,, ඇඩුයෙමි... පුංචි දරුවන්ගේ සිතුවිලි පුදුමාකාරය...ඒ සිතුවිලි ඔහුගේ පුංචි හදවතට දෙන ශක්තියත් පුදුමාකාරය... මා වාට්ටුවේ ඇඳෙහි වැතිර දෙනෙත් වසාගෙන සිටින පුංචි බෙන් දෙස බැලුවෙමි... මට ඒ දරුවා කෙරෙහි නැගුනේ වචනයෙන් කිව නොහැකි තරම් වූ දයාබර සෙනෙහසකි..

" අක්කා මගේ ලේ අරගෙන සනීප වෙන්න...මම අම්මා ලගට යනවා" එහි ඔහුගේ කුඩා අත් අකුරු වලින් ලියා තිබ්න....

---

පසුවදන - කොලරාඩෝ වල ලිට්ල්ටන් : මේ පුංචි නගරයට මම මේ තරම් ආදරය කරන්නේ ඇය නිසා වෙන්න ඇති. ඒක වෙනම දිග කතාවක්...පස්සේ වෙලාවක ඒකත් ලියන්නම්

# එකසිය පහේ හාස්කම

හාස්කම් ගැන ඔයාලත් අහලා ඇති...මේකත් ඒ වගේ අපූරු හාස්කමක්..අදටත් හලාබ්යාන් වීදියේ මේ හාස්කම ප්‍රසිද්ධයි " එකසිය පහේ හාස්කම " විදියට...

හලාබ්යාන් විදිය කෙලවරේම තිබුනු පුංචි නිවසක සොෆී වාසය කලා...එයාගේ අම්මයි තාත්තයි ගොඩක් දුප්පත් අය..කොයිතරම් දුප්පත්ද කියනවනම් ඒ අය ජීවත් වුනු පුංචි ගෙදර අවුරුදු කිහිපයකින්ම පිලිසකර කරලත් තිබ්බේ නැහැ.

සොෆීට පුංචි මල්ලි කෙනෙක් හිටියා.." ආර්චී " ... එයාට මොකක්ද අසනීපයක් හැදිලා ඉස්පිරිතාලේ නවත්තලයි හිටියේ... " ආර්චී " නැති නිසා සොෆිටත් හරිම පාලුයි....මේ සිද්ධිය සිද්ධ වෙන දවසේ එයා තනියෙම ගෙදර සෙල්ලන් කරමින් හිටියේ...

අම්මයි තාත්තයි එදා ගෙදරට ආවේ හරිම හදිස්සියෙන්..ඒ වගේම හරිම හිත් වේදනාවකින්.... ගෙදරට ආපු හැටියෙම ඒ දෙන්නා කාමරයේ තිබුනු අල්මාරිය අවුස්සන්න ගත්තා....සොෆී ඒ සේරම ඈතට වෙලා බලාගෙන හිටියේ...

අල්මාරිය අවුස්සලා සල්ලි කොල කිහිපයක් අතට ගත්ත අම්මයි තාත්තයි ඇඳේ හිඳගත්තා....
" අපිට තියෙන්නේ මෙච්චරයි " ... " අපි කොහොමද මේ සොච්චමෙන් අපේ දරුවව බේරගන්නේ...සොෆීගේ අම්මා තාත්තගේ උරහිසට ඔලුව තියාගෙන අඩන්න ගත්තා...

" දොස්තර කිව්ව විදියට ලුසී ... පුතාගේ මොලේ සැත්කම කරන්න ඩොලර් පන්දාහක් යනවා....අපි මේ ජීවත් වෙලා ඉන්න ගේ වික්කත් අපිට ඒ තරම් ගානක් හොයා ගන්න ලැබෙන්නේ නැහැ.... "

සොෆී අම්මා අඩනවා බලාගෙන හිටියා... සොෆීටත් ගොඩක් දුක හිතුනා...මල්ලිට මොකක් හරි ලොකු කරදරයක් වෙලා වගේ... අම්මයි තාත්තයි මේ තරම් වේදනාවකින් ඉන්නවා සොෆී කවදාවත්ම දැකලා නැහැ...

" හාස්කමකට විතරයි අපේ පුතාව බේරගන්න පුලුවන් ... "
සොෆීගේ තාත්තා කියනවා සොෆීට ඇහුනා...

" හාස්කමක්" ඒක කොහොමද ගන්න පුලුවන් ....සොෆී කල්පනා කලා...ඒක අසනීපයකට දෙන බෙහෙතක් වෙන්න ඇති...ඒ කියන්නේ පාරෙන් එහා පැත්තේ තියෙන් ෆාමසියෙන් මට ඒ බෙහෙත ගන්න පුලුවන් වෙයි .... සොෆී හිතුවා...

සොෆී එයාගේ පුංචි කැටයේ තිබුනු සල්ලි සේරම ටික එලියට ගත්තා... ඒවා එකින් එක ගනන් කලා

" ඩොලර් එකසිය පහයි " සමහරක් වෙලාවට මේක හාස්කමක් ගන්න වැඩිත් වෙයි...
එයගේ අම්මයි තාත්තයි කාමරයේ කල්පනා කරමින් හිටියේ..පුංචි සොෆී පවුම් එකසිය පහත් අරගෙන පාර පැනලා එහා පැත්තේ තිබුනු ෆාමසියට ගියා...

ෆාමසියට ගිය සොෆී වටපිට බැලුවා...ෆාමසියේ කවුරුවත්ම නැහැ... හාස්කම් විකුනන කෙනා කොයේ ගිහින්ද සොෆී කල්පනා කලා...

ෆාමසියේ බෙහෙත් දාලා තිබුන ලොකු වීදුරුවට එයා කාසියකින් තට්ටු කලා...එහෙත් කවුරුවත්ම ආවේ නැහැ...තවත් පාරක් තට්ටු කලා..එහෙත් කවුරුවත් නැහැ...දැන් සොෆීට ටිකක් තරහත් එක්ක...එයා ආයෙත් තට්ටු කරන්න හැදුවා විතරයි ෆාමසියේ තිබුනු පුංචි කාමරයක ඉදන් වයසක කෙනෙක් එලියට ආවා...

" මේ ලමයට මොනවද ඕනේ " ඔහු ටිකක් සද්දෙන් ඇහුවා...." මම මේ මගේ මල්ලිත් එක්ක බොහොම වැදගත් දෙයක් ගැන කතා කරමින් හිටියේ.. " ඔහු කිව්වා

" මට හාස්කමක් ගන්න ඕනේ " ෆොෆී හිමිහිට මිමිනුවා...
" මොකක් .. "
" හාස්කමක් ගන්න ඕනේ " සොෆී ආයෙමත් කිව්වා.
අර වයසක පුද්ගලයා සොෆී දිහා විශ්මයෙන් වගේ බැලුවා... එහෙත් එක්කම අර කාමරයේ ඉදලම තවත් කෙනෙක් එලියට ආවා.. හැබැයි එයානම් ලස්සනට ඇද පැලදගෙන හිටියේ...

"මට හාස්කමක් ගන්න ඕනේ " සොෆී ආයෙමත් මිමිනුවා...
" ඔය දරුවට ඇයි හාස්කමක් ගන්න ඕනේ " අර හොදට ඇද පැලදගෙන හිටිය කෙනා සොෆිගෙන් ඇහැව්වා...
" මගේ මල්ලි ඉස්පිරිතාලේ...එයාව සනීප කරගන්න " සොෆී කිව්වා...
"ඇයි මල්ලිට මොකක් වෙලාද "
" එයාට මොලේ සෑත්කමක් තියෙනවලු ...තාත්තා අම්මට කිව්වා හාස්කමකට විතරයි මල්ලිව බේරගන්න පුලුවන් කියලා "

අර හොදට ඇද පැලදගෙන සීටි පුද්ගලයා සොෆි දිහා බොහොම කරුනාවන්ත විදියට බැලුවා...
" හැබැයි හාස්කමක් නම් ටිකක් ගනන් වැඩියි " ඔහු පුංචි සිනහවකුත් එක්ක සොෆීට කිව්වා ..
" ඩ්‍රාම් එකසිය පහක් ඇතිවෙයිද "
සොෆී එයාගේ අතේ තිබුනු කාසි ටික ඔහුගේ ඉදිරියෙන් තිබ්බා...
ඒ කාසි ටික ගනන් කරලා අර පුද්ගලයා ඒ ටික එයාගේ සාක්කුවට දා ගත්තා...
" හ්මී..එකසිය පහක් නම් ඕනැවටත් වැඩියි " " දැන් දුවට පුලුවන්ද මාව දුවගේ ගෙදරට ගෙනියන්න " .... ඔහු තමාගේ කෝට් කබාය දා ගන්න ගමන් සොෆීට කිව්වා...

එදා ෆාමසියේදි සොෆීට හමුවුන කෙනා තමයි යෙරෙවානයේ හිටපු හොදම විශේෂඥ වෛද්‍යවරයා ... එයා සොෆීගේ මල්ලිගේ සැත්කම එයාලට නොමිලේම කරලා දුන්නා...ඊට සති කිහිපයකට පස්සේ සොෆීගේ මල්ලිත් සනීප වෙලා ගෙදරට ආවා...සොෆීටත් හරිම සන්තෝෂයි...
" මේක නම් ඇත්තටම හාස්කමක් " මල්ලි සනීප වෙලා ගෙදර ආපු දවසේ සොෆීගේ තාත්තා අම්මවයි මල්ලිවයි සොෆීවයි තුරුලු කරගෙන මිමිනුවා....

සොෆී හිනාවුනා... මොකද එයා දන්නවනේ ඒ හාස්කම රුපියල් එකසිය පහක් විත්තිය.

---

පසුවදන - මෙම කතාව මා මිත්‍ර නිරෝෂන් කිරිවැල්ල මාහට මුලින්ම එවපු දවසේ මම එය මගේ යූ ටියුබ් චැනලයට විඩීයෝවක් විදියට නිර්මානය කලා.ඒ වීඩීයෝවට සැහෙන ප්‍රතිචාර ලැබුනා.. ඉතින් ඒකමයි මම මේ පුංචි එහෙත් අපූරු කතාව , කෙටිකතාවක් විදියටත් නිර්මානය කලේ.
පුංචි දරුවන්ගේ හිත් පුංචි වුනාට ඒ සිතුවිලි වල පුදුමාකාර ශක්තියක් තියෙනවා..සමහර විට වැඩිහිටි අපිටත් වඩා ඒ පුංචි හිත් ගොඩක් ශක්තිමත්.මේ පොතේම ඇති " පුංචි බෙන් " කතාවෙනුත් මෙම කතාවෙනුත් ඒ ශක්තිය ඔබත් විදින්නට ඇතැයි මා විශ්වාස කරනවා...

# නොමැරෙන මිනිසෙකුගේ කතාවක්

නොමැරෙන මිනිසෙකු පිලිබඳව කතාවක් ඔබ අසා ඇත්ද ?
මේ කියන්නට යන්නේ එවන් කතාවකි...

වික්තොර් බුල්ෆායි පෙත්‍රෝ , මිනිසුන් ඔහුව හැදින්වූයේ නොමැරෙන මිනිසා යන අනවර්ථ නාමයෙනි....
වික්තෝර් ගේ ළමා කාලය ගෙවුනේ පෝට්ස්ඩැම් නම් වූ කුඩා ග්‍රාමයේය...මේ ග්‍රාමයේ වැසියන් අතර තවමත් ඔහුගේ ළමා කාලයේ කතා කිහිපයක් ප්‍රචලිතය.බීර වාඩිවලදි , වයින් ගෙදරදි ඔහුන් තවමත් ඒවා එකිනෙකා අතර මුමුනයි...

වර්ෂ 1940 නැගෙනහිර බර්ලීනය -
පෝට්ස්ඩැම් ග්‍රාමය සම්පූර්නයෙන්ම නට්සී පාලනයට යටත් විය ...මෙම කුඩාග්‍රාමයේ සිටි බොහෝ දෙනා යුදෙව්වන් විය..එසේ නොවූවෝ ඔහුන් සමගම ජීවත්වූ යුදෙව්වන්ව පාවා දී ඔහුන්ගේ ජීවිත රැකගත්තෝය..එවන් ඔත්තුවකින් නට්සි හමුදාව පෝට්ස්ඩැම් නගර මායිමේ පිහිටි පෙත්‍රෝගේ නිවසට කඩා වැදින.ඔහු පෙත්‍රෝවත් ඔහුන්ගේ ඇසින් දුටු පෙත්‍රෝගේ පවුලේ සැම කෙනෙකුවමත් වෙඩි තබා මරා දැමීය...පෙත්‍රෝගේ නිවස ගිනිබත් කලහ...එහෙත් ඔහුන් යමක් දැන නොසිටියේය...අට හැවිදිරි වික්තෝර් බුල්ෆායි එම නිවසේම වූ බිම් මහලේ රහස් කුටියක සැගවී සිටියේය...ඔහුගේ පියා ඔහුව සැගවිය....

නට්සි හමුදාව තම පියාටත් මවටත් වෙඩි තබා මරා දමන හඩත් තම සොහොයුරිය විලාප නගද්දී ඔහුන් ඇයව දූෂනය කරන හඩත් ඔහුට ඇසින...එහෙත් ඔහු තම පියාට පොරොන්දු වූ පරිදී රහස් කුටීරයෙන් එලියට ආවේ නැත...ගොවිපලේ ඇති වයින් නට්සි හමුදාව කොල්ලකද්දීත් නිවස ගිනිබත් වී පොලවට සමතලා වෙද්දීත් ඔහු එලියට ආවේ නැත...රහස් කුටීරය ගින්න නිසා රත්විය...එහි සිටින කෙනෙකු එහිම දැවී යන තරමටම එය රත්විය..එහෙත් වික්තෝර්

එලියට ආවේ නැත...ඔහු දවස් 11ක්ම හාමතේ එහි සිටියේය...කුටිරයේ තිබුනු පල් වූ වතුර බැරැක්කයෙන් පමනක් ඔහු ජීවිතය රැකගත්තේය.... ඔහුගේ මාමා කෙනෙකු චිත් සුන්බුන් ඉවත්කොට ඔහුව රහස් කුටීරයෙන් එලියට ගන්නා තුරුම ඔහු එහි සිටියේය...ඔහු ජීවත්විය...

පසුව ඔහුගේ මාමා විසින් ඔහුව නට්සි පාලනයෙන් තොරවූ වේත්‍රෝෆ් වෙත රැගෙන ගියේය..ඒ නට්සි හමුදාවට එරෙහිව යුදෙව්වන් එක් රැස්වී සිටි ස්ථානයයි... වේත්‍රෝෆ් කැලෑ මායිමේ සිට ඔහුන් ගරිල්ලා ක්‍රමයට නට්සි හමුදාවට ප්‍රහාර එල්ල කලෝය..වික්තෝර් මෙම ඝන කැලැව තුල වසරක පමන කාලයක් ජීවත්වෙන්නට ඇත..අවසානයේදී නට්සී නායක ෆියාදෝර් මාවුස්කි විසින් වේත්‍රෝෆ් ආක්‍රමනය කලේය...වික්තෝර්ගේ මාමා සහා සියලුම යුදෙව්වන්ව ඔහුන් සමූල ඝාතනය කලේය..එහෙත් වික්තෝර් එහිනුත් පැනගියේය...

සරනාගතයෙකුව ඇවිදිමින් සිටින් 10 හැවිදිරි වික්තෝර්ව ජර්මානු ජාතික යුවලක් විසින් හදාගන්නට ගත්හ.
කපිතාන් ෆිස්කි, රුසියානු හමුදාව ජර්මනිය ආක්‍රමනය කරද්දි බර්ලීනයේ පාබල සේනාන්කය මෙහෙය වුයේ ඔහුය..තම බිරිද දරුකමට හදාගන්නට ගෙනවිත් ඇත්තේද යුදෙව් දරුවෙකු බව ඔහු දැනගෙන නොසිටියේය.

එහින් වසර කිහිපයකට පසුව රුසියානු හමුදාව බර්ලීනය ආක්‍රමනය කලේය... නට්සි හමුදාව පරාජයට පත්විය.රුසියානු හමුදාවට යටත් වීමට අකමැති වූ නට්සී හමුදා ප්‍රදානින් පවුල් පිටින් සියදිවි නසාගත්තේය.. බර්ලීනය සම්පූර්නයෙන්ම නාසි බලයෙන් ගිලිහි හිට්ලර්ගේ අවසානය සිදුවිය.කපිතාන් ෆිස්කිගේ බර්ලීන සේනාන්කයටද මේ ඉරනමම අත්විය.ඔහු පරාජය වූ පුවත ඇසූ ඔහුගේ බිරිද , ෆිස්කීට පොරොන්දු වූ පරිදිම සියදිවි නසා ගැනීමට සැරසින...
සයනයිඩ් කරල් කිහිපයක් අල හොද්දට දමා මිශ්‍ර කල ඇය එය මේසය මත තැබීය..එහි ඇයගේ වැඩිමහල් දියනිය සුසීත් බාලදියනිය මිලිනාත් අනෙක් පසින් වික්තෝර්ද විය...කුඩා පාන් කැබලී අල හොද්දට පොගවා ඒවා දරුවන් 3 දෙනාට කැවූ ඇය එහින් පාන් කැබැල්ලක් තම කටටද දමා ගත්තාය...ඔහුන් සියල්ලම මිය ගියෝය..එහෙත් වික්තෝර් හාස්කමකට මෙන් එහිනුත් ජීවිතය බේරාගෙන තිබින..

රුසියානු හමුදාව බර්ලීන අල්වා ගත් පසු ඉතිරුවී සිටි සියලුම ජර්මානු හමුදාවල පවුලේ අයව අත් අඩංගුවට ගත්හ...බොහොමයක් දෙනා ෆිස්කි පවුල කල පරිද්දෙන්ම සියදිවි නසාගෙන තිබින.

රුසියානු සේනානකය මෙහෙයවූ විලම්දීර් දොස්තව්කී, හිස්කිගේ නිවසට පැමිනියේය..සියල්ලෝම මියගොස් සිටියහ..එහෙත් කුඩා වික්තෝර් තවමත් පනපිටිනි..එයනම් හාස්කමක් වියයුතු යැයි ඔහු සිතීය... දෙවියන්වත් තමන් ලගට ගන්නට අකමැතිවූ මේ කුඩා දරුවව ඔහු රුසියාවට ගෙන ගියේය...

දෝස්තව්කිට දරුවන් නොවීය...ඒ නිසා වික්තෝර් ඔහුන් ලග හැදි වැඩින...දෝස්තව්කිගේ බිරිද වික්තෝර්ට තමන්ගේම දරුවෙක්ට මෙන් ආදාරය කලාය...ඔහුන් වික්තෝර්ට තමන්ගේ වාසගම ලබාදුන්නෝය..එතැන් සිට වික්තෝර් පේත්‍රෝ , වික්තෝර් දොස්තව්කි බවට පත්විය...

" වික්තෝර් උබ ලොකු වුනාම කවුරු වෙන්නද කැමැති " දිනක් දෝස්තව්කිගේ බිරිද ඔහුගෙන් ඇසීය...
" මම ලොකු වුනාම හමුදාවේ මාෂල් කෙනෙක් වෙනවා " ඔහු කීහ.

එය එලෙසම සිදුවිය...අවුරුදු 16 දී ඔහු රුසියානු හමුදාවට බැදින...

1950 දි ඔහු කොරියානු යුද්ධයද, 1956 දී හංගේරියානු විප්ලවයේද ඉදිරිපෙල සෙබලෙකු ලෙස ඔහු සටන් කලේය...ඔහු වටා සිටි සියල්ලෝම එකිනෙකා පිට මැරි වැටෙද්දීත් වික්තෝර් ජීවත් විය...හංගේරියානු විප්ලවය අවසානයේදී ඔහුව කර්නල් පදවියට උසස් කෙරින..එහෙත් සමගම හමුදාව තුල " නොමැරෙන මිනිසා " යන විරුදාවලියත් ඔහුට ලැබින...

එතැන් සිට ඔහු යුධ ක්‍රියාන්විත සියයකටත් අධික ප්‍රමානයක් මෙහෙයවා ඇත..විසි ගනනක් උන්ඩ ඔහුගේ පපුව පලාගෙන යන්නට ඇත...එහෙත් ඔහු මැරුනේ නැත... බෝම්බ වලට අනෙක් සෙබලුන් කෑලි වී ගිය අවස්තාවලදී පවා දෛයිවය විසින් ඔහුව මරනයෙන් බේරා ගත්හ...සමහර විට දැඩි තුවාල ලබා ඔහුව රෝහල් ගත් කෙරින...එහෙත් දින ගනනකින් ඔහුව යථා තත්වයට පත්විය.බෝම්බයකට අසුවීමෙන් ඔහුගේ එක් පාදයක් සම්පූර්නයෙන්ම ගැලවී ගියේය..එය කපා ඉවත් කරන්නට සිදුවිය. එහෙත් වික්තෝර් මැරුනේ නැත.ඔහු යලිත් යලි යලිත් නැගී සිටියේය...

" උබ නම් යක්ෂයෙක් වික්තෝර් "
ඔහු මරනයෙන් ගැලවී එන සැම විටෙකම ඔහුගේ සෙබලු ඔහුට කීහ.ඔහු මෙය දහස් වතාවකට වඩ අසන්නටද ඇත...

ඔහු ඇත්තටම යක්ෂයෙකි.65 වන වියේදි ඔහු යුධ හමුදාවෙන් විශ්‍රාම ගත්තේය...
ඒ ඔහුගේ කුඩා කල සිහිනය වූ මාෂල් පදවියත් ලැබූ පසු " මාෂල් වික්තෝර් දෝස්තව්කි " යන නමිනි..

අපි දැන් කතාවේ අවසානයට එමු..දෙවන ලෝකය් යුද්දයේ රුසියානු ජයග්‍රහනයට වසර 50ක් සපිරී තිබ්න.සොර්වියට් රුසියාව මෙය හිතාමත් උත්කර්ෂවත් අන්දමින් සැමරීමට සූදානම් විය.මේ සඳහා සියලුම විශ්‍රාමික හමුදා සෙබලුන්ටද ප්‍රධානින්ටද ආරාධනා කෙරින...වික්තෝර් දෝස්තව්කිද මේ අතර විය..එසේම මේ සැමරුමේදි තවත් විශේෂිත දෙයක් කිරීමට සූදානම් වී තිබ්න..
ඒ " නොමැරෙන මිනිසා " යන අනවර්ථ නාමයෙන් හැඳින්වූ වික්තෝර්ට එම නාමය සදාකාලික ගරු නම්බු නාමයක් ලෙස ප්‍රධානය කිරීමයි.. එම ගරුනම්බු නාමය වික්තෝර්ට පිරිනමන්නේ රුසියානු ජනාධිපති යූරී අන්ද්‍රපොව් විසිනි....

වික්තොර් එම සැමරුමේදී කිරීමට කතාවක් සූදානම් කලේය...එය හොඳින් සිදුවිය යුතුය...රුසියානු ජනාධිපති විසින් දෙන්නට යන්නේ එසේ මෙසේ ගරුනම්බු නාමයක් නොව මෙතෙක් කිසිවෙකුත් නොලැබූ ගරු නම්බු නාමයකි..වික්තෝර් ඔහුගේ කතාවට මනාව සූදානම් විය... ඔහු එය එකිනෙක කොලයක ලියුවේය..

" මිනිසුන් මාව යක්ෂයෙකු ලෙස හැඳින්විය...සමහර විට දෙවියන්ද මට බියට පත් වී ඇත..අදින් පසුව නොමැරෙන මිනිසෙකු ලෙස මා ඉතිහාසයට එකතුවෙනු ඇත.”
“ දිනෙක ඉතිහාසය විසින් ඔබෙන් මෙසේ අසනු ඇත... දෙවියනුත් බියවූ .. මරනයත් බියවූ කෙනෙකු ලොව සිටියේද ? එදිනට මගේ නම මතක් කරන්න මාෂල් වික්තෝර් දොස්තව්කී .. "

එය ලියා අවසන් කල ඔහු එය කිහිප වාරයක්ම කියවා ධාරනය කර ගත්තේය ..එහි ඇත්තේ ප්‍රෞඩත්වයකි...ඔහු එයට ප්‍රියකලේය..මාෂල් වික්තෝර් දොස්තව්කී ...ඔහු අදින් පසුව අමරනීය වනු ඇත...

උත්සවය ඇරබ්න... වික්තොර් ඔහුගේ වාරය එනතෙක් නොවිසිල්ලෙන් පසුවිය...

" පිලිගන්න මාෂල් වික්තෝර් දොස්තව්කී " ඔහුට තම නම කියනු ඇසින...ඔහු තම අතේ වූ කතා කොලයත් ගුලි කාරගෙන වේදිකාවට ගොඩ විය..යුධ හමුදාවේ එදා මෙදා තුර බිහිවූ සියලුම සේනාධිපතුවරුන් , ප්‍රභලයින්,සභා රුසියානු ජනාධිපතිද යූරී අන්ද්‍රපොව් ද ඔහු ඉදිරියේ ඇත....

ඔහු අභිමානයෙන් යුතුව හිටගත්තේය...වේදිකාව දෙසට තියුනු බැල්මක් හෙලීය...ඔහුගේ කතාව පටන් ගත්තේය...

" මිනිසුන් මාව යක්ෂයෙකු ලෙස හැදින්වූහ... සමහර විටෙක දෙවියන්ද මට බිය වන්නට ඇත..මරනයද මට බිය වන්නට ඇත.... "

ඔහුට කියන්නට ලැබුනේ එපමනකී...ඔහුගේ කටහඬ කෙමෙන් ගිලිහී ගියේය... ඔහුගේ පපුවෙන් දැඩි වේදනාවක් දැනින.ඔහුගේ සිහිය ඔහුගෙන් ගිලිහි යන බැව් ඔහුට දැනින... ඔහු පපුවට අත තබාගත්තේය....දෙකකුල් අප්‍රානික වී ඔහුව එතනම ඇද වැටින....

" මාෂල් වික්තොර් දොස්තව්කී " නොහොත් " නොමැරෙන මිනිසා " මියගොස් සිටියේය...

---

පසුවදන - අවසානයේදී අපි සියල්ලන්ම මිනිසුන්ය....මැරෙනෙ මිනිසුන්ය. මෙලොව කිසිවෙකුටත් වෙනක් කල නොහැකි වූ පරම සත්‍ය නම් එයයි.

# ඇයගේ වෛයිරය

දන්න දා සිට මගේ බිරිඳ ඇයගේ පියාට වෛර කළා ය .
" මගේ අම්මගේ මරණයට වග කියන්න ඕනේ ඔය මනුස්සයා... මගේ අම්මා ඉන්නකන් එයාට වද දුන්නා අන්තිමට අවුරුදු හතළිස් නවයෙදි දී අම්මා මැරුණා හාට් ඇටැක් එකක් හැදිලා ... ඇය නිතරම කියූ දෙයකි... "

සැම මසකම මුල්ම අඟහරුවාදා දින අපි සොහොනට යාම පුරුද්දක් කොට සිටියෙමු .. ඒ මාසයේ මළවුන්ගේදාය... ඒ සැම දිනකම ඇයගේ මවගේ සොහොනටත් අපි ගියෙමු... සොහොනට යන අපි ඒ සොහොනේ ඇති වල්පැල ගලවා සොහොන් බිම පිරිසිදු කළෙමු. ඇයගේ පියාද සැම විටකම අප සමඟ ආහ. ඒ සැම විටකම ඔහුගේ බිරිඳගේ සොහොන දෙස බලා ඔහු හීල්ලූවේය, ඔහුගේ දෑසින් කඳුළු කඩා වැටිණ . ඒ ඔහු කල දේ ගැන ඔහුට ඇති කළ කිරීමද නැතහොත් තම බිරිඳගේ වියෝවේ වේදනාව දැයි මා නොදනිමි.

මේ සැම දිනකම මගේ බිරිඳ ඔහු දෙස බැලුවේ පිළිකුලිනි. ඔහුට වෛර කරනවාටත් වැඩිය සොහොනේදී ඔහු කරන මේ හීල්ලීම ඇයට නොරිස්සුවේය
" දවසක් තාත්තා අපේ ගෙදරට එද්දී එයාගේ හොර ගෑණිව ගෙනාවා . ඒ අම්මා ගෙදර ඉදිද්දීම ... එදා අම්මා හොඳටම හැඬුවා .. තාත්තා අර හොර ගැනිගෙ ඉස්සරහම අම්මත් එක්ක රණ්ඩු වෙලා අම්මව පඩිපෙලෙන් පහතට තල්ලු කලා. අම්මව මැරෙන්න ඒකත් එක හේතුවක් වුනා.. " ඇය කියූ හැටි මට මතකය.
ඇයට වයස අවුරුදු විස්සේදී ඇයගේ මව නැති විය.ඇය නැතිවුනේ හෘදයාබාධයකින් වුණත් ඇය එයට තම පියාට දොස් පැවරිය . පියා මව සතුටින් තැබුවා නම් ඇය අදත් ජීවත්වෙන බව ඈ නිතර කීවාය.

කාලය ගෙවී ගියහ. විවාහයෙන් පසුව මමත් ඇයත් වෙනම නිවසකට පදිංචියට ආවෙමු.අපි ඇයගේ පවුලේ අයත් සමඟ වැඩි සම්බන්ධතාවයක් තබා ගැනීමට උත්සාහ නොකළත් ඇය නිතරම ඔවුන් ගැන සොයා බැලිය.විශේෂයෙන්ම ඇය ඇයගේ සොහොයුරාට බොහෝ සෙයින් ආදරය කළාය.

අරුත්ගේ ගේ වයස අවුරුදු 26කි.ඔහු විවාහ වී දැන් ඔහුට දරුවන් දෙදෙනෙකු ඇතත් ඔහුගේ මව මියගොස් ඇත්තේ ඔහු හිතාමත්ම කුඩා කාලයේදී බැවින් ඔහුව ලොකු මහත් කර ඇත්තේ මගේ බිරිදත්

ඇයගේ අක්කත් විසිනි.මගේ බිරිඳට වඩා ඇයගේ අක්කා වසරක් වැඩිමහල්ය.

ඇයගේ අක්කත් ඇයත් ඔවුන්ගේ මුළු යෞවන කාලය ම තම සොහොයුරාව උස්මහත් කිරීමට කැප කළාය. මවගේ මරණයෙන් පසුව පියා තවත් බීමට ඇබ්බැයි වූයෙන් මුදල් ඉපයීමට වඩා ඔහු කළේ තියෙන දේත් විනාශ කිරීමයි. ඔහුගේ හොර ගැණුත් සමග ඔහු සතුටින් කාලය ගත කරද්දි මගේ බිරිඳත් පවුලේ අවශේෂයනුත් අනේකවත් දුක් කරදර වින්දාය.
තමන්ගේ පවුලත් සහෝදරයත් වෙනුවෙන් ජීවිතය කැප කළ ඔවුන් දෙදෙනාගේම යෞවන කාලය නිවසටම ගෙවීගියෝය. ඇයගේ සොහොයුරිය කිසිම දිනෙක විවාහ නොවීය. මගේ බිරිද විවහ වූයේ ප්‍රමාද වීය. ඇය විවාහ වූයේ ඇයගේ සොහොයුරාගේ විවහයත් සිදුකල පසුය.

" මමත් අක්කාත් අපේ මුලු ජීවිත කාලයම ගත කලේ මල්ලිව උස්මහත් කරන්න " අම්මා නැතිවුනාට පස්සේ අපේ ජීවිතයට හිටියේ අපි තුන් දෙනා විතරයි. වෙන කවුරුවත් හිටියේ නැහැ. මට ආදරය කරන්න වත් විවාහ වෙන්නවත් උවමනාවක් තිබ්බෙ නැහැ ..ඔයාව හමු වෙනකන් මම හැමදාමත් හිතුවේ එහෙම...අනික මම දැක්කා විවාහයක් නිසා අම්මා විදපු දුක...මිනිස්සු කියනවා විවාහය හරිම සුන්දර දෙයක් කියලා ඒත් මගේ අම්මත් තාත්තත් අතර විවාහය තමයි මම ලෝකය දැකපු අසුන්දරම දෙය "
අප මුණ ගැසුනු මුල්ම දවසේ ඇය මට කීවාය....ඇයගේ අතිතයත් ඇය ගත කල ජීවිතයත් තේරුම් ගැනීම්ට එය මට හොඳටම ප්‍රමාණවත් විය.. මම කිසිම දිනක ඇයගේ මව ගැනවත් ඇයගේ පියා ගැනවත් ඇයගෙන් අසා නැත...ඇය මට කියා තිබූ දේවල් ඇරෙන්න ඇයගේ අතීතය ගැන කිසිමදෙයක් දැන ගැනීම්ට මට අවශ්‍ය නොවීය.

අපි විවාහ වුණු පසුව දෙදෙනා ගේ ජීවිතය ගත් කළේ වෙනම නිවසක් තුලය. ඇයට සම්පූර්ණයෙන්ම තම පවුලේ ප්‍රශ්න වලින් ඇත් වී අපේ විවාහ ජීවිතය සාර්ථකව ගත කිරීමට වුවමනා වී තිබුණත් සියුම් හදවතක් ඇති කෙනෙකු වු ඇයට එය කිසිසේත්ම කළ නොහැක්කක් විය.
පවුලෙන් වෙන්ව ගත කළ ජීවිතයේ දී වුවත් ඇය නිතරම ඇයගේ පවුලේ අය ගැන සොයා බැලීය. ඇයගේ අක්කා වෙනම නිවසක පදිංචිව සිටි අතර ඇයගේ සොහොයුරා ද ඔහුගේ දරුවන් ද , පියා ද ජීවත් වූයේ එකම නිවසක් තුලය. මේ නිසාම ඇයගේ සොහොයුරා වු අරුත් සහා ඔහුගේ පියා අතර නිතරම ආරවුල් ඇතිවිය .
ශෝර් කිසිම දිනෙක බීම අත හැරියේ නැත. ඔහු විශ්‍රාම ගිහින් සිටියත් දැඩි කාය ශක්තියකින් යුත් කෙනෙකු වූයෙන් ඔහු ආරක්ෂක අංශය රැකියාවක යෙදින.

මත්පැන් වලට පසුව ශෝර් වඩාත්ම ප්‍රිය කල අනිත් දෙය වුයේ කෑමටය.දිනපතාම මස් මාංශ අනුභවයට ඔහු දැඩි සේ ලොල් විය. ඔහුගේ වැටුපෙන් භාගයක් ඔහු මත්පැන් වලට වැය කළ අතර ඉතිරි කොටස ඔහු සිය පුතාගේ අතට දුන්නේ ගෙදරදොර වියදමට ය. එහෙත් ඒ මුදල්වලින් ඔහුගේ පුතා කළ යුතු ප්‍රධානම දේ වූයේ ඔහු ගේ ලේලිය ලවා දිනපතා ඔහුට ඔහු කන්නට කැමති ආහාර සකස් කර දීමයි.

මේසය මත කෑම අඩු වූ සෑම දිනකම ඔහු සමග රණ්ඩු විය.. මේ කෝලාහලය දිනෙන් දින වසරක ගණනක් ගණනාවක්ම පැවතුණු අතර මේ නිසාම සමහර දිනවල අරුත්ගේ බිරිද දරුවන් සමඟ ඇයගේ නිවසටද ගියාය. මේ නිසාවෙන් අරුත්ට කාලයක් තනියම ජීවත් වීමට පවා සිදුවිය.එහෙත් ශෝරා මේ කිසිවක් ගැන තැකීමක් කලේ නැත. ඒ වෙනුවට පුරුදු පරිදිම ඔහු ඔහුගේ බේබදු ජීවිතයේම යෙදිණ.

එදින රාත්‍රිය මට තවමත් මතකය. මමත් මගේ බිරිඳ මුළුතැන්ගෙයි ආහාර ගනිමින් සිටියෙමු. එක් වරම මගේ බිරිඳගේ දුරකථනය නාද විය. එයට පිළිතුරු දුන් මගේ බිරිද කෑම කන එක පසෙක දමා ඇගේ නිවසට යන්නට ලැස්ති විය.
" කොහේද යන්නේ කෑම කාලා යන්න " මම ඇයට කීවෙමි.

" බැහැ තාත්තා මල්ලිත් එක්ක රංඩු වෙනවලු , මම ඉක්මනටම යන්න ඕනේ " ඇය කිවාය.

ඇය ගෙදරින් ගිය පසු මම ඇයගේ දුරකථනයට කීපවාරයක්ම ඇමතුමක් ගන්නට උත්සාහ කළත් ඒ සියල්ලම ව්‍යර්ථ විය .
හරියටම රෑ 11ට පමණ මට එක්වරම ඇගේ සොහොයුරාගෙන් දුරකථන ඇමතුමක් ලැබිණි.

" ඉක්මනින් ගෙදර එන්න" ඔහු කිය.මම බියට පත්වුණෙමි. මගේ බිරිදට කුමක් හෝ කරදරයක් වී ඇත්දැයි මගේ හදවත තෙත් වී ගියේය . කාරය ගත් මම හැකි ඉක්මනින් ඇයගේ නිවසට ගියෙමි.
මගේ මුලු මනස අවුල් වී තිබිණි. ඇයට කුමක් හෝ කරදරයක් සිදුවී ඇතිනම් මා ජීවත් වී කුමටද ....

මා නිවස තුළට වදින විට මගේ බිරිද සාලයේ කොනක ඇති පුටුවක හිඳ අඩමින් සිටියාය ... ඇයගේ සොහොයුරියත් අසල්වාසීනුත් එහි විය.ඔහු සියල්ලන්ගේම මුහුනු දැඩි වේදනාවකින් මිරිකී ගොස් ඇත.

මා දුටු විගසම ඇය මගේ උරහිස බදාගෙන වැළපෙන්නට විය.. ඇයත් ඇයගේ පවුලේ අයත් මා හට කියූ පරිදි නම් ඇයගේ පියාව පඩිපෙලින් පහතට වැටි ඇත.ඔහුගේ මරනය සිදු වි ඇත්තේ එසේය...

" පච් අර ගැනු කෙනාට කල දේමයි මේ මනුස්සයාටත් සිද්ධ වුනේ ...
" ඔහුගේ දේහය වටා රැස් වූ අසල්වාසින් මිමිනුවේය...

ඔහුගේ දේහය දවස් 2ක් නිවසේ තබාසිට 3 වෙනි දින කනත්තට ගෙන ගියේහ.එදින භූමිදාන කටයුතු සියල්ලම අවසන් කල පසුව යලිත් පෙරලා නිවසට පැමිනි මම ඇය වෙනුවෙන් රාත්‍රි ආහාරය පිලියෙල කලෙමි.

ඇය සිටින්නේ දැඩි වේදනාවකින් බැව් මම දනිමි . රාත්‍රී කෑම මේසය ලස්සනට පිළියෙල කළ මා ඇය කැමතිම සුප් එකක්ද සැදුවෙමි... එහිම රතු වයින් එකක්ද තැබූ මම එයින් ඇයගේ මනස නිස්කලන්ක වෙනු ඇතැයි සිතුවෙමි.සියල්ල අවසන් වුනු පසු මම කාමරයට ගියේ ඇයව මේසයට ගෙන එන්නටය.
ඇය කාමරයේ ඇඳ මත හිදගෙන අඩමින් සිටියාය. ඇයගේ ලගින් හිදගත් ඇයව වැලදගත්තෙමි. මගේ තුරුලට වී ඇය බොහො වෙලාවක් ඇඩුවාය...

කුමක් හෝ දැඩි වේදනාවකින් ඇය පෙලෙන බව මා හට ප්‍රත්‍යක්ෂ විය.ඇයව මා හොදින් හදුරමි, තාත්තාගේ මරනයෙන් ඇයට මේ තරම් දැඩි වේදනාවක් ඇති විය නොහැකිය. සුසාන භූමියේදීත් ඇය අන් හැමෝටම වඩා සුදුමැලිව සිටියාය. ඇය කුමක් හෝ සිතෙහි තබා ගෙන පසුතැවිලි වෙන බව මට හැගින.

" අපි කෑම කන්න යමු " මම කිවේමි...
ඇය මගේ දැතින් අල්වා ගත්තාය.. " මට යමක් කියන්න තියෙනවා .... ඔයා මට සමාව දෙනවද "
" මොකක්ද "
" තාත්තව පඩි පෙලෙන් වැටුනේ නැහැ... "
" එහෙනම් "
" මම තල්ලු කලා... මම ඒක ඕන කමින් කලේ නැහැ... මම ඒක ඕන කමින් කලේ නැහැ " ඇය වැලපෙන්නට පටන් ගත්තාය...

මා යලිත් වරක් ඇයව වැලද ගත්තෙමි...පෙරසේම ඒ වැලද ගැනීමෙද වෙනසක් නොවීය..

---

පසුවදන : කතාව අවසානයේ ඔබට සිතෙන්නේ කුමක්ද ? මෙය කියවන බොහෝ දෙනෙකු ඇයව වරදකාරිය කරනු ඇත.එහෙත් ඔබේ ජීවිතයේදි ඔබටත් ශෝරා කෙනෙකු මුන ගැසී ඇත්නම් ඔබ යලිත් වරක් ඒ ගැන සිතනු ඇත.

# අදෘශමාන බලවේගයක්

කිසියම් වූ අදෘශමාන බලවේගයක් විසින් ඔබේ ජීවිතය ආරක්ෂා කල මොහොතවල් ඔබට ඇත්ද ? මා හට එවන් අත්දැකීමක් ඇත.

සෑම සති අන්තයකම මා සංචාරය කෙරුවෙමි.ටික කලකින් එය මගේ ජීවිතයේම තවත් අංගයක් බවට පත් විය.මා ඔබට පවසන්නට යන මෙම සිදුවීම සිදුවූයේ මා ලාස්ටිච්නෝර් නම් වූ දියඇල්ල මධය කොට පිහිටි කඳු පන්තිය තරනය කරමින් සිටියදීය.

මෙය හිතාමත් මනරම් කඳුපන්තියක් වූවත් එය හරහා ගමන් කිරීම හිතාමත් අවධානම් සහගත විය.කන්ද ඉහලට යත්ම ලඳු කැලෑව වැඩි වූ අතර ගැබුරු හෙල් වලින් මාර්ගය යුක්ත වූයෙන් පය ලිස්සා ගියහොත් කන්දෙන් පහතට වැටී නිසැකවම මරනයට පවා පත් වෙනු ඇත.
පාන්දරම කන්ද නැගීමට පටන් ගත් අපි දිගු ගමනකින් පසුව කඳු මුදුන කරා පැමිනියෙමු...කඳුමුදුනේ ටික වෙලාවක් ගිමන් හල පසුව අපි යලිත් ගමන පටන් ගතිමු.දිය ඇල්ල කරා යාමට යලිත් කන්ද අනෙක් පසින් පහලට බැසිය යුතු විය.

කන්ද බැසීමට පටන් ගෙන පැයක් පමන කාලයක් ගත් වෙද්දි අපි එහි ඇති භයානකම අඩි පාර වන " යකාගේ පාර " ලෙස කඳුනගින්නන් විසින් හැදින්වූ කෙටි පාරට ආවෙමු.එම කුඩා පාර වැටී තිබුනේ කන්ද මධයයේ තිබුනු ගැබුරුම හෙල හරහා වූවෙන් එය එම නමින් හඳුන්වා ඇත.එම අඩි පාරේ ගමන් ගනිද්දී ඊට පහතින් ඇති ගැබුරු ප්‍රපාතය ඕනැම කෙනෙකුට දැකගැනීමට හැකි වනු ඇත.මෙහි ගමන හිතාමත් සීරුවෙන් කල යුතු වූයෙන් අපි ප්‍රපාතයට පිටුපා සෙමින් ගමන් ගනිමින් සිටියෙමු.මගේ පිටුපසින් සිරියානු සංචාරකයෙකු වුනු අතර අනිත් අය සියල්ලම අපිට අඩි බොහෝමයක්ම පිටුපසින් විය.

එක්වරම මගේ පය ලිස්සා මාව ප්‍රපාතයට ඇද වැටීමට ගියේය.එහෙත් කවුරුන් හෝ මාව අනෙත් පැත්තට තල්ලු කලෙන් මාව විසිවී ගොස්

අඩි පාරටම වැටින.මා වට පිට බැලුයෙමි.මා අසල කිසිවෙකුත් නොවීය.සිරියන් ජාතිකයා මා වෙතට දුව විත් බිම වැටී සිටි මාව ඉහලට එසවිය.

මාව ප්‍රපාතයට ලිස්සා යන්නට ගිය බව මා දනිමී...ඒ ලිස්සා ගිය ආකාරයට මා අනිවාර්යෙන්ම ප්‍රපාතයට වැටිය යුතුය.එහෙත් කුමක් හෝ දෙයක් මාව අනෙත් පැත්තට තල්ලු කලේය.මගේ මුලු සිරුරම ටික වෙලාවක් යනතුරු වෙවුලමින් තිබින.කිසිවෙකු හෝ මෙම සිද්ධිය දැසින්ම දැක්කානම් ඔහුන් පුදුම වනු ඇත.එය ඇත්තටම ආස්කමකි..නැතහොත් දෛවයේ පිනකට සිදු වු දෙයකි.එය කුමක්දැයි හරි හැටි කීමට මා සමත් නොවිමි.කුමක් හෝ වේවා එය මගේ ජීවීතය ආරක්ෂා කලේය..

අදටත් මාව ප්‍රපාතයෙන් ඉවතට තල්ලු කල ඒ බලවේගය කුමක්දැයි මා නොදනිමි.එහෙත් මා එයට ස්තුති වන්ත වෙමි.එය මට යලිත් ජීවත් වීමේ වාසනාව ලබාදින.

---

පසුවදන : මම සාමාන්‍යයෙන් ප්‍රබන්ධ වලට වඩා සත්‍ය කතා ලියන්න කැමති කෙනෙක්.මේ පොතේ තියෙන ගොඩක් කතා මගේ ජීවිතේ මා විදපු සත්‍ය අත්දැකීම් හෝ තවත් කෙනෙකු ඔහුන්ගේ ජීවිතයේ සත්‍ය අත්දැකීමක් ලෙස මා හට කියපු ඒවා..
ඉතින් ඔබේ ජිවීතයේත් මෙවන් අපුරු කතා තියෙනවනාම් මට ලියන්න ..ඒවා තුලින් අපි නිර්මානයක් බිහිකරමු.එය තවත් සුන්දර එකක් වේවී.

# දෙවියන්ගේ උපන්දින තෑග්ග

" සයිමන් මේ පාර උපන් දිනේට මොනවද ඔයා කරන්න හිතාගෙන ඉන්නේ" ?
නයිරා සයිමන්ගෙන් එම ප්‍රශ්නය ඇසූ පලමු වතාව මෙය නෙමෙයි.... සයිමන් සෑම වසරකම ඔහුගේ උපන් දිනය සැමරූ ආකාරය වෙනස් විය.. ඔහු එක අවුරුද්දක් කල දෙයක් ඊලට අවුරුද්දේ යලිත් නොකිරීමටත් වග බලාගත්තේය...ඒ නිසාම සෑම වසරකම ඔහුගේ උපන් දිනටයට අලුත් අංගයක් එකතුවිය.

"මම හිතාගෙන ඉන්නේ මේ පාර තිබිලීසී යන්න "
" ඕ ... ජෝර්ජියා " නයිරා ඇයගේ දෑස් විශාල කරමින් පැවසුවාය.
ඔව් ...මම හිතන්නේ මම අන්තීමට වතාවට තිබිලීසී ගියේ අම්මත් එක්ක අවුරුදු 20 කට විතර කලින්.
නයිරා ඔහුගේ ලගට ලංවී ඔහුට උනුසුම් හාද්දක් දුන්නාය.
"ඔයා දන්නවානේ.මට ඕනේ ඔයා ඔයාගේ උපන්දිනේ ගොඩක් සතුටින් සමරනවා දකින්න.. " ඇය පැවසුවාය.

ඊලග දින දෙකක කාලය සයිමන් ගත කලේ ඔහුගේ සංචාරයට යාමට ඒජන්සියක් සෙවීමටය,තනිවම මෙවැනි දුර ගමනක් යනවාට වඩා කන්ඩායමක් සමග යෑම කොහොමත්ම වාසි දායකය බව ඔහු දන්නේය.ඔහු සිතු ලෙසම ඔහුට අඩු මුදලකට මෙම ගමන යෑමට ඒජන්සියක් සොයා ගැනීමට හැකි විය.වඩාත්ම ඔහුව සතුටුකල දෙය වුයේ ඔහුන් තිබිලිසි යාමට යොදාගෙන තිබුනේද හරියටම සැප්තැම්බර් 13 වෙනිදා විමයි..ඒ ඉරිදා දිනයකි.එය ඔහුගේ උපන් දිනය දවසයි.

" මොස්ක්වා " නම් වූ එම එජන්සියට දුරකතන ඇමතුමක් ගත් ඔහු ගමනට අවශය සියලුම දේවල් කතා කරගෙන එදිනට ආසනයක්ද වෙන් කර ගත්තේය. තිබිලීසී ගමන ගැන හිතාමත් සුන්දර විස්තර කිරීමක්ද ඒජන්සියේන් සිදුවූයෙන් තිබිලීසී ගමන ඇත්තටම අත් විදින තෙක් සයිමන්ගේ සිතෙහි ඉවසිල්ලක් නැතිවිය..එදිනම ඒජන්සියට මුදල් බැන්ද ඔහු ඉරිදා උදෑසනම ගමන පිටත්වන ස්තානයට ඒමේ පොරොන්දුවද දී එතනින් නික්ම ගියේය.

උපන් දිනයට දින 2කකට කලින් සිට ඔහු සියලුම ආම්පන්න සූදානම් කිරීමට යෙදින.විශේෂයෙන්ම ඡායරූප ගැනීමට අවශය සියලුම කලමනා නිසි ලෙස සංවිධානය කල ඔහු ඒ හැම දෙයක්ම අමතක නොවන තැන් වල තැබීය.එසේම අරගෙන යාමට අමතක වේයැයි සිතන සැම දෙයකම ලිස්ට් එකක් හැදූ ඔහු ඒ හැම දේ ගැනම හිතාමත් විමසිලිවන්ත විය.
තම කලමනා සූදානම් කරන සැම මොහොතකම ඇදෙහි විනාඩි කිහිපයක් දිගාවූ ඔහු තිබිලිසී ගමන ගැන සිහින මැවීය.
මේ කන්ඩායමට විවිධ රටවලින් සංචාරකයින් බොහොමයක් සහභාගී වන බව ඒජන්සි කරු කී හැටි ඔහුට මතක් විය.

ඒ අතර ජර්මානුවන්ද, ප්‍රංශ ජාතිකයින්ද ,ඇල්බේනියානුවන්ද, අයිරිෂ් ජාතිකයින්ද, රුසියානුවන්ද සිටියෝය..තිබ්ලිසීය පිහිටා තිබුනේ මේ සැම රටක්ම මධයයේ වූ නිසා ඔහුන් සියල්ලම නිසැකවම මේ සංචාරයට එක් වන්නට ඇත්තේ තිබිලිසියේ තම කාලය උපරිම විනෝදයෙන් ගත කිරීමට විය යුතුය.එසේ නම් සංචාරය නිකන්ම නිකන් ගමනක් නොවනු ඇත..ඔහුගේ මුහුනේ මද සිනහවක් රැදින.ඇල්බේනියානුවන් සිංදුකියන්නට හපනෝය.අයිරිෂ් සහා රුසියානුවන් බොන්නට පෙරේතයින්ය. ග්‍රීකයින් කලාවට කැමති අයයි. එහෙනම් මේ සංචාරය අමුතුම විදියේ රසවත් එකක් වනු ඇතැයි සයිමන් කල්පනා කලේය.හොදට පදම් වෙන්නට බොන්නටත් හැකිතරම් විනෝද වෙන්නටත් හැකිවනු ඇත.ඇදෙහි දිගාවී මේ ගැන සිතන සැම විටකම ඔහුගේ මුහුනේ සිනා රැල්ලක් ඇදී ගියේය.

ඔහු සංචාරය යාමටත් කලින් සිටම මෙවැනි ආකාරයේ දේවල් ගැන නිතර නිතරම සිතීය. ඒවාට ඔහු කොයිතරම් ඇබ්බැයි වූවාද කියනවනම් සැම දිනකම රාත්‍රීයේ තම කලමනා සකස් කරද්දී ඇදට දිගාවී ඒ ගැන සිතිම ඔහුට පුරුද්දක් විය.
මේ සැම විටකම ඔහුට කෝපි කෝප්පයක් ගෙන එන නයිරා
" ඔයා සංචාරය යන්නත් කලියෙන් ම තිබ්ලීසී වලට ගිහින් වගේ යයි..'' පවසයි...
එවිට ඔහු ඇයට හාද්දක් දී " අපි දෙන්නම දවසක එකට තිබිලිසී යමුකෝ " යි පවසයි.මෙය දින කිහිපයක්ම ඒ ආකාරයෙන්ම සිදුවිය.
ජොර්ජියාවට සාමාන්‍යෙන් යන්නේ අර්ජුත් හරහා වුනත් මේ ගමනෙදි ඔහුන් යන්නේ ඩිලිජාන් හරහාය. මෙය ඔහුගේ සිහින වලට තවත් තුරුම්පුවක් විය.

ඩිලිජාන් ගැන යුරෝපියන් හොදින්ම දනී..එය ඒ තරම් ම ලස්සන ප්‍රදේශයකි..සමහරු එය පුංචි සුවිස්ටර්ලන්තය ලෙසද හැදින්වූහ....ඔහු ඩිලිජාන් වලට මීට පෙර සැහෙන වතාවක් ගිහින් ඇති මුත් එය කිසිම දිනෙක එපා වන්නක් නොවීය.තිබ්ලිසි යන ගමනේදි ඔහුන් දිවා

ආහාරය ගන්නේ ඩිලිජාන් වලය. එවිට අඩුම තරමින් පැය දෙකක්වත් එහි නතර වීමට සිදුවෙයි.

" නයිරා ... ඩිලිජාන් මේ දවස් වල සීතල නැතිව ඇති නේද.."
ඔහු නයිරාගෙන් ඇසීය….
" නැතිව ඇති මේ සැප්තැම්බර් නේ "
" ම්ම්...එහෙනම් හොදයි " ඔහුගේ මුවෙන් සිනහවක් නැගින.
සිමියෝන් ඩිලිජාන් ගැන අහන්නේ තිබිලිසී ගමනට බැව් නයිරා හොදින්ම දත්තාය...ඇය ඔහුගේ සිහිනය සතුටින් විදිමට ඔහුට ඉඩදුන්නා මිසක් ඔහුගේ හිත රිදෙන කිසිදු දෙයක් නොකීමට වග බලා ගත්තාය... ඇයට අවශය වූයේ ඔහුගේ උපන්දිනය ඔහු සතුටින්ම ගත කරනු දැකීමයි...එය ඇය හදවතින්ම ප්‍රාර්තනා කල දෙය විය...
එදින රාත්‍රියේ සයිමන් නින්දට ගියේ උදැසනම අවදිවීමටය...එහෙත් එක් වරම මධයම රාත්‍රියේ ඔහුව අවදි වූයේ කාමරය තුලින් මිහිරි නාදයක් පැමිනීම නිසාය.... ඔහු දැස් විවර කරන විට නයිරා ඔහුගේ ඉදිරියේ සිටගෙන උපන්දින ගීය ගයමින් සිටියාය.

"සුභ උපන් දිනයක් රත්තරන්.." ඇය කීවාය..ඇයගේ අතෙහි කේක් එකකුත් ඒ මත දැල්වෙමින් තිබූ ඉටිපන්දමක්ද විය...කේක් එකත් සමගම හීන් සීරුවේ සයිමන් ලගින් හිදගත් ඇය " ප්‍රාර්ථනාවක් හිතේ තියාගෙන මේකට පිබින්න " යි කීවාය...සයිමන් දෙනෙත් වසාගෙන කල ප්‍රාර්ථනාවක්ද සමග එයට පිම්බේය.

වෙලාව රාත්‍රී 12 පසු වී ඇත... නයිරා සයිමන්ගේ උපන් දිනය ආරම්භ වන මධයම රාත්‍රියේ සැම දිනකම මෙය සිදුකලාය..එහෙත් එදින සයිමන්ට ඒ ගැන හාන් කවින්සියක්වත් මතකයක් නොතිබ්න... මධයම රාත්‍රියේ මෙලෙස අවදිවීමට සිදුවන බවවත් ඔහුට මතක් නොවීය.ඔහුගේ මුලු සිහියම හෙට දින යාමට ඇති සංචාරයෙන් පිරී තිබ්න...

" ඔයා නිදාගන්න රත්තරන් ... හෙට උදේම යන්නත් ඕනෙනේ " කියූ නයිරා " ඔයාට ලස්සන උපන් දින දවසක් ලැබෙන්න ඕනේ " යි පවසමින් තවත් හාද්දක් දී එතනින් නික්ම ගියාය.

උදැසන එලාමයත් සමගම සයිමන් හරි වෙලාවට අවදි විය.ඉක්මනින්ම නා පිරිසිදු වූ ඔහු ගමන යන්නට සුදානම් විය.
නයිරා සිටියේ දැඩි නින්දේය...එහෙත් ඔහු පිටත් වීමට මොහොතක් තිබියදී ඇය අවදි විය.
දෙදෙනාම එක්ව දෙවියන් යැද්දාය...මෙය ඔහුන් සුපුරුදු ලෙස ගමනක් යාමට ප්‍රථම දිනපතාම කරන්නාවූ දෙයකි...

" අනේ දෙවියනේ .. සයිමන් යන මේ ගමනට ඔබවහන්සේගේ ආරක්ෂාව ලබා දෙන්න... " ඇය දෙවියන් යැදීම අවසන් කලේ ඒ ප්‍රාර්ථනයත් සමගය.යැදීම අවසන් අවසන් වූ පසු තම කලමනා යලිත් පරික්ෂා කල සයිමන් නයිරාට හාද්දක් දී ගෙදරින් පිටත් විය.

එය ඉරිදා දිනයක්වූ නිසාවෙන් බස් දිව්වේ හිතාමත් සීමිතවය...ඔහුගේ නිවසේ සිට කන්ඩායම එක් රැස් වන ඒජන්සිය ලගට යාමට විනාඩි 15ක් පමන ගත වේ..ඔහු වෙලාව දෙස බැලීය..විනාඩි 30කටත් වඩා කාලයක් ඇත..ඒ නිසා බිය විය යුතු දෙයක් නැත.

බසය පැමිනියේය..සයිමන් බසයේ වාඩි වු තැන වයසක කාන්තාවක් හිදගෙන සිටියාය..ඇය ඊලට බස් නැවතුමෙන් බසින්නට සූදානම් විය....
වයස අවුරුදු 70ක පමන මදක් තරබාරු කාන්තාවක් වූ ඇයගේ ඉදිරියේ මදක් විශාල පොලිතින් බැග් 3ක් විය...

මහමග වෙලදාම් කරන කාන්තාවන් බොහොමයක් හිමිදිරි උදෑසනම තම රාජකාරි වලට නික්මෙන නිසා ඇයත් වෙලෙන්දියක් විය යුතු යැයි ඔහු සිතුවේය..
බස් නැවතුමට ලන් වූ විට ඇය අර විශාල බැග් 3න තම ඇගිලි මත රදවා ගන්නට උත්සහා කලාය..එහෙත් ඒවා බරින් වැඩි වුනු නිසා කදමලු වල බරටම ඇයට ආසනයෙන් හිටගැනීමටවත් නොහැකි විය..සයිමන් ඉක්මනින් දිවගොස්
" ඉන්න මම උදව් කරන්නම් කියමින් " බැග් දෙකක් ඔහුගේ අතට ගත්තේය....

" ස්තුතියි පුතා" කියූ ඇය ඉතිරිව තිබු බෑගයත් ඇයගේ පසුම්බියත් අතේ රදවා ගනිමින් බසයෙන් බැසීමට උත්සහා කලාය..එහෙත් බසයේ එක් පඩියක් බැස්ස ඇයට දෙවන පඩිය බැසීමට වාරු නොවිය..බෑගයත් සමගම ඇයව බසයෙන් බිමට ඇද වැටින...අත්දෙකේම තිබූ මලු නිසා සයිමන්ට ඇයව අල්වා ගත නොහැකි විය.
වැටිමත් සමග ඇයගේ හිස බස් නැවතුමේ තිබුනු සිමෙන්ති මායිමක වැදුනෙන් ඇයගේ මුලු හිසම රුධිරයෙන් නැහැවී ගියාය...මලු දෙක පැත්තකට විසිකල සයිමන් පහතට නැවී ඇයව ඔසවා තම ඔඩොක්කුවට ගත්තේය.

ඇයගේ හිසෙන් දැඩි ලෙස රුධිරය වහානය වෙමින් පවතියි....ඇයට සිහියක් නැත... තම ලේන්සුව අතට ගත් ඔහු රුධිරය ගලමින් තිබු ඇයගේ තුවාලයට තද කර එය බැන්දේය..බසයේ සිටි මගීන් සියල්ලද එතැනට එක් රැස් වී තිබින..එක් අයෙක් ටැක්සියක් නතර

කලේය...සයිමන් සහා තවත් දෙදෙනෙකු එක්ව අර වයසක කාන්තාවව ඔසවා ටැක්සියට දැමීය..

කාන්තාවව ටැක්සියේ පිටුපස ආසනයේ හින්දවූ සයිමන් වට පිට බැලීය....එක් වරම එක් තරුන කාන්තාවක් දුවගෙන විත් අනිත් දෝරෙන් ටැක්සියට ගොඩ විය...ආසනයෙන් පහතට වැටෙමින් සිටි වයසක කාන්තාවව වාරු කර අල්වා ගත් ඇය සයිමන් දෙස බලා
" අපි යමු ..ඉක්මනට නගින්නැයි " කෑ ගැසීය..

සයිමන්ට සංචාරය මුලුමනින්ම අමතක වී ගොස් තිබින..කුමක් කරන්නදැයි ඔහුට සිතාගත නොහැක...ඔහුටත් නොදැනීම ඔහුව ටැක්සියේ හින්දවීය..එයත් සමගම ටැක්සිකරු රෝහලට පියෑබීය...සයිමන්ගේ බෑග් සියල්ලම අර බසයේය..සයිමන්ට හීන්දාඩිය දැමීය.ඔහු තම ඇඳුම් දෙස බැලීය...ඔහුගේ කමිසය එහෙන් පිටින්ම රුධිරයෙන් තෙත් වී ඇත.
"ඕක අයියෙන් අල්ලා ගන්න ලේ යන්න දෙන්න එපා " අර තරුන කන්තාව කෑගැසුවෙන් සයිමන් එක් වරම සංචාරය පිලිබද සිහියෙන් මිදින...
" මොකක්ද ඔයාගේ නම " ඇය ඇසුවාය.
මම සයිමන් ..."
"හා සයිමන් ඔය ලේන්සුව තව ටිකක් තද කරන්න....අපි රෝහලට යනකන්වත් ලේ යන එක නවත්තගන්න ඕනේ.."

සියල්ල හිතාමත් ඉක්මනින් සිදුවිය...රෝහලට වයසක කාන්තාවව ඇතුලත් කල පසු රුධිරයෙන් පිරි ඇඳුම් පිටින්ම සයිමන් රෝහලෙහි දමා තිබූ පුටු පේලියෙහි හිඳගත්තේය...අර තරුන කාන්තාවද එතැනට විත් හිඳගත්තාය.

"මම ලුසිනෝ " ඇය පැවසුවාය...ඇයගේ බ්ලවුසයේද රුධිරය ඇති බැව් දුටු සයිමන් " ඔයා ඔෆිස් යන ගමන්දැයි ඇසීය ...
" ඔව් එහෙත් ඒකට කමක් නැහැ " ඇය කීවාය..
" ඔයා "
" මම සංචාරයක් යන්න " ඔහු තම ඔරලෝසුවෙන් වෙලාව බැලීය..ඒවනවිටත් පැය එකාමාරකට වඩා ප්‍රමාද වී ඇත..ඔහු තම කලිසම් සාක්කුවට අත දමා තම දුරකතන සෙවීය...එය ඔහු තමන්ගේ අත් බෑගයේ දමාගත් බව ඔහුට මතක් වූයේ එවිටය.එය ඔහුට බසයේම අමතක විය..තම රුධිරය පිටි අතින්ම ඔහු හිස අල්වාගෙන කල්පනා කලේය.

ටික මොහොතකින් රෝහලේ වෛද්‍යවරයා විත් අර වයසක කාන්තාවට සිහි පැමිනි බවත් ... ඇයගේ තුවාලයට ප්‍රතිකාර කොට ඇති නිසාවෙන් ඒ ගැන බිය වියයුතු නැති බවත් පැවසීය.. එසේම

ඉක්මනින් ඇයව රෝහලට ගෙන ඒම ගැන ද ඔහු සයිමන්ට සහා ලුසිනේට ස්තුති කලේය...

ඔහු ටැක්සියක් රැගෙන ප්‍රධාන බස් නැවතුමට ගියේය... ඔහුගේ බෑග් නිසැකවම එහි තිබිය යුතුය...එය එසේම විය.. කිසිම දෙයක අඩුවක් නොවී සියල්ලම ඒ තුල විය..බස් පරිපාලකට ස්තුති කල ඔහු එම ටැක්සියෙන්ම තම නිවසට ගියේය..

ඔහුගේ රුධිරය පිරි වස්ත්‍ර දුටු නයිරාට කලන්තේ නොදැමුවා පමනී.. ඇයට කරුනු කාරනා සියල්ලම පැවසූ පසු ඇය සන්සුන් විය..
සයිමන් ඔහුගේ බෑගයෙන් දුරකතනය ගත්තේ එවිටය...එහි දුරකතන ඇමතුම් 10කටත් වඩා තිබින..ඒ සියල්ලම අර ඒජන්සියෙන්ය...දැන් ඉතින් එ ගැන සිතා පලක් නැත..කෙසේ හෝ අවසානයේ තමන් මෙතෙක් සිහින දුටු ජොර්ජියා ගමන සිහිනයක්ම වී තිබින.ඒජන්සි කරුට දුන් මුදල්ද යලිත් ගත නොහැක. තම උපන්දින සවාරිය එහෙම් පිටින්ම සුන් වී ගොස් ඇත..

සයිමන් එදින මුලු දවසම ගත කලේ දැඩි වේදනාවකිනි..ඔහුගේ හදවතේ එක් පැත්තකින් අර වයසක කාන්තාවගේ ජීවිතය බේරා ගැනීමට හැකිවීම ගැන සතුටක් තිබින.ඔහු එහින් ප්‍රිතියක්ද අත් වින්දාහ..එහෙත් ඒ සියල්ලටම වඩා තම උපන් දින සංචාරය ලේ විලකින් අවසන් වීම ගැන ඔහු පශ්චත්තාප විය..

හවස් භාගය වන තුරුත් වේදනාවෙන් සිටින තම සැමියා දුටු නයිරා ඔහුව අස්වස්සන්නට උත්සහා ගත්තාය..." ඔයා දුක් වෙන්න එපා සයිමන්,ඇය ඔහුව කිහිප වරක්ම වැලද ගත්තාය..." හැමදේම වෙන්නෙ හොදටයි කියනවනේ " "අද හවසට යහලුවන්ට එන්න කියලා අපි පොඩි පාටියක් දාමු..හැමදේම මන් ගානේ..හරිද "

දැන් උපන් දින සැමරීමෙන් පලක් නැත. තමන් බලාපොරොත්තු වූ හැම දේම විනාශ වී ගිය පසු හවත් මොන කතාද, එහෙත් නයිරා ගේ සිත රිදවීමට නොහැකි නිසා ඔහු එම අදහසට කැමති විය..

“ හා..” අපි එහෙම කරමු ..
නයිරා ඇයගේ ලොකු දැස් දෙකින් සයිමන්ගේ බිමබලාගත් මුහුන දෙසට එබී මෙසේ පැවසීය .." සයිමන් මම ඇත්තටම දන්නේ නැහැ ඇයි මෙහෙම වුනේ කියලා..එහෙත් දෙවියටන්ට ඒකට මොකක් හරි හේතුවක් ඇති , සමහර විට දෙවියන්ට ඕනේ වෙන්න ඇති අර වයසක අම්මව බේරගන්න. ඒක කොයිතරම් ලොකු දෙයක් ද සයිමන් ,,අනික ඔයාගේ උපන් දිනය දවසේ ඔයා තව කෙනෙක්ගේ ජීවිතය බේරුවා .. ඒක කොයිතරම් ලොකු පිනක්ද " ..එහෙම නේද ? ඇය ඇසුවාය..

" හ්ම්..ඒකත් ඇත්ත " සයිමන් සිනහවකින් පිලිතුරු දුන්නේය..
" ඒකනේ ඔයා තමා මගේ වීරයා .. මගේ වීරයා " නයිරා කෑ ගැසුවේ සයිමන්ගේ පිටුපසින් ඔහුගේ උරහිසම බදා ගනිමිනි...
" ඇති ඇති ඇති " යැයි සිනා සුනු සයිමන් ඇයව ඔහුගේ ඔඩොක්කුවට ගත්තේය..ඇයගේ දෑස දෙස කෙලින්ම බැලූ ඔහු ඇයගේ දෙතොලට දිගු හාදුවක් දුන්නේය... " වීරයා " ඇය යලිත් සිනාසින..

කතාව මෙතනින් අවසන් යැයි ඔබ සිතනවානම් එය වැරදිය... දැන් එය අවසන් වෙන තැනට මා ඔබව ගෙන යා යුතුය..

හවස පාටියෙන් පසු සයිමන් ඇදට ගියේය...එහෙත් ඔහුට නිදාගැනීමට නොලැබින.. නයිරා සාලයේ සිට ඔහුගේ නම කියා කෑගසන හඬ ඇසී ඔහු සාලයට දිව ගියේ ඇයට කුමක් හෝ කරදරයක් වී ඇතැයි සිතාය...
නයිරා ටීවී එක ඉස්සරහා හිදගෙන සිටියාය..ඇයගේ දෑසෙන් කදුලු පැන්නාය.

" බලන්න සයිමන් " ඇයගේ වචන වලටවත් වාරු නැත ... තැති ගත් ඒ වචන වල බියත් වේදනාවත් මුසුවී ඇත..

ඒ රාත්‍රී පුවත් විකාශයයි... එහින් පැවසු ආකාරයටනම් අද ජොර්ජියාවට ගිය සංචාරක බසයක් ස්පිතාක් කදු හරහා යමින් සිටියදි අනතුරකට ලක්වී ඇත.. අනතුර නිසා කන්දෙන් පහතට වැටි ඇති බසය සම්පූර්නයෙන්ම විනාශ වී ඇති අතර තවමත් මල සිරුරු සොයා ජීවිතාරක්ෂකයින් කදු පාමුල සොදීයි මෙහෙයුම් සිදුකරමින් පවතියි.දැනට හදුනාගෙන ඇති ආකාරයට මෙය මොස්ක්වා ඒජන්සියට අයත් බසයකි...

සයිමන්ගේ මනස එක් වරම හිස්ව යන්නක් මෙන් ඔහුට දැනින..ඔහුව එක්වරම පුටුවේ හින්දවිය...

---

පසුවදන - මම උපන් දිනය සමරන්නේ විවිධ විදියට..මේ පාර මම හිතාගෙන හිටියේ ටිකක් දුර ටුවර් එකක් යන්න.ගමනට ඕනේ කරන සේරම ලැස්ති කරලා ගමන යද්දී ඔය කියපු වයසක ගැහැනු කෙනාව මුනගැසීම ,අනතුර ඒ හැම දෙයක්ම ඒ විදියටම වුනා..හැබැයි අන්තිම ටික හැරෙන්න .සිදුවුනු ප්‍රමාදය නිසාම ටුවර් එක යන්න බැරිවුනා... ඉතින් ආයෙත් ගෙදර ආවට පස්සේ හිතට ආපු ෆැන්ටසිකුත් එක්ක මම " දෙවියන්ගේ උපන්දින තෑග්ග කියන " මේ කතාව නිර්මානය කරනවා..

# අම්මගේ බිල්පොත

ජීවිතයේ ගොඩක් දේවල් ලැබෙද්දී.. ගොඩක් දේවල් අපෙන් ඈත් වෙලා යනවා... මටත් වුනේ එහෙම දෙයක්.

මම කාලයක් ගොඩාක් අසාර්ථක මිනියෙක් වෙලා හිටියා..එහෙත් ජීවීතයට සාර්ථකත්වය ආවා...ඒක වුනේ එක පාරටම...ඒ නිසාම ගොඩක් දේවල් අත හැරලා දාලා මම ඒක පස්සේ දුවන්න පටන් ගත්තා... මගේ බිරිද , දරුවන් නියා මගේ අම්මා වෙනුවෙන්වත් මට වෙලාවක් තිබ්බෙ නැහැ...

මගේ අම්මා ජීවත් වුනේ මමත් බිරිදත් ජීවත් වුනු නගරයට ගොඩක් ඈත .... " ඉජේවාන් " කියන පුංචි ගමක... යෙරෙවාන් වලට ඇවිත් පදිංචි වුනාට පස්සේ මම ඉජේවාන් වලට ගියේ අහම්බෙන් වගේ... ටික කාලෙකින් ඒ යන එකත් සම්පූර්නයෙන්ම අත හැරලා දැම්මා.. දවසක් මගේ බිරිදගේ උපන් දිනය දවසේ මම ඇයගෙන් ඇහැව්වා

" මොනවද ඔයාට උපන් දිනයට ඕනේ කියලා " ...එයා ටිකක් වෙලා කල්පනා කලා... කල්පනා කරලා මට මෙහෙම කිව්වා
" මට ඔයාගෙන් තෑගී මුකුත් එපා ආරොන් .... පුලුවන්නම් එක දෙයක් කරන්න... "
" මොකක්ද "
" ඔයාගේ අම්මව බලන්න යන්න.... එයාව කොයේ හරි රාත්‍රී කෑමකට එක්ක යන්න...එයා ගොඩක් සතුටු වෙයි.

මගේ බිරිද නයිරා මේ තරම් මගේ අම්මා ගැන හිතන විත්තිය මම දැනගෙන හිටියේ නැහැ... එහෙත් එහෙම බිරිදක් ලැබීම ගැන මම සතුටු වෙනවා....
මම එදාම අම්මට කෝල් එකක් ගත්තා...
" අම්මේ... මම මේ සති අන්තයේ ඉජේවාන් වලට එනවා.... මට අම්මත් එක්ක රෑ කෑමකට යන්න ඕනේ... ."
ටික වෙලාවක් දුරකතනයේන් කිසිම දෙයක් ඇහෙන්නේ නැතිව ගියා... අම්මා කතා නොකර කල්පනා කරන්නට ඇති.. ආයෙත් අම්ම කතා කරද්දී මට තේරුනා එයා අඩන විත්තිය.

" බොහොම ස්තුතියි පුතේ...එහෙත් පුතාට වැඩනම් ඒවා පාඩු කරගෙන එන්න එපා...පුතාගේ වැඩ කරන්නත් එපැයි "
" නැහැ අම්මේ... මම එනවා.... අම්මා ලැස්ති වෙලා ඉන්න... " කියපු මම දුරකථන විසංධි කලා...

අම්මායි තාත්තයි පුංචි කාලේ මාත් එක්ක ගියපු පොඩි අවන්හලක් තියෙනවා ඉජේවාන් වල... තාත්තගේ මරනයෙන් පස්සේ කවදාවත් අම්මා ඒකට යන්නේ නැතිව ඇති.... මම තීරනය කලා අම්මත් එක්ක ඒ අවන්හලට යන්න...

සති අන්තය එලබුනා...මම ඉජේවාන් වලට ගියා... අම්මගේ ගේ ගාවින් කාර් එක නවත්තලා වහනෙන් බහින්නත් කලින්ම අම්මා ගෙදරින් එලියට ආවා..මම එනකන් අම්මා බලාගෙන ඉන්න ඇති.

අම්මව දැක්කේ කාලෙකින් පස්සේ ... එහෙත් අම්මව මේ තරම් ලස්සනට දැක්කේ අවුරුදු ගානකින්ම පස්සේ...අම්මා පුදුමාකාර ලස්සනට හැදගෙන හිටියා... එයා තරුන කාලේ වගේම...මුතුඇට අල්ලපු මාලෙකුත් ... පුංචි ඩෑෂඩිල් මලකුත් කොන්ඩේ ගහගෙන හිටියා...මම ඉක්මනට වහනෙන් බැහැලා ගිහින් අම්මගේ අතින් අල්ලගෙන වහනයට එක්ක ආවා...

එදා මම අම්මත් එක්ක ගිහින් අර අවන් හල ලග වහානය නැවැත්තුවම අම්මා පුදුමයට පත් වුනා...මම දැක්කා අම්මගේ ඇස් දෙකින් කඳුලු වැක්කෙරෙනවා..අම්මා ඒවා හොරෙන්ම පිහද ගත්තා...
" මම හිතුවේ නැහැ පුතේ අපි අද මෙතෙනට එයි කියලා... " ඇය මගේ දිහා බලලා හිනා වුනා..

“ ලූනා කෑෆේ " කියන මේ අවන්හල ඉජේවාන් වල ගොඩක් ජනප්‍රිය එකක්..මම එදා අම්මා කන්නම කැමති " තොල්මා " ඕඩර් කලා...

" පුතා දන්නවද මමයි ඔයාගේ තාත්තයි මුලින්ම මුන ගැහුනේ මේ අවන්හලේදී...." අම්මා වට පිට බැලුවා ..

“ හැමදේම තවමත් ඒවගේ.... ඔයාගේ තාත්තත් අපිත් එක්ක හිටියනම් එයා අද ගොඩක් සතුටු වෙයි .." අම්මගේ ඇස් දෙකේ කඳුලු පිරුනා..
මම අම්මගේ අත පිරිමැද්දා .. " මම දන්නවා අම්මයි තාත්තයි මේකට නිතරම ආපු විත්තිය .. "
" ඒ වගේම මේ අවන්හල තවත් එක දෙයක් නිසා ගොඩක් විශේසයි"
" ඒ මොකක්ද " මම අම්මගෙන් ඇහැව්වා..
" මම ගැබ් ගත්තු ආරන්චිය මම මුලින්ම තාත්තට කිව්වේ මේ අවන් හලේදී..ඔයා දන්නවද තාත්තා එදා කොයි තරම් සතුටු වුනාද කියලා..එද ආවන් හලේ ගොඩක් මිනිස්සු හිටියා.. ඔයාව හම්බුවෙන සතුටටම තාත්තා එදා ඒ හැමෝගෙම බිල් ගෙව්වා.. ඒ හැමෝටම කිව්වා..මේ මගේ පුතා "ආරොන්" වෙනුවෙන් කියලා..එයා ඔයාට තියන්න නමත් තීරනය කරලමයි තිබුනේ.. එදා හැමෝම " ආරොන් ..

ආරොන් " කිය කියා කෑගැහැව්වා.. මට දැනුත් ඒ ශබ්ද ඇහෙනවා පුතා...ඒක පුදුමාකාර දවසක් .. " අම්මා ඇඬුවා.... මම අම්මා ලගට ගිහින් එයාව වැලඳ ගත්තා.

"ඔයාට ගොඩක් ස්තුතියි පුතා..ඔයාගේ අම්මව මෙතනට ගෙනාවට...මට ගොඩක් සතුටුයි " අම්මා මගේ හිසට හාද්දක් දුන්නා...මාව තුරුලු කරගත්තා...

මම මටම ශාප කලා..ඇයි මන් අම්මව මීට කලින් මෙතනට එක්කන් ආවේ නැත්තේ...මට අම්මව කොච්චර මගහැරුනද...

එදා වේටර් බිල් එක අරන් ආවම අම්මා ඒ බිල් එක ඉල්ල ගත්තා... අම්මා ඒ දේ මට මතක ඇති කාලයක හිදලා කරනවා..එහෙත් මම කවදාවත් දැනගෙන හිටියේ නැහැ ඒ බිල් වලට මොනවද වෙන්නේ කියලා...

මම අම්මට එදා පොරොන්දු වුනා ආයෙත් වතාවක් අම්මව එතනට එක්කන් එන වින්තිය..
එහෙත් මට ආයෙත් එතනට අම්මව එක්කන් යන්න බැරි වුනා...ඊට දවස් කිහිපයට පස්සේ අම්මා නැතිවුනා..හර්ධාබාදයකින්...

අම්මගේ භූමිදාන කටයුතු ඉවරවෙලා මමයි බිරිදයි අම්මගේ ගෙදරට ගියා...හිතට දැනුනු දැඩි වේදනාව නිසාම මම ඉස්තෝප්පුවේ තිබුනු පුටුවක හාන්සි වෙලා හිටියේ..එක පාරටම මගේ බිරිද කෑගැහැව්වා " ආරොන් මෙහාට එන්න "

මම දුවගේන එතැනට ගියා..එයා හිටියේ අම්මාගේ කාමරේ ...එයාගේ අතේ පුංචි පොතක් තිබුනා..
" මේක බලන්න " එයා ඒ පොත මගේ අතින් තිබ්බා...
ඒක සම්පූර්නයෙන්ම පිරිලා තිබුනේ බිල්පත් වලින්.ඒ සේරම ලූනා කෑෆේ එකේ බිල්.... අම්මා බිල්පත්වලට කරන්නේ මොකක්ද කියලා මට තේරුනා... මගේ මුවින් පුංචි හිනාවකුත් ආවා...එයා ඒ හැම බිල් එකකම පිටුපස්සේ පොඩි සටහනකුත් කරලා ..ඒ හැම සටහකන්ම ලියලා තියෙන්නේ මම වෙනුවෙන් මම එකේ තිබුන මුල්ම බිල් එක කියෙව්වා..
" පුතේ ... ඔයා තවම ඉපදිලා නැහැ...ඔයා කවදා ඉපදේවිද දන්නෙත් නැහැ..එහෙත් ඔයාගේ තාත්තයි මමයි ඔයා එනකන් බලාගෙන ඉන්නවා... දෙවියන් අපිට ලස්සන දරු පැටියෙක් දෙයි කියලා අපි විශ්වාස කරනවා... " මගේ ඇස් දෙකේ කදුලු පිරුනා.

මම අන්තිමටම තිබුන බිල් එක අතට ගත්තා..ඒ මම ඇයව එක්කන් ගිය දවසේ බිල..මම ඒකේ පිටුපස තිබුන සටහන කියවන්නට ගත්තා.

" මගේ රත්තරන් පුතේ...අද අම්මට ගොඩක් සතුටු දවසක්... ඔයා නිසා ඔයාගේ අම්මා ගොඩක් සතුටු උනා... ඔයා මාව මුන ගැහෙන්න එන දවස එනකන් මම කොච්චර ආශාවෙන් බලාගෙන හිටියද ...
මගේ රත්තරන් පුතාට ගොඩක් ස්තුතියි....

කවදා හරි ඔයා මේක කියවනම් .... මට එකම එක උදව්වක් කරන්න.... ඔයාගේ බිරිදවත් සතියකට එක පාරක්වත් රාත්‍රී කෑමකට එක්කගෙන යන්න... ඔය දෙන්න ගැන හැමදේම කතා කරන්න... ඒ රාත්‍රිය ඔය දෙන්න වෙනුවෙන්ම ගත කරන්න..එයාට කියන්න ඔයා එයාට කොච්චර ආදරෙයිද කියලා....අද ඔයාගේ අම්ම සතුටු වුනා වගේම ඔයාගේ බිරිදත් ගොඩක් සතුටු වේවී.... ..ඒක ඔයාලගේ ආදරය අලුත් කරාවී...
අම්මා "

මම අම්මගේ බිල්පොත මගේ පපුවට තුරුලු කරගෙන ඇඩුවා...
" අපි නොදකින කොයි තරම් සුන්දර දේවල් මේ ලෝකේ තියෙනවද..අපි කරන පුංචිම පුංචි දේකින් වුනත් හදවතක් කොයිතරම් සතුටු වෙනවද .... " මට මගේ අම්මව කොයිතරම් නම් මග හැරෙන්නට ඇත්ද "................

---

පසුවදන - ඔබ කෙනෙකු සමග ගත කරන මේ මොහොත ඔබ ඔහු හෝ ඇය සමග ගත කරන අවසාන මොහොත වෙන්නට පුලුවන්..

ඒ නිසා සතුටින් ජීවිතය ගත කරන්න.සතුටින් ජීවත්වෙන්න.

# බිහිරි බිරිඳ

තම බිරිඳගේ කන් දෙක ඇසෙන්නේ නැතැයි සිතූ කයිරෝ වෛයිද්‍යාවරයෙකුව හමුවීමට ගියේය..ඔහුගේ කතාව අසා සිටි වෛද්‍යාවරයා බිරිඳව පරික්ෂා කලයුතු බැවින් ඇයව රැගෙන එන ලෙස කීවත් කයිරෝ එය ප්‍රතික්ෂේප කලේය.

" එයාව එක්ක එන්න කලින් තමයි මම ඔබතුමාගෙන් උපදෙස් ගන්න ආවේ...එයාට කිව්වොත් එයාගේ කන් දෙක ඇහෙන්නේ නැහැයි කියලා එයාට ගොඩක් දුක හිතෙයි " කයිරෝ වෛද්‍යාවරයාට කීහ.

" හරි එහෙනම් මම ඔබට පොඩි කෙමක් කියන්නම්..මේ විදියට ඇයව පරික්ෂා කරලා මට ඇවිත් කියන්න "

කියූ වෛයිද්‍යාවරයා කයිරෝට මෙසේ කීහ...

"මුලින්ම ඔබේ බිරිඳට අඩි 50ක් විතර ඈතින් හිටගන්න..හිටගෙන යමක් කියන්න...ඇයට එය ඇසුනේ නැත්නම් අඩි 40ක් දුර හිඳන් ඒ දේම කියන්න .හැබැයි ඔබ කලින් කියූ ශබ්දයෙන්මයි.... මේ විදියට අඩි 50 යේ ඉඳන් අඩි 10 ය වෙනකන් 5 වතාවක් ඇයව පරික්ෂාකරලා බලන්න...ඇයට ඔබ කියන දේ ඇහුනේ කොතනින්ද කියලා මට ඇවිත් කිව්වොත් , මට පුලුවන් වෙයි ඔබේ බිරිඳට කන් ඇහෙනවාද නැද්ද කියලා නිගමනයකට එන්න "

කයිරෝ වෛද්‍යාවරයා කියූ ලෙසම කිරීමට තීරනය කලේය.

දිනක් බිරිඳ කුස්සියේ උයමින් සිටින අතර තුර ඔහු අඩි 50ක් දුරින් සිට ඇයට කතා කලේය..

"අද මොනවද රත්තරං උයන්නේ "

ඇයගෙන් ප්‍රතිචාරයක් නැත.

ඔහු අඩි 40ක් ඉදිරියට විත් කලින් කී ශබ්දයෙන්ම එය යලිත් ඇසිය.

එහෙත් බිරිඳගෙන් ප්‍රතිචාරයක් නැත.ඔහු තවත් ඉදිරියට ගොස් අඩි 30ක් දුරින් සිට එසේම ඇසීය..එහෙත් ප්‍රතිචාරයක් නැත..මෙසේ අඩි 10යක් දක්වා ඇය ලගටම ආ ඔහු ඇයට පෙනෙන දුරින් සිට යලිත් එම ප්‍රශ්නයම ඇසීය..

ඔහුගේ බිරිඳ කෝපයෙන් පිටුපස්ස හැරී බැලීය. දත්විරිස්සා ප්‍රකෝපයෙන් ඇය මෙසේ කීවාය.

" මම දැන් පස් පාරක් විතර කිව්වා නේද මනුස්සයෝ අද උයන්නේ අල කියලා "

---

පසුවදන - සමහර විට ප්‍රශ්නය ඇත්තේ අනිත් අය තුල නොව ඔබ තුල විය හැක.

# තතෙව් බලකොටුවේ අවසානය

මේ කියන්නට යන කතාව ඔබ විශ්වාස නොකරනු ඇත..

1915 සියුනික් ප්‍රදේශය

තුර්කිෂ් වරුන් තතෙව් බලකොටුව අල්ලා ගැනීමට දැරූ සැම ප්‍රයත්තයක්ම නිෂ්පල විය...එහෙත් ඔහුන් ඒ වනවිටත් තතෙව් බලකොටුව පිහිටා තිබූ සියුනික් ප්‍රදේශයට ඇතුලුවී ගම් කිහිපයක්ම අල්ලාගෙන තිබුනෙන් ඒ ගම්වල සාමාන්‍ය වැසියන් සියල්ලෝම පාහේ අමානුෂික ලෙස මරා දැම්මෝය.ගම් වල පිරිමින්ගේ බෙලි කපා ඒවා වෙරෝතෙව් ගංගාව දිගේ පාකර යැවීය... ඔහුන්ගේ ධර්මයට යටත් නොවන ගැහැනින්ව නිරුවතින් ඇවිද්දවා ගල් ගසා මරා දැමීය...සියුනික් ප්‍රදේශයේ පිහිටි සැම බැසිලිකාවක්ම දේවස්තානයක්ම පාහේ සුන්නද්දූලි කොට ඒවයේ දේවගැතිවරුන්ව කුරුසයේ ඇනගසා මරා දැම්මෝය....එහෙත් තතෙව් තවමත් තේජාන්විතව නැගී සිටියේය...

වෙරෝතෙව් ගංගා මායිමෙන් පටන් ගත් තතෙව් ප්‍රදේශය තෙතෙව් ගිරිශීකරයේ පිහිටා තිබූ විශාල දේවස්තානයෙන් අවසන් විය... කඳු නිමයේ සහා දේවස්තානය වටා විශාල තාප්පයක් බැද තිබුනු අතර තතෙව් සෙබලුන් සහා අද්මිරාල් ගේගම් , තතෙව් බලකොටුව රැකගැනීමට තුර්කී මුස්ලිම් වරු සමග සටන් වැදි සිටියෝය..

තුර්කිෂ්වරු දහස් ගානක බල ඇනියක් තතෙව් සීමාව වූ වෙරෝතෙව් ගංගාව වට කදවුරු බැදගෙන උන්නේ කොයිම මොහොතක හෝ තතෙව් අල්වා ගැනීමේ අවසන් ප්‍රහායර එල්ල කිරීමටය..මේ වන විටත් තතෙව් සෙබලුන් කුඩා කන්ඩායමකට පමනක් සීමා වූ නිසා කුමන මොහොතක හෝ එය සිදුවීමට ඉඩ ඇත.

ඔබ මනුස්ස තිරිසෙනෙකුව හැබැයින් දැක නැත්නම් ඔබ ඔටෝමන් අද්මිරාල් අබ්දුල්ලා හමිඩ්ව දැකිය යුතුය...අන්කාරා වල අර්මේනියානුවන් පනපිටින් පුච්චා දැමුයේ ඔහුය.... මෙතෝල් බෙහෙත් විද නීන්දේදීම පුංචි දරුවන්ව මරා දැමේ ඔහුය... ගෑස් කාමර තුල හුස්ම හිරකර මහලු මිනිසුන්ව මරා දැම්මේ ඔහුය...සේතුන් නගරය අල්ලා ගත් විට එහි පිහිටි දේවස්තානවල කන්‍යාවියන් නිරුවතින් මහ මග ඇවිද්දවා දූෂනය කොට මරා දැම්මේ ඔහුය...

කතෝලික දේවස්තාන බිමට සමතලා කොට දේවගැතිවරුන්ව කුරුසවලට තබා ඇනගැසීය... මේ සියලුම නරුම කම් කල හමීඩ් තතෙව් ගංගා සීමාවේ සිට මලකුනකට ඉව අල්ලමින් සිටින උකුස්සෙකු සේ ඈතින් පෙනෙන තතෙව් දේවස්තානය දෙස බලාගෙන සිටියේය...

ඔහුගේ පිටුපසින් දහස් ගනනක් වූ තුර්කි සේනාව ඔහුගේ අණ ලැබෙන තෙක් බලාගෙන සිටියෝය... අශ්වයා පිටින් පහතට බැසගත් ඔහු වෙරෝතෙව් ගංගාව අසලට විත් එහි තතෙව් කන්දවටා යන ගංගාව දෙස දිගු බැල්මක් හෙලීය....

ඉන්පසුව ඔහුගේ පිටුපසින් සිටි සෙබලුන් දෙස බැලූ ඔහු " මලකදන් දෙකට තුනට කපලා ගගට දාපල්ලා ... " යි කෑගැසීය....

එය ඒ ආකාරයෙන්ම සිදුවිය...සවස් යාමය වෙද්දි සියුනික් වල මියගිය වැසියන් සියල්ලන්ගේම මලකදන් යලිත් කපා කොටා ගංගාවට දැමූ හෙයින් මුලු ගංගාවම රක්ත වර්නයකට හැරිනි....රුධිරය මිශ්‍ර වූ ජලය තතෙව් හරහා ඇදි ගියහ.... තෙතෙව් දේවස්තාන බලකොටුව තුල සිරවී සිටි මිනිසුන්ට ජලය ලැබුනේ මෙම ගංගාවෙනි... හමීඩ්ට අවශයනම් තතෙව් එක් වරම ආක්‍රමනය කොට එය අල්වා ගන්නට තිබින...එහෙත් ඔහු එසේ කලේ නැත... ඒ වෙනුවට ඔහු කලේ ගංගාවට රුධිරය එකතු කොට මිනිසුන්ව හාමත් කිරීමත් මලමිනි පාකර යවා මිනිසුන්ව බියට පත්කිරීමත්ය...

එය මිලේච්චය...එහින් ඔහු අසීමිත සතුටක් ලැබීය...

මෙයින් සතිකට පසුව හමිද් ඔහුගේ සැලැස්මේ අවසන් ප්‍රහාරය තතෙව් වෙත එල්ල කලේය... හාමතින් සහා බියෙන් පීඩිතව සිටි තතෙව් බලකොටුව ඔහු අල්ලා ගත්තේ ඒ ආකාරයෙනි...කදු පාමුල ජීවත් වූ මිනිසුන්ව මරාදමමින් නියන් ගම් විනාශ කරමින් ඔහුන් තතෙව් බලකොටුව මුදුනේ තිබූ දේවස්තානයට ඇතුලු විය...දේවස්තානයේ ගේට්ටු දොරේ අද්මිරාල්ගේ කදින් වෙන් වුනු හිස ගැසූ ඔහු එහි යටින් " තතෙව් බල්ලා " යි ලියන්නැයි සෙබලුන්ට අණ කලේය.

තුර්කිෂ්වරුන් තතෙව් දේවස්තානයට ඇතුලු වෙද්දී ඉතුරු වී සිටි සාමාන්‍ය ජනයා තතෙව් පල්ලියේ අවසන් දේව මෙහෙයට සහභාගි වෙමින් තිබින... ගැහැනු සහා පිරිමි ඇතුලු ඉතුරු වී සිටි සියයකට ආසන්න පිරිසක් දෙවස්තානය තුල සිටියහ.

මේ ඔහුන්ගේ අවසානය බව ඔහුන් සියල්ලෝම දැනගෙන සිටියෝය...එහෙත් කිසිවෙකුගේවත් මුවින් අදෝනාවක් හෝ නික්මුනේ නැත...පල්ලියේ ප්‍රධාන පූජකයා වුනු ග්‍රිගෝර්ගේ දියනිය දේව මෙහෙයේ පියානෝව වාදනය කලේය...ඇයගේ අතෙහි වූ කුඩා දරුපැටියා ඔහුගේ මවගේ දෑත් පියානෝව හරහා වෙවුලමින් ඇදි යන

අයුරු බලා වුන්නේය.. ඒ පියානෝ වාදනයත් සමග ඔහුන් දේව මෙහෙයේ ගීතිකාව ආරම්භ කලේය.... දේවස්තානයට පිටතින් ඇසෙන මරලතෝනී හඩත් තුර්කිෂ් වරුන්ගේ ගෝසාවත් යාන්තමින් පියානෝ හඩත් සමග මුසුවී ඇතුලේ සිටි කාන්තාවන්ගේ කන වැකෙත්ම ඔවුහු තම අතේහි වූ බිලින්දන් පපුවට තදකර ගත්හ..එහෙත් මරනය හැරෙන්නට වෙනත් විකල්පයක් නැත...තවත් මොහොතකින් වේදනාවකින් හෝ ක්ෂනිකව හෝ සියල්ලම අවසන් වනු ඇත.

ගීතිකාව පල්ලිය පුරා ගයද්දි ග්‍රිගෝර් පියතුමා දේවප්‍රසාදය පිලියෙල කොට එය පල්ලියේ දෙවෙනි පියතුමා ගේ අත තැබීය...කුඩා දරුවන් පලමුවද... දරුවන් අතින් ගත් කාන්තාවන් දෙවෙනුවද ..ඉතුරු වී සිටි මහලු පිරිමින් කිහිපදෙනෙක්ද පොලීමට පැමින ඔහුන්ගේ අවසන් දිවය ප්‍රසාදය ගැනීමට බලා සිටියෝය.... මොහොතකින් විශාල අඩක් නගමින් පල්ලි දොර ගැලවී විසීවී ගියේය.... තිරිසන් රැලක් සේ පල්ලිය තුලට දුවගේන පැමිනි තුර්කී සෙබලුන් ඔහුන් ඉදිරියට එන හැම එකාවම පෙති ගසමින් ඉදිරියට දිව ආහ... අවසානයේදි කිසිවෙකුත් ඔහුන්ගේ මාර්ගය අවහිර කිරීමට නොපැමිනි විට ඔහුන් කාන්තාවන්ව බිමට ඇද දමා ඔහුන්ගේ උගුරු දන්ඩ මුවහත් කඩුවලින් කපා වෙන් කලේය...

" නවත්තපල්ලා ඕක " පිටුපසින් දැඩි හඩක් නැගින..එය දේවස්තානයේහි බිත්තී මතින් දෝංකාර දින...සියල්ලෝම නිශ්ශබ්ද විය.. ඒ හඩත් සමග පල්ලිය තුලට පැමිනි හමීඩ් ඔහුගේ ඉදිරියට විත් තිබුනු විශාල දැසින් පල්ලිය පුරාම බැල්මක් හෙලීය.

" කාලකන්නී ක්‍රිතියානී කාරයෝ " කියමින් පල්ලියේ අල්තාරයේ තිබුනු කුරුසය ලගට පැමිනි ඔහු කුරුසය ඉදිරියේ දනගසා සිටි සහයක පූජකවරයගේ බෙල්ලට ඔහුගේ අසිපත මුදා හැරියෙන් එය කැපී ගොස් අල්තාරයේ තිබු දේවප්‍රසාදයේ වැදී බිම වැටින...මෙහින් තැතිගත් කාන්තාවන් සහා දරුවන් මරහඩ දී කෑගැසීය

" ඕකුන්ව මෙතනින් අරගෙන පලයල්ලා ... " හමීඩ් සෙබලුන් දෙසබලා කෑගැසීය...

මොහොතකින් තුර්කිෂ්වරු දෙවස්තානයේ ඉතුරු වී සිටි කාන්තාවන් සහා දරුවන් දේවස්තානය තුලම වූ බිම් කුටියෙක හිරකලෙන් දේවස්තානය නිහඩවිය ... හමීඩ් ඔහුගේ පාදයෙන් , කුරුසය ඉදිරියේ දනගසා සිටි ග්‍රිගෝව තල්ලු කලේය ..

" මාව මරලා දාපන් " ග්‍රිගොර් පූජකයා කෑගැසීය..

"නැහැ නාකියා " මම තෝව මරන්නේ නැහැ... උබව එකපාරම මරලා දැම්මෝත් උබ එකපාරටම උබේ දෙයියන් ලගට යයි...මම උබව ජීවත් කරවනවා... හැබැයි උබේ ඇස් ඉදිරිපිටම අර ගැහැනුන්ව

දූෂනය කරනවා ... උබ දන්නවනේ අපේ එවුන් ඒක ලස්සනට කරයි..උබ ඔය ඇස් දෙකෙන් ඒක බලාගෙන හිඳපන් ” ඔහු ග්‍රිගෝර්ගේ ඇස් දෙක මිරිකා ඔහුව යලිත් වරක් තල්ලු කර දැම්මේය..

“ උබලගේ එවුන් උබට එතකොට ශාප කරයි..උබේ දෙයියන්ටත් ශාප කරයි.. හා එතකොට උබට මොකක් හිතෙයිද ? උබට ඊට කලින් මැරුනනම් හොදයි කියලා හිතෙයි ... එහෙත් උබ මැරෙන්නේ හාමතේ .... කඩුවෙන් නෙමෙයි හාමතේ " කී ඔහු ග්‍රිගෝර්ගේ මුහුනට කෙල ගසා ඔහු අසලසිටි සෙබලෙකුට කෑගැසීය

" මූව අරගෙන ගිහින් අර කාමරයේ දාපන් "

සෙබලා ඔහුව ගෙන ගොස් දේවස්තානයේ පිටුපසින් වූ කුඩා අන්දකාර කුටීරයක සිර කලේය... මෙය අතීතයේදී " යක්ෂයින් වැහුනු " අයව සුවපත් කරන්නට තනා තිබූ කුටීරයකී..එහෙයින් මෙයි දොර සම්පූර්න යකඩ තීරුවලින් නිර්මානය කර තිබුනු අතර පසුකාලිනව මෙය දේවගැතිවරුන්ගේ රහස් මංඩපයක් ලෙසද භාවිතා කල එකකි... එයට පිටතින් ආලෝකය වැටුනේ එහි මුදුනත වූ කුඩා ගෝලාකාර කවුලුවකින්... ඒ හැරෙන්නට එය මුලුමන්න්ම අන්ධකාරයෙන් යුක්ත විය....

හමීඩ්ගේ නියෝගය පරිදි සැම දිනකම රාත්‍රියේ පල්ලිය තුර්කිෂ් සාද පැවත්වින...තතෙව් ගම් වැසියන්ගේන් කොල්ල කෑ වයින් පානයක් කරමින් ඔහුන් එම සාද හිතාමත් උත්සවශ්‍රීයෙන් පැවැත්විය....

ඒ සැමදවසකම සිරගතව කර සිටි ගැහැනුන්ව පල්ලියට ගෙන එන ඔහුන් ග්‍රිගොර් පියතුමාව කුරුසයේ බැද ඔහුගේ ඉදිරියේම එම ගැහැනුන්ව දූෂනය කලහ....හමීඩ් පැවසූ පරිද්දෙන්ම ඔහුවූ වේදනාවෙන් කෑගසමින් මරහඩ දෙමින් විලාපනැගීය..සමහරු දෙවියනට ශාපකලාය..එහෙත් මේ කිසිවකින්වත් හමීඩ් ඔහුගේ කුරිරු සාතන නැවත්වුයේ නැත.

" මුන් සෙරම මරලා දැම්මට පස්සේ අපි යනවා.... අරෙවී වලට ..මුන්ගේ ලස්සන කෙල්ලෝ ඒ ඉදන් අපි එනකන් බලාගෙන ඉන්නවා " වයින් කෝප්ප ඔසවමින් හමීඩ් සෙබලුන් ඉදිරියේ කෑගැසුවේ මීටත් වඩා සංහාරයක් අරෙවී වල කරන බවට දිවුරුම් දෙමිනි...එය ඇසෙත්ම මිලේච්ච සෙබලුන් ජය ගෝෂා නැගීය...

දවස් කිහිපයක්ම මෙය ඒ ආකාරයෙන්ම සිදුවිය...සතියේ සැම රාත්‍රියේම ඔහු ග්‍රිගෝර්ව කුරුසයට ගෙනවිත් බැදදමා ඉතුරු වී සිටි ගැහැනු එකා දෙන්නා දූෂනය කොට ග්‍රිගෝර් ඉදිරියේම ඔහුන්ව මරා දැමීය...ඉතුරු වුයේ ගැබිනි මව්වරුන් කිහිප දෙනෙකුත් අත දරුවන් ඇති මව් වරුන් කිහිප දෙනෙකුත් විය....

ඒ අතර ග්‍රිගෝර් ගේ එකම දියනිය වූ අර්මිනේද විය....

රාත්‍රියේ සඳ එලිය වැටී අන්දකාර කුටීරය තුල මද ආලෝකයක් පැතිර ඇත...කුටීරයේ බිත්තියේ කොටා ඇති කුරුසයේ ඔලුව ගසා ගනිමින් ග්‍රිගෝර් හඩා වැටින..දෙවියන් තමන්ට මෙවැනි කුරිරු ඉරනමක් ලබා දේවී යැයි ඔහු කිසිසේත්ම නොසිතුවේය...

එහෙත් එය සිදුවී ඇත....තව දිනකිහිපයකින්ම හාමතේ ඔහුට මියයාමට සිදුවනු ඇති බව ඔහුට ඒකාන්තය ....එය අද හෙටම සිදු වෙනවානම් හොදය... .. ඔහු දෙවියන් යැදීය... තමන්ට මෙතරම් දුකක් නොදි ඉක්මනින්ව මරා දමන ලෙස ඔහු දෙවියන් ඉදිරියේ කන්නලවු කලේය.... තමන්ගේ දුව අර්මිනේත් ඇයගේ අත දරුවාත් වෙනුවෙන් ඔහු දෙවියන් ඉදිරියේ බැගැපත් විය..තමන්ගේ ජීවිතය ගෙන ඔහුන්ගේ ජිවිත ආරක්ෂා කරන ලෙස ඔහු දෙවියන් ඉදිරියේ හඩා වැලපින...

එහෙත් ඔහුගේ වචන ගිගුරුම් දෙමින් කුටිරයේ බිත්ති අතර දෝන්කාරය දෙමින් ඉහල ගෝලාකාර කවුලුවෙන් ඉවතට ගියේය... කන්නලව් කිරීමත් හඩා වැටීමත් මොහොතකින් නැවතින... ඔහුගේ උගුර වියලිව දරදඩු වී යන සැටිද ඔහුගේ හිස ක්ලාන්තව ඇද වැටෙන සැටිද ඔහුට දැනින... දවස් කිහිපයක්ම වතුර පොදක්වත් නැතිව හාමතේ සිටි ඔහුගේ දෙතෝල් සිහින් හඩින් මිමිනීය... " වතුර " වතුර " ඔහු ගේ මිමිනීම කෙමෙන් නැතිව ගොස් සම්පූර්නයෙන්ම නිශ්ශබ්ද විය... ඔහුගේ සිහිසුන්ව කුටීරයේ ඇදවැටී ඇත....

එක්වරම ඔහුගේ කුටීරය ඉදිරියේ ඇති යකඩ දෝර ගැහෙන හඩ ඔහුට ඇසින....

" පියතුමනි " සියුම් හඩක් එහින් නැගී ආහ...

ග්‍රිගෝර්ගේ දෑස එක් වරම විවුර්ත විය.... ඒ හඩ ඔහුට හුරු පුරුදුය...සිහිසුන්ව සිටි ඔහුගේ මනසට එම හඩත් සමග පනක් ආයෙන් යාන්තමට ඇවිදගොස් යකඩ ද්වාරය අසල ඇද වැටින....

ඔහු දෑස ඔසවා අන්දකාරයෙන් පිරී ගිය ද්වාරය දෙස බැලීය...එක් වරම සියුම් අතක් ඔහුගේ දෑතින් අල්වා ගත්තේය ...ඔහු එම දෑත හදුනාගත්තේය..

" අර්මිනේ " " අර්මිනේ "

ඔහු කෙදිරීය ..

ඔහු යකඩ කූරු දැඩිව අල්වා ගනිමින් වැරෙන් හිටගත්තාය ...අර්මිනේගේ අතෙහි වූ අතදරුවා අවදිව සිහින් කෙදිරිලි හඩක් නැගුයෙන් " ෂ් ෂ් . යැයි පවසමින් එක් තනපුඩුවක් විවර කර එය දරුවාගේ කටේ තැබුයෙන් දරුවා මොහොතකින් නිහඩ විය.

" අර්මිනේ....දෙයියන්ගේ පිහිටයි උඹට...මගේ රත්තරන් දුවේ..එහෙත් මෙතනින් පලයන්... අර තිරසන්නු දැක්කොත් උඹව කීතූ කීතූ වලට කපලා දායි...."

ග්‍රිගෝර් ඔහුගේ දෑස යකඩ ද්වාරයට ලං කොට ඇයව තවත් හොඳින් දැකගැනීමට වෙර දැරීය...

" උඹ කොහොමද කෙල්ලේ මෙතනට ආවේ " ඔහු රහසින් මෙන් කෙඳිරීය..

" දේවස්තානයේ උමගින් පියතුමනි " ඇය සෙමෙන් මිමිනීය....

ග්‍රිගෝර් දෑස් පොඩි කර ඇය දෙස බැලීය.. " තුර්කිෂ්වරුන් එම උමග පිලිබඳව දන්නෙ නැතිවට සැකයක් නැත..තතෙව් දේවස්තානයේ සිට අරෙනි ගම්මානය දක්වා කපා තිබූ උමන් පාර ක්‍රි පු 5වන ශතවර්ශයේ විසූ අර්ශීර් රජුගේ කාලයේ පටන් තතෙව් සහා අරෙනි අතර රහස් ගමන් වලට යොදාගත් එකකි ..තතෙව් රාජධානියක්ව පැවති අතීතයේදී එය රජු විසින් අරෙනි වලින් රහස් අබුවන් ගෙනවිත් පල්ලියේ බිම් කාමරයේ සගවා තැබීය.

කෙසේ හෝ තුර්කින් කාන්තාවන්ව සිරකරන්නට ඇත්තේ එහිය... එම උමගේම එක් ද්වාරයක් තතෙව් පල්ලියේ අල්තාරය අසල ඇති කුඩා කුටියට වැටි තිබුනෙන් ඇය පල්ලියට තුලට එන්නට ඇත්තේ එහින්ය..

" ඇයි දරුවෝ උඹලා කලින් ගියේ නැත්තේ " ඔහු ඇසීය..

" අතදරු අම්මලාව යැව්වා පියතුමනි... ගැහැනුන් ටික නතර වුනා...සේරම ගියෝත් තුර්කීන් උමග ගැන දැනගන්නවා... අද රෑට ඉතිරි අය යනවා " ඇය කීවාය.

එසේ කියූ ඇය යකඩ ද්වාරය විවුර්ත කිරීමට තැනක් ඇත්දැයි බැලීය...එහි දමා තිබූ යකඩ අගුල එහාට මෙහාට කැර්කූ ඇය වටපිට බැලූයේ තුර්කී සෙබලුන් අසල ඇත්දැයි දැනගැනීමටය ....

" උන් ඕක යතුරු දාලා දරුවා ..උඹට මාව බේරගන්න බැහැ... උඹ පලයන්... උන් කොහොමත් මාව මරනවා..මම දැන් වයසයි..උඹ ඔය දරුවව බේරගනින් කෙල්ලේ... දැන් පලයන් හොඳ එකී වගේ.."

" අන්තිමට වතාවට මේ විදියට හරි උඹව දැකගත්ත එකට මට සතුටුයි..." ඔහු ඇයගේ හිස අත ගැවේය.. කුඩා දරුවාගේ නලලත ඇගිල්ලෙන් කුරුස ලකුන ඇඳි ඔහු " උඹල දෙන්නටම දෙවියන්ගේ පිහිටයි " යි කීහ..

එහෙත් සමගම වැරෙන් අල්වා සිටි යකඩ බඳයෙන් ඔහුගේ අත ගිලිහි ගියෙන් ඔහුව බිම ඇද වැටින...

" පියතුමනි... ඔබ හාමතේ ඉන්නේ... අරෙනි වල සේනාවට අපි එකතු වෙනවා ...කපාන් වලින් සේනාවක් අරෙනි වලට එනවා කියලා ආරන්චියි ...ඒ සේනා දෙකම එකතුවුනොත් අපිට අරෙනි වලදී

තුර්කීන්ව පරද්දන්න පුලුවන්...පියතුමා ජීවත්වෙන්න ඕනේ...අපි ආයේ එනකන් ජීවත්වෙන්න ඕනේ... "

අර්මිනේ සිහින් හඬින් කෙදිරීය...ඇයගේ දෙනෙතින් රුරාවැටුනු කඳුලු යකඩ ද්වාරය ඔස්සේ විත් පොලව තෙත් කෙරීය..

" නැහැ දරුවා .උන් මාව මරලා දානවා " බිම වැටී සිටි ග්‍රිගෝර් කෙදිරීය...

" මම මැරෙන්නට දුවේ යන්නේ...මම ඒක දන්නවා..තව පැය කිහිපයකින්ම මම දෙයියන් ලගට යනවා..උබ මෙතනින් පලයන්... අරෙනි වලට ගිහින් එතනිනුත් කපාන් වලටම පලයන් රත්තරන් ...නැත්නම් උතුරට පලයන්.. කන්න බොන්න නැතිව සතියක් මම මේ විදියටවත් ජීවත්වුනේ දෙවියන්ගේ ආශිර්වාදයෙන් අන්තිම වතාවට හරි උබව බලාගන්න වෙන්න ඇති... . උබට දෙවියන්ගේ පිහිටයි... මට කතා කරන්න බැහැ රත්තරන් දුවේ... " ඔහු ගේ කටහඬ වෙව්ලීය...

ග්‍රිගෝර් දැස වසාගත්තේය.

“ පියතුමනි... ඇස් හරින්න ... ඇස් හරින්න..” අර්මිනේ ග්‍රිගෝර්ගේ උරහිසට තට්ටු කලේය. ග්‍රිගෝර් කතා කලේ නැත...

අර්මිනේ බිමට නැබුරු වී යකඩ කූරු තුලින් අත යවා ඔහුගේ ලෝගුවෙන් ඇද ඔහුව තමන් වෙතට ගත්තාය...

" පියතුමනි ඇස් හරින්න...කරුනාකරලා ඇස් හරින්න " ඇය කෙදීරීය... ඇයගේ දෑසීන් කඳුලු කඩා වැටින... ඒ කඳුලු යකඩ කූරු දිගේ ගොස් බිම වැටි සිටි ග්‍රිගෝගේ නලලට වැටින...

"පලයන් මගේ කෙල්ලේ " දැස විවුර්ත නොකරම ඔහු කෙදීරීය....

" බැහැ පියතුමනි " " ඔබ ජීවත්වෙන්න ඕනේ ... මම පොරොන්දු වෙනවා මම ආයෙත් එනවා... ඔබ එතකන් ජීවත්වෙන්න ඕනේ.. "

යකඩ කූරු අතරින් ඇය පියාව තම තුරුලට ඇදගත්තාය....කුඩා දරුවාගේ මුවින් තන පුඩුව එලියට ගත් ඇය එය තම පියාගේ දෙතෝලතෙහි තැබීය..

---

පසුවදන - ක්‍රි ව 1915 ත් 1917 අතර සිදුවු ග්‍රීක - අර්මේනියානු - ආසිරියන් සමූලඝාතන වලින් මිලියන 1.5 ක් වූ මනුෂය සංහාරයක් සිදුවිය.මෙය ලෝකයේ මෙතෙක් සිදුවූ දරුනුතම සමූල ඝාතන වලින් එකකි...තුර්කීවරුන් විසින් අර්මේනියානුවන්ට එරෙහිවකල දරුනුතම ඝාතනය ලෙස මෙය අදටත් ඉතිහාසයට එකතුවී ඇත..

අර්මේනියානුවන් යනු ක්‍රිස්තියානි ආගමට හැරවුනු ලොව ප්‍රථම රාජයයි...අදටත් ලොව ප්‍රථම ක්‍රිස්තියානි රට ලෙස අර්මේනියාව හඳුන්වයි.ක්‍රිස්තු පූර්ව 3 සහා 4 වන ශත වල පවා ඉදිකල හිතාමත් ම පැරනි දේවස්ථාන බොහෝමයක් අදටත් අර්මේනියාවේ දක්නට ඇත.

අර්මේනියානු සමූල ඝාතනයේදී , අර්මේනියානු ක්‍රිස්තියානුවන්ව ගෙල කපා මරා දැමීය. අර්මේනියානු කාන්තාවන්ව මිලේච්ච ලෙස තුර්කීන් විසින් දූෂනය කලෝය.. පූජක වරුන් කාන්තාවන් ඇතුලු තවත් ක්‍රිස්තියන්වරුන්ට දසවදදී මහමග කුරුස වලට ගසා ඇන ගසා හාමත්ව මරනයට පත් කලෝය... ඔබ ඉතිහාසය දැනගත යුතුය.. .දිනෙක අර්මේනියානු සමූල ඝාතනය ගැනද පොතක් මා විසින් ලියා පලකරමී .

මෙය අවසන් කරන්නට කලින් මා තවත් දෙයක් කිවයුතුය...

ඔබ අදත් අර්මේනියාවට ග්‍රීසියට ජොර්ජියාවට යන්න.. ඔහුන් සමග කතා කරන මුල්ම වචන කිහිපයේදී තුර්කීන් තම මුතුන් මිත්තන්ව සමූල ලෙස ඝාතනය කොට මාර දැමූ සැටී ඔහුන් ඔබට කියා දෙනු ඇත.. අතීතය ඔහුන් වල දමන්නේ නැත.. තවත් වසර 100කට පසුවත් ඔහුන් එය ආවර්ජනය කරනු ඇත.. මන්ද ඒ මිලේච්ච ලෙස ඝාතනය වූයේ ඔහුන්ගේම රුධිරයයි....

මා හට අර්මේනියානු කෞතුකාගාරය බැලීමට යැමට අවස්තාවක් ලැබින.එහිදි මාදුටු සමූල ඝාතනයේ අම්හිරි ජායාරූපත් ඉතිහාසගත ලියවිලිත් සමග මා යලිත් නිවසට ආවිට අර්මේනියානු සමූල ඝාතනය සම්බන්ධ කොට කෙටිකතාවක් නිර්මානය කල යුතුයැයි මා සිතුවෙමි..

එදිනම මා හට සමාජ මාධය ඔස්සේ හුවමාරු වෙමින් තිබුනු අපූරු සිතුවමක් දකින්නට ලැබින.මේ සිතුවමේ තිබුනේ " රෝම සිරගෙදරක සිටින වයසක මහලු මිනිසෙකුට තම තනයෙන් කිරිදෙන කාන්තාවකගේ දර්ශනයකි. Roman Charity නමින් හඳුන්වන මෙම ජනප්‍රිය සිතුවමට පාධක වී ඇත්තේ රෝම අධිරාජ්‍ය කාලයේදී කුසගින්නේ මැරීම සදහා සිරගත කර තිබුනු මහලු මිනිසෙකුවය..එහෙත් ඔහුගේ දියනිය රාත්‍රීට රහසින් විත් ඔහුට ඇයගේ තනයෙන් කිරිපෙවීම නිසා ඔහු මියැදුනේ නැත. මේ රහස දැනගත් රෝම පාලකයින් මෙහින් සානුකම්පිතව මෙම තැනත්තාට සමාව දී නිදහස් කල බවද කියවේ..

කෙසේ හෝ මෙම සිද්ධින් දෙක ඒකරාශී වී මගේ " තනෙව් බලකොටුවේ බිදවැටීම " කෙටි කතාව බිහිවිය.

# ජීවත්වෙන අන්තිම අවුරුද්ද

මෙම කතාව සුපසිද්ධ ඇමෙරිකානු ලේඛක ඇන්තනී බර්ගෙස් (Anthony Burgess ) ගේ ජීවිතයේ සත්‍ය කතාවකි.

ඇන්තනී බර්ගෙස් ට වයස අවුරුදු 40ක් වෙද්දී ඔහුගේ මොලයේ පිලිකාවක් ඇතිවුනා.වෛද්‍යවරුන් කියූ විදියට ඔහුට ජීවත්වෙන්නට ඉතිරිවෙලා තිබුනේ අවුරුද්දක් වැනි හිතාමත් කුඩා කාලයක්.මේ වෙනකොටත් බර්ගෙස් කිසිම දෙයක් හම්බ කරලා තිබුනේ නැහැ...අඩුම තරමින් සතයක්වත් ඉතිරි කරලා තිබුනෙත් නැහැ.

ඒ නිසා ඔහු දැනගෙන හිටියා ඔහු මියගියහොත් තමන්ගේ බිරිද සම්පූර්නයෙන්ම අසාන වෙන විත්තිය.

"දුප්පත්ම දුප්පත් වැන්දඹුවක් විදියට ඇයටත් මැරිලා යන්නට වේවී.." ඔහු සිතුවා...

බර්ගෙස්ට පොඩි කාලේ හිදලා ලොකු හැකියාවක් තිබුනා " ලියන්න " එහෙත් ඔහු මෙතෙක් කරපු රස්සාවත් එක්ක ඔහුට ඒ සදහා කාලයක් තිබුනේ නැහැ...ඔහුට ජිවත්වෙන්නට තිබුනේ වසරක් වගේ පොඩි කාලයක් නිසා ඔහු තීරනය කලා ඒ වසර ඇතුලතදී පොතක් ලියන්න..අඩුම තරමින් ඒක විකුනලා ලැබෙන සල්ලි වලින් බිරිදට තමන් නැති කාලයක වුනත් ජිවත්වෙන්න පුලුවන් වේවී...ඔහු සිතුවා..

ඔහු ලියන්න පටන් ගත්තා..තමන් ලියන දේ මුද්‍රනය කරන්නවත් පුලුවන් වෙයිද කියලාවත් ඔහුට විශ්වාසයක් තිබුනේ නැහැ..එහෙත් ඔහු තමන්ගේ හැකියාව විශ්වාස කලා..ඔහු ලියන්න පටන් ගත්තා.. ලිව්වා..දිගින් දිගටම ලිව්වා

එක කතාවකින් පටන් ගත්ත ඔහු වසරක් ගත වෙත්ම නවකතා පහක් ලියලා අවසන් කලා.

වසරක් අවසන් වුනා..ඔහුව මිය ගියේ නැහැ.. ඔහුගේ පිලිකාවත් කෙමෙක් කෙමෙන් අතුරුදහන් වෙමින් තිබුනා..ඔහුට තවත් ජීවත්වෙන්න වාසනාව ලැබුනා.. ඔහු පූර්න කාලීනව ලේඛකයෙකු බවට පත් වුනා..

එතැන් සිට ඔහු අවුරුදු 30කට ආසන්න කාලයක් ජීවත් වුනා.මේ කාලයේදී ඔහු විසින් නවකතා 70කට අධික ප්‍රමානයක් ලියා ප්‍රකාශයට පත් කලා.ඒ සැම කතාවක්ම හිතාමත්ම ජනප්‍රියත්වයට පත් වුනා.අතේ සතයක්වත් නැතිව අන්ත දුප්පත්ව මැරෙන්නට ලැස්ති වෙලා හිඳපු බර්ගෙස් සුප්‍රසිද්ධ නවකතා කරුවෙකු බවට පත් වුනා වගේම ලොව සිටින ධනවත්ම ලේඛකයෙක් බවටත් පත් වුනා..

ඔහු විසින් ලියූ A Clockwork Orange , Enderby quartet, වැනි හිතාමත් ජනප්‍රිය පොත් මිලියන ගනනින් අලෙවි වුනා පමනක් නොවෙයි ඔහුගේ කෘති පසුකාලීනව චිත්‍රපට ලෙස පවා නිර්මානය වුනා..

---

පසුවදන - මොහොතකට සිතන්න..ඔබට ජිවත්වෙන්නට ඇත්තේ කෙටි කාලයක්නම් ඔබ කරන්නේ කුමක්ද? ඔබේ ජීවිතය ජයග්‍රහනය කිරීමට ඔබ කිසිම විටෙකත් ප්‍රමාද නැහැ.අවශය වන්නේ ඔබේ උත්සහායත් ධෛර්යත් පමනයි.

# ගණිකාවගේ දුව

ඇනී ලෝරෙන් ගනිකාවක් විය...සෙලිකොෆේන් වල ඉපදුනු ඇය වයස අවුරුදු 15දීම කොල්ලෙකු සමග පැනගොස් සූරිච් වල පදිංචියට ආහ. වයස අවුරුදු 16ක් පමන වන විට ඇයට දුවක් ලැබීන...එහෙත් සමගම ඇය සැමියා යැයි කී තැනත්තා ඇයගෙන් වෙන්ව වෙනත් කෙල්ලෙකු සමග සම්බන්ධයක් ඇතිකරගත්තෙන් ඇයත් දුවත් පමනක් සූරිච් වල තනිවිය...

ඇයට ජීවත්වීමට මගක් නොවීය...සෙලිකොෆේන් වල සිටි ඇයගේම දෙමව්පියන් ඇයව ප්‍රතික්ෂේප කලාය....රැකියාවකට යාමට ඇයට නිසි අධයාපනයක්ද නොවීය.එහෙයින් ඇය ගැහැනියකට උප්පත්තියෙන්ම උරුම වූ රැකියාව ලෙස සූරිච්යේ ජනප්‍රියව තිබුනු ඇග විකිනීමේ රස්සාවේ නියැලින...

මුලින්ම ඇය නිරුවත් සමාජ ශාලා වල වැඩ කලාය...එහිදී මුන ගැසෙන ගැනුම් කරුවන් සමග රාත්‍රිය ගත කලාය....ඉන්පසුව ඇය සූරිච්යේ සංචාරක හෝටලයක නිත්‍ය ගනිකාවක් බවට පත්විය.එහෙයිනුත් ඇය නොනැවතුනාය.දිනෙන් දින සූරිච්යේ ප්‍රධාන පෙලේ වයාපාරිකයින් සහා දේශපාලකයින් ද මුන ගැසීමට ඇයට හැකියාව ලැබින...මෙයත් සමගම ඇය සූරිච්යේ උසස් පන්තියේ ගනිකාවක් බවට පත්විය.... (මෙම උසස් පංතියේ ගනිකාවක් සේවය සපයන්නේ ධනපති පංතිය වෙනුවෙන් පමනකි )

ආදායම වැඩිවෙත්ම ඇය සූරිච්වල හොදම වර්ගයේ නිවසක් මිලදී ගත්තාය...ඇයට ලස්සන දුඹුරු පැහැ කොංඩයක්ද ලා දුඹුරු පැහැති ඇස්දෙකකුත් වටකුරු මුහුනකුත් විය...ඇය මුහුනට ගැලපෙන්නට තොල් දෙක ප්ලාස්ටික් සැත්කමකින් වෙනස් කර ගත්තාය...නාසයද මදක් උල් කර ගත්තාය....එහෙයින් ඇයගේ රුව තවත් වැඩිවිනැයි ඇය සතුටු විය..

එතැන් සිට ඇයගේ හොද කාලය ලැබීය.සූරිච් වල ප්‍රධාන පෙලේ දේශපාලකයේකු ගේ නිත්‍ය ගනිකාව බවට ඇය පත්විය.වෙනදට දෙතුන් දෙනෙකුට ඇග විකුනු ඇයට මෙම දේශපාලකයාට පමනක්ම ඇග විකිනීමට සිදුවිය...ඔහු ඇයට එසේ නියම කලේය.

ඔහුට ඇරෙන්නට වෙන කිසිම කෙනෙකුට ඇග නොවිනිකීම වෙනුවෙන් ඇයට හොඳ ගෙවීමක්ද කලේය.... සතියකට දවස් දෙකක් මාසයකට 8 වතාවක් ඇය මෙම දේශපාලකයා ව සතුටු කල යුතුය.... එය හොඳ තුරුම්පුවකී....එතැනින් ඇය හොදට හම්බුකරගත්තාය.

මේ කාලයේදී ඇය ප්‍රේම සම්බන්ධයක් පටන්ගත්තාය... ‘‘සැමුවෙල් ‘’ ඇය ඔහුට සැමී ලෙස ඇමතීය...

ඔහු සූරිච් හෝටලයේම වේටර්වරයෙකී....ඔහු ඇයට වඩා වයසින් අඩු කෙනෙකු විය...පෝලන්තයේ සිට සූරිච් වලට සංක්‍රමනය වූවේකි....ඇය ඔහුට ආදරය කලාය.... ඇය ගනිකාවක් බැව් ඔහු හොදින් දත්තාය..එහෙත් ඇය එසේ මෙසේ ගනිකාවක් නොවෙයි...සූරිච් වල ප්‍රධානම දේශපාලකයෙකුට ඇග විකුනන ගනිකාවකි...ඒ නිසා ඇයත් සමග ආදරයෙන් පැටලීම ඔහුටත් වාසියකි.

ඔහු නිතර නිතර ඇයගේ නිවසට ආහ....නිවසට පැමිනෙන සැම විටකම ඔහු ඇයත් සමග ආලිංගනයේ යෙදින.

" අපි විවහා වෙමු .." ඔහු ඇයට කීහ..

" දැන්ම බැහැ ... මම දැන් හොදට හම්බුකරන්න පටන් ගත්තා විතරයි....තව ටික කාලයක් ඉවසමු සැමී... " ඇය ඔහුට කීහ...

ඇයට දුවක් සිටින බව මා ඔබට කීවෙමි. ඇය ලීසා නම් විය.... .මේ වන විට ඇය වයස අවුරුදු 7ක පමන කෙල්ලෙකු වූවාය.... සැමී නිතර නිතර නිවසට විත් තම මවත් සමග ආලින්ගනයේ යෙදෙන අයුරු පවා ඇය දුටුවාය...එහෙත් ඇයට එය වටහා ගත නොහැක...

"දුව ..මේ ඉන්නේ සැමී මාමා .." දවසක් ඇනී ,ඇයගේ දුවට සැමීව හඳුන්වා දුන්නාය....

සැමී ඇයව වඩා ගත්තේය..

" දුව බාර්නී කන්න කැමතිද ? ( කුඩා දරුවන් ආහාරයට ගන්නා යුරෝපයේ ජනප්‍රිය රස කැවිලි විශේෂයක් )

" ඔව් සැමී මාමේ " ඇය හිස වැනීය..

" මම දුවට හෙට හිදන් බාර්නී ගේන්නම් .... " සැමී ලීසාගේ මුහුනට හාද්දක් දෙන ගමන් පැවසීය....මෙහින් පුංචි කෙල්ල බොහෝ සතුටට පත්විය....

මේ අපේ කතාවේ ආරම්භය පමනකී...

මෙහින් පසුව සැම් නිතර නිතර නිවසට එන්නට පටන් ගත්තේය..ඒ එන සැම විටම ඔහු පුංචි ලීසාට බාර්නී කේක් ගෙනාවේය...ඇය ඒවා කා අවසන් කොට සැමී මාමා සමග සෙල්ලන් කලේය... සැමී ඇයව ගෙන ඔහුගේ ඔඩොක්කුවේ තබාගෙන ඇයට කතන්දර කියා දුන්නේය....ඇනී මේ සියල්ලම පිටුපස සිට බලාගෙන සිටියාය..ඇය සතුටු විය..තම දූවට පියෙකුගේ සෙනෙහස ලැබීම ගැන ඇය බොහො සෙයින් සතුටු විය...

කාලය ගෙවීයත්ම ලීසා කෙමෙනෙ වැඩෙන්නට විය...ඇය සාමාන්‍ය දැරියකට වඩා ප්‍රමානයෙන් වැඩින...වයසට කලින්ම ඇය වැඩිවියට පත්වූවාය

ඇනී මේ වන විට සැම් ගැන බොහෝ සෙයින් පැහැදී සිටියේය...ඔහුව විවහා කර ගැනීමටද ඇය කැමති විය.... මේ කාලයේම දේශපාලකයාට ඇයගෙත් සැමීගෙත් සම්බන්දය ආරංචි වීම නිසා ඔහු ඇයව ඔහුගේ නිත්‍ය ගනිකා ධූරයෙන් අහින් කර දැම්මේය...

එහෙත් ඇනී වැටුනේ නැත...කෙසේ හෝ ඇය උසස් පන්තියේ ගනිකාවකී...සියල්ලම නැතිවුනත් ඇයගේ හදවතේ ලොකු සතුටක් වීය..." සැමී " ඇයට සැබෑ ආදරය හමු වී ඇතැයි ඇ විශ්වාස කලාය.

ඇයත් සැමීත් විවහා වීමට දිනයක් ගිවිස ගත්තහ.... දිනය එලබෙන තෙක් ඇය නොඉවසිල්ලෙන් පසුවිය...විවහා වූ පසුව තම ගනිකා වෘත්තිය නවත්වා දමන බවට ඇය ඔහුට දිවුරා පොරොන්දු විය...

ඇනීට යලිත් දිනපතාම සේවය කිරීමට සිදුවූ නිසා ඇය වැඩිපුර නිවසෙහි නොසිටියාය..එහෙත් සැම් එහි විය..ඔහු සේවයෙන් අස්විය.... ඇනී යහමින් මුදල් හරි හම්බකරන නිසා ඔහු සේවය කලයුතු නැත...ඇනී සහා සැමී විවහයට දිනත් දමාගෙන තිබුනෙන් ඔහු මුලු දවසම නිවසේ ගත කිරීම ගැන ඇනීටද ප්‍රශ්නයක් නොවීය....අනිත් පසින් ඇයගේ දූවත් සැමී මාමාට බොහෝ සෙයින් ලෙන්ගතුය.

දින කිහිපයක් ගෙවී ගියේය.අපි දැන් කතාවේ අවසානයට පැමිනිය යුතුය..

දිනක් ඇනී සේවය අවසන් කොට නිවසට එන විට මධයම රාත්‍රියත් පසු වී තිබින.. ඇ නිවසට ඇතුලුවෙත්ම නිවසේ දොර අසල ලේ බින්දු කිහිපයක් වැටී ඇති සැටි දුටුවාය...නිවසේ දෝරත් වසා නොමැත..කුමක් හෝ දෙයක් සිදූ වී ඇත... ඇය වේගයෙන් නිවස තුලට දිව ගියාය...

" සැමී සැමී... " ඇය කෑ ගැසුවාය... ඔහුට අනතුරක් සිදුවී ඇතැයි ඇය බියට පත්විය.

ඇය ඇයගේ කාමරයට දිව ගියාය. සැමී එහි නැත...ඇයට ලීසාව මතක් විය.

" ලීසා..ලීසා.. කියමින් කෑ ගසමින් ඇය ලීසාගේ කාමරයට දිව්වාය. ඇය කාමරය විවුර්ත කරත්ම ඇය දුටු දෙයින් ඇය සිහිසුන්ව ඇද වැටින... ලීසා කාමරයේ පොලව මත මැරී වැටී සිටියාය... ඇයගේ ශරීරය මුලුමනින්ම රුධිරයෙන් නැහැවී තිබින....

ඇයට යලිත් සිහි එනවිට ඇය සිටියේ රෝහලේය...ඇය ඉදිරියෙහි සූරීවයේ පොලිස් නිලධාරීන් කිහිප දෙනෙකු විය.

" ලීසා ...ලීසා... " ඇය කැගැසූවාය... " මගේ දුවට මොකක්ද වුනේ..මගේ දුවට මොකක්ද වුනේ... " ඇය බෙරිහන් දුන්නාය.පොලිස් නිලධාරීන් ඇයව සන්සුන් කිරීමට උත්සහා කලෝය....

ලීසා මිය ගොස් ඇතිබව ඔහුවු ඇයට දැනුම් දුන්නෝය.. බෙල්ල කපා දමා ඇයව මරා දමා ඇත.... මරා දැමීමට කලින් ඇයව පැය ගනනක් දූෂනය කොට ඇත....

එසේම පොලීසිය සැමී ගැන සොයන බවත් ඔහුවු ඇනීට දැනුම් දුන්නාය..

" සැමී ලීසාට කරදරයක් කරන්නේ නැහැ..ඒක මට විශ්වාසයි..එයා තාත්තා කෙනෙක් වගේ මගේ දූට ආදරය කලේ " ඇය පොලිස් නිලදාරියාට කීහ...පොලිස් නිලධාරීයා සිනාසින..

" තාත්තා වගේ ආදරය කරන අයගෙන් තමයි වැඩියෙන්ම දරුවන්ට අපචාර වෙන්නේ " කියූ ඔහු එතැනින් යන්නට ගියේය.

එතැන් සිට පොලීසිය සැම් ගැන විමර්ෂන ආරම්භ කලේය...

දින කිහිපයක් ගතවී ගියේය....ලීසාගේ මරනයේ වෛද්‍ය වාර්තාව පොලීසියට ලැබීමත් සමගම පොලීසිය ඇනීව අත් අඩංගුවට ගත්තේය.

වාර්තාවට අනුව ලීසාව මරනයට මාසයකට පමන කල් සිටම දිනපතාම ලිංගික අපචාරයට ලක් වී ඇත...

වෛද්‍ය වාර්තාවෙන් තවත් කරුනක් අවධාරයන විය...

එනම් ලීසා හෝමෝන වර්ධනය කරන ඊස්ට්‍රජීන් ලබාගෙන ඇති බවයි...ඇනීව අත් අඩංගුවට ගත්තේ කුඩා දරුවෙකුගේ හෝමෝන වර්ධනය වේගවත් කීරීමට ඊස්ට්‍රජන් නම් තහනම් උත්තේජකය ලබා දීම නිසාය.... පොලීසිය සැක කලේ ඇනී තම දුවව ඉමනින්ම වැඩිවියට පත්කීරීමට එය කලබවයි.

එහෙත් ඇය එවන් දෙයක් නොකල බවට පොලිසීය ඉදිරියේ දිවුරා පොරොන්දු විය..

සැමී ගැන විමර්ෂනය කල පොලීසීය ඔහු ගැන වැදගත් හෝඩුවාවක් සොයා ගත්තේය....එනම් අවුරුදු කීපයකට කලින් වර්ෂෝව් වල මෙවැනිම කුඩා දරුවෙකුගේ ඝාතනයට සැමීව පෝලන්ත පොලීසීය විසින් සොයන බවය...එම දරුවාද මරා දමා ඇත්තේ බෙල්ල කපා දැමීමෙනි...මැරීමට මාස කිහිපයකට පෙර සිටම ඇයවද දූෂනය කොට ඇත...ඊටත් වඩා වැදගත් හෝඩුවාවක් විය ...එනම් එම දරුවාටද හෝමෝන වර්ධනය වන ඊස්ට්‍රජන් ලබා දී ඇති බවයි...

සැම් දරුවන්ට දෙන බාර්නි නම් කුඩා රසකැවිලි තුලට හෝමෝන වර්ධක එන්නත් කොට ඒවා දරුවන්ට කෑමට සලස්වන බවද තවදුරටත් කරන පරීක්ෂන තුලින් අනාවරන විය.

පොලිසීය එය නිශ්චිතව තහවුරු කරගත් පසුව ඇනීව නිදහස් කරන ලදී.එහෙත් ඔහුනට සැම්ව සොයා ගැනීමට නොහැකි විය..තවමත් මේ සම්බන්ධව පරීක්ෂන සිදු කරමින් පවතියි.

---

පසුවදන : මෙහි අවසානය හැරෙන්න අනිත් සියලුම කරුනු සත්‍ය සිදුවීම් වලින් යුක්තය.... අවසානයට බොහෝ දේ කියත හැක.එහෙත් එකම එක වාක්‍යකින් මා මෙය නවතමී... " ඔබේ දරුවන්ව ආරක්ෂා කරගන්න. මානසික ලෙඩුන් හැම තැනම ඇත..”.

# ඩැෆඩිල් මල් බොකිය

රියෙන්සි ඔෆිස් යද්දී මතක් වුනා එදා එයාගේ අම්මගේ උපන් දිනය විත්තිය.රියෙන්සිගේ අම්මා ජීවත් වුනේ නගරයේ ඉදන් කිලෝමීටර පහක් පමන දුරින් පිහිටි තාලීන් කියන ගමේ.රියෙන්සී නගරයට ඇවිත් ලොකු මිනියෙක් වුනාට පස්සේ එයාගේ අම්මා තාලීන් ගමේ තනිවුනා. රියෙන්සිට අම්මව බලන්න ගමට යන්න වෙලාවක් තිබුනෙත් නැහැ.ඇත්තම කිව්වොත් රියෙන්සිට එහෙම කරන්න ඕනකමක් තිබුනෙත් නැහැ.

එදා අම්මගේ උපන් දිනය වුනත් තාලින් ගමට ගිහින් අම්මට සුභ පතන්න රියෙන්සිට ඕනේ වුනේ නැහැ.

"අද මීටින් කිහිපයක් තියෙනවා... වැඩ ගොඩකුත් ඉවරකරන්න තියෙනවා..අම්මාව බලන්න යන්න නම් කොහෙත්ම වෙලාවක් නැහැ…'' ඔහු හිතුවා.

ඔෆිස් එකට යන ගමන් ඔහු දැක්කා පාරෙ අයිනේ තිබුනු මල් වෙලද සැලක්.

" අම්මව බලන්න යන්න බැරි වුනාට කමක් නැහැ..මේකෙන් මල් බොකියක් අම්මට යැව්වොත් ඒකෙනුත් ටිකක් ෂේප් වෙන්න පුලුවන්... මම උපන් දිනය අමතක කලා කියලා අම්මා හිතන්නේ නැතිවෙයි... " කියලා හිතපු රියෙන්සී වහනයෙන් බැහැලා අර මල් වෙලද සැලට ගොඩවුනා.

මල් වෙලද සැලෙන් ඔහු අම්මා කැමතිම ජාතියේ රතු රෝස මල් බොකියක් ඕඩර් කලා...ඒකෙම අම්මගේ ලිපිනයත් ලියපු ඔහු ඒ මල් බොකිය අදම තාලින් වලට යවන්න කියලත් සේවකයට කිව්වා...දැන් රියෙන්සිගේ හිතත් ටිකක් සැහැල්ලුයි....

මල් බොකියේ වැඩේ ඉවර කරලා වෙලද සැලෙන් එලියට ආපු රියෙන්සි දැක්කා වෙලද සැල ඉසරහා වීදූරුවෙන් ඇතුල බලාගෙන ඉන්න පුංචී ගැහැනු ලමයෙක්ව...

රියෙන්සී වාහනයේ හිදගෙනම මේ ලමයා දිහා ටිකක් වෙලා බලාගෙන හිටියා..ඒ පුංචි කෙල්ල බලාගෙන ඉන්නේ වෙලද සැල ඇතුලේ තියෙන ඩැෆඩිල් මල් බොකියක් දිහා...වහානයෙන් බැස්ස රියෙන්සී ඒ පුංචි ගැහැනු ලමයා ලගට ගියා..

" මොනවද මේ දුව මෙතන කරන්නේ " ඔහු ඇයගෙන් ඇහැව්වා...

" මම මේ ඩැෆඩිල් මල් දිහා බලාගෙන ඉන්නවා "

රියෙන්සිට හිනත් ගියා..

" ඇයි මිලදීලා ගන්නද?"

" ඔව් එහෙත් මට ඒකට සල්ලී මදී... " කියාපු ඇය ඇයගේ අතෙ ගුලි කරගෙන හිටිය කාසි ටික රියෙන්සිට පෙන්නුවා...

" ම්ම්ම්ම් " රියෙන්සි ටික වෙලාවක් කල්පනා කලා..

" දුව ඔය මල් බොකිය කාටද ගන්නේ " ඔහු ඇහැව්වා...

"මගේ අම්මට ... අම්මා ඩැෆඩිල් මල් වලට හරිම කැමතියි... " ඇය කිව්වා..

" හා එහෙමද...ඉන්න එහෙනම් මම ඔයාට ඒ මල් බොකිය අරන් දෙන්නම් " කියපු රියෙන්සි මල් වෙලද සැලට ගොඩ වෙලා මල් බොකිය එයාගේ සල්ලි වලින්ම අරගෙන අර පුංචී ගැහැනු ලමයට දුන්නා..

පුංචි කෙල්ලටත් දැන් හරිම සතුටුයි. රියෙන්සිටත් අනේක වාරයක් ස්තුතී කරපු ඇය මල් බොකියත් අරගෙන ඒ පාර දිගේම ඇවිදගෙන ගියා...රියෙන්සී වහනය ආයෙමත් ඇය ලගින් නැවත්තුවා..

" ඔයා යන්නේ මේ ලගටනම් එන්න මම ඔයාව ගිහින් ඇරලවන්නම් " ඔහු ඇයට කිව්වා...

පුංචි කෙල්ලත් ඔහුගේ වහනයට ගොඩ වුනා..

ටික වෙලාවකින් වහානය කනත්තයක් ලගට ආව...

" ඔතනින් නවත්තන්න " ඇය රියෙන්සිට කිව්වා...

"මෙතනින්"

"ඔව්... " රියෙන්සි වහානය නැවත්තුවා...

වහානයෙන් බැහැපු ලමයා කනත්තය ඇතුලට ගියා...රියෙන්සිත් ඇය යනදිහා බලාගෙන හිටියා...

එයා ගියේ කනත්තයේ තිබුනු සොහොනක් ලගට...ඇය අර මල් බොකිය ඒ සොහොන උඩින් තිබ්බා..ඇයගේ අම්මා මිය ගිහින්..එයා මල් බොකිය ගේන්න ඇත්තේ ඒ සොහෝනට තියන්න...රියෙන්සිගේ හදවතට පුදුමාකාර වේදනාවක් ඇතිවුනා..

එක පාරටම රියෙන්සිට මතක් වුනේ එයාගේ අම්මව...

" අද අම්මගේ උපන් දිනේ වෙලත් අම්මව බලන්න යන්න තරම් මට හිතක් තිබුනේ නැහැ.. " ඔහු ඔහුට දෝස් පවර ගත්තා.

" අම්මා නැති වුනොත් මම ආයේ කාව බලන්න යන්නද ? මගේ අම්මා ජීවත්වෙලා ඉන්න එකත් කොයි තරම් වාසනාවක්ද ? අම්මලා නැති ලමයින් කොයි තරම් හිතින් විදවනවා ඇත්ද ? " ඔහුට ගොඩක් දුක හිතුනා..

ඔහු ඔෆිස් එකට ඒ වෙලාවෙම කෝල් එකක් ගත්තා..ඔහුගේ ලේඛම්ට...

" අද සේරම මීටින් කැන්සල් කරන්න...අද මට ඔෆිස් එන්න වෙන්නේ නැහැ... " ඔහු කිව්වා..

ඔහු වහානය හැරෙව්වා.... අම්මව බලන්න යන්න...

---

පසුවදන - අම්මවයි තාත්තවයි කවදාවත් මගහරින්න එපා..ඒ අය නැතිවුන දවසට ඔබේ ජීවිතයට දරාගන්න බැරි වේදනාවක් ඉතිරි වේවී..

# ලුයිසගේ මරනය

ග්‍රිගෝර් උදෙන්ම අවදිවුනේ භයානක හීනයකුත් එක්ක...ඒ හීනය කොයිතරම් භයානකද කියනවනම් ඔහුගේ මුලු ශරීරයම දහඩියෙන් තෙත් වෙලා තිබුනා...ඔහුට යාන්තමින් සිහිය ආපු ගමන්ම බැලුවේ ඇදේ එහා පැත්තේ නිදාගෙන හිටපු " ලුයිසා" දිහා... ලුයිසාට කිසිම කරදරයක් වෙලා නැහැ කියලා දැනුනගමන්ම ඔහුගේ හිත ගොඩක් සැහැල්ලු වුනා....

වෙලාව පාන්දර 5යි... තව පැය දෙකකින් ලුයිසා අවදිවෙනවා...අද ලුයිසා ජෝර්ජියා වලට යන දවස.... ග්‍රීගෝර් හීන්සීරුවේ ඇදෙන් බැහැලා ජනේලය ලගට ගිහින් එලිය බැලුවා ... පෙරේදා රෑ ඉදන් ඇදවැටෙන හිම වැස්ස තවමත් ඉවර නැහැ.... අදුරත් එක්ක පැතිරිලා තිබුනු සුදුපාට හිම දකිද්දී ග්‍රීගොර්ට ආවේ හරිම දුක්බර හැගීමක්.. ඔහු ජනේලය වහලා ඇවිත් ඇදේ හිදගෙන කල්පනා කරන්න ගත්තා.

"ලුයිසට යන්න දෙන්න හොද නැහැ...කොහොම හරි නවත්තගන්න ඕනේ... " ග්‍රිගෝර් හිතුවා..." මේ හිම වැස්සේ එයා ජොර්ජියා ගියොත් එයාට මොකක් හරි අනතුරක් වෙන්න පුලුවන්.... " ග්‍රීගොර්ට ඔහු දැකපු හීනය මතක් වුනා...

" අනතුරක් වෙන්න පුලුවන් නෙමෙයි ග්‍රිගොර් ...අනතුරක් සිද්ද වෙනවා " ඔහුගේ හිත ඔහුට කියන්නට පටන් ගත්තා.... ග්‍රීගෝර් එහෙම හිතන්නට කැමති වුනේ නැහැ..එහෙත් ඔහුට එහෙම හිතුනා... මේ තරම් භයානක හීනයක් මම කවදාවත් දැකලා නැහැ... අදම මෙහෙම හීනයක් දැක්කේ නිකමට වෙන්න බැහැ... මේක ලොකු අනතුරක සංකේතයක්... ඔහු තමාටම මුමුන ගත්තා...

යෙරෙවානයේ ඉදන් ජොර්ජියාවට යන්න පැය 5ක් යනවා... ස්පිතාක් වල තියෙන වංගු පාරවල් වලින් යන එක කොහොමත් භයානකයි... පාරට පහතින් තියෙන්නේ ගැඹුරු හෙල් .. හිම නිසා පාරවල් ලිස්සනවා... ලුයිසා අද යන්න යන්නේ ජොර්ජියාවලට... එයාට කොහෙත්ම යන්න දෙන්න බැහැ..කොහෙත්ම යන්න දෙන්න බැහැ... ග්‍රිගොර් දැඩි තීරනයකට ආවා...

ඔහු ඇඳේ හිඳගෙන හිටියා...ලුයිසා අවදිවෙනකන්...හයයි... හතයි.... ටික වෙලාවකින් ලුයිසගේ දුරකතනයේ එලාමය වැදුනා..ඒකත් එක්කම ග්‍රිගොර් බොරුවට නිදි වගේ පේන්න ඇස් දෙක වහ ගත්තා...

ඔහු දැක්කා ලුයිසා නැගිටලා එලාමය ඕෆ් කරනවා..එහෙත් එක්කම ඇය අනිත් පැත්ත හැරිලා ග්‍රිගෝර්ට හාද්දක් දුන්නා..ඇය හිතුවේ ග්‍රිගොර් තවමත් නිදි කියලා... හාද්දත් එක්කම මේ දැන් අවදිවෙනවා වගේ බොරු ඇනුමකුත් ඇරගෙනම ග්‍රිගෝර් අවදිවුනා...

" ඇයි රත්තරන් අද උදෙන්ම " ග්‍රිගොර් මුකුත් නොදන්නා ගානට ලුයිසගෙන් ඇහැව්වා..

" ඇයි ඔයාට මතක නැද්ද.. අද මම ජෝර්ජියා යනවා...ඔෆිස් එකේ මීටින් එක අදනේ... "

" හා... ඔව් ඔයා කිව්වනේ... " ග්‍රිගෝර් බොරුවට ජනේලය ලගට ගිහින් වටපිට බැලුවා..

" හැබැයි හිතින් මමනම් හිතන්නේ නැහැ ඔයාට යන්න පුලුවන් වෙයි කියලා... බලන්න තවමත් හිම වැටෙනවා... කොහොමත් ජොර්ජියාවට යන පාරවල් සේරම බ්ලොක් වෙලා ඇති ..ඔයා ඕක කැන්සල් කරලා දාන්න" ග්‍රිගෝර් ලුයිසට කිව්වා...

" පිස්සුද ග්‍රිගොර් ..යන්නෙ නැතිව ඉන්න පුලුවන්ද ... හැමදේම ලැස්ති කරලා ඉවරයි..මැරියොට් එකේ කාමරයට සල්ලි ගෙවලත් ඉවරයි...කිසිම දෙයක් ආපස්සට දාන්න බැහැ.. මට අද යන්නම වෙනවා.... " කියන ගමන් ලුයිසා ඇඳෙන් නැගිට්ටා...

ග්‍රිගොර් හොඳාකාරවම දැනගෙන හිටියා ලුයිසා මේ ගමන නවත්තන්නේ නැති විත්තිය...ලුයිසා ගමන යන්න ලැස්ති වෙන්න පටන් ගත්තා...

"මමනම් කියන්නේ යන්න එපා කියලා..ස්පිතක් වලින් එහාට යන්න පුලුන්ද කියලවත් ඔයා දන්නේ නැහැනේ "

" ග්‍රිගෝර් .... මොනවද ඔයාට වෙලා තියෙන්නේ...මම මාසෙකට දෙතුන් පාරක් ජොර්ජියා යනවා .. අනික ශීත කාලයේදි ජෝර්ජියා යන පලවෙනි වතාව මේක නෙමේනේ... ඔයාට මොනවද අද වෙලා තියෙන්නේ... " ලුයිසා තරහින් ඇහැව්වා... ග්‍රිගොර්ට දෙන්න පිලිතුරක් ඇත්තෙම නැහැ..ඔහු කට වහගත්තා.

" අනේ දෙයියනේ..මම කොහොමද ලුයිසට කියන්නේ එයාව මැරෙනවා මම හීනෙන් දැක්කා කියලා.. " ග්‍රිගෝර් ඇඳේ අනිත් පැත්තට හැරිලා කල්පනා කලා..

ග්‍රිගෝර් හීනෙන් දැක්කේ ලූයිසව මැරෙනවා... ලොකු අනතුරකින්.... ග්‍රිගොර් මීට කලින් මේ වගේ හීනයක් දැකලා තිබුනේ නැහැ...අනික ලූයිසා ජොර්ජියාවලට යන දවසෙම....

" සමහර විට මේක නිකන්ම නිකන් මනස්ගාතයක් වෙන්න ඇති "

ග්‍රිගොර් හීනය ඔහුගේ මනසින් අහින් කරන්න උත්සහා කලා..එහෙත් ඒක කරන්න පුලුවන් උනේ නැහැ.. ලූයිසා නාලා ඇවිත් කොන්ඩය ඩ්‍රයි කරන්න ගත්තා... තව ටික වෙලාවකින් ලූයිසා යන්න යයි.... ඊටපස්සේ....

ග්‍රිගොර්ට කරගන්න කිසිම දෙයක් තිබුනේ නැහැ... ලූයිසාට මේ ගමන කොයිතරම් වටින එකක්ද කියලා ග්‍රිගෝර් දැනගෙන හිටියා.. ලූයිසට තමන් දැකපු හීනය ගැන කිව්වත් එයා කොහොමත්ම මේ මනස්ගාත විස්වාස කරන එකක් නැහැ... ග්‍රිගෝර් ලොකු සුසුමක් හෙලලා හිතේ තියෙන බර සැහැල්ලු කරගත්තා...

ලූයිසා ජොර්ජියා යන්න යද්දී ග්‍රිගොර් එයාට හාද්දක් දුන්නා...

" පරිස්සමෙන් ... පාරේ යන්න බැරිනම් ඔයා අපහු හැරිලා එන්න ඕනේ.."

" හරි රත්තරන් ඔයා බයවෙන්න එපා... මට මුකුත් වෙන්නේ නැහැ .." ලූයිසා ග්‍රිගොර්ට හාද්දක් දුන්නා..

" ඔයාට මුකුත් වෙන්න දෙන්නෙත් නැහැ " ග්‍රිගෝර් හිම්හිට මිමිනුවා..

ලූයිසා ජීප් එක එලියට ගන්න කලින් ග්‍රොගොර් වහනය වටේම ඇවිදලා හොදට විපරම් කරලා බැලුවා.. හැමදේම සාමාන්‍ය විදියට තියෙනවා..කිසිම ප්‍රශ්නයක් නැහැ..

" හිම්හිට වාහනේ පදින්න ... හිම ගොඩේ හයියෙන් යන්න එපා.. " ලූයිසා වහානය එලියට ගනිද්දී ග්‍රිගෝර් කිව්වා... ලූයිසා ග්‍රිගොර් දිහා බලලා හිනවුනා....

ලූයිසා වහානය එලියට අරගෙන හිම අතරින් අතුරුදහන් වෙලා යනකන්ම ග්‍රිගෝර් මිදුලට වෙලා බලාගෙන හිටියා...

ලූයිසා ගිහින් විනාඩි කිහිපයක් ගතවෙලා ගියත් ග්‍රිගෝර්ගේ හිතට සැනසිල්ලක් තිබුනේ නැහැ...

එක පාරටම ග්‍රිගෝර්ගේ දුරකතනය නාදවෙන්න ගත්තා..ඒ ලූයිසා....

" රත්තරන් ඔයාට කරදරයක් නැහැ නේද..හැමදේම හොදින් නේද " ග්‍රිගෝර්ගේ හිතේ තිබුනේ පුදුමාකාර බයක්...

" නැහැ..එහෙම දෙයක් නෙමේ... මම ඔයාට ආදරෙයි... මට හිතුනා ඔයාට කෝල් කරලා ඒක කියන්න ඕනේ කියලා.. "

" මමත් ඔයාට ආදරෙයි .. ඔයා පරිස්සමෙන් යන්න .. " ග්‍රිගොර් ලුයිසට කිව්වා ...

ලුයිසගේ කෝල් එකත් එක්ක ග්‍රිගොර්ගේ හිතේ තිබුනු බය තවත් වැඩිවුනා...

" ඇයි එයා මට එක පාරටම කෝල් කලේ... ඇයි එයාට එහෙම කියන්න හිතුනේ... මෙතන මොකක් හරි දෙයක් තියෙනවා.. " ඔහුගේ මනසට දැනුනු මේ සිතුවිලි නිසාම ඔහුට දැනුනේ ලොකු හිසේ කැක්කුමක්.... ලුයිසට මොකක් හරි අනතුරක් වෙන බව ග්‍රිගොර්ට දැන් හොඳටම විශ්වාසයි...එයාට ඒ විදියට කියන්න හිතෙන්නට ඇත්තේ ඒ නිසා වෙන්න ඇති.... " ග්‍රිගෝර්ගේ දෑසින් කඳුලු කඩා වැටුනා...

" නැහැ එහෙම වෙන්න දෙන්න බැහැ... මට මගේ ලුයිසව නැතිකර ගන්න බැහැ " ග්‍රිගොර් කඳුලු පිහදගන්න ගමන් මිමිනුවා...ඔහු එතනම දන ගහ ගත්තා...දෙවියන් යදින්න පටන් ගත්තා..

" අනේ දෙවියනේ...ලුයිසට කරදරයක් වෙන්න දෙන්න එපා..එයාව ආරක්ෂා කරන්න.... එයාව ආරක්ෂා කරන්න " ඔහු කන්නලව් කලා..

එහෙත් එහින් ඔහු සැහිමකට පත් වුනේ නැහැ...වෙලාව 8යි....යාන්තමට එලියත් ඇවිත් ..ඔහුට මතක් වුනේ වීදිය කෙලවරේ තිබුනු ලූසාවෝර් පල්ලිය....

" පල්ලියට යන්න ඕනේ ඉක්මන් කරලා..ගිහින් දෙයියන්ට භාරයක් වෙන්න ඕනේ... " ඔහු කල්පනා කලා...

ඔහු ඉක්මනට ලැස්ති වෙලා පල්ලියට ගියා....ලූසාවොර් පල්ලිය තිබුනෙත් ග්‍රිගොර් ජිවත්වෙලා හිටපු මෂ්තෝත් වීදියේ කෙලවරේමයි...

ඔහු එලියේ හිටපු වයසක වෙලෙන්දියගෙන් ඉටිපන්දමක් අරගෙන පල්ලිය ඇතුලට ගියා... දෙතුන් දෙනෙක් හැරෙන්න පල්ලියේ කවුරුවත් නැහැ...ඔහු දෙවියන්ගේ අල්තාරය ලග දන ගැහුවා.... ඉටිපන්දම පපුව ලගට කරගෙන දෙවියන්ට යැද්දා..

" අනේ දෙවියනේ ..අද මගේ බිරිඳ ජොර්ජියා වලට ගියා...එයාව ආරක්ෂා කරන්න..එයාට කිසිම අනතුරක් නොවී ගියා වගේම ආයෙමත් යෙරෙවාන් වලට එවන්න.. ඔබ වහන්සේගේත් සියලුම දෙව්දේවතාවුන් වහන්සේලාගෙත් ආරක්ෂාවත් රැකවරනයත් ඇයට ලබා දෙන්න... " ග්‍රිගෝර් යැද්දා..ඇස් දෙකේ කඳුලු පුරෝගෙන යැද්දා....

ඉටිපන්දමත් ඇය වෙනුවෙන්ම පත්තු කරපු ග්‍රිගොර්ට පල්ලියෙන් එලියට බැස්සා..

ඔහුගේ හිතට සැහැල්ලුවක් දැනුනා.. " හැමදේම හරියයි .. මගේ රත්තරන්ට කිසිම හානියක් වෙන්නේ නැහැ... " වීදිය දිගේ එන අතරතුර ඔහු මිමිනුවා...

වීදිය දිගේ අපු ඔහු නිවස ඉදිරියේ ඇති වංගුවෙන් පාර පනින්න සූදානම් වුනා..හිතේ තිබුනු සිතුවිලිත් එක්ක ඔහුට වංගුව ගැන ඒ තරම් නිනව්වක් තිබුනේ නැහැ... ඔහු පේමන්ට් එකෙන් පාරට අඩිය තියද්දීම පිටුපස්සේන් වේගයෙන් ආපු ලොරියක් මහා හයියෙන් තිරිංග තද කරනවා ඔහුට ඇහුනා..ඔහු පිටුපස හැරිලා බැලුවා... එහෙත් ඒ වෙනකොටත් ඔහු පරක්කු වැඩියි... හිම දිගේ ලිස්සලා ආපු ලොරියට යටවෙලා ග්‍රිගොර්ව එතනම මැරුනා..

---

පසුවදන - හැම බිරිදම සැමියටත් සැමියෙක්ම බිරිදටත් ගොඩක් ආදරය කරනවා..මොහොතකට සිතන්න..ග්‍රීගොර් දුටු හීනය ඔබ දුටුවනම් ඔබේ බිරිද වෙනුවෙන් ඔබත් දෙවියන්ට යදීවී... එහෙත් සමහර වෙලාවට අපි ඇත්තටම වෙන්න යනවයි කියලා හිතන දේටත් වඩා හාත්පසින්ම වෙනස් දෙයක් වෙන්නත් පුලුවන්.. ජීවිතය සමහර වෙලාවට ලොකු පෙහෙලිකාවක්...

මේ කතාව නිර්මානය කරන්න මූලික වුනු සිද්ධියක් තියෙනවා..කාලයක් තිබුනා මගේ බිරිද ලුසිනේ මාසෙකට කිහිප වතාවක්ම ජොර්ජියා වලට යන.සමහර ශීත දවස් වලට මෙම මාවත් හරිම භයානකයි.ඇය ජොර්ජියා යන්න ලැයිස්තිවෙලා හිටිය දවසක මම ඔය වගේම හීනයක් දැක්කා.ග්‍රිගෝර් වගේම මමත් ඇයට පෙරැත්ත කලා ජොර්ජියා ගමන කල් දාන්න කියලා.එහෙත් මමත් හොදටම දැනගෙන හිටියා එයා එහෙම නොකරන විත්තිය.මේ පොත ලියද්දී එම සිද්ධිය ගැන ඇති මතකයත් එකතුකොට මම මෙම කතාව ගොඩනැගුවා...

# පුදුම තාත්තෙක්

කුඩා ලමුන් සෙල්ලං කරන පිට්ටනියක ඇති බංකුවක් මත හිදගෙන සිටින කාන්තාවක් සහා පිරිමියෙකි.ටික මොහොතකින් ඔහුන් දෙදෙනා එකිනෙකා සමග කතාවට වැටින.

" අර ඉන්නේ මගේ පුතා " කාන්තාව ඇගිල්ල දිගු කොට පිටියේ සෙල්ලන් කරමින් සිටි කුඩා පිරිමි ලමයෙකුව පෙන්වීය.

" අර ඉන්නේ මගේ දුව මේලීනා.... " පිරිමි කෙනාද තම දුවව පෙන්වා කීහ...

දෙදෙනාම පැ කිහිපයක් එකිනෙකා සමග කතා කරමින් තම දරුවන් පිටියේ සෙල්ලන් කරන අයුරු බලාගෙන වුන්නහ...

කාලය ගෙවී ගියේය. පිරිමි කෙනා නිතර නිතරම තමන්ගේ ඔරලෝසුව දෙස බලන්නට පටන් ගත්තේය.ටික මොහොතකින් බංකුවෙන් නැගිට ගත් ඔහු සෙල්ලන් කරමින් සිටි තම දුව අමතා මෙසේ කීහ

" දුවේ දැන්නම් ගෙදර යන්න වෙලාව හරි "

එය ඇසෙත්ම කුඩා දැරිවියගේ මුහුන බෙරි වෙලා ගියාය.

" අනේ තාත්තේ ... තව ටිකක් වෙලා ඉන්නකෝ" ඈ කීවාය.

ඔහු සිනාසී යලිත් බංකුවේ හිදගත්තේය.

ටික මොහොතක් ගෙවී ගියේය..ඔහු යලිත් ඔරලෝසුව දෙස බැලීය... ඔරලෝසුව දෙසත් දුව දෙසත් මාරුවෙන් මාරුවට බැලූ ඔහු යලිත් හිටගත්තේය..

" මේලීනා.. අපි දැන් යන්න ඕනේ දුවේ.. " ඔහු කීවේය.

" අනේ තාත්තේ තව විනාඩි 5ක් ඉන්න .. "ඇය බැගැපත් විය.

ඔහු යලිත් බංකුවේ හිදගත්තේය.ඔහුගේ මෙම ක්‍රියාව බලාසිටි කාන්තාව ඔහුගේ ඉවසිලිමත් කමත් දරුවන්ට ඇති ආදරය ගැනත් පුදුමයට පත් වූවාය.

" මෙයා නම් හරිම හොද තාත්තා කෙනෙක්.. දරුවන් එක්ක පුදුමාකාර ඉවසිල්ලකින් ඉන්නේ " ඇය සිතුවාය..

තවත් කාලය ගත විය....ඔහු යලිත් ඔරලෝසුව දෙස බැලීය.නිවසට පිටත් විය යුතු වෙලාවත් පරක්කු වී ඇත.ඔහු යලිත් තම දුවට අඬ ගැසුවේය.

" අනේ තාත්තේ තව විනාඩි 5ක් විතරක් වුට්ටකට ඉන්නවද. " මෙවරත් ඇය බයාදු ස්වරයෙන් ඔහුට කීහ...ඔහු කිසිත් නොකියාම යලිත් නිසොල්මන් විය.

මේ සියල්ලම බලාසිටි කාන්තාවට ඔහුගේ මේ ඉවසිලිමත් කම ගැන ඔහුට ප්‍රශංසා කල යුතුම යැයි සිතින.ඔහු දෙස බලා සිනා සුනු ඇය...

" ඔයා නම් ගොඩක් හොද තාත්තා කෙනෙක්...මටනම් මේ වගේ වෙලාවක හොදටම තරහා යනවා..එහෙත් ඔයා බොහෝම ඉවසිල්ලෙන් දරුවට සෙල්ලන් කරන්න දීලා බලාගෙන ඉන්නවා.. " ඇය කීවාය.

" මගේ දුවට මල්ලි කෙනෙක් හිටියා...එයා අර පේන පාරේ බයිසිකලය පදිමින් ඉන්නකොට වහානෙකට හැප්පිලා නැතිවුනා.. " ඔහු පිට්ටනිය ලග ඇති පටු මාවත පෙන්වමින් පැවසුවේය.

" එයා ජීවත්වෙලා ඉන්න කාලේ එයත් එක්ක කාලය ගත කරන්න තරම් මට වෙලාවක් තිබුනේ නැහැ...දරුවන්ට වැඩිය මම හිතුවේ මගේ වැඩ රාජකාරී ගැන. අද මගේ පුතා ජීවත් වෙලා හිටියනම් විනාඩියක් නෙමේ පැය ගානක් වුනත් මම එයත් එක්ක ඉන්නවා...

මගේ පුතාට මගෙන් වුනු ඒ වැරැද්ද මගේ දුවට වෙන්න දෙන්න බැහැ... එයා ඒ පුංචි විනාඩි 5යෙන් සතුටු වෙනවනම් එයා වෙනුවෙන් වැඩිපුර විනාඩි 5ක් නෙමේ මුලු ජීවිතයම වුනත් කැපකරන්න මම ලැස්තියි...ඒක තමයි තාත්තා කෙනෙක් විදියට මමත් ලබන සතුට... " ඔහු පැවසුවේය.

---

පසුවදන - මනුස්ස ජීවිතය හරිම අපූරු තැනකි.අපි ලගින්ම ඉන්න අය අපිත් සමග සිටින තුරු සමහරක් වෙලාවට අපිට ඔහුන්ගේ අගය දැන්නේ නැත.එහෙත් ඔහුන් අපෙන් සමුගෙන ගිය දවසක අපි ඔහුනට කල වැරදි මතක් වීමෙන් අපි මුලු ජීවිත කාලයම පසුතැවිලි වෙයි.

ඔබේ ජීවිතයට පසුතැවිල්ලක් ඉතිරි කර නොගන්න..ඔබට කලහැකි සැම දෙයක්ම ඔබ ආදරය කරන , ඔබට ආදරය කරන අය වෙනුවෙන් කරන්න.

# විදුලි සෝපානයේ දරුවා

මේ සිද්ධිය සිදුවූයේ අපි මසිච් නගරයට පදිංචියට පැමිනි මුල්ම සති කිහිපයේදීය..මෙය මතක වන විට තවමත් මගේ ඇගේ හිරිගඩු පිපෙයි.මෙය ඒ තරම්ම මගේ මනසට කා වැදී ඇති සිද්ධියකි.

මසිච් වල පිහිටි තට්ටු 10කින් පමන යුක්ත වූ මෙම නිවස මෙම නගරය තුල ප්‍රසිද්ධව තිබුනේ " ගුරු නිවස " නමිනි.ඒ මෙම මහල් නිවසේ සිටි බොහෝමයක් පවුල් වල අය පාසැල් වල ඉගැන්වූ ගුරුවරුන් වූ නිසාවෙනි.

මමත් බිරිඳත් මෙම මහල් නිවසේ 8 වෙනි තට්ටුවක වූ නිවසක පදිංචි වූවෙමු.මෙහි පලවෙනි සහා දෙවෙනි මහල් හැරෙන්නට අනෙක් මහල් වලට යැම සදහා විදුලි සෝපාන දෙකක් විය.මෙහින් එකක් මිනිසුන්ට යා හැකි කුඩා එකක් වූ අතර අනෙක බඩු බාහිරාදිය ගෙන යා හැකි විශාල එකක් විය.

මා එකල හෝටලය කලමනාකරුවෙකු ලෙස සේවය කලේමි..ඒ නිසාම මෙහි පදිංචියට ආ මුල් කාලය පුරාම මා හට රාත්‍රී සේවා මුරයේ වැඩ කිරීමට සිදු වූයෙන් මා නිවසට එන විට සැම දිනෙකම අලුයම 1 පමන වී තිබින.

දිනක් මා රාත්‍රී වැඩ අවසන් ව නිවසට එමින් සිටියෙමි.ගොඩනැගිල්ලට ඇතුලු වූ මා එහි පහතම මාහලයේ ඇති කුඩා මුර කුටියේ සිටි වයසක මුරකරුවාටද ආචාර කොට විදුලි සෝපානය ලගට ආයෙමි.එහි විදුලි බොත්තම එබූ මා මොහොතක් එහින් ප්‍රතිචාරයක් එන තුරු සිටියත් විදුලි සෝපානය විවර වෙන බවක් පෙනෙන්නට නොතිබින.එහි කුමක් හෝ කාර්මික දෝෂයක් ඇතැයි සැක සිතූ මම එයට එහායින් වූ විශාල විදුලි සෝපානයේ බොත්තම තද කලෙමි.බොත්තම එබූ සැනින් එය විවෘත විය.සාමාන්යෙන් රාත්‍රී කාලයේදී විශාල විදුලි සෝපානයේ විදුලිය විසංදි කොට තැබුවත් එදින කුමක් හෝ හේතුවකට එය එසේ නොවීය.මා එයට ගොඩ වී 8 වින මහලේ බොත්තම එබූයෙමි.එය ඉහලට යන්නට විය.

එකවරම එය 4 වෙනි මහලෙන් නැවතිනි.සෝපානයේ දෝර විවෘත විය.වයස අවුරුදු 5ක පමන කුඩා පිරිමි ලමයෙකු එයට ගොඩ විය..කලු පැහැති කොට කලිසමින් සහා නිල් පැහැති කමිසයකින් සැරසී සිටි ඔහු විදුලි සෝපානයට විත් එයට මුහුනලා හිට ගත්තේය.. ඔහු විදුලි සෝපානයේ කිසිම බොත්තමක් එබුවේ නැත. මා වික්ෂිප්තව ඔහු දෙස බලා සිටියෙමි.ඔහු කිසිම හැල හොල්මනක්

නැතිව විදුලි සෝපානයේ දොරටුවට මුහුනලා සිටගෙන සිටින්නට විය.

" කීවෙනි තට්ටුවටද පුතා යන්නේ " මා ඔහු වෙත ලං වී විමසුවෙමි. ඔහු කිසිවක් කීවේ නැත.ටික වේලාවකින් විදුලි සෝපානයේ දොර ඉබේම වැසී ගොස් එය ඉහලට අදෙන්නට විය.මා යායුතු තට්ටුවේ බොත්තම මා කලින් ඔබා තිබුනෙන් එය සාමන්‍ය දෙයකි.මා සිතූ පරිදිම එය 8 වෙනි තට්ටුවට ගොස් නතර විය.සෝපනයෙන් එලියට පැමිනි මා පිටුපස හැරී එහි සිටි දරුවා දෙස බැලුවෙමි.ඔහු කිසිම හැල හොල්මනක් නැතිව බලා සිටියි.ටික වේලාවකින් විදුලි සෝපානයේ දොර වැසින.මා මොහොතක් එතැන නැවති සිට එය යන්නේ කීවෙනි තට්ටුවටදැයි බලා සිටියෙමි.10වෙනි තට්ටුවෙන් එය නතර විය. විදුලි බොත්තම නිමි ගියේය..එහෙයින් 10 වෙනි තට්ටුවෙන් එම ලමයා එලියට යන්නට ඇතැයි මා සිතුවෙමි.

මෙම සිද්ධිය නිවසට පැමිනි විට මා බිරිදට කියුවෙමි.
" 10 වෙනි තට්ටුවේ ඉන්න ලමයෙක් වෙන්න ඇති " කියූ ඇය එය ගනන් ගත්තේ නැත.එහෙත් මෙම දරුවාගේ හැසිරීමත් ඔහුගේ දැසෙහි වූ නිශ්චල බවත් නිසා මෙහි කුමක් හෝ පේලීකාවක් මගේ සිතට කා වැදින.

ඊලග දින කිහිපය තුල මා නිවසට එන විට කුඩා විදුලි සෝපානය වැඩ කලේය.එම දවස් කිහිපය සාමාන්‍ය පරිදි ගෙවී ගියේය..ඒ දවස් කිහිපය පුරාවටම හිතේ තිබුනු සැකයට මෙන් මම විශාල විදුලි සෝපානයේ බොත්තම ඔබා බැලුයෙමි...එය විවෘත වූයේ නැත.

දින කිහිපයකට පසු තවත් දිනෙක මෙම සිද්ධිය එලෙසම සිදුවිය.එදින මා කුඩා සෝපානයේ බොත්තම එබූ නමුදු එය වැඩ කලේ නැත.මගේ ඇගේ ලේ එක්වරම සීතල වී ගියේය.මා විශාල විදුලි සෝපානයේ බොත්තම එබුයෙමි.එය විවෘත විය.සෝපානයට ඇතුලුවීමට පෙර මා නිකමට මෙන් මා අතේ වූ ඔරලෝසුවේ වෙලාව බැලුවෙමි.
අලුයම 1යි 15යි.
මා සෝපානයට ගොඩවිමි.ඊලගට සිදුවන්නට යන දේ ඉවෙන් මෙන් මා හට තේරින.මගේ ඇගසීතල වී ගෙන එන්නට පටන් ගත්තේය...
මා මොහෝතකට දැස වසා ගෙන සිතට දෛර්‍ය ගත්තෙමි.4 වන මහලෙන් සෝපානය නැවතුනොත් මෙහි කුමක් හෝ ඇත. නිසැකවම මෙය සාමාන්‍ය දෙයක් නොවෙයි.
මා සිතූ පරිදිම එක්වරම සෝපානය 4වෙනි මහලෙන් නැවතින.කලින් දුටු කුඩා ලමයාම විදුලි සෝපනයට ගොඩ විය.ඔහු ඇද සිටියේ පෙර දිනයේ ඇද සිටි ඇදුම්මය.ඔහුගේ මුහුනෙත් නිශ්චල දැසෙත් කිසිම වෙනසක් නොවීය.පෙර පරිද්දෙන්ම ඔහු විදුලි සෝපානයේ දොරටුවට

මුහුන ලා හිටගත්තේය.මා ඔහුගෙන් කිසිත් නොවිසුවෙමි.මගේ උගුර සම්පූර්නයෙන්ම වේලි ගොස් තිබින.සෝපානය ඉහලට ගොස් 8වන තට්ටුවෙන් නවතින තුරු මා බලා සිටියෙමි.එය 8 වන තට්ටු වේ නැවතුනු විගසම එහින් එලියට බැසගත් මම පිටුපස නොබලාම ගොස් මගේ නිවසට ඇතුලුවිමි.සෝපානය කලින් දින පරිද්දෙන්ම 10 වෙනි තට්ටුවට යන්නට ඇත .එය මට නිශ්චිතය.

මා බීරාන්විතව නිවසට ඇතුලුවනු දුටු මගේ බිරිද බියට පත් විය...මා කුමකට හෝ බියට පත්වී ඇති බව දුටු ඇය වතුර වීදුරුවක් ගෙනවිත් මට බොන්නට දුන්නාය...එහින් පසුව මා ඇයට සියලුම කතාව කීවෙමි.

මගේ කතාව අසා සිටි ඇය සිනාසුනාය....
" ඔයාට පිස්සු....මම කලිනුත් කීවනේ ඒ ලමයත් ඔයා එන වෙලාවටම කොහේ හරි ගිහින් එයාගේ ගෙදර යනව ඇති... "
" අවුරුදු 5ක විතර ලමයෙක් ..මේ මහා රෑ " මා ඇසුවෙමි.
"නැතුව ..ඒ ලමයා ගොඩ වෙන්නේ 4 වෙනි තට්ටුවෙන්නේ.. ඒ කියන්නේ ඒ තට්ටුව එයාගේ යහලුවෙක් ඇති... ඔයාට විකාර... ගිහින් නිදාගන්න " කියූ ඇය මගේ කතාව සමච්චලයකට ගත්තා මිසක එය බැරෑරුම්ව නොසිතීය...ඇය කියන දේත් ඇත්තක් විය හැක..එහෙත් එය සම්පූර්නයෙන්ම පිලිගැනීමට මට නොහැක...මෙහි කුමක් හෝ දෙයක් ඇත.මේ ලමයා 10 වෙනි තට්ටුවේ ජීවත්වෙන කෙනෙක්නම් මේ ගැන මේ ගොඩනැගිල්ලෙම කාගෙන් හෝ හෝඩුවාවක් සොයාගත හැක....
එදිනට පසු දින මා හට වේලපහින් නිවසට ඒමට හැකිවිය.මා ගොඩනිගිල්ලට ඇතුලු වෙද්දී මුර කුටීරයේ සිටි වයසක මුරකරුවාව දුටුයෙන් ඔහුගෙන් අර ලමයා ගැන ඇසිය යුතුයැයි මාහට සිතින.

ඔහුව කතාවට අල්ල ගත් මා ටික වෙලාවකින් කතාව වෙනස් කොට දරුවගේ මාතෘකාවට ආයෙමි..
" 10 වෙනි තට්ටුවේ අවුරුදු 5ක විතර පිරිමි ලමයෙක් ඉන්නවද " මා ඔහුගෙන් ඇසුයෙමි.
"මහත්තයා ඇයි එහෙම අහන්නේ " ඔහු ඔහුගේ දැස විශාල කොට මගෙන් ඇසීය.
" නෑ නිකන් ඇහැව්වේ "
"ඒ කිව්වේ මහත්තයා දන්නේ නැද්ද "
" මොකක්ද " මා ඇසිමි.
" ඔය ලමයගේ ආච්චි කෙනෙක් හිටියා 4 වෙනි තට්ටුවේ...ඉතින් ඔය ලමයා ඒ ආච්චීගේ ගෙදර ඉදන් නිතර නිතරම 10 වෙනි තට්ටුවේ තියෙන එයාගේ ගෙදරට යනවා..දවසක් එහෙම යන්න යද්දී ඔය ලමයව මැරුනා ....අර පේන ලොකු විදුලි සෝපානයේ හිරවෙලා... දැන් ඔය ලමයා නැතිවෙලත් මාසයක් විතර ඇති "
ඔහු මට කීහ.

# හූවීක් පාරේ ගුරුතුමා

හොවික්ට ජීවිතෙම එපාවුනු දවසක් ආවා..ඔහු සියදිවි නසා ගන්නට තීරනය කලා..
එහෙත් ඊට කලින් ඔහු මුනගැසිය යුතු කෙනෙකු ඉන්නවා..ඒ තමයි හූවීක් පාරේ ගුරුතුමා... හොවික් ඉපදිලා මාස කිහිපයක් යන්නත් කලින් හොවික්ගේ තාත්තා මැරුනා...ඊට පස්සේ හොවික්ට හිටියේ අම්මා විතරයි...
හොවික්ට ඉගැන්වුයේ කන්න බොන්න , නවාතැන් පවා දුන්නේ හූවික් පාරේ ජීවත් වුනු මේ ගුරුතුමා...කොටින්ම හොවික් පුංචි කාලයේ හැදුනේ වැඩුනේ මේ ගුරුතුමා ගාව.

ගුරුතුමාට වැදනමස් කාර කරපු හොවික් ගුරුතුමා මෙතෙක් කල් ඔහුට කරපු කියපු හැමදේටම ස්තූති කලා...ඒ හැමදේටම ඔහුට පිංදුන්නා... එහෙත් ඔහු සියදිවි නසා ගන්න යන විත්තිය ඔහු ගුරුතුමාට කිව්වේ නැහැ.. කිව්වේ නැති වුනත් ගුරුතුමාට ඒක ඉවෙන් වගේ දැනුනා...

හොවික් යන්නට සූදානම්ව ගුරුතුමාට ආචාර කරද්දී ඔහුගේ උරහිසට අත තබා ඔහුව මදක් නවතා ගත් ගුරුතුමා ඔහුට මෙසේ කිව්වා...
" ඔබ සියදිවි නසාගන්න යනවා...ඒක මම දන්නවා...එහෙත් ඊට කලින් මට ඔබෙන් ඉල්ලීමක් තියෙනවා කරන්න "
හොවික්ගේ මුහුන මැලවිලා ගියා...
" කියන්න ගුරුතුමනි.. " ඔහු කිව්වා..
" මෙතන ඉදන් කිලෝ මීටරයක් විතර ගියාම හමුවෙනවා අජජ්නයාක් කියන ගම. ඒ ගමේ ඉන්නවා රූබෙන් කියන තරුනයෙක් එයාව ගිහින් මුන ගැහෙන්න...එයාව මුනගැහුනට පස්සේ යන්න එතනම තියෙන දාවිත්ෂාන් කියන ගමට ...ඒ ගමේ ඉන්නවා සෙත්‍රාක් කියන ලී බඩු හදන්නෙක්...මේ දෙන්නව මුන ගැසුනට පස්සේ ඔබට හැකියි සියදිවි නසාගන්න...."
හොවික් ගුරුතුමාට ආචාර කර ගමන යන්නට පිටත් වුනා..

අජජ්නයාක් කියන ගමට ගිය ඔහු කිහිප දෙනෙකුගෙන්ම රූබෙන් ගැන ඇහැව්වා...එහෙත් කවුරුවත් ඒ නම කන් දෙකට ඇහෙන වටවත් කැමති වුනේ නැහැ...එහෙත් එක් ගැමියෙක් හොවික්ට වීදිය කොනේ තිබුනු රූබෙන්ගේ නිවස පෙන්නුවා..

හොවික් ඒ පැල්පතට ගියා..ඒ පැල්පතේ තිබුනු දිරා ගිය ඇඳක
හොඳටම කෘෂ වෙලා ගිය මැහැල්ලක් වැතිරගෙන හිටියා...
යාන්තමින් ඇස් දෙක හැරලා රූබෙන් දිහා බලපු ඇය ආයෙත්
ඇස්දෙක වසා ගත්තා..ඇය ඒ තරමටම වැරහිලා හිට්යේ... හොවික්
වටපිට බැලුවා...නිවසේ වටපිටේ කවුරුවත්ම නැහැ..
" ගුරුතුමා මොකටද මාව මේ මැහැල්ල ලගට එව්වේ..ගුරුතුමාට
වැරදිලා ඇති " සිතපු හෝවික් යන්නට පිටත් වුනා..
යන අතර තුර ඔහුට මුන ගැසුනු තවත් ගැමියෙකුගෙන් ඔහු රූබෙන්
ගැන ඇහැව්වා..
" අපෝ ඕකද .... ඕකා මහා තිරිසනෙක්...ඌගේ අම්මා ඌව දහදුක්
විදලා ලොකු මහත් කලා..මේ කාලකන්නීයා කෙල්ලෙක් හින්දා සිය
දිවි නසා ගත්තා...දැන අර අම්මා මැරෙන ගානට වැටිලා...ඒ
මනුස්සයව බලාගන්න කවුරුවත්ම නැහැ...රූබෙන් විතරයි ඒ අම්මට
හිටියේ...ඌ පිස්සෙක් වගේ ඒ අම්ම ගැනවත් හිතන්නේ නැතිව
බෙල්ල වැල දාගත්තා...තිරිසනා.. "
කියපු ගැමියා යන්නට ගියා..

හොවික්ට ගුරුතුමා ඔහුව රූබෙන්ව බලන්නට එවපු කාරනය
වැටවුනා...

ඔහු ඊලගට ගියා දාවිත්ෂාන් කියන ගමට...සෙත්‍රාක් කියන්නේ ඒ
ගමේ ජනප්‍රිය වඩුවෙක්..ගමේ හැමෝම වගේ සෙත්‍රාක් ගැන
දැනගෙන හිටියා..ඔහු ගියා සෙත්‍රාක්ගේ ලී මඩුවට...සෙත්‍රාක් ව දැක්ක
ගමන් හෝවික් පුදුමයට පත් වුනා... සෙත්‍රාක්ට අත් දෙකම
නැහැ...ඔහු සේරම වඩු වැඩ කරන්නේ කකුල් දෙකෙන්...
" හූවීක් වල ගුරුතුමා මාව එව්වේ "
ඔහු සෙත්‍රාක්ට කිව්වා..
සෙත්‍රාක් ඔහුව බොහොම ගරු සරු ඇතුව පිලිගත්තා..
" හූවික් වල ගුරුතුමා තමයි මට ජීවත් වෙන්න කියලා
දුන්නේ...අනතුරකින් මගේ අත්දෙකම නැතිවෙච්ච වෙලේ මම
මැරෙන්න තීරනය කලා..එහෙත් ගුරුතුමා මගේ හිත හැදුවා...ඊට
පස්සේ මම මේ ලී මඩුව දාගත්තා.. අද මම මේ මුලු ගමේම ගොඩක්
ජනප්‍රිය වඩුවෙක්..මිනිස්සු මට ආදරෙයි...මට බොහෝම ගරු
කරනවා...ගමේ මොනම දෙයක් තිබුනත් මුලින්ම කතා කරන්නේ
මට" ඔහු හොවික්ට කිව්වා...

හොවික් ගුරුතුමා ඔහුව සෙත්‍රාක් ලගට එවපු කාරනයත්
වටහාගත්තා... හොවික් සියදිවි නසා ගත්තේ නැහැ..ඔහු ආයෙත් ගියා
හූවික් පාරේ ගුරුතුමාව මුන ගැහෙන්න...

හොවික්ව දැකපු ගුරුතුමා ඔහුගෙන් මෙහෙම ඇහුවා..
" ඔබ කාවද තෝරගන්නේ... රූබෙන්වද සෙත්‍රාක්වද "
හොවික්ට කට උත්තර නැතිව ගියා...කිසිවක් නොකියම තමන් දිහා

බලාගෙන ඉන්න හොවික්ව දැකපු ගුරුතුමා මෙහෙම කිව්වා
"යන්න දරුවා ...ගිහින් අම්මවත් බලාගෙන ජීවත්වෙන්න "

---

පසුවදන : සියදිවි නසාගැනීම කියන්නේ වෛරසයක් වගේ අපේ සමාජය තුල පැතිරිලා තියෙන දෙයක්.ජීවිතේට එන පුංචි ප්‍රශ්නයටත් සමහරු විකල්පන විදියට තෝර ගන්නේ මැරෙන එක.මම මගේ කෙටි කතා කිහිපයකින්ම මේ ගැන කතා කලා..සැම් සහ ස්ටෙලා කතාවෙත් වගේම මම මේ කතාවෙනුත් කතා කරන්නේ ඒ දේමයි.අපි හැමෝටම ප්‍රශ්න තියෙනවා..මේක ලියන මටත් එහෙමයි...එහෙත් ඒ ප්‍රශ්න කවදා හරි අපේ ජිවිතයෙන් නැති වෙලා යයි..කාලයට ඉඩදීලා ඉවසන් ඉමු !

# යලි ඉපදීම

විවහා වී වසරකට පසුව මම දරුවෙකුව බිහිකලෙමි.එකල මගේ වයස අවුරුදු 30ක් පමන විය.මගේ සැමියත් මමත් එදින අප්‍රමාන ලෙස සතුටු වුයෙමු.ජීවතයට දරුවෙකු තරම් වෙනත් වාසනාවක් තවත් කොයෙන්ද.. " වාසනාව" යන අර්ථයෙන් අපි ඔහුට " ෆෝචූන් " ලෙස නම තැබුවෙමු.

ෆෝචූන් හිතාමත්ම ප්‍රිය මනාම දරුවෙක් ලෙස වැඩෙන්නට විය.කලු පැහැති හිස කෙස් සහා දුබුරු පැහැති දෙනෙතක් ඔහුට විය.ඔහු හාත්පසින්ම මගේ රුවට සමාන වූ අතර ඔහුගේ සිනහව මගේ සැමියගේ සිනහවමැයි බොහෝ අය කීහ.

ෆෝචූන් කෙමෙන් කෙමෙන් වැඩෙත්ම ඔහු හා සෙල්ලන් කිරීමට තවත් දරුවෙකු ඇත්නම් හොදයි යැයි අපි සිතුවෙමු.ඒ නිසාම තවත් දරුවෙකු වෙනුවෙන් මමත් සැමියත් උත්සහා කලෙමු.එහෙත් එය සාර්ථක නොවීය.අපි වෛද්‍යවරයෙක් හමුවටත් ගියෙමු.

" ඔය දෙන්නටම තව වයස තියෙනවනේ ..ඒ නිසා හිම්හිට උත්සහා කරලා බලන්න " ඔහු කීහ.

වසර දෙකකට ආසන්න කාලයක් ගෙවී ගියේය.

ෆෝචූන් හිතාමත්ම සංවේදී දරුවෙකි.සමහරක් විට හිතාමත්ම කුඩා දෙයටත් ඔහු බියට පත් විය.ඔහුගේ සිතෙහි සතුන් කෙරෙහි අප්‍රමාන වූ කරුනාවක් තිබින.

අප නිවසට ඉදිරියෙහි කුඩා අතු පාරක් ඇත.රස්න කාලයේ උදැසනට මෙම අතු පාරෙහි ගොලු බෙල්ලන් පිරී සිටිනු දැකිය හැක.සමහර විට මිනිසුන්ගේ පයට පැගී උන්ව මැරී ගියේය...ඒ නිසාම තැලී පොඩී වී ගිය ගොලුබෙල්ලන්ව මේ කුඩා මාවතෙහි අනන්තවත් දැකිය හැක... ෆෝචූන් සමහරක් විට මෙම කුඩා පාරෙහි ඇවිදිමින් එහි සිටින ගොලුබෙල්ලන්ව පාරෙන් එහා පස ඇති තන කොල මතට දමයි... ඔහු මේ දේ සැම දිනෙකම කලේය....ඔහු නිසාවෙන් මේ අසරන සතුන් බොහෝ දෙනෙකුගේම ජීවිත ආරක්ෂා වන්නට ඇත..ඔහු මෙහින් අවිහිංසක සතුටක් වින්දාය...

ෆෝචූන්ට වයස අවුරුදු 4ක් පමන වෙද්දි මා ඔහුට පියානෝ වාදනය ඉගැන්වුවෙමි.ඔහු එය කොතරම් දක්ෂ ලෙස ඉගෙනගත්තේද යත් ටික කලක් ගතවෙත්ම තනිවම වාද්‍ය කන්ඩ වැයීමට ඔහුට හැකි විය.ඔහු කවදාක හෝ දක්ෂ පියානෝ වාදකයෙකු වේයැයි අපි සිහින මැවීය.එහෙත් ඒ සිහින සියල්ලම එකම එක් දිනක් සම්පූර්නයෙන්ම සුනු විසුනු වී ගියේය.

මගේ මව වාසය කලේ අපරාන් නම් වූ කුඩා ගම්මානයේය.පියාගේ මරනයෙන් පසු ඇය ගමේ හුදකලා විය.ඇයට සිටියේ මා පමනකි.ඇයව බැලීමට සැම සති අන්ත දිනෙකම ගමට යැමට අපි පුරුද්දක් කර ගත්තෙමු...මේ සැම විටකම අපි දරුවවත් අපත් සමග ගෙන ගියෙමු.මගේ මවත් ඔහුත් එකිනෙකාට බොහෝ සෙයින් ලෙන්ගතුය.ආච්චීත් සමග සෙල්ලන් කිරීමටත් ඇයගේ කතා ඇසීමටත් මගේ පුතා බොහෝ සෙයින් ප්‍රිය කලේය.

මගේ මව ජීවත්වූ ගම්බද නිවසෙහි වැසිකිලිය පිහිටා තිබුනේ එලිමහනේය.නිවස ඉස්සරහා ඇති විශාල ගොවිපලෙහි කොනක පිහිටා තිබුනු වැසිකිලිය හිතාමත් පරන පන්නයේ එකකි.එහි නල මාර්ග කිසිවක් නොවූ අතර විශාල වලක් මත ලැලී තබා එය වැසිකිලියක් සේ සකස් කොට වටෙන් ආවරනය කොට තිබින.

වැසිකිලියට යනෙන සැම මොහොතකම කොයි මොහොතක හෝ එයට යටින් ඇති ජරා වලට වැටේවී යැයි බියක් මා හට ඇතිවිය.එය ඒතරම්ම අනාරක්ෂිතය...එහෙයින් තවත් මාස දෙකකින් කෙසේ හෝ එය නවීකරනය කල යුතු යැයි මමත් මගේ සැමියාත් තීරනයකට පැමිනියෙමු.

ෆෝවුන් වැසිකිලිය පැත්තටවත් යාමට බිය විය.ඒ ඇයිදැයි මා අදටත් නොදන්නෙමි.මරනයකට කලින් මරනය සිදුවෙන තැන ගැන මිනිසුන්ට ඉවෙන් මෙන් දැනෙනවා සේම ඔහුටත් එය දැනෙන්නට ඇතැයි මා සිතමි.

දිනක් මමත් සැමියත් මවත් සමග කතා කරමින් සිටින අතර තුර ෆෝවුන් එලියට ගියේය.නිවසින් පහල සම්පූර්නයෙන්ම ඇපල් සහා චෙරී ගස් වූයෙන් ඔහු ඒවා අතර සෙල්ලන් කරමින් සිටිනු ඇතැයි මා සිතුවෙමි.ඔහු බොහෝ වෙලාවට මේ ගස් යට වැටී ඇති පලතුරු අහුලමින් සිටියි....

ඔහු නිවසින් පිටතට ගොස් විනඩි කිහිපයක් ගත වුනත් ඔහුගෙන් සද්දක් නැත.මමත් සැමියාත් එලියට විත් ඔහුගේ නම කියා හඬ ගැසුවෙමු.ඔහුගෙන් කිසිදු ප්‍රතිචාරයක් නොවීය.අපි බොහෝ සෙයින් කලබල වුනෙමු... ගස් අස්සේ පීරමින් ෆෝවුන්ව සෙව්වෙමු.එහෙත් ඔහුව හම්බ වුනේ නැත.

වත්තේ කෙලවරේ ඇති වැසිකිලිය මට මතක් විය..මා එදෙසට දිව ගියෙමි.මා දුව යනු දුටු මගේ සැමියාද මවද මා පිටුපසින් දුව එන්නට විය..

වැසිකිලි වල උඩ තිබූ ලැලී ආරුක්කුව කැඩී ගොස් ඇත... සිදුවී ඇති දෙය මා හට අවබෝධ විය..මා මහා හඬින් කෑ ගැසුවෙමි...මගේ සැමියා දිගු ලීයක් ගෙනවිත් වල අවුස්සා බලන්නට විය.එහෙත් අපිට ෆෝවුන්ව සොයා ගැනීමට නොහැකි විය.

අපේ සද්ද ඇසී වට පිට සියල්ලෝම දුවගෙන ආහ.ඔහුන්ගේද සහාය ඇතිව මගේ සැමියා වලට බැස ෆෝචූන්ව ගොඩට ගත්තේය... ඔහු මිය ගොස් සිටියේය..

ඔහුගේ මරනයත් සමග මට ජීවිතය අන්තෙටම කලකිරීන.ඔහු මියගියේ කිසිදු මිනිසෙකු මියයාමට තියා හිතන්නටවත් නොසුදුසු ආකාරයට.ඔහුව වැසිකිලි වලෙන් ගොඩ ගන්නා විට ඔහුගේ මුලු සිරුරම මලපහා වලින් පිරී තිබ්න.වලට වැටී ගොඩට එන්නට හදද්දී ඔහුව තවත් එරෙන්නට ඇත.ඒ තුලදීම ඔහුගේ හුස්ම හිරවන්නට ඇත..

ෆෝචූන් අපේ ජීවිතයෙන් හිතාමත් දුක්බිත ලෙස සමුගත්තේය.

මේ සිද්ධියෙන් පසුව මා දැඩි විෂාදයකට ගොදුරු විය... පුතාගැන සිතීමෙන්ම මා මානසිකව රෝගී විය.මා කිහිප වාරයක්ම සියදිවි නසා ගැනීමට තැත් කෙරුවෙමි... නමුත් මරනයවත් මාව තමන් ලගට ගැනීමට කැමති නොවීය.එහෙත් හරිම අඩු වයසකින් මගේ පුතාව මරනය විසින් ඩැහැ ගත්තේය... දෛවයට හිතක් පපුවක් නැත.එය ඒතරම්ම කුරුරුය.

ෆෝචූන්ගේ මරනයෙන් පසුව වසරකට පසුව මම යලිත් ගැබ් ගත්තෙමි.මමවත් සැමියවත් දරුවන් ගැන සිතුවේ නැත.එහෙත් එය එසේ සිදුවිය.

අපිට පුතෙකු ලැබ්න.ඔහුටද අපි ෆෝචූන් ලෙස නම් තැබුයෙමු.

මෙහි තවත් අපූරුම දෙයක් ඇත.එනම් අලුත උපන් දරුවත් මියගිය දරුවත් එකිනෙකාට හාත්පසිම සමාන වීමයි.ෆෝචූන් ගේ මෙන්ම ඔහුගේද බෙල්ලට පහතින් උපන් ලපයක් විය.දෙදෙනාටම ඇත්තේ කලුපාට හිසකෙස්ය.දුඹුරු පහැ ඇස්ය.මෙය නම් හාස්කමකි.

දිනක් ගිම්හාන කාලයේදී මා පුදුමාකාර දෙයක් දුටුවෙමි.

ෆෝචූන් ගෙදර නොවුයෙන් බියට පත් වූ මා නිවසෙන් එලියට දුවගෙන ආවෙමි.ඔහු එලියේ තිබුනු කුඩා අඩි පාරෙහි හිදගෙන කුමක් හෝ කරමින් සිටියේය.මා එතැනට ගොස් බැලුයෙමි.ඔහු මේ මාවතෙහි යන ගොලුබෙල්ලන්ව පාරෙන් අහිනට දමමින් සිටියි..මා ඔහුව තුරුලට ගතුයෙමි...මට මගේ පලමු පුතාව මතක් විය.

මෙහින් මාස කිහිපයකට පසුව මගේ මවගේ අභාවය සිදුවුයෙන් මමත් සැමියත් දරුවත් සමග අපරාන් වලට ගියෙමු.මවගේ නිවස ඉදිරිපිටම තිබුනු වත්තෙහි ඇයගේ දේහය අපි භූමිදානය කලෙමු.

මේ සියලුම කටයුතු සිදුවෙද්දි මා පුතාව මගේ අතෙහිම තබාගෙන සිටියෙමි.වැසිකිලිය මුලුමනින්ම නවීකරන කර තිබුනත් මගේ හිතේහි දැඩි බියක් විය... මා ඔහුව බිමින් නොතැබුවෙමි.මුලු දවසෙම ඔහුව මගේ ලගින්ම තබා ගත්තෙමි.අම්මාගේ මරනයේ වැඩ කටයුතු සියල්ලම අවසන් කොට යලිත් නිවසට යන තුරු මා නොඉවසිල්ලෙන් පසුවිමි.මෙම තැනට මා වෛයිර කරමි.මට මගේ පුතාව නැතිකල මෙම ඉඩම මට හිතාමත් අප්‍රසන්න ස්ථානයක් විය.අම්මත් නැති නිසාවෙන් යලිත් කෙදිනකවත් මෙතැනට නොපැමිනෙන බවට මා මටම දිවුරාගතුයෙමි.

මරනයේ සියලුම වැඩ කටයුතු අවසන් වූ පසුව අපි යලිත් යන්නට සැරසුනෙමු.පිටත් වීමට පෙර අන්තිම වතාවට අම්මගේ සුසානයට ගිය අපි ඇයට ගෞරව කොට එන්නට පිටත් වුනෙමු.වත්ත හරහා නිවස දෙසට එන විට මම නිවස ඉදිරියේ ඇති වැසිකිලිය දෙස බැලුයෙමි.මගේ දෙනෙතින් කදුලු කඩා වැටින.මම මගේ අතෙහී වූ පුංචි පුතාව තරයේ අල්වා ගතුයෙමි...ඔහු වැසිකිලිය දෙස බලා සිටියි..මොහොතක් ඒ දෙස බලා සිටි ඔහු හඩන්නට පටන් ගත්තාය..

අම්මගේ නිවසින් පිටත්ව එන තුරුම ඔහු හැඩිල්ල නැවත්වුවේ නැත.

ජීවිතයේ අන්පේක්ෂිත සමහරක් විට අපිටම තේරුම්ගත නොහැකි දේවල් බොහෝමයක් ඇත..ෆෝචුන් යන්නට ගියේය....එහෙත් ඒ වෙනුවට දෙවියන් අපිට අලුත් ෆෝචූන් කෙනෙක් ලබාදුන්නහ..පුතාගේ මරනයෙන් මුලු ජීවිතයටම වෛර කල මා යලිත් ජීවිත්වෙන්නට පටන් ගතුයෙමි..

මේ සියල්ලටමත් වඩා... දැන් මට සිටින්නේද මගේ පලමු ෆෝචූන් යැයි මගේ සිත කියයි.... ඔහුන් දෙදෙනාගේ වෙනසක් නැත..ඔහුන්ගේ හැසීරීම , කතා විලාශය...සිනහව මේ හැම දෙයක්ම සමානය. අදටත් මගේ ෆෝචූන් මිය ගියා යැයි මා සිතන සැම විටකම ඔහු යලිත් අපත් සමගම ඉපදී ඇතැයි සිතා හිත හදාගමි.. මේ ඒ ෆෝචූන්මය....එය මා විශ්වාස කරමි

# දෙවියන් නොතැකූ හීනය

6 හමාරයි,ශෝර් එළියට බැස්සේ තමන්ගේ ඔරලෝසුව දිහා බලන ගමන්.කොම්පියුටර් බෑගය උරහිසට හරහාට දමාගත් ඔහු ඔපෙරා කෙටි පාර දිගේ මාස්තොස් හන්දියට ආවා.ඔහු නැවති සිටියේ පෙට්ටි බස් එක එනකන්.

පෙට්ටි බස් කිව්වේ වෑන් වර්ගයකට.නැගෙනහිර යුරෝපයේ වැඩිපුරම දිව්වේ පෙට්ටි බස්.

ඔෆිස් හැරෙන ටයිම් එකට පෙට්ටි බස් එකේ යනවා කියලා මහා එපාම කරපු දෙයක්.

38 පෙට්ටි බස් එක ඈතින් එනවා දුටු ශෝර් තකහනියේ ඇඟපොඩ්ඩක් බුර්ල් කරගත්තේ ඔනේ මලඉලව්වකට මුහුන දෙන්න බලාගෙන.බස් එක නැවත්තුව ගමන් ශෝර් දඩි බිඩි ගහලා නැගගත්තා... පිටිපස්සේ සීට් එකක් හිස් ... ශෝර් දුවලා ගිහින් ඒ සීට් එකේ හිදගත්තා.

පෙට්ටි බස් වල අනිත් බස් වල වගේ කොන්දොස්තරලා නැහැ.නගින මිනිස්සුමයි දොර වහන්නත් ඕනේ..බස් එකේ කොච්චර දුර ගියත් ඩ්‍රෑම් සීයක් විතරයි.. ශෝර් හිදගෙන හිටිය පිටුපස්සේ පේලිය හොදටම ෆුල්..ඔහුට එහාහින් හිටියේ වයසක ගැහැනු කෙනෙක්.ඊටත් එහා පැත්තේ දරුවෙක්ව ඔඩොක්කුවේ තියාගත් කෙල්ලෙක්...පෙට්ටි බස් එකට සෙනග ගන්නේ සීට් ගානට වුනත් ඔෆිස් හැරෙන වෙලාවට නගින්න පුලුවන් හැමෝම නගිනවා..ඒ නිසා හිටගෙන යන අයව අනන්තවත් දකින්නට පුලුවන්.

පිටි පස්සේ සීට් එකේ හිරවෙවී යද්දී ශෝර්ට මතක්වුනේ ඊයේ රෑ දැකපු හීනේ..ඒක හරිම ජරා හීනයක්.එහෙත් මේ කතාව අගසිට මුලටම දැනගන්න ඕනේ නිසා ඔබට මෙය කියන්න ඕනේ.ශෝර් හීනෙන් දැක්කේ ඔහුව පිච්චිලා මැරෙනවා...

ශෝර් පුන්චි කාලෙත් මේ වගේම හීනයක් දැක්කා ඔහුට මතකයි.එදා ශෝර්ට හොදටම උනගැනිලා තිබුන දවසක්.කොටින්ම සහලෝලා උන.ශෝර් ඇඳේ හැලවිගෙන හිටියේ බෙහෙත් පෙති දෙකක් බීපු නිසා..බෙහෙත් වල සැරටද කොහෙද ශෝර්ට ඇඳේම නින්ද යනවා. ඔහුගේ වයස එතකොට අවුරුදු 10ක් විතර ඇති.

ශෝර් අර කිව්ව හීනය දැක්කේ එදා...ඒ හීනය හරිම පිළිකුල්සාජනකයි.කොයිතරම් අප්‍රියද කියනවනම් ඒ හීනය ගැන ආයෙ මතක් කරන්නත් ශෝර්ට පිලිකුල්.

ශෝර්ගේ මුලු ඇගම ගිනිගන්නවා වගේ ඔහුට දැනුනා.හරියට ප්ලාස්ටික් බීම බටයකට ගිනිතිබ්බම ඒකේ ප්ලාස්ටික් දියවෙලා බිමට ඇදගෙන වැටෙනවා වගේ ශරීරයේ කෑල්ලෙන් කෑල්ල ගිනියම් වෙලා දියාරු වෙලා වගේ බිමට වැටෙනවා.ඔහු දැක්කේ හීනයක් වුනත් ඒ වේදනාව ඔහුට හොදට දැනුනා.ගින්දර ශරිරයේ අභයන්තරයට කිදාබහින ඇටිත් එය ශරීරයේ අවයව දියකරලා දාන හැටිත් ඔහුට දැනුනා.ඒ වේදනාව ඇගේ හැම රොම කූපයක් හරහාම ඔහුට දැඩිව දැනුනා.හරියට ඇත්තටම ගිනිගන්නවා වගේ.ඔහු එක් වරම කෑ ගහගෙන ඇහැරුනා.

ඔහුගේ මුලු ශරීරයම දහදියෙන් තෙත් වෙලා තිබුනා.සමහර හීන අවදිවුනාට පස්සේ මතකයේ තියෙන්නේ තත්පර ගානයි එහෙත් මේ හීනය එහෙම නැහැ.ඔහුට එදා වගේ ඒ හීනයේ හැම කොටසක්ම අදත් හොදට මතකයි....බස් එකේ අන්තීම සීට් එකේ හිදගෙන යන මේ මොහොතේ පවා ඔහුට එය හොදින්ම මතකයි.ඒ හීනය ගැන ශෝර් විටින් විට හිතුවා.හීනයක් වුනත් විටින් විට කල්පනා කරද්දි ඒක තව තවත් මතකයට කිදා බහිනවා.අමතක වෙන්නේ නැහැ .ශෝර්ට වුනෙත් ඒකමයි.ඔහු ඒ හීනය පසුගිය අවුරුදු පුරාම විවිධාකාර දේවල් එක්ක සංසන්දනය කලා.ඔහු වරක් හිතුවා ඔහු කලින් ආත්මෙක පිච්චිලා මැරෙන්න ඇති කියලා..මොකද කලින් ආත්මේ සිද්ද වුනු දේවල් තවත් ආත්ම ගානක් යනකන් මතකයට එනවා කියල ශෝර් අහලා තියෙනවා.ශෝර් සති අනත පුවත්පත් වල රස්තෝව් ගේ පාලන කාලේ මරා දාපු කැම්පස් කොල්ලො කෙල්ලෝ ගැන කියවද්දී ඔහු හැමවෙලේම හිතුවේ ඔහුවත් ආත්ම ගානකට කලින් ඒ විදියටම මරා දාන්න ඇති කියලා.මොකද රස්තෝව් කැම්පස් ශිෂයන්ව මැරුවේ ටයර් වල දාලා පුච්චලා.ශෝර්ගේ හීනයත් රස්තව්ගේ මිනිමැරුමුත් අතර සම්බන්දයක් තියෙන්නම ඕනේ ඔහු සිතුවා....

බස් එකේ අන්තීම පේලියේ හිදගෙන යන මේ මොහොතෙත් ශෝර්ගේ මනසේ වැඩකලේ ඒ හීනය.සාමාන්යෙන් ශෝර් බස් එකේ අන්තීම පේලියේ හිදගෙන යන්න අකමැති කෙනෙක්.ඒ වගේමයි ඉස්සරහාම පෙලියත්.මොකද හැප්පුනොත් වැඩියෙන්ම මිනිස්සු මැරෙන්නේ ඔය පේලි දෙකේ නිසා... ශෝර්ට මැරෙන්න බයක් තිබුනේ නැහැ.එහෙත් පිච්චිලා මැරෙන්න " අපෝ ඒක මහාම දුක්ඛිත මරනයක් "

මොකද අර හීනය නිසාම ඔහුට ඒක තුච්ච මරනයක් වුනා...

අපරාදේ අන්තිම සීට් එකට ආවේ.ශෝර් තමාටම කියාගත්තා.එහෙත් දැන් කරන්න දෙයක් නැහැ.අඩුම තරමින් බස් එකෙන් බහින එකත් අමාරු වැඩක්.බස් එකෙ ඒ තරමටම සෙනග පිරිලා.

ශෝර් දෙවියන්ව විශ්වාස කලකෙනෙක්.අර හීනය හිතට එන හැම වෙලාවකම වගේ ශෝර් දෙවියන්ට කන්නලව් කලා. බැගෑපත් වුනා "

අනේ දෙවියනේ මොන විදියට මැරුනත් කමක් නැහැ පිච්චිලානම් මැරෙන්න එපා " ඒ හීනය ශෝර්ගේ මනසට කොයිතරම් ලොකු බලපැමක් කලාද කියලා ඔබට දැන් වැටහෙනවා ඇති.

පෙට්ටි බස් එක අවාන් හන්දියෙන් හරවා සේතුන් වලට දැම්මා.තව ටික දුරයි ශෝර් ජනේල් කවුලුවෙන් ඉවත බලන ගමන් මිමිනුවා...බස් එකේ සෙනග පිරිලා නිසා බස් එක ඇතුලේ රස්නෙයි.ශෝර් ඔහුගේ කබාය මදක් ලිහිල් කලා ..ලිහිල් කරන ගමන් ඔහු ටිකක් එහාට මෙහාට වෙලා පස්සට වෙන්න හිදගත්තා... එක්වරම සිරිල්ගේ පයට යමක් ගැවෙනු ඔහුට දැනුනා.

පිටු පස්සේ සීට් එක යට මොකක්ම හරි තියෙනවා...මොකක් වෙන්න ඇත්ද ශෝර් කල්පනා කලා.ගැස් ටැංකිය.ඔව් ගැස් ටැංකියම වෙන්න ඕනේ..මොකද පෙට්ටි බස් වල ඩිකියක් නැතිනිසා ගැස් ටැංකිය තියෙන්නේ පිටුපස්සම පේලියේ සීට් එක යට.

හිදගෙන ඉන්න සීට් එක යට ගැස් ටැංකියක් තියෙන එකනම් ඒ තරම් හොද දෙයක් නෙමෙයි... ගැස් කියන්නේ ගින්දර... ඔහු වට පිට බැලුවේ අඩුම තරමින් මොකක් හරි වුනොත් පැන ගන්නවත් ක්‍රමයක් තියෙනවද කියලා බලන්න.... එහෙත් වැඩක් නැහැ.එක දෝරකින් මේ හිරවෙලා ඉන්න සේරම බැහැගන්න හැදුවොත් ඒකටත් විනාඩි ගානක් යයි...

" අනේ දෙවියනේ .. මොනවා වෙලා මැරුනත් කමක් නැහැ ගිනි අරගෙනනම් මැරෙන්න එපා " ඔහු හීන් සීරුවේ අර ඔහුගේ සුපුරුදු වචන පේලියම මිමිනුවා...

ඔහු ජනේල් තිරය අස්සේන් එලියට එබිලා බැලුවා.. " තව ටික දුරයි .... " ඔහුගේ හිත ටිකක් සැහැල්ලු වුනේ බස් එක සේතුන් හන්දිය පහුකරපු නිසා..තව විනාඩි 10කින් මට බහින්න පුලුවන්...ආයෙත් මේ මගුල් පෙට්ටි බස්වල එන්නම හොද නැහැ.ඔහු හිතුවා.

බස් එක එක හෝල්ට් එකක නැවැත්තුවා... බස් එකේ ඇතුලේ හිටිය ගැහැනු කෙනෙක් ඩ්‍රයිවර්ට ඩ්‍රාම් සීයක් දීලා බහින්න ඇදුවත් දොර ඇරෙන්නේ නැහැ.ඇය කීහිප වාරයක්ම දොර හරින්න හැදුවත් එය ව්‍යර්ථ වුනා.බස් එක ඇතුලේ හිටිය තවත් මිනිස්සු දෙන්නෙක් දොර හරින්න හැදුවා එහෙත් බැහැ.මේ බස් වල දොරවල් තිබුනේ හරහට හරින්න පුලුවන් විදියට ...සමහර වෙලාවට ලොක් එක හිර වෙනවා එහෙම වුනාම හරින එක ලේසි නැහැ.

ඩ්‍රයිවර් ඉස්සරහා සීට් එකෙන් බැහැලා ගිහින් දොර හරින්න බලුවා..එහෙත් ඒකත් හරි ගියේ නැහැ..ඔහු ඩ්‍රයිවර් සීට් එක යට තිබුනු යකඩකූරක් අරගෙන ඒක අර ලොක් එක අස්සට දාලා ඇද්දා... එහෙත් ඒකත් හරි ගියේ නැහැ....

ශෝර් මේ හැමදේම පිටුපස්සේ සීට් එකට වෙලා බලාගෙන හිටියා.බස් එකේ දොර එකපාරම ලොක් වීම.අන්තිම සීට් එක යට තියෙන ගෑස් ටැංකිය..ඔහුට හීන් දාඩිය දැම්මා....නිකන් හරි පිටුපස්සෙන් වහානයක් ඇවිත් මේ බස් එකේ වැදුනොත් අනිවාර්යෙන්ම ගෑස් ටැංකියේ ලොක් එක හැරෙනවා.. ඒ කම්පනයටම ගෑස් එක පුපුරනවා..එහෙම වුනොත් බස් එකේ ඉන්න හැමෝවම ගිනි බත් වෙලා යයි... ඩ්‍රයිවර් හැරෙන්න හැමෝවම පිච්චිලාම මැරෙනවා...

ශෝර් ඔහුගේ කොම්පුටර් බෑගය තදකරගෙන නැගිටින්න උත්සහා කලා..එහෙත් පිටුපස්සේ සීට් එකෙන් නැගිටින්න තියා හෙල්ලෙන්නවත් අමාරුයි වගේ..ඔහුට එක පාරම පිටුපස්සේන් සද්දයක් ඇහුනා... මදක් එහාට හැලවෙලා ඔහු ජනේලයෙන් පිටුපස බැලුවා.... ඔහු දැක්කේ හරියටම බස් එකට අඩි කිහිපයක් පිටුපස්සෙන් හැප්පුනු කාර් දෙකක්...හැප්පීම නිසා කාර් දෙක පාරේ හරි මැදට තල්ලු වෙලා ගිහින්..ටික වෙලාවකින් ඔහු දැක්කා ට්‍රක් එකක් ඒ කාර්දෙක පැත්තට වේගයෙන් එනවා... කාර් දෙකට හැප්පෙන්න ගිය ට්‍රක් එක ඩ්‍රයිවර් වම් පැත්තට කැපුවා.... ඒක කඩාගෙන ආවේ පාරේ නවත්තලා තිබුනු බස් එක පැත්තට... හරියටම ශෝර් හිදගෙන හිටිය පිටුපස්ස සීට් එකට...

" අනේ දෙවියනේ .... කොහොම මැරුනත් කමක් නැහැ පිච්චිලානම් මැරෙන්න එපා " ශෝර් අවසන් වතාවටත් දෙවියන් යැද්දා..

---

පසුවදන - මේ කතාවෙන් කොටසක් දවසක් අර්මේනියාවෙදී සිදු වුනු සත්‍ය සිද්දියක්..සොවියට් රටවල් වල තවමත් මගී ප්‍රවහනයට භාවිතා කරන්නේ ලොකු වෑන් වර්ග.පෙට්ටි බස් කියලා කියන්නේ ඒවා..ඉතින් දවස මම ඔය වගේ පෙට්ටි බස් එකක හිදගෙන ඉන්නවා අන්තිම සීට් එකේ...බස් නැවතුමකදී බස් එක නවත්වනවා...මිනිස්සු බස් එකෙන් බහින්න උත්සහා කරත් බහින්න බැහැ මොකද බස් එකේ දොර හැරෙන්නේ නැහැ.කොහොමහරි ඩ්‍රයිවරුත් බැහැලා ගිහින් දොර හරින්න බැලුවා එහෙත් බැහැ...මම පිටුපස්ස සීට් එකට වෙලා මේ සිද්ධිය බලාගෙන හිටියා..කතාවේ කියනවා වගේම ගෑස් ටැංකිය තියෙන්නෙත් මේ බස් වල අන්තිම සීට් එක යට.ඉතින් මේ සිදුවීම් දාමය එකතු කරලා මම " දෙවියන් නොතැකූ හීනය " කතාව නිර්මානය කරනවා..

# ලඟින්ම ඉන්න අමුතු මිනිස්සු

කාලයත් එක්ක හැමදේම වෙනස් වෙනවා. ලියෝනුත් එහෙමයි....

ලියෝන් අපේ පවුලේ හොදම යහලුවෙක් වෙලා හිටියා...අපි අතර තිබුනේ යහලුකමටත් වඩා සහෝදර බැදීමක්....මම ලියෝන්ව පිලිගත්තේ මගේම සහෝදරයෙක් වගේ.

ලියෝන් මුලින්ම යහලුවෙක් වගේ අපේ පවුලට එකතු වුනත් පසුව ඔහු අපේ පවුලේ කෙනෙකු බවට පත්වුනා.අපි ඔහුගේ පවුලේ අයව හදුනා ගත්තා...ඔහුගේ මව අපත් සමග බොහෝ හිතවත් කෙනෙක් බවට පත් වුනා....මගේ බිරිදගේ අම්මා නැතිවෙන්නේ එය පුංචි කාලෙමයි...ඒ නිසාම මගේ බිරිද ලියෝන්ගේ මවට සැලකුවේ එයාගෙම අම්ම වගේ...

එහෙත් ලියෝන්ගේ මව ලියුකේමියා රෝගයෙන් අකාලයේ මියගියා...ඇයගේ අවසන් මොහොතෙත් මගේ බිරිද හිටියේ ඇය ලග.

අම්මගේ මරනින් පස්සේ ලියොන් අපේ පවුලට තවත් කිට්ටු වුනා..ලියොන්ට දරුවන් දෙන්නෙක් හිටියා..ඒ දරුවන්ටත් අපි අපේම දරුවන්ට වගේ ආදරය කලා...සමහරක් දවස් වල අපි සති අන්තය ගත කලෙත් ලියෝන්ලගේ ගෙදර...ඔහුගේ බිරිද ස්කාර්ලට්ට මම සැලකුවේ මගේම සහෝදරියකට වගේ...මගේ බිරිදටත් ලියෝන් එහෙම සලකාවී යැයි මා විශ්වාස කලා...

එහෙත් මේ හැම දෙයක්ම එකම එක සිද්දියක් නිසා වෙනස් වුනා..

ලියෝන් සහා එයාගේ පවුලේ අය ජීවත් වුනේ ලුසාකුන් කියන ගමක ..මමත් බිරිදත් ජීවත් වුනේ නගරයේ...ලියොන්ගේ රස්සාව නැතිවුනාම එයා රස්සාවක් හොයාගෙන නගරයට ආවා...මමත් මගේ බිරිදත් අපේ ගෙදර ඔහුට නවාතැන් දුන්නා..

ලියෝන්ට නගරයේ බැංකුවක රස්සාවක් ලැබුනා...ඒ නිසා ඔහුට ටික කාලයකට අපේ නිවසේ නැවතිලා ඉන්නට සිදුවුනා.

ලියෝන් අපේ නිවසේ සිටි මුල් දවස් කිහිපය බොහෝම සතුටින් ගෙවිලා ගියා.එහෙත් ටික දවසකට පස්සේ ඔහු නිවසට එන්න ප්‍රමාද වෙන්න ගත්තා...සමහරක් වෙලාවට නිවසට එන්න මධයම රාත්‍රියත් පහුවෙනවා... ඔහු කිව්වේ ඔෆීස් එකේ වැඩ නිසා ඔහු ප්‍රමාද වෙනවා කියලා..අපිත් ඒක පිලිගත්තා..

එහෙත් ඔහුගේ හැසිරීම වෙනස් වෙද්දී මගේ බිරිඳ ඔහුව සැක කරන්න පටන් ගත්තා..

" ලියෝන්ට වෙන සම්බන්ධයක් තියෙනවා..එයා හැමදාමර ගෙදර එන්න රෑවෙන්නේ ඒ කෙල්ලත් එක්ක ඉන්න නිසා.. " මගේ බිරිඳ දවසක් මට කිව්වා..

'ඇයි ඔයා එහෙම කියන්නේ " මම ඇහැව්වා..

"ඔයාට පේන්නේ නැද්ද... එයා හැමදාමත් ගෙදර එන්නේ රෑ 12ත් පහුවෙලා..මෙහේ කිසිම ඔෆිස් එකක් රෑ 12 වෙනකන් හැරලා තියන්නේ නැහැ....හිතින් ඔයා හිතනවද එයා ඉන්නේ ඔෆිස් එකේ කියලා "

" හරි එහෙත් ඒක අපිට අදාල නැහැනේ ....ඒක එයාගේ පෞද්ගලික ජීවිතයේ ප්‍රශ්නයක් " මම ඇයට කිව්වා..

"එහෙම වෙන්නේ කොහොමද ...එතකොට ස්කාර්ලට්ට මොකද වෙන්නේ..දරුවන් දෙන්නට මොකද වෙන්නේ...ඒ ගැනී ගමේ දුක් විදිනවා...මේ මනුස්සයා නගරයට ඇවිත් වෙන කෙනෙක්ට ආදරය කරනවා.... ස්කාර්ලට් එක්ක මම ඊයේ කතා කලා..එයා දරුවන් එක්ක එයාගේ තාත්තගේ ගෙදර ඉන්නේ...ඒ මිනිස්සුයි එ දරුවන්ට කන්න බොන්න දෙන්නේ..ලියෝන් නෙමේ..ඉතින් එහෙම එකේ ඔයා කොහොමද කියන්නේ මේක එයාගේ පුද්ගලික ප්‍රශ්නයක් කියලා... "

ගැහැනුන්ට මොකක් හරි සැකයක් ඇතිවුනොත් එයාලා ඒක හරියටම හොයා ගන්නකන් අත හරින්නේ නැහැ.මම හොදටම දැනගෙන හිටියා මගේ බිරිඳ මේකේ අවසානය වෙනකන්ම යන වීත්තිය..එහෙත් මම දැනගෙන නොසිටියේ මේකේ අවසානය කොහොම වේවිද කියන එක විතරයි.

දවස් කිහිපයක් ගෙවිලා ගියා.දවසක් මම වැඩ හැරිලා ගෙදරට ආව හැටියෙම මගේ බිරිඳ ලියෝන්ට පලු යන්න දෙස් තියන්න ගත්තා..

" මම කිව්වා නේද එයාට සම්බන්ධයක් තියෙනවා කියලා...ඒක හරියටම හරි...ඊයේ මම එයාගේ ඔෆිස් එකට කෝල් කලා..මුරකාරයා කිව්ව රෑ 7න් පස්සේ ඔෆිස් එකේ කාටවත් රෑදෙන්න අවසර නැහැලු. "

" මම ඊයෙ ස්කාර්ලට් එක්කත් කතා කලා..එයා ගැන දැන් ලියෝන් හොයන්නේ නැහැලු...අඩුම තරමින් එයා කෝල් කලාමත් කට් කරනවලු... එයාටත් සැකයි ලියෝන්ට වෙන සම්බන්දයක් තියෙනවද කියලා..මම එහෙත් මේවා කියන්න ගියේ නැහැ...පව් ඒ ගැනී... නිකන් කලබල වෙයි මේවා කියන්න ගියෝත් .. " ඇය මට කිව්වා...

මම ඉවෙන් වගේ දැනගත්තා මේ ප්‍රශ්න ඉවර වෙන්නේ ලියෝන්ගෙනුත් අපේත් සම්බන්ධකම් නැතිවීමෙන් විත්තිය.. මොකද

දැන් මගේ බිරිඳ එයාගේ සැකේ තහවුරු කරගෙන ඉවරයි.... ගැහැනියෙක් ඇයට ඇතිවුනු සැකයක් හරියටම තහවුරු කරගත්තට පස්සේ ඒකේ ප්‍රතිපලය ගොඩක් භයානකයි...

මේ සිද්දියෙන් පස්සෙත් ලියෝන් වෙනස් වුනේ නැහැ..ඔහුගේ පුරුදු ඒ විදියටම තිබුනා..එහෙත් ගෙදරට ආපු වෙලාවේ හිදන් ඔහු හොදටම රගපාන්න ගත්තා..තමන්ගේ වැඩ රාජකාරි ගැනත් ...තමන් හමුවන ව්‍යාපාරිකයින් ගැනත් කයිවාරු දොඩවන්න ගත්තා...

" එයා කියනවා ..අපි මෝඩයෝ වගේ අහගෙන ඉන්නවා..එහෙත් එයා දන්නේ නැහැ අපි සේරම කෙරුවාවල් දන්නවා කියලා " මගේ බිරිදට වැඩියෙන්ම තරහා එයාගේ සම්බන්ධය ගැන නෙමෙයි..ඒක වහන් කරන්න අපිට කියන බොරු කයිවාරුව ගැන...

" මම මේක ඉවර කරනවා.... මම හෙට කියනවා ලියෝන්ට ආයේ අපේ ගෙදර එන්න එපා කියලා... " මගේ බිරිද එයාගේ අවසන් තින්දුව ගැන කිව්වා...

එදාට පහුවෙනිදම එයා ලියෝන්ට කෝල් කරලා ආයෙත් අපේ ගෙදරට එන්න එපා කියලා කිව්වා..හැමදේම අවසන් වුනා...අවුරුදු ගානක් මමත් ලියෝනුත් අතර තිබුන සම්බන්ධය පවා අවසන් වේවී....මට පුදුමාකාර දුකක් දැනුනා..මගේ බිරිදට එය ලේසි වෙන්න ඇති ..එහෙත් මට ලියෝන්ව අයින් කරලා දාන්න ඒ තරම් ලේසී නැහැ...මම ඒ තරමටම ඔහුට හිතවත් ...

මේ සිද්දිය නිසාම මට බිරිද ගැන තරහක් ආවා.... එදා රෑ මම එයත් එක්ක හොදටම රංඩු වුනා...මට ඕනේ වුනේ එයාට පුලුවන් තරම් රිදවන්න...එයා කලේ වැරැද්දක් කියලා එයාට වැටහෙනකන්ම...

" මම දන්නේ නැහැ ඔයා තව කී දෙනෙක්ව මගේ ජීවිතෙන් අහින් කරාවිද කියලා... " මා ඇයට බැන වැදුනා..

ඇය ඇඩුවා..

" ඔයාට ඔයාගේ ගැහැනිට මොනව වුනත් කමක් නැහැ.. ලියෝන් මට මොනව කලත් ඔයාට කමක් නැහැ.. " ඇය අඩන ගමන් කිව්වා...

ඒ කතාවත් එක්කම මගේ හිත මොහොතකට සන්සුන් වුනා..එක්පාරම මගේ හිතට සැකයක් මතුවුනා..ඒ කතාවෙන් මගේ බිරිද අදහස් කලේ වෙනම දෙයක්.... එයා මට නොකියන මොකක් හරි දෙයක් තියෙනවා...

මම එයා ලගින් හිදගත්තා..

" කියන්න..මොකක්ද ඒ කතාවේ තේරුම... "

ඇය මා දිහා බැලුවා.... ඇයගේ ඇස් දෙකෙන් කදුලු කඩා වැටුනා..

" මම ඔයාට කිව්වනේ එයා ඉස්සර හිටිය ලියෝන් නෙමෙයි කියලා... එයා දැන් ගොඩක් වෙනස්...එයාට ඉස්සර මාව සහෝදරියක් වගේ පේන්න ඇති එහෙත් දැන් එහෙම නැහැ..දැන් එයාගේ හිතේ තියෙන්නේ වෙනම දෙයක් ..මට ඒක එයාගේ හැසිරීමෙන් තේරෙනවා....එයාට වෙන ගැහැනු කෙනෙක් එක්ක සම්බන්ධයක් තියෙන එක ඇත්ත...එහෙත් ඊටත් වඩා එයා මේ ගෙදර හිටියොත් අපේ පවුල් ජීවිතයට ප්‍රශ්නයක් වෙන්න පුලුවන් "

" ඒ කිව්වේ... ලියෝන් ඔයාට මොනවද කලේ " මම ඇහැව්වා..

" දවසක් මම ඇඳුම් මාරු කරමින් ඉන්නකොට එයා මගේ කාමරයට ආවා...එයාව මම බැනලා එලව ගත්තා..එහෙත් එයා ඒ වෙලාවේ හැසිරුනේ මම එයාගේ සහෝදරියක් විදියට නෙමෙයි... මට ඒ සිද්දිය නිසාමයි ලියෝන්ව මේ ගෙදරින් යවන්න ඕනේ වුනේ.. " ඇය අඩමින් පැවසුවා...

---

පසුවදන - ඔබටත් මේ වගේ අත්දැකීම් ඇති..මිනිස්සුන්ව තේරුම් ගන්න හරිම අමාරුයි.මිනිස්සු හරි ඉක්මනට වෙනස් වෙනවා...අපි ලගින්ම ආශ්‍රය කරන අපි ගොඩක් ආදරය කරන අය වුනත්.

# කැඩපතෙන් දුටු දර්ශනය

මා මෙහි ලියන්නාවු දෙය විශ්වාස කිරීම හෝ නොකිරීම ඔබ සතුය.

මෙම සිද්ධිය සිදුවන විට මගේ බිරිද ස්නායු ආබාධයකින් දැඩි ලෙස ගිලන්ව රෝහල් ගත කොට තිබින.
මා අවංක පිරිමියෙක් නොවිමි.විවහායෙන් පසු අවුරුදු කිහිපයක් ගත වන තුරු මට සිටියේ ඇය පමනක් වුවද ඉන්පසුව කාන්තාවන් කිහිපදෙනෙකුම සමග මා ආශ්‍රයට වැටින.එහෙයින් මා අවංක නිර්මල ප්‍රේමයකින් යුක්තව බිරිදට පමනක් ආදරයෙන් බැදී සිටි ස්වාමි පුරුෂයෙකු ලෙස ඔබ සිතිය යුතු නැත.
මගේ බිරිදගේ ස්නායු රෝගය දරුනු වත්ම ඇයව රෝහල් ගත කෙරින..රෝහලේ මාස 3කපමන කාලයක් ඇයට නේවාසිකව ප්‍රතිකාර ගැනීමට සිදුවිය.හවස් භාගයේ කන්තෝරුව අවසන් වී ඇයව බැලීමට රෝහලට යාම හැරෙන්නට ඊටත් වඩා වැඩි දෙයක් මා කලේ නැත....හවස් වරුවේ ඇයට අවශය කරන ආහාර පානද රැගෙන රෝහලට යන මා රෝහලෙන් කෙලින්ම තැබැරුමටත් ඉන්පසුව ලින්ඩාවත් මුන ගැසීමටත් යාම පුරුද්දක් කොට සිටියෙමි.
( මා චපල පිරිමියෙකු බව මා ඔබට කීවෙමි...ලින්ඩා යනු මගේ බිරිද රෝහල් ගත කොට තිබ්නු මාස 3ක කෙටි කාලය ඇතුලත මා සමග ආශ්‍රයට වැටුනු කාන්තාවකි .. )

දිනක් මා රෝහලට යද්දී මගේ බිරිද ඇයගේ වාට්ටුවේ නොසිටියාය....මා ඒ පිලිබදව හෙදියගෙන් විමසු කල ඇය ප්‍රකාශ කලේ මගේ බිරිදව හදිසි සෙල කර්මයක් සදහා වෙනත් අංශයකට මාරු කොට ඇති බවයි.... මා ඇයව බැලීමට අවසර ඉල්ලුවත් සෙල කර්මය අවසන් වන තුරු වෛද්‍යවරුන් මට ඇයව බැලීමට අවසර දුන්නේ නැත.
මා ලින්ඩාට ඇමතුමක් ගත්තෙමි.ඇයගේ කුලී නිවස තිබුනේ රෝහලට යාබදවය..එහෙයින් එහි ගොස් තවත් පැය කිහිපයකින් යලිත් රෝහලට එන්නට සිතු මම ලින්ඩාටත් ඒ බව දන්වා ඇයගේ නිවස කරා පිටත් වුනෙමි.

ලින්ඩාගේ නිවසට ගිය මා ඇයත් සමග යහන් ගත් වුනිමි... පැයක් පමන කාලයක් ඇයගේ ඇදෙහිම වැතිර සිටි මම රෝහලට යාමට ඇති නිසා නැගිට ගතිමි.ලින්ඩා මට එහා පසින් ඇදෙහි නිදමින් සිටියාය..ඇයට හොදටම නින්ද ගොස් ඇත.මුහුන සෝදා යලිත් පිලියෙල විය යුතු නිසා මා ඇයගේ නාන කාමරයට ගියෙමි.මෙම

නාන කාමරයේ එක් පැත්තකින් විශාල කන්නාඩියක් විය.එහින් මුහුන බැලූ මා මුහුන සෝදාගෙන ...කොන්ඩය පීරීමට සැරසුනෙමි...එක් වරම දර්පනය තුලින් මගේ පිටුපස සිටගෙන සිටින කෙනෙකුගේ ජායාවක් දුටුවෙන් මගේ මුලු ගතම සීතල වී ගියේය..මා අත තිබුනු පනාව නිකන්ම අතින් ගිලිහි බිමට වැටින...මා පිටුපස හැරි නොබැලුවෙමි.මෙම නිවසේහි ලින්ඩාත් මමත් හැරෙන්නට වෙන කෙනෙකු සිටිය නොහැක. මා දර්පනය තුලින් දුටු ජායාව දෙස ඇස්පිය නොගහා මොහොතකට බලා සිටින්නට ඇත...

මා එය හදුනා ගතිමි...ඒ මගේ බිරිදයි..ඇය හරියටම මට පිටුපසින් හිටගෙන සිටියාය.ඇයගේ දෙනෙතෙහි හිතාමත් දුක්බර වූ බැල්මක් විය.ඇයගේ මුහුන සුදුමැලී වී තිබින.... ඇය කිසිත් නොකීවාය.. එහෙත් ඇයගේ හදවතේ දුකින් ගිලී ඇත..එය ඇයගේ දෙනෙතින් පරාවර්ථනය විය....මා හට ඇය දෙස බැලිය නොහැක...ඇය දෙස බැලීමට තරම් ශක්තියක් මට නොවීය...මා සිටින්නේ වෙනත් ගැහැනියකගේ නිවසකය..වෙනත් ගැහැනියකගේ නාන කාමරයක් තුලය.
ඒ ජායාව පැවතියේ තත්පර කිහිපයක් පමනකි..එක් වරම එය අතුරුදහන් ව ගියාය.

මා හිතාමත් ඉක්මනින් නාන කාමරයෙන් එලියට දිව්වෙමි....ලින්ඩාගේ කාමරයට එන විට මගේ හදවත හොදටම ගැහෙමින් තිබින.... මා බීරාන්විතව සීටිනු ඇය දුටුවේ නැත..එක් අතකින් එය හොදය..

එක් වරම මගේ දුරකතනය නාද විය...මා එයට පිලිතුරු දුන්නෙමි..
" මිස්ට ඩයිලි "
" ඔව් "
" මම වර්ෂෝව් රෝහලෙන් කතා කරන්නේ...බොහොම කනගාටුයි කියන්න....ඔබේ බිරිද මීට සුලු මොහොතකට පෙර මිය ගියා... "
මා පිලිතුරු නොදුන්නෙමි.... දුරකථනය විසන්දි කර දැමුවෙමි...
කුමක් කිවයුතු දැයි මා නොදනිමි...මීට සුළු මොහොතකට පෙර මා ඇයව දුටුවෙමි....
ඇයගේ මුහුනෙන් දුටු වේදනාව මට අදටත් අමතක කල නොහැක...මට තවත් ගැහැනුන් සමග සම්බන්දකම් තිබෙන බව ඇය දැනගෙන සිටියත් ඇය මට කිසිම දිනෙක ඒ ගැන කිසිවක් කීවේ නැත...ඇය මේ තරමටම ඉවසාගෙන සිටින්නේ කෙසේදැයි මා විටෙක පුදුමයට පත් විය..එහෙත් ඒ වේදනාබර මුහුන තුලින් මට එක දෙයක් පැහැදිලි විය.මුවින් නොකීවත් මගේ හැසීරීම නිසා ඇය අනේකවත් පීඩා විදින්නට ඇත..දුක් විදින්නට ඇත.ඇය රෝහලේ සිටි කාලය තුලදීත් ඇයව මගහැරීම ගැන ඇයට දැඩි වේදනාවක්

දැනෙන්නට ඇත. ඇයගේ මුහුනෙන් ජනිත වූයේ ඒ වේදනාව යැයි මා සිතමි.... මා මට කෙසේ නම් සමාව දෙන්නද ?

---

පසුවදන : ගැහැනියකගේ ආදරය ඔබට කිසිම දිනෙක තේරුම් ගැනීමට නොහැකි වනු ඇත.එය පුදුමාකාරය.ආදරය වෙනුවෙන් ඇය කරන කැප කිරීම් වල අසීමිත වූ ශක්තියක් ගැබ් ව ඇත....

# බිලියනපතියා

ෆිඩෙල් ,ෆින්ලන්තයේ සිටි බිලියනපතියෙකි.
ඔහු කුඩා කල සිටම බිලියන පතියෙකු වීමට සිහින මැවීය..එහෙත් ඔහු ඉපදුනේ හිතාමත් දිලිදු මට්ටමේ පවුලක බැවින් එය ලේසි පහසු සිහිනයක් නොවීය.

ඔහුගේ මුලු පවුලම දරිද්‍රතාවයෙන් පෙලුනු පවුලකි.ඔහුගේ පියා කුලී වැඩ කල අතර මව රෙදි සෝදන්නියක ලෙස සේවය කලාය.මෙවැනි පවුල් පසුබිමක ඉපදුනු කෙනෙකුට හොද සල්ලි කාරයෙකු වීම සිහිනයක්ම පමනකි.

පාසැල් කාලයේ සිටම ඔහු බොක්සින් ක්‍රීඩාව හැදැරීය... එය දිනපතාම පුරුදු පුහුනු කලේය..කල් යත්ම ඔහු බොක්සින් ක්‍රීඩාවේ නිපුනයෙකු බවට පත් විය.පාසැල් කාලයේදීම ඔහු ෆින්ලන්තය නියෝජනය කරමින් ශූරතාවය දිනාගත්තේය..මේ නිසාම ඔහුට යුරෝපයේ බොක්සින් ශූරතා තරගාවලියට ඉදිරිපත්වීමට හැකියාව ලැබින...ඔහු එහිනුත් ජයග්‍රහනය කලේය.යුරෝපයේ බොක්සින් ශූරතාව දිනාගත්තේය....එහින් ඔහුට ශූරතාවයත් සමග යුරෝ මිලියනයක පමන මුදල් කන්දරාවක් ලැබින...

ෆිඩෙල් එම තැගී මුදල දෙවන ලෝක යුද්දයෙන් පසුව යුරෝපයේ ජනප්‍රියතම වයාපාරය වුනු මෝටර් රථ වයාපාර වල ආයෝජනය කලේය...

ඔහුගේ පාසැල් වාරය අවසන් විය....ඔහුට පාසැලෙන් නික්ම වැඩිදුරටත් ඉගෙන ගැනීමට අවකාශ ලැබුනත් ඔහු එයට අකමැති විය. ඒ වෙනුවට ඔහු වයාපාර ක්ෂේස්ත්‍රය තෝරා ගන්නා ලදී..මේ කාලය වන විට ඔහු මුදල් ආයෝජනය කල ව්‍යාපාර අති සාර්ථක ලාභ ලැබීය...ඔහු බොක්සින් ක්‍රීඩාවෙන් හම්බුකලාක් මෙන් සිය ගුනයක් වැඩියෙන් ආයෝජන ව්‍යාපාර වලින් හම්බු කර ගත්හ...එම මුදල් යලි යලිත් ආයෝජනය කරමින් ඔහු එය තවත් වැඩි දියුනු කරගත්තේය..

මේ වන විට ෆිදෙල් වයස අවුරුදු 25ක තරුනයෙකි..ඔහු ෆින්ලන්තයේම මාරී සිමෝනා සමග විවහා විය... ෆිදෙල් එක සිහිනයක් ඉටුකරගත්තේය.... ඔහු මේ වන විටත් කෝටිපතියෙකු වී සිටියේය. ඔහුගේ කුඩා කල සිහිනයක් වූ ධනපතියෙකු වීමේ සීහීනය ඔහු මේ වනවිටත් අවසන් කොට ඇත.

ඔහුට තවත් සිහිනයක් තිබ්න...ඒ පියෙකු වීමටයි... ඔහුට දරුවන් අවශය විය..තමන්ගේ ව්‍යාපාර අනාගතයේදි රැක බලාගැනීමට ඔහුගේම ලෙයින් උපදින දරු පරපුරක් අවශයය... ඔහු එසේ සීතීය...එය ඔහුට ආඩම්බරයකි..තමා වැනි ධනපතියෙකු දරුවන් සිටිය යුතුමය..නැත්නම් මේ හම්බකරන ධනයෙන් වැඩක් නැත...

මාරී සිමෝනා ගැබ් ගත්තේය..එදින ෆිදෙල් අප්‍රමාන ලෙස සතුටට පත් විය..එහෙත් ඒ සතුටට වැඩි කලක් යා නොහැකි විය...ඇයගේ දරු ගැබ ගබ්සා විය.

ගබ්සා වූ දරු ගැබ නිසාවෙන් ෆිදෙලුත් , මාරී සිමෝනාත් මානසිකව ඇද වැටින.එහෙත් ෆිදෙල් ශක්තිමත් මිනිසෙකු...ඔහු තවත් දරුවෙක් වෙනුවෙන් උත්සහා කලේය..

එහෙත් එය නිශ්පල විය..මාරි සිමෝනාට දාව කිසිම දිනෙක ෆිදෙල්ට දරුවන් නොලැබෙන බව ඔහු දැනගත්තේය..

ඔහු මාරි සිමෝනාව දික්කසාද කොට වෙනත් තරුනියක්ව කසාද බැන්දාය.ඇයටද දරුවන් ලැබුනේ නැත...ඒ නිසාවෙන් ඔහුන් දරුවෙක් හදාගන්නට ගත්තේය...

එහෙත් තමාගේම දරුවෙකු හැදීමේ සිහිනයෙන් අත්මිදීමට ෆිදෙල්ට නොහැක...හදාගන්නට ගත් දරුවා තමාගේ ලෙයින් උපන් දරුවෙකු නොවන බව ඔහුට නිතරම සිතින...ඔහුගේ සිත මේ වෙනුවෙන් ඔහුට දෝස් කීහ...

කාලයක් ගත වෙද්දී ඔහුන් හදාගන්නට ගත් දරුව තරුන වියට පත් විය.තරුන වියේදීම ඔහු මත්ද්‍රවය වලට ඇබ්බැයි විය... ඔහු ෆිදෙල් මෙතෙක් රැකගෙන ආ කීරිතී නාමය සම්පූර්නයෙන්ම විනාශ කර දැමීය ..මේ නිසාම ඔහු තමාගේ දරුවෙකු නොව හදාගන්නට ගත් අවජාතකයෙකු " බව ඔහුට මාධය ඉදිරියේම ප්‍රකාශ කිරීමට සිදුවිය.

අවුරුදු කිහිපයක්ම ගෙවී ගියේය... ෆිදෙල්ට 50ස් විය සපිරෙද්දී ඔහු යුරෝපයේ සිටින ධනවත්ම පුද්ගලයා බවට පත් විය...ලෝකයේ බිලියන පතියන්ගේ ලැයිස්තුවේ ඔහුගේ නමද සදහන් විය...

- අදත් ඔබට ෆිදෙල්ව දැකිය හැක... ඔහු බිලියනපතියෙකි..හොද සල්ලි කාරයෙකි...එහෙත් ඔහුට පවුලක් නැත.ඔහු විවහා වු සියල්ලන්වම ඔහු දික්කසාද කොට තිබිනි... ඔහු හදාගන්නට ගත් දරුවත් හිරේ විලංගුවේ වැටී තිබිනි... එහෙත් ෆිදෙල් තවමත් බිලියනපතියෙකි.

---

පසුවදන - මේ කතාව අන්ඩරදෙමලයක් යැයි ඔබ සිතාවී...එහෙත් මෙය කියවූ ඔබට කිවයුතු දෙයක් ඇත... අපි හැමෝගේම ජීවිත තුල පුදුමාකාර වූ අසමානතාවයන් ඇත. ඔබ දකින සල්ලි කාරයන් තුල ෆිදෙල් වැනි අය අනන්තවත් ඇත ... ඔබ දකින්නේ ඔහුන්ට ඇති මිල මුදල් සහා වත්කම් පමනකි..එහෙත් ඒ ජීවිත තුල හිඩැස් බොහෝමයකි... ඒ හීඩැස් කිසිම දිනෙක පිරවිය හැකි ඒවා නොවෙයි...ඒ දුකත් සමගම ධනපතියන් ලෙස කාලයක් ලෝකයේ රජකරන ඔහුන් අවසානයේදි ඉතිරිවන දැඩි සංවේගයෙන් යුතුව ජීවිතයෙන් සමුගෙන යයි...

# හලාබ්යාන් භූමි කම්පාව

“ ඉපදෙන හැම කෙනාම ඉපදෙන්නේ මොකක් හරි දෙයක් ඉවරකරලා යන්න.දෙය්යෝ එහෙම තමයි හැම කෙනාවම මවන්නේ,දැනගෙන හෝ නොදැන එන හැම කෙනාම ඒ කාර්ය නිමකරලමයි යන්නේ ..” අරාරත් තමන්ටම මුමුනා ගත්තෙය.
වෙලාව රාත්‍රි 2ක අවසන්ව ඇත, ඔහුගේ බිරිදගේ සිහින් ගෙරවිලි හඩ ඔහුගේ කනට යාන්තමට ඇසෙයි,රාත්‍රියෙන් හරි අඩක් ගෙවී ගොස් ඇතත් ඔහුට තවමත් නින්දක් නැත.

අරාරත්ගේ නිවස පිහිටියේ හලාබයන් පාරෙම ඇති අසුර්මාන් විදීය නම්වූ කෙටි මාවතකය.ඒ මාවතේ තිබුනේ මහල් නිවාස පමනි. මාවත දිගේ එක පේළියකට පිහිටියා වූ එම නිවෙස් තත්ට්වු හතරකට පමනක් සීමා වූවා විය. තට්ටු හතරක් පමනක් නිසාම ඒවාට විදුලි සෝපානයක් නොතිබ්න.අරාරාත්ගේ නිවස පිහිටියේ මෙහි හතර වෙනි තට්ටුවේය.

අරාරත් දිගු හැනුමක් හැර ඔහුගේ බිරිදගේ පැත්තට හැලවිය.ඔහු දෙනෙත් වසාගෙන නිදියගන්නට තැත් කලේය.යාන්ත්මට නින්දක් ඔහු කරා පැමිනෙද්දීම ඔහුට කිසියම් අමුත්තක් දැනින.

ඔහුගේ ඇද සෙලවෙන ආකාරයක් ඔහුට දැනින.එය කිසිවෙකු විසින් පිටතින් එය සොලවන ආකාරයකි.බියට පත්වු ඔහු එක් වරම ඇදෙන් බිමට පැන්නේය.
ඔහුගේ හඩ ඇසුනු ඔහුගේ බිරිද මේරිද එක්වරම කෑගසාගෙන අනිත් පැත්තෙන් කඩාපැන්නේය.දෙදෙනාම මොහොතකට බීරාන්විතව බලාගෙන සිටියහ.කිසිදු හැලහොල්මනක් නැත.
" මොකක්ද මනුස්සයෝ වෙලා තියෙන්නේ.බිරිද ඔහුගේ ඇගට කඩා පැන්නාය.නිදාගන්න දෙන්නේ නැද්ද ? බයවෙලා පිස්සු නටන්නේ බිමට වැටි තිබුනු පෙරෝනය ඇදගත් ඇය යලිත් ඇදට ගොඩවිය.
" ඒක තමා මමත් නිකන් බයවෙලා, " කියු අරාරත් යලිත් ඇදට ගොඩවිය.තත්පර කිහිපයක් නිසොල්මනේ උඩුබැලි අතර බලා සිටි ඔහු " මටත් පිස්සු නිකන් බයවෙලා " කියමින් බිරිදගේ පැත්තට හැරුනේ යලිත් නිදාගන්නටය.

එක්වරම වේගයෙන් ඔහුගේ ඇද යලිත් පැද්දෙන්නට විය.ඇද ඇත්තටම සෙලවෙනවාදැයි බැලීමට ඔහු වටපිට බැලිය.එක් වරම මේසය මත තිබුනු විදුරු මල් පෝච්චිය බිමට කඩා වැටින.මෙයත් සමගම ඔහු යලිත් ඇදෙන් බිමට පැන්නේය.ඔහුගෙ බිරිදත් භීරාන්විතව ඇදෙන් පැන විත් ඔහුව වැලද ගත්තාය..

"භූමිකම්පාවක්.... අරාරත්,භූමි කම්පාවක් " ඇය ඔහුගේ තුරුලට වී බියෙන් වෙවුලමින් පැවසුවාය.මෙය නම් එසේ මෙසෙ භූමිකම්පාවක් විය නොහැක.සීලිමේ එල්ලා ඇති විදුලි පහන් සර සර ගාමින් වේගයෙන් දෙපැත්තට පැද්දෙයි,සීලීමේ සිමෙන්ති ටික වෙව්ලාවකින් පුපුරා කඩතෝලු වන සැටි ඔහුන්ට පෙනින.තව මොහොතකින් සිලීමේ කොන්ක්‍රීට් තට්ටුව ඔහුන්ගේ හිස මත පතිත වනු ඇත.සීලීම කඩා වැටිමට කලින් තමන් සිටගෙන සිටින තැන පොලවට කිදා බසිනු ඇත.ඒ හතරවන තට්ටුව බැවින් ඉහල සිලීමත් සමග සියල්ල පහත මාලයටම කිදා බසිනු ඇත.ඔහු වටපිට බැලුවේ හැංගෙන්නට තැනක් සෙවීමටය.කුඩා භූමි කම්පාවකදිනම් මේසයක් යටට හෝ රිංගා ගත හැක.එහෙත් මෙය එසේ නොවෙයි.මෙවැනි භූමිකම්පාවකදි මේසයක් යටට ගියොත් එය තුලම සිරවී මිය යනු ඇත.
එක්වරම ඔහුගේ මව කුඩා කල ඔහුට කියූ දෙයක් මතක් විය. " භූමි කම්පාවකදි හිටගත යුතු හොදම තැන ප්‍රධාන උලුවස්සය..'' ඇය ඔහුට කියා ඇත, බිල්ඩිමේ ප්‍රධාන කොන්ක්‍රීට් කනු නිවසේ ප්‍රධාන උලුහස්ස හරහා දිවයන බැවින් එය පොලවට කිදාබැමේ ප්‍රවනතාව අඩුය.. එහෙත් එයින් ජීවිතය බේරාගත හැක්කේ නම් වාසනාව මතය.

ඔහු බිරිදගේ අතින් ඇදගෙන ප්‍රධාන උලුහස්ස දෙසට දිවගියේය.
දොර විවර කල ඔහු තමන්ගේ දෑතින්ම හුලුහස්ස බදාගෙන හිටගත්තේය." හරියටම හුලුහස්ස මැදට වෙන්න හිටගන්න,ගේ කඩාගෙන ගියත් මේ කොන්ක්‍රීට් එක කඩාගෙන යන්නෙ නැහැ,ඔහු තමන්ගේ බිරිදට කෑගැසීය.
සෙලවීමත් සමග දෙදරා ගිය සීලීමේ කෑබලි මොහොතකින් බිමට කඩාගෙන වැටින, විශාල හඩක් නංවමින් පොලවට ඇදවැටෙන සිමෙන්තු ගල් පොලව සිදුරු කරමින් විශාල විවරයක් ඇති කලේය.ඒ විවරය තවත් කෙටි මොහොතකින් ඊටත් වඩා විශාල වන බවට අරාරත්ට විශ්වාසය... ඔහුන්ට ඉතිරිවී ඇත්තෙ කෙටි කාලයකි...
එහෙත් සමගම ඔහුන්ට ඉදිරිපස තිබුනු ගෙය තුලින් මර හඩ දීගෙන වයසක යුවලක් එලියට කඩා පැන්නේය.ඔහුන් පඩි පෙල දිගේ පහතට දුවන්නට හදන දුටු අරාරාත් කෑගැසුවේය.
" ශෝර් මාමා පහතට යන්න එපා, පඩිපෙල කඩා වැටෙනවා "
දැඩි කම්පනයෙන් සිටි ඔහුන්ට අරාරත් කියූ දෙය ඇසිනේද යන්නත් සැක සහිතය.ඔහුන් කෙලින්ම පඩිපෙලදිගේ පහතට දිව ගියෝය. ඔහුන් දුවයද්දී වගේම පඩි පෙල සම්පූර්නයෙන්ම කඩාගෙන පහතට වැටින.එයත් සමග අර වයසක යුවලත් පහතට ඇදවැටෙන්නට

ඇත.අරාරත් වටපිට බැලිය. ..ඔහුන්ව බේරාගත යුතුය , තුන් වෙනි මාලයෙන් විශාල අදෝනාවක් ඇසෙන්නට විය, මිනිසුන් කිහිපදෙනෙක් ගේ සහා කුඩා දරුවන්ගේ අදෝනාවන් එතුල ගැබ් වී තිබින,භූමි කම්පාව නැවති ඇතත් භූමිකම්පාව නිසා දෙදුරුම් කා තිබුනු ගොඩනැගිලේ කඩා වැටිම තවමත් නැවති නැත.අරාරාත් මෙතනින් පිටවී මට මාර්ගයක් සෙවීය....
තට්ටුව මැද ඇති නිවස ගැන ඔහුට මතක් වූයේ එවිටය....ඔහුගේ නිවසත් අර වයසක යුවලගේ නිවසත් අතර තවත් කුඩා නිවසක් ඇත.එක් කාමරයකට පමනක් සීමා වු මෙම නිවසේ කාලාන්තරයකින් කිසිවෙකුත් ජිවත් නොවිය. ඔහු උලුහස්සේ වමට බරවී එම නිවසේ දෝරට පහින් පාරක් ගැසීය.

දොර කඩාගෙන බිමට වැටින.එම නිවසේ ඇති කුඩා බැල්කනිය අරාරත්ට මතකය,එයට හරියටම පහතට වන්නට මුලු මහල් නිවෙස් සංකිර්නයේම විශාල කුනු බක්කිය පිහිටා තිබින.අඩි 10කටත් වඩා පලල වූ මෙම කුනු බක්කිය ගැඹුරු එකක් වූයෙන් 4 වන මහලෙන් බිමට යා හැකිනම් යාමට හැකි හොදම විකල්පය මෙය පමනක්ම වන බව අරාරාත්ට හැගින..
මෙම නිවස ඒ වන විටත් දූවිලි සහා කඩා වැටුනු සිමෙන්ති ගල් වලින් පිරි තිබින.ඔහු බිරිදවත් ඇදගෙන නිවසට ගොඩ විය, නිවසේ දූලි මීදුමක් මෙන් මුලු නිවසම වසා පැතිර ගොස් ඇත... යාන්තමින් මාර්ගය අහුරමින් ඔහු බැල්කනි දෝරට විත් එයද කඩා දමා බැල්කනියට ගොඩ විය...
" මේරී මොනවා වුනත් ඔයා ජිවිතය බේරගන්න ඕනේ,තේරුනාද ? ඉක්මනට හලාබයන් පාක් එකට යන්න, එතන ආරක්ෂාව තියෙනවා... භූමිකම්පාව ඉවර වුනත් තවමත් කම්පනය ගිහින් නැහැ...තව පැය ගානක් යනකන් මේ ගොඩනැගිලි පහතට කඩා වැටෙයි ඒ නිසා පාක් එකේම ඉන්න,මම කොහොම හරි එතනට එන්නම් " ඔහු ඇයව සිපගත්තාය.
"අරාරාත් ... මගෙත් එක්ක එන්න… අපි එකට යමු .."
"බැහැ මේරී ,ශෝර් අන්කල් පහතට වැටුනා .... ඒ දෙන්නා තවමත් ජිවත්වෙනවනම් මට පුලුවන් වෙයි ඒ දෙන්නවත් බේරගන්න්න....පොරොන්දු වෙන්න ඔයා පාක් එකේම ඉන්නව කියලා " ඔහු ඇයව තරයේ බදාගත්තේය.
" ඔව් " ඇය ඔහුට හාද්දක් දෙන ගමන් පැවසීය..

මේරීව බැල්කනියේ කොනටම ගෙන ගිය අරාරත්,ඇයව ඔසවා දැතටම ගත්තෙය " හරි ඔයාට මුකුත් වෙන්නේ නැහැ ..කෙලින්ම වැටෙන්නෙ අර කුනු බාල්දියට , ඒකේ දැනටමත් බෑග් ගොඩක් තියෙන නිසා ඔයාට හානියක් වෙන්න විදියක් නැහැ.... ඇස් දෙක

වහගෙන බය නැතිව ඉන්න .. කියූ ඔහු ඇයව බැල්කනියෙන් පහතට විසිකලේය.
ඇයව කෙලින්ම පතිත වුනේ අර කුනු බැග් මතටය...ටික මොහොතකින් කිසිදු ආපදාවක් නැතිවම ඇය එළියට පැමිනියාය.

පහතට බැසීමට පඩි පෙලක් නැත,එහෙත් යාන්තමින් පඩි පෙලින් අවශේෂව ඉතිරිව තිබුනු කම්බි වැටෙන් එල්ලී පහතට පැන්න අරාරාත්ට දැකගත හැකි වුනේ 3 වෙනි මාලයේ හිරවී සිටින මිනිසුන් සහා දරුවන්ය... ඒ අතර සිටි පිරිමින් 3 වෙනි මාලයේ නිවෙස් වල සිරවි සිටි තම පවුලේ අයව එළියට ගැනීමට දැඩි ප්‍රයන්තයක යෙදි සිටියහ.
තවත් කතාව මෙතනින් එහාට දුරදිග ගෙනා යුතු නැත. හතවන මාලයෙන් පහත ඇති කුනු බැරලයත් 3 වෙනි මහලයේ සිරවී සිටි මිනිසුන් ගැනත් ඔබ දැනටමත් දැනගෙන ඇත.ඊලගට සිදුවන හැමදෙයක්ම එකි නෙකට පැහැදිලි කලයුතු නොවෙයි.

අරාරත් ඒ සියල්ලන්ගෙම ට ජීවිත බේරාගත් බවත් ..එහෙත් ඔහුන්ගේ ජීවිත බේරාගැනීමට යාමෙදි අරාරත්ට අනතුරක් සිදුවූ බව පමනක් කිව යුතුය.සියල්ලන්ගේම ජීවිත බේරාගෙන කුනු බැරලයට පනින්නට යාමේදි සිමෙන්තියක් කඩාවැටිමෙන් ඔහු එයට යට විය.
අපේ කතාවේ වැදගත්ම කොටස පටන් ගන්නේ මේ සිද්දියත් සමගය. අරාරාතේ අඩපන වූ සිරැර ගොඩට ගත් මිනිස්සු ඔහුව ගිලන් රථයක නංවාගෙන රෝහල වෙත ගෙන ගියේය.අදික ලෙස රුධිරය වහානය විමෙන් ඔහු සිටියේ සම්පුර්න අවසිහියේ බව කිව යුතුය. වෛද්‍යවරුන් ඔහුගේ ජීවිතය බේරාගැනීමට ප්‍රයන්ත දරද්දී අරාරාත් අපූරු සිහිනයක් දුටුවේය.එය සිහිනයක් යැයි කිමට වඩා එය ඔහු ප්‍රත්‍යක්ෂවම දුටු දෙයක් බව කීවොත් වරදක් නැත.
එක් මැදිවියේ කාන්තාවක් ඔහු වෙතට පැමිනියාය.ඇයගේ වස්ත්‍රයන් වල රුධිරය පිරි ඇත.ඇයගේ මුහුන ඔහුට ඒ තරම් පැහැදිලි නැතත් ඇය ඔහුට අරාරත් නමින් ඇමතුයෙන් ඇය ඔහුව කිසියම් හේතුවක් මත දන්නා කෙනෙකු බවනම් ඔහුට විශ්වාස විය.
ඇය අරාරාත් වෙත නැබුරු විය, රුධිරයෙන් පිරි තිබුනු ඇයගේ මුහුන දෙස බැලීම පවා ඔහුට බියක් ගෙන දෙන්නක් වුවත් කිසියම් දෙයක් කියන්නට යන්ත දරන බව ඔහුට වැටවුනෙන් ඔහු ඇයට ඇහුන්කන් දෙන්නට විය.
" අරාරත් මගේ දුව 62වෙනි ගොඩනැගිල්ලේ පලවෙනි මලයේ හිරවෙලා ඉන්නවා..කරුනාකරලා ඇයව බේරගන්න . අනේ මගේ දුවව බේරගන්න " ඇය පැවසුවාය.... එහෙත් සමගම අරාරාත්ට ඉහල අහස දිස්විය.එය පිරිසිදු සුදු පැහැයක් ගත්තෙය...එක්වරම එම සුදු පැහැය නැති වී ගොස් තද ආලෝකයකින් ඔහුගේ දැස වැසී ගියේය...දැස් විවුර්ත කල ඔහුට දැකගත හැකි වූයේ තම ඇදට ඉහලින් තිබුනු විදුලි ලාම්පුවයි....

ඔහුගේ ඇද වටා මිනිසුන් බොහොදෙනෙක් රැස් වී සිටියෝය..ඔහුන්ගෙන් බොහොමයක් මුහුනු ඔහු කිසිම දිනෙක දැක නැත... එක්වරම ඔහුට හුරුපුරුදු සුවදක් ඔහුගේ උරහිස මතින් නැඹුරු වී ඔහුගේ දෙතොට හාද්දක් දුන්නාහ....ඒ ඔහුගේ බිරිදයි."මේරී " ඔහු සෙමින් මිමුනුවේය...එක්වරම ඔහුට අර කාන්තාවව මතක් විය...

" මේරී 62 වැනි බිල්ඩිමේ දරුවෙක් හිරවෙලා ඉන්නවා, අපි ඒ දරුවව බේරාගන්න ඕනේ... "
මේරී ඔහු දෙස වික්ෂිප්ත බැල්මක් හෙලුවාය.
" අරාරාත් ඔයාට දැන් රෝහලෙන් යන්න බැහැ " ඇයට කියන්නට ලැබුනේ එපමනකි,සේලයින් බටය තම අතින් උදුරා අහකට දැමූ ඔහු ඇදෙන් නැගින වේගයෙන් ප්‍රධාන දෝරටුව වෙත දිව ගියේය.
කිසියම් හේතුවකට ප්‍රධාන දෝරටුව මාධයවේදින්ගෙන් පිරි තිබුන අතර රෝහලේ සිට දිව එන අරාරත් දුටු ඔහුන් තම කැමරාත් ඔසවාගෙන ඔහු පසුපස ලුහුබැන්දෝය.. රෝහල ලග නතර කර තිබූ ටැක්සියකට නැග ගත් ඔහු "හලාබියන් 62 " යැයි කීවෙන් මොහොතකින් ටැක්සිය රෝහලෙන් ඉවතට ගියේය...

ඔහුන් 62 වැනි බිල්ඩිම ලගට එන විටත් එම බිල්ඩිම ලග දොබකර සහා බර යන්ත්‍ර බොහොමයක් නවතා තිබ්න.ඒවා අර ගොඩනැගිල්ලේ විශාල කොන්ක්‍රීට් තට්ටු වල සිරවී සිටි මිනිස්සුන්ව සොයමින් ඔහුන්ව ගොඩ ගනිමින් සිටියේය...
එම බිල්ඩිමේ පලවෙනි මාලයේ තිබුනු ගල් කුට්ටි අතරන් ඉදිරියට ගොස් 3 වෙනි නිවස නිශ්චිතවම සොයා ගත් අරාරාත් එය වසාගෙන තිබුනු කොන්ක්‍රීට් තට්ටු ඉවත් කරන ලෙස කම්කරුවන්ට කිහ.එහි පහතින්මතිබුන සිමෙන්ති තට්ටුවක් ඉවත් කල පසුව ඔහුනට දැකගත හැකි වුයේ ඒ අතර සිරවී සිටී කාන්තාවකගේ සිරැරකි..ඇය මූනින් අතට වැටී සිටියාය...එම කාන්තා සිරැර අනිත් පැත්ත හැරවූ අරාරාත් එක් වරම තිග්ගැස්සින..ඒ ඔහු රෝහලේදී දුටු කාන්තාවයි..ඇයගේ සිරැර යටින් කුඩා දරුවෙකුගේ සිරැරක් විය...ගොඩනැගිල්ල කඩා වැටෙද්දී ඇය තම දරුවාව එහින් බේරාගන්නට තම සිරැර යටට ගන්නට ඇත.කුඩා දරුවාගේ සිරැරට තවමත් පන ඇති බව දැනගත් අරාරත් ඇයව ඔහුගේ පිටුපසින් සිටි නිලධාරින්ට භාර දුන්නේය...එහෙත් ඒ වනවිටත් අර කාන්තාව ජිවිතය හැර ගොස් ඇත....

කතාව මෙතනින් අවසන් වෙන්නේ නැත.අප කතාවේ වීරයා වුනු අරාරත් මිනිසුන් 10 දෙනුට වැඩි පිරිසකගේ ජිවිතය බේරාගෙන වීරයෙකු බවට පත් වී තිබ්න.ඔහුගේ අවසන් වීර ක්‍රියාව වන අර කුඩා දරුවව බේරගැනීම ගැන රූපවාහිනිය තුලින් සජීවිව පෙන්වීම නිසා

ඔහු කා අතරත් ජනප්‍රිය චරිතයක් බවට පත්වී සිටියේය...ප්‍රධාන නාලිකාවකින් ඔහුට විචුර්ත සාකච්චාවකට ඇරයුම් ලැබී තිබින.
මාධයවේදීය මෙහිදී ඔහුගෙන් ප්‍රශ්නය ඇසුවේය,
" ඔබ කොහොමද හරියටම අර දරුවා ඉන්න තැන හොයා ගත්තේ "
" ඒ දරුවගේ අම්මා මට ඒක කිව්වා " අරාරත් සිනාසෙමින් පිලිතුරු දුන්නේය, "
" ඇයි ඒ අම්මා තමන්ගේ දරුවව බේරගන්න ඔබවම තෝරගත්තේ අරාරත්.. ඔබ මීට කලින් කියලා තිබ්බා ඇයව ඔබ මීටකලින් හඳුරගෙන සිටි කෙනෙක් නෙමේ කියලා " මාධවේදියා යලිත් ඇසීය.
ඔව් ..මීට කලින් මම ඇයව දැනගෙන සිටියේ නැහැ..ඒක ඇත්ත,එහෙත් ඇය දැනගෙන ඉන්න ඇති ඇයගේ දරුවව බේරගන්න පුලුවන් එකම කෙනා මම වන විත්තිය,මොකද ඒ වෙලාව වෙනකොටත් මම හිටියේ ජීවිතයත් මරනයත් අතර, එහෙත් ඇය මිය ගිහින් හිටියේ.ඇයට ලේසියෙන්ම කතා කරන්න පුලුවන්වුනු එකම කෙනා මම වෙන්න ඇති... " අරාරාත් පැවසීය...එයත් සමගම ඔහු වටා සිටි ප්‍රේක්ෂකයින්ගේ අත්පොලොසන් නාදය මොහොතකින් මුලු ශාලාව සිසාරා ඇදී ගියේය.මොහොතක් නිසොල්මනේ සිටි අරාරාත් ඔහුන් දෙස සිහින් බැල්මක් හෙලා මෙසේ පැවසීය "ඉපදෙන හැම කෙනාම ඉපදෙන්නේ මොකක් හරි දෙයක් ඉවරකරලා යන්න. දෙවියන් එහෙම තමයි හැම කෙනාවම මවන්නේ,දැනගෙන හෝ නොදැන එන හැම කෙනාම ඒ කාර්ය නිමකරලමයි යන්නේ "

---

පසුවදන - මම භූමි කම්පාවක් අත්වින්දේ 2014දි - ඒ කම්පනය තවමත් මගේ ඔලුවේ තියෙනවා. ඒකම තම හලාබ්යාන් භූමි කම්පාව ලියන්න හේතුවෙන්නේ..හලාබ්යාන් වීදීය කාලයක් මම පදිංචිව සිටි වීදීයක්.මෙම කතා පොතේ ඇති කතා බොහෝමයක් මම ලියන්නේ හලාබ්යන් උද්‍යානයේ සිට.

# එල්. ජේ

හදිස්සියේම මට මගේ රැකියාව නැතිවූයෙන් මමත් මගේ බිරිදත් අන්ත අසරන තත්වයට පත්විය.මගේ බිරිද රැකියාවක් නොකලාය.හැරත් අපි ජීවත් වුයේ කුලී නිවසකය..මාස කිහිපයක් ගතවෙත්ම නිවසේ කුලී ගෙවන්නටවත් වාතාවරනයක් නොතිබුනෙන් මමත් බිරිදත් මගේ අත්තම්මාට අයිතිව තිබුනු නිවසකට ගොස් ජීවත්වන්නට තීරනය කලෙමු.

ගේයි වීදියේ පිහිටා තිබුනු මෙම නිවස අත්තම්මාගේ මරනයෙන් පසුව සම්පූර්නයෙන්ම වසා දමා තිබ්න.අත්තම්මා මියගියාට පසුව කිසිවෙකුත් මෙම නිවසට පදිංචියට නාවෙන් ඇයගේ මරනයෙන් පසුව එහි පදිංචියට ආ මුල්ම පවුල මමත් මගේ බිරිදත් පමනක් විය.

බොහෝ කාලයක් වසා දමා තිබුනු නිසාවෙන් හොදටම අපිරිසිදු වූ මෙම නිවස මමත් බිරිදත් දවස් දෙක තුනක්ම එක දිගටම පිරිසිදු කලෙමු.කෙසේ හෝ ටික දවසකින් එය පිරිසිදු කොට යථාතත්වයට ගැනීමට අපට හැකිවිය.අලුත් රැකියාවක් ලැබී යලිත් ස්ථාවරත්වයකට පැමිනෙන තුරු මෙහිම පදිංචිව සිටීමට අප තීරනය කර සිටියෙමු.

එහෙත් මෙහි පදිංචියට ආ පලමු දින සිටම මගේ සිතේ අමුතුම චකිතයක් ඇතිවී තිබ්න.එහි සිටියේ මමත් බිරිදත් පමනක් වුවත් තවත් තුන් වැන්නෙකුත් නිවස තුල ජීවත් වේයැයි යන සිතුවිල්ල මා හට ඇතිවිය.
මා හට නිතරම එය දැනින.මා කුස්සියට ගිය මොහොතෙදීත් , සාලයේ හෝ කාමරයේ සිටින මොහොතවල් වලදී පවා කිසිවෙකු හෝ මා දෙස බලා සිටිනවාක් වැනි හැගීමක් මා හට ඇතිවිය.
මෙම නිවසේ කාමර තුනක් තිබ්න.එහින් දෙකක්ම පිරිසිදු කොට ඇති මුත් තුන් වැන්න පිරිසිදු කිරීමට අපට නොහැකී විය.හැරත් ඒ අත්තම්මාගේ බඩු බාහිරාදිය දමා තිබුනු කාමරයයි.එම කාමරයද සුද්ද කොට දැමිය යුතු යැයි සිතු මා දිනක් හවස් යාමයේදී එම කාමරය පිරිසිදු කිරීමට පටන් ගතුයෙමි.
මෙම කාමරයේ කෙලවර කවුලුවක් තිබ්න.මා කාමරය පිරිසිදු කරමින් සිටින අතරතුර එක් වරම මෙම කවුලුව වැසී ගියේය.සුලං පහරකට කවුලුව වැසී යන්නට ඇතැයි සිතු මම යලිත් ගොස් එය විවෘත කලෙමි.විවෘත කොට ටික වෙලාවකින් යලිත් එය වැසී ගියේය.කවුලුව වැසී යත්ම කාමරය අඳුරු වී ගියෙන් මා බියට පත් වුනෙමී. එක් වරම මගේ පිටුපසින් කිසිවෙකු හෝ මගේ කනට කර මුමුනන හඬ මා හඬ ඇසීන..

" එල්.ජේ "
මට ඒ කටහඬ පැහැදිලිය...එය හොඳටම අසා පුරුදුය...මා පිටුපස හැරුනෙමි.එහෙත් කිසිවෙකුත් නොවීය....අතේ තිබුනු කොස්ස පැත්තකට විසිකල මා කාමරයෙන් ඉවතට දිව ගියෙමි.
කාමරයෙන් ඉවතට පැමිනි මා මට ඇසුනු එම කටහඬ කාගෙදැයි සිතන්නට පටන් ගතුයෙමි..එය හොඳටම අසා පුරුදු කටහඬකි....ඒ අත්තම්මාගේ කටහඬය... මාහට එය සක්සුදක් සේ පැහැදිලි විය....එල්.ජේ..යනු කුඩා කල ආත්තම්මා මට ඇමතු නමයි...ලාන්ස් ජෙෆ්‍රි යන මගේ නමේ මුල් අකුරු දෙකෙන් ඇය මට අමතන්නට පුරුදු වී සිටියාය.

එහින් දිනකට පසුව මගේ සහෝදරයෙකු මාව බැලීමට අපේ නිවසට පැමිනියේය.ඔහුට වයස අවුරුදු 3ක පමන කුඩා දුවක් සිටියේය...මරීටා නම්වූ ඇය කටකාර දඟකාර කෙලි පැටික්කියකි.

මගේ සහෝදරයා , මාත් මගේ බිරිඳත් සමග කතා කරමින් සාලේ වාඩි වී සිටි අතර මරීටා අප ඉදිරියේම පොලවේ හිඳගෙන සෙල්ලම් කරමින් සිටියාය..ටික වෙලාවකින් ඇය සාලයේ උලුහස්ස අතරින් පෙනෙන කුස්සිය දෙස බලාගෙන සිටිනු මා දුටුවෙමි.උලුහස්ස පැත්තට හිස දැමූ මා කුස්සිය දෙස බැලුවෙමි.එහි කිසිවෙකුත් නොවීය..මා එසේ බලනු දුටු මගේ බිරිඳ " ඒ ඇයිදැයි " ඇසීය.හිස වනා කිසිවක් නැතැයි පැවසූ මා යලිත් හිඳගතුයෙමි.යලිත් අපි කතාවට වැටුනෙමු.

කතා කරමින් සිටියත් මා නිතරම මරීටා දෙස ඇහැ ගහගෙන සිටියෙමි.ටික වෙලාවක් සෙල්ලන් කරමින් සිටි මරීටා යලිත් වතාවක් කුස්සිය දෙස බලා සිටින්නට විය.ටික මොහොතක් ඒ දෙස බලාසිටි ඇය කුමක්දෝ මුමුනන්නට පටන් ගත්තාය..

ඇය දෙස බැලූ මගේ සහෝදරයා ඇය අසලට ගොස් " මොනවද දුව තනියෙම කතා කරන්නේ " යි ඇසීය.
" එල් ජේ.. එල් ජේ " ඇය සෙල්ලන් කරන ගමන් මුමුනන්නට පටන් ගත්තාය...මගේ සහෝදරයා තෘෂ්නිම්භූතව මා දෙස බැලීය.
" එල්ජේ ...කියන්නේ මල්ලිගේ පොඩි කාලේ නමනේ... ඔයා ඒක දුවට කිව්වද ? " ඔහු මගෙන් ඇසීය..
" නැහැ " මා හිස වැනිමී....

# ප්‍රීඩා

මා කෙල්ලෙක්ට ආදරය කලෙමි..
ඇය ප්‍රීඩා නම් විය.

ලෝකෝ වල රදල පෙලපතක ඉපදුනු ෆීඩාව ගම්මානයේ හැමෝම හැඳින්වූයේ " රතුකෙස් කෙල්ල නමිනි. " ලස්සන රතු පැහැ කොන්ඩයක් ඇයට විය... ලා දුඹුරු පැහැ දෙනෙතකින්ද වටකුරු මුහුනකින්ද යුක්ත වූ ප්‍රීඩාගේ සිනහව වචනයෙන් විස්තර කල නොහැකි තරම් වූ හිතාමත්ම සුන්දර එකකි...ඇයගේ රූපයටත් වඩා මා ආදරය කලේ ඒ සිනහවට යැයි මා සිතමි..

ලෝකෝ වල උසස් පාසලේදී මා හට ඇයව මුලින්ම මුන ගැහෙන විට ඇය වයස අවුරුදු 15ක තරම් කුඩා කෙල්ලෙකි...ඇයව දුටු මුල්ම දින සිටම මා ඇයට ආදරය කලෙමි.ඇයත් සමග පාසැලේ ගත කල සැම දවසක්ම හරිම සුන්දර දවසක් විය.... ඇයගේ සිනහවත් රූපයටත් ලං වූ මා කෙමෙන් කෙමෙන් ඇයට තිබුනු චාම් ,හිතාමත් සියුම් සහා නිරහන්කාර ගතිගුන වලටත් ආදරය කරන්නට පටන් ගතුයෙමි...

කාලයක් ගෙවී යත්ම උසස් පාසැලෙන් නික්ම යන දිනය ලං විය... පාසැලේ අවසන් දිනදි මා ඇයට මගේ ආදරය ගැන පැවසුවෙමි... ඇයගේ දෙනෙතින් කඳුලු ගරා වැටින...ඈ මාව වැලඳ ගත්තාය... " මමත් ඔයාට ආදරය කලා.... ගොඩක්.... " ඈ කීවාය...

ජීවිතයේ හැම සතුටක්ම කුමක් වූ දැඩි වේදනාවකින් අවසන් වනු ඇතැයි මා අසා ඇත..එහෙත් එය මා හටත් සිදුවන තුරු මා එය විශ්වාස කලෙමි ....මෙහි ඉතුරු කතාවෙන් මා ඔබට පවසන්නට යන්නේ ඒ ගැනය..

ප්‍රීඩාගෙත් මගෙත් ආදරයට ඇයගේ පවුලේ අය විරුද්ධ විය...ලෝකෝ වල පන්ති භේදයක් නොතිබින....එහෙත් ජීවිතයේ තීරනාත්මක මොහොතවල් වලදී එය බලපැවේය... මා මගේත් ප්‍රීඩාගෙත් විවහා යෝජනාව ඇයගේ පවුලේ අයට දන්වද්දී ඔහුන් එයට දැඩි සේ විරුද්ධ විය...

" රදලයෝ ...ගොවියොත් එක්ක පැහෙන්නේ නැහැ.... උබලගේ තාත්තා ලෝකෝ වල ගොවියෙක්.... ප්‍රීඩා කවදා හරී අපේ

පෙලපතේම කෙනෙකුව විවහා කරගනීවී.... උබ උබේ දෙයක් බලාගෙන හිදපන් .. " ෆ්‍රීඩාගේ පියා මට කීහ...

එය එතැනින් අවසන් නොවීය.... පවුලේ අයගේ විරුද්ධත්වය මධ්‍යයේ මමත් ඇයත් සූරිච් වලට පලා යැමට තීරනය කලෙමි..එහෙත් දෛවයේ හාස්කමකට මෙන් එම සැලැස්ම වෙනස් විය...

මා හට යුධ හමුදාවට බැදෙන්නැයි රජයෙන් ලිපියක් පැමින තිබින.... එකල තිබුනු නීතිය අනුව වයස අවුරුදු 18 සම්පූර්න වෙන සැම තරුනයෙකුම වසර දෙකක් යුධ හමුදා පුහුනුවට එකතු විය යුතුය.... රජයේ නීතිය කැඩීම බරපතල අපරාධයකටත් එහා ගිය දෙයකි... එහෙයින් කැමැත්තෙන් හෝ අකමැත්තෙන් තරුනයින් හමුදාවට එකතුවිය....මටත් එසේ විය.

යලිත් පැමිනි විගසම මොනම බාධාවක් පැමිනියත් ෆ්‍රීඩාව විවහා කරගන්නා බවට මා ඇයට පොරොන්දු විමි.. අපි සමුගන්නා දිනදී ඇය බොහෝ සෙයින් අඩා වැලපුනාය...
" ෂෝන්.. මම පොරොන්දු වෙනවා.... ඔයා එනකන් මම බලාගෙන ඉන්න විත්තිය...ෆ්‍රීඩා හැමදාමත් ඔයාගෙම විතරයි...මොනම දේ වුනත් ඒක වෙනස් වෙන්නේ නැහැ " ඇය මට හාද්දක් දෙමින් පැවසුවාය...

“ ඔබට සුන්දර වූ සිහින අනේකවත් දැකිය හැකිය...එහෙත් කිසිම දිනෙක දෛවය ගැන විශ්වාස නොකරන්න... එය ඔබේ සිහින මොහොතකින් විනාශ කර දමනු ඇත... "

යුධ හමුදා සේවයට බැදී මාස කිහිපයක් යනතුරුම ෆ්‍රීඩා මාහට දිනපතාම කතා කලාය.. සතියකට වරක් ඇයගේම අත් අකුරින් ලිපි එවීය...එහෙත් එක්වරම ඒ සියල්ලම නැවතින...ඇයගේ දුරකත ඇමතුම් වලට ප්‍රතිචාර නොලැබින...ඇයට යැවු ලිපි යලිත් මා වෙතම පැමිනියහ.... මා වික්ෂිප්ත විමි.... දැඩි වේදනාවටත් ....දුකටත් පත් විමි....ඇයට කුමක් වූවාදැයි මා නොදනීමි...

කාලය ගෙවී යත්ම මාගේ යුධ හමුදා සේවය අවසන් වන දිනය පැමිනියහ... යුධ හමුදා සේවයෙන් ඉවත්වූ දිනම මා ෆ්‍රීඩාගේ නිවසට ගියෙමි.. එහෙත් ෆ්‍රීඩාගේ මවත් පියත් මට ඔහුන්ගේ නිවස තුලට ඒමට ඉඩ දුන්නේ නැත..

" ෆ්‍රීඩා විවහා වෙන්න යන්නේ... ඒ නිසා උබ ආයේ නාවට කමක් නැහැ " ඇයගේ පියා මාව නිවසින් එලවා දැමීය.... ඔවුහු මට ෆ්‍රීඩාගේ අතකුරින්ම ලියු කුඩා ලිපියක්ද දුන්නේය...

" මාව හමුවෙන්න එන්න එපා...අමතක කරලා දාන්න " එහි සඳහන් වි තිබින...වසර දෙකක් පුරාවටම මා ඇයට දුන් පොරොන්දුව ආරක්ෂා කලෙමි...එහෙත් ඇය හිතාමත්ම පහසුවෙන් ඒ සියල්ලම අමතක කර ඇත....

මේ සිද්දියෙන් දින කිහිපයකට පසු දිනක් ෆ්‍රීඩාගේ මව මාව මුනගැසීමට පැමින සිටියාය.... ඇයගේ දෙනෙතෙහි කියා ගත නොහැකි තරම් වූ දැඩි වේදනාවක් රැදී තිබින...
මාව දුටු විගසම ඇය අඩා වැලපෙන්නට විය...

"අපිට සමාවෙන්න එදා ගෙදරින් ඔයාව එලවලා දැම්මට...අපිට එහෙම කරන්න ඕනේ වුනේ නැහැ..එහෙත් ෆ්‍රීඩා හිටියේ ගොඩක් වේදනාවෙන්...එයාට ඔයාව දකින්න ඕනේ කමක් තිබුනේ නැහැ.. එයාට ඔයාට මුහුන දෙන්න බැහැ... "ඇය අඩා වැලපුනාය....
" ඔය ලමයා ගියාට පස්සේ අපිට ලොකු විපතක් සිද්ද වුනා.... දවසක් අපේ ගොවිපොල ගිනිගත්තා... ෆ්‍රීඩාවත් ඒ ගින්නට අහුවුනා... එයාව පිච්චුනා....
ඇය දැන් කලින් හිටපු ෆ්‍රීඩා නෙමෙයි...මේ ලියුම් කවරයේ එයාගේ පිංතූර ටිකක් ඇති .... ඔය ලමයා ඒවා බලන්න... " ඇය යන්නට නැගිට්ටාය..
" කොහොමත් ඔය පින්තූර බැලුවම ඔය ලමයා ෆ්‍රීඩව අමතක කරලා දායි.... වේදනාවෙන් ජීවත්වෙනවට වඩා.. ඇත්ත දැනගෙන ඒක අමතක කරලා දාන එක හොදයි..ඒකයි මම මේ ගමන අද ආවේ.." කියූ ඇය යන්නට ගියාය...

මා ලියුම් කවරය විවුර්ත කලෙමි...එහි ජායාරූප කිහිපයක් විය.... එහි සිටින්නේ ෆ්‍රීඩාදැයි මා හට හදුනාගත නොහැකි විය... ඇය ඒ තරමටම විරූපී වී තිබින.... ගින්න ඇයගේ සුන්දර රූපය මුලුමනින්ම විනාශ කර ඇත....ඇයගේ රතුපැහැ කොන්ඩය සම්පූර්නයෙන්ම නැතිවී ඇත.... ඇයගේ මුහුන මුලුමනින්ම විකෘති වි ඇත.... මා එම ජායාරූප දෙස මොහොතක් බලා සිටියෙමි...

වේදනාවත් සමගම ආ අපූරුම ආදරනීය සිතුවිලි වලින් හදවත පිරි ගියේය.... අපේ අතීතයේ සැම දෙයක්ම චිත්‍රපටයක් සේ මගේ දෙනෙත් ඉදිරියේම මැවී පෙනීන.... මා ඇයට ආදරය කලෙමි....ඒ ආදරය රූපය කෙරෙහි බැදුනු ආදරයටත් එහා ගියා හිතාමත්ම සුන්දර ආදරයකී.... ඇය අද විරූපී වී ඇතත් මේ මම ආදරය කල ෆ්‍රීඩාමය.... ඇය මගෙන් වෙන් වෙන්නට උත්සහා කරන්නේ මට ඇති ආදරය නිසාම විය යුතුය... ඇයගේ විරූපීත්වය නිසා එහින් මා දුක් විදිනවට ඇය අකමැති වන්නට ඇත...මා ෆ්‍රීඩාව හොදින් හදුනමි...ඇයට මටත්

වඩා කොයිතරම් වේදනාවක් විදිනවා ඇත්ද ... විරූපී කම ගැහැනියක් කෙසේ නම් දරන්නද?

මා එම මොහොතෙම ඇයගේ නිවස බලා දිව්වෙමි... ලෝකෝ මාවතෙහි මල් සාප්පුවකින් ලස්සන මල් බොකියක් මිලදී ගත් මා එයත් රැගෙන ඇයගේ නිවසට ගියෙමි...මාව දුටු ඇයගේ දෙමව්පියන් පුදුමයට පත්විය... මගේ අතෙහි වූ මල් බොකිය දෙස බැලූ ඔහුවූ මාව වැලඳ ගත්තෝය... ඔහුන් මට ෆ්‍රීඩා වෙතට යාමට ඉඩදුන්නේය...
මා ඇයගේ කාමරය වෙත ගියෙමි... ඇය ඇඳෙහි වැතිර සිටියාය...මාව දුටු විගසම අනෙක් පැත්ත හැරී ඈ මුහුන වසා ගත්තාය... මා ඇයගේ ඉදිරියෙහි දනින් වැටුනෙමි...

" ෆ්‍රීඩා ...එදා වගේම මම අදත් ඔයාට ආදරෙයි...ඒ ආදරයේ වෙනසක් නැහැ... මම ඔයාව හැමදාමත් ආදරයෙන් බලාගන්නම්... මගෙත් එක්ක විවහා වෙනවද ? " මා ඇයගෙන් ඇසිමී ...
ෆ්‍රීඩා මා වෙත දුව ආවාය.... මා වැලඳ ගත්තාය... එදා ඇය පැය ගනනාවක්ම එක දිගටම ඇඩුවාය.... ඇයගේ සිතේ වූ වේදනාව අවසන් වෙනතෙක්ම ඇඩුවාය...
අපි විවහා විය... දරුවන්ද ලැබින... අදත් ඇය මගේ ෆ්‍රීඩාය....

---

පසුවදන - ආදරය තුල ඇත්තේ කැපකිරීමකි. එය අව්‍යාජ කැපකිරීමකි.හදවත් දෙකක සුන්දර කැපකිරීමකි. විඳීමකි, විඳගැනීමකි.මේ ෆ්‍රීඩා වාසනාවන්තය.එහෙත් හැම ෆ්‍රීඩාටම ඒ වාසනාව ලැබෙන්නේ නැත.

# ඇස්වාට්ටුවේ බෝම්බය

අපි හැමෝගෙම ජීවිත වල අමතක නොවන කතාවක් ඇත.මේ මගෙ ජීවිතයේ ඇති එවන් අමතක නොවන කතාවකි.
මේ සිද්දිය සිද්ද වූ දිනය පිලිබදව ඒ තරම් මතකයක් මා හට නැත.එහෙත් ඒ නිශ්චිතවම 90 දශකය මැද භාගයේ විය යුතුය.එකල මා අවුරුදු කිහිපයක කොලු ගැටයෙක්ව සිටියෙමි.

මගේ පියාගේ පියා එකල කොලඹ ඇස් රෝහලේ නේවාසිකව ප්‍රතිකාර ගනිමින් සිටියේය..ඔහුගේ ඇසේ වූ සැත්කමකින් පසුව ඔහුට තවත් දින කිහිපයක් ඇස් රෝහලේ නැවති ප්‍රතිකාර ගැනීමට සිදුවුයෙන් ඔහුගේ දිවා ආහාරය ගෙන යැමට සිදු වූයේ මගේ මවටය…
මා මේ කියන්නට යන සිද්දිය සිදු වුයේද මේ දින කිහිපයෙන් එක් දවසකය…
මේ උතුරේ ත්‍රස්ත්‍රවාදී අරගල දරුනුවම ක්‍රියාවේ තිබූ කාලයකි..එහෙයින් කොලඹ ආරක්ෂාවද සැලකිය යුතු මට්ටමකින් තර කර තිබුනි.විශේෂයෙන්ම කොලඹ ප්‍රධාන රෝහල් තුලට යැමේදී ජාතික හැදුනුම්පත අනිවාර්යෙන්ම පරික්ෂාවට ලක්විය.එසේම රෝහලේ නේවාසිකව ප්‍රතිකාර ගනනා රෝගීන් ව බැලීමට විශේෂ කාල සීමාවක්ද තිබුනු අතර මේ කාලයෙන් පරිබාහිරව අනෙක් වෙලාවන් හීදී රෝගින් බැලීමට යැම සපුරා තහනම් විය.

මේ නිසාම ලෙඩුන් බැලීමට රෝහලට එන බොහෝමයක් දෙනා පැය කිහිපයකට කලින්ම විත් රෝහල් ගේට්ටුව ඉදිරිපිට හිටගෙන සිටින්නට විය....එකල මෙය හිතාමත්ම සුලභ දසුනකි....එසේ රෝහල් ගේට්ටුව ඉදිරියේ හිටගෙන සිටින අයව අදාල කාලය පැමිනි පසුව එකිනෙකා වශයෙන් පරික්ෂාකර බලා රෝහල තුලට ගනු ලබයි....
එදින මමත් අම්මත් උදෑසන 10.30 ට පමන රෝහල බලා පිටත් වුනිමි…කොටහේනේ මා ජීවත් වූ ප්‍රදේශයේ සිට කොලඹ ඇස් රෝහලට ඇත්තේ හිතාමත් කෙටි දුරකි..ඒ නිසාවෙන් වැඩි කාලයක් ගත නොකර ඉක්මනින්ම රෝහල වෙත ඒමට අපට හැකිවිය…අප රෝහල ආසන්නයට එන විටත් ගේට්ටුව ඉදිරිපිට සෙනග පිරී සිටියහ…ඔහුන් සියල්ලම පාහේ රෝගින් බැලීම සදහා පැමිනි අයයි....
ඒ දැඩි අවු රශ්මියෙන් යුත් දිනයක් වුයෙන් බොහෝ දෙනා පේමන්ටුවේ ගස් හෙවනවල් යටද හිදගෙන සිටියෝය…ගේට්ටුව අසලට ගිය මමත් අම්මත් එහි කොනෙක හිට ගත්තෙමු…

ඇස් වාට්ටු ගේට්ටුව අසල අච්චාරු විකුනන ආච්චි කෙනෙකු සිටියාය… මට තවමත් ඇයගේ නලලෙහි වූ කලු පැහැති මොට්ටුව

මතකය...ඇය දෙමල කාන්තාවක් විය යුතුය..මම අම්මාට ඇවිටිලි කොට ඒ ආච්චිගෙන් අච්චාරුද මිලදී ගත්තෙමි.... `.

" දැන් කොච්චර වෙලාද ඇවිත් " අම්මා එතැන සිටි කාන්තවක් සමට කතාවට වැටුනාය..
" දැන් පැයකටත් වැඩියි ... අපි පාන්දරම බදුල්ලෙන් ආවේ ... " ඇය කීවාය..
ඇයට එහායින් තවත් කාන්තාවක් එක් අතක කුඩා දරුවෙකුවත් තබාගෙන අමාරුවෙන් හිටගෙන සිටියාය...ඇය ගැබිනියකි...ඇය දෙස බැලූ අම්මා
" ඔයා ගිහින් හිදගන්න ... ගේට්ටුව හැරියම පෝලිමට එන්න පුලුවන්නේ " යැයි කීයෙන් එහින් අස්වැසිල්ලක් ලැබූ ඇය අතෙහි වූ කුඩා දරුවාද සමග පේමන්ටුවේ හෙවන තිබූ තැනකට ගොස් හිදගත්තාය...
ටික මොහොතක් ගත විය..ඇස් වාට්ටු ගේට්ටුව ඉදිරිපිටට කෙමෙන් කෙමෙන් සෙනග පිරෙන්නට විය..ඒ අතර වැඩිපිරිසක් සිටියේ කාන්තාවන්ය.. කුඩා දරුවන්ද , ගැබිනි මව්වරුන්ද වැඩිපුරම වයසක කාන්තාවන්ද එහි සිටියෝය...

රෝහල් ගේට්ටුව විවර කිරීමට තවත් විනාඩි 30ක පමන කාලයක් ඇත...මොහොතකින් අම්මා අනිත් පස හැරී ඇස්වාට්ටුව ඉදිරිපිට පාර හරහා වූ කඩ පේලිය දෙස බැලුවාය...
" සීයාට ෆාමසියෙන් බෙහෙත් වගයක් ගන්න තියෙනවා " ඇය මිමිනුවාය.... වට පිට විපරමෙන් බැලූ ඈ පිටු පස හැරී
" මල්ලි මේ හරියේ ෆාමසියක් තියෙනවාද "යි අපට පිටුපසින් පෝලිමේ සිටි තරුනයෙකුගෙන් ඇසුවාය....
" සලාකා එක ඉස්සරහානම් එකක් තියෙනවා " ඔහු කිහ...
අම්මා ඇයත් සමග කතාවට වැටි සිටි අනිත් කාන්තාව දෙස හැරින..
" අනේ අක්කේ මේ පෝලිම පොඩ්ඩක් අල්ල ගන්නවද..මම ඉක්මනට ෆාමසියට ගිහින් එන්නම් " ඇය අර වයසක කාන්තාවගෙන් ඇසීය..

අපි එතනින් පාර පැන ඇස්වාට්ටු මාවතෙහි වූ සාප්පු පෙලීය හරහා සලාකා හන්දියට පැමියෙමු..අර තරුනයා කී ලෙසටම සලාකා එක ඉදිරියේ ෆාමසියක් විය.මා අච්චාරු එක තවමත් ලෙවකමින් සිටිනු දුටු අම්මා " කාලා ඉවරනම් ඕක විසිකරනවායි කෑගැසීය "

අපි ෆාමසියට ඇතුලු වුනෙමු.... ගත වුනේ තත්පර කිහිපයකී... එක්වරම විශාල හඩක් නැගින...කන් දෙදරවන තරම් වූ එම හඩින් ෆාමසියේ පැත්තක වූ වීදුරු දොර පිපිරී බිම වැටින.... සිදුවන්නේ කුමක්දැයි නොදැන මා තෘෂ්නිම් භූත වී සිටියෙමි...මිනිසුන් මහ මග විලාප දෙමින් දුව යන්නට විය...

" බෝම්බයක් " ෆාමසියේ ඇතුලත සිටි අය කෑගසමින් එලියට දිවයන්නට විය...
අපි ෆාමසියේ බීදී ගිය වීදුරු දෝර අසලට වින් පිටත බැලුයෙමු...ඇස් වාට්ටුව ඉදිරිපිට මුලුමනින්ම කලු දුමාරයකින් වැසි ගොස් ඇත... තැනින් තැන ගිනි ගෙන දැවෙන වහාන කිහිපයකි..මිනිසුන් මර හඩ දෙමින් විලාප තියයි...ටික මොහොතකින් එතැනට පොලීසීය රැස් විය... මුලු වීදියම ඇම්බියුලන්ස් හඩින්ද විලාප හඩින්ද පොලිසියේ සයිරන් හඩින්ද වැසි ගියේය...
ඒ ඇස් වාට්ටුව ඉදිරියේ මරාගෙන මැරෙන බෝම්බයක් පිපිරී ගිය දිනයයි...මෙහින් මිනිසුන් බොහෝ දෙනෙකු මිය ගිය අතර තවත් බොහෝ දෙනෙකු සදාකාලික ආබාධිතයින් බවට පත් විය..

එය පිපිරී ගොස් තිබුනේ හරියටම මමත් අම්මාත් මීට විනාඩි කිහිපයකට පෙර හිටගෙන සිටි ගේට්ටුව ඉදිරිපිටයි...

මේ සිද්ධිය මතකයට නැගෙන විට තවමත් මගේ මනසට මුහුනු කිහිපයක් මතකයට නැගෙයි...ඇස්වාට්ටු ගේට්ටුව ඉදිරිපිට පේමන්ටුවේ හිදගෙන සිටි ගැබිනි මවත් ... ආබාධිත කුඩා දරුවත් .. අච්චාරු විකුනපු දෙමල ආච්චිත් ඒ මතකයක් අතර ඇත... ඔහුන් තවමත් ජිවත් ව සිටීද නැතහොත් ඒ ත්‍රස්ත ප්‍රහාරයෙන් මියගිය අනිත් අයවලුන් සමගම ඔහුන්ටත් ජිවිතයෙන් සමුගන්නට සිදුවුනාදැයි මා නොදනිමී...එහෙත් මා එකක් දනිමි... ඔහුන් කිසිවෙකුත් යුද්ධයට උල්පන්දම් දුන් අය නොවින... ඔහුන් සියල්ලම මමත් ඔබත් මෙන් අහිංසක සාමාන්‍ය ජනතාව විය... සමහරු යුද්ධය ගැනවත් ත්‍රස්ත වාදය ගැනවත් හාන් කවින්සියක්වත් දැන නොසිටි කුඩා දරුවන්ය...

ඔබ යුද්ධයේ බිහිසුනු කම දෑසින්ම දැක එය අත්දැක ඇත්නම් ඔබ කිසිම දින යුද්ධයක් ප්‍රාර්ථනා නොකරනු ඇත....අද ජිවත්වෙන තරුන පරපුරට යුද්ධය යනු ආශ්වාදයකි...ඔහුන් යුද්ධය විදින්නේ ටීවී ගේම් හෝ චිත්‍රපට තුලිනි..ඒහෙයින් එහි සැබෑ අසුන්දරත්වය ඔහුන් දන්නේ නැත...

මම තවත් දෙයක් සිතමි..එදා අම්මා මාවත් රැගෙන ඇස්වාට්ටු ගේට්ටුව අසලින් ඉවත් නුවානම් අද අපි කොයේ ඇත්ද ....

---

පසුවදන : මේ පොතේ ඇති කෙටිකතා වලින් ලංකාව පසුබිම කොට ගෙන ලියු එකම කතාව මෙම අවසන් කතාවයි.මෙය මගේ ජීවීතයේම තවත් සත්‍ය කතාවකි

පසු සටහන -

මේ පොතේ කතා බොහෝමයකටම පසුවදනක් තියෙන නිසා තවත් දිගු පසුවදනක් අවශය නැහැයි මම සිතනවා..එහෙත් කියවයුතු දේවල් කිහිපයක්ම තියෙන නිසා හිතාමත්ම කෙටියෙන් මම මෙය ලියා අවසන් කරන්නම්.

මේ පොතේ තියෙන කතා මුලින්ම මම ලිව්වේ " මුතුමුදලිගේ නිශ්ශංක " කියන මගේම ෆේස්බුක් පිටුවට සහා මගේ වෙබ් අඩවි වලට.ඒ කතා සමාජ මාධ්‍ය තුල හිතාමත්ම ජනප්‍රිය වුනා පමනක් නොවෙයි.ගොඩක් හොද ප්‍රතිචාරත් ලැබුනා..ඉතින් ඒ කතා කියවපු ගොඩක් අය කියපු දෙයක් තමයි ඒ කතා සේරම එකතු කරලා පොතක් විදියට කියවන්නට අවස්ථාවක් ලබා දෙන ලෙස....

ඒ ඉල්ලීම නිසාමයි මා විසින් මුලින්ම ලියූ කෙටි කතා 50 එකතු කරලා මෙම පොත නිර්මානයක් කලේ.මේ පොතට ලැබෙන අදහස් අනුව මෙහිම දෙවැනි වෙළුමත් තවත් අලුත්ම කෙටිකතා පනහකින් මා නිර්මානය කරනවා...

මා කතා ලියන විනාඃසය අනුව ඔබ එහි පරිවර්ථනීය ආකෘතියක් අත් විදිවී.එසේම මම මේ කතාවලට යොදාගෙන ඇති පසුබිම ලංකාවෙන් පරිභාහිර වෙනත් රටවල පසුතලයන් නිසා එහි ඇති අමුතුම සුන්දරත්වයක්ද ඔබ අත් විදීවී....මගේ නිර්මාන තුලින් මා හැම මොහොතෙම උත්සහා කලේ මිනිස් ජීවිත වලට කුමක් හෝ වටිනා දෙයක් ලබා දෙන්න...ඉතින් මේ සෑම කතාවකින්ම ඔබේ ජීවිතයටත් ගත හැකි වටිනා දෙයක්ද ඔබට ලැබේවී...

ජීවිතය කියන්නේ හරිම පුදුමාකාර දෙයක්.මම සාමාන්‍ය පවුලක ඉපදුනු කෙනෙක්.එහෙත් කුමක් හෝ වාසනාවකට හිතාමත්ම කුඩා කාලයක් තුලදී රටවල් 25ක් වැනි ප්‍රමානයක ජීවත්වීමේ භාග්‍ය මා හට ලැබිලා තියෙනවා. මේ කතා බොහෝමයකටම පසුබිම වෙන්නේ මා ජීවත් වූ එම සුන්දර ස්ථාන, මා අත්විදි සහා මා හට මුනගැසුනු සත්‍ය මිනිස් ජීවිත වල සිද්ධීන්...

විවහය කියන්නේ අසමාන වූ ජීවිත දෙකක් එකිනෙකාව අවබෝධ කර ගැනීම මගින් ගොඩනගා ගන්නා අන්තර් සම්බන්ධතාවයකට..ඒක හරිම අපුරූ අත්දැකීමක්.මට ලියන්න පුලුවන්..එහෙත් මගේ බිරිදට ඒ හැකියාව නැහැ.එහෙත් ඇයට මට නැති අපුරූ හැකියාවක් තියෙනවා..ඇයට මට වඩා යමක් ලස්සනට විස්තර කරන්න පුලුවන් ,ඇය යමක් කියද්දී ඒ තුල කතාවක

ස්වරූපයක් ඉබේම වගේ නිර්මානය වෙනවා.. මම ජීවත්වෙන්නේ ෆැන්ටසියක.ඇය විසින් කියන කතා මගේ මනස තුලින් ඉබේම ෆැනටසියකට හැරවෙනවා..ඒවාට අවශය පසුතලය, දෙබස් සියල්ලම ඒ තුලින්ම නිර්මානය වෙනවා..ඉතින් මේ පොතේ බොහෝමයක් තියෙන්නේ එ අකාරයෙන් නිර්මානය වුනු අපූරු සිදුවීම් රැගත් කෙටිකතා...

සමාජ මාධය තුලින් මගේ කතාවලට ලැබුනු ඉහල ප්‍රතිචාරයම මෙම කතා කියවන ඔබෙනුත් මට ලැබෙවී යැයි මා විශ්වාස කරනවා..කලින් කිව්වා වගේම ඔබේ ප්‍රතිචාරය මත මෙහිම දෙවෙනි පොතත් තවත් කෙටිකතා 50කින් යුක්තව නිර්මානය කිරීමට මා බලාපොරොත්තු වෙනවා.

ඉතින් ඔබේ අදහසුත් මට කියන්න... මම එය බලාපොරොත්තු වෙනවා..
ජීවිතය දිනන්න.සතුටින් ජීවත්වෙන්න...
ඔබට ජය !

මම, මුතුමුදලිගේ නිශ්ශංක

Facebook Page : Muthumudalige Nissanka
Youtube: MN Channel
Email : chairman@helppin.org / mmnissanka@gmail.com
Website : www.muthumudaligenissanka.com

<u>ඔබේ ජීවිතයට දුකක් හෝ වේදනාවක් දැනුන විට , ජීවිතයට ශක්තියක් ලබා ගැනීමට අවශය වුනු විට මෙය කියවන්න</u>

ඔයාගේ ජීවිතේට ප්‍රශ්න ඇති : ප්‍රශ්න අපි හැමෝටම තියෙනවා... මේ ලෝකේ ජීවත්වෙන මිනිස්සු හැමෝම ජීවත්වෙන්නේ ප්‍රශ්නත් එක්ක. මේ ලෝකේ සතුටින් ඉන්නවයි කියලා ඔබ දකින මේ ලෝකේ ඉන්න හොදම සල්ලි කාරයින්ට වුනත් ප්‍රශ්න තියෙනවා...සමහරක් වෙලාවට අපේ ජීවිතවල නැති වේදනාත්මකම ප්‍රශ්න තියෙන්නේ ඔහුන්ට... ඒ අතින් අපි හැමෝම සමානයි...එහෙත් අපි හැමෝම අසමාන වෙන තැනක් තියෙනවා..ඒ අපි ඒ ප්‍රශ්න වලට මුහුන දෙන ආකාරය අනුව.සමහරු ප්‍රශ්න නිසා අන්තෙටම කල කිරිලා ජීවිතය නැතිකරගන්න පවා යද්දී තවත් සමහරු ඒ ප්‍රශ්නම ජීවිතේට ආශිර්වාදයක් කරගෙන ආයෙත් නැගී සිටිනවා...එහෙම නැගී සිටින මිනිස්සු ජීවිතය කවදාක හෝ ජයග්‍රහනය කරනවා..ඔබත් නැගී සිටින්න..ප්‍රශ්න වලට ඔබව පරද්දන්න ඉඩදෙන්න එපා..ඔබ ශක්තිමත් ඔබ තුල පුදුමාකාර ශක්තියක් තියෙනවා... ප්‍රශ්න වලට මුහුන දෙන ගමන්ම දෛහියීවන්තව නැගී සිටින්න..දිනෙක ඔබ අනිවාර්යෙන්ම ජයග්‍රහනය කරාවී..

ඔබ දුප්පත්ද ? ඔබේ ජිවිතයට ඒ දුප්පත් කම බාධාවක්ද ? :
ඔබ දැනටමත් එහෙම හිතනවනම් ඒ අදහස ඔබේ මනසින් අහින් කරලා දාන්න..දුප්පත් කම තුල ඔබ නොදකින පුදුමාකාර ශක්තියක් තියෙනවා..මේ ලෝකේ ඉහල තැන්වල ඉන්න ගොඩක් මිනිස්සු ඔබටත් වඩා අන්ත දුප්පත් විදියට ඉපදුනු අය... දුප්පත් කම කියන්නේ ජීවිතේට ලොකු ශක්තියක්.ඒ ශක්තියත් එක්ක ජීවිතය ගොඩනගාගත්තු මිනිස්සුන්ව වට්ටන්න බැහැ... ඒ මිනිස්සු ඒ තරම් ශක්තිමත්.... ඔබේ දුප්පත් කමත් ජීවිතයට ආශිර්වාදයක් කරගන්න... ඔබේ අරමුනු කරා යන්න. ඔබේ දුප්පත්කමින් ගත් ඒ ශක්තිය කවදා හරි දිනෙක මේ ලෝකය සුන්දර කරාවී.

ඔබටත් දුර්වලතාවයක් තියෙනවද ? එය ජීවිතයට බාධාවක්ද ?
ඇයි ඔබට බැරි ඔබේ දුර්වලතාවය ඔබේ දෛහිර්ය බවට පත් කරගන්න...
Nick Vujicic කියන්නේ අත පය හතරම නැතිව ඉපදුනු කෙනෙක් අද ඔහු ලෝකයේ ඉන්න ජනප්‍රියම ධනාත්මක චින්තකයා බවට පත් වෙලා තියෙනවා. Rowan Atkinson කථන දුර්වලතාවයක් තිබුන කෙනෙක්..ඒ නිසාම ඔහු කිසිම වචනයක් කතා නොකරන Mr Bean නිර්මානය කලා..
ඔබේ ජීවිතයටත් ඇති දුර්වලතාවයන් , ප්‍රශ්න, දුප්පත් කම මේ හැමදේම ජීවිතේට ශක්තියක්...ඒ ශක්තිය ඔබව කවදා හරී දිනවාවී...

කිසිම බාධකයට නොසැලී දිගටම ඔබේ අරමුන කරා යන්න..ඔබ දවසක අනිවාර්යෙන්ම දිනාවී.

# මගේ තවත් පොත්

ප්‍රේමය කර්මයක් ලෙසද පැමිණිය හැක

මුතුමුදලිගේ නිශ්ශංක

## ත්‍රිත්ව 2

බේබී, ඔයා දැන් නැගිටින්න ඕනේ,
ඔයාගේ බබීට ආදරේ කරන්න
ඔයා දැන් නැගිටින්න ඕනේ
ඇය එසේ කියමින් පිරිමැදීම වේගවත් කලාය.

ඇයගේ වේලාව මැනීම නිවැරදිනම්
බෙහෙත් දීමෙන් විනාඩි දහයකට පසුව
එය ප්‍රානවත් විය යුතුය.
ඇය තවත් ස්වල්ප වේලාවක්
එය අත්ලෙන් පිරිමැද,
ඇය ඇද සිටි තුවාය ගලවා දමා
නිරුවතින් ඔහුගේ ඔඩොක්කුවෙහි
වතුරින් පිරී ගිය බාත් ටැබයෙම හිදගත්තාය.

බෝම්බ තුනක්

මුතුමුදලිගේ නිශ්ශංක

හදවත දරුනු වුනාම
කරන දේවලුත් දරුනු වෙනවා මහත්තයා,
ඒ දරුනු කමට ජාති ආගම් බේද නැහැ

එහෙත් එහෙම දරුනු වුනු හදවතක් වුනත්
සුවපත් කරන්න තරම් ප්‍රබල ඖෂධයක්
ලෝකේ තියෙනවා. ඒ තමයි වේදනාව

මගේ “වේදනාව” පටන් ගත්තේ
මගේ ඇස් ඉස්සරහම පිපිරිලා ගිය
මේ බෝම්බෙත් එක්ක.
ඒකෙන් මාව බේරුනා, එහෙත් මගේ හදවත
කීතු කීතු වලට කඩලා දැම්මා
මේ පොතේ තියෙන්නේ ඒ කතාව




පිරිමි ගොඩක් වෙලාවට
ආදරය පෙන්නන්න කැමැති නැහැ...
එහෙත් කාන්තාවන් ආසයි ආදරේ විඳින්න...
ඒ නිසා පිරිමි අපිට අනිවාර්යෙන්ම
වෙනස් වෙන්න සිද්ද වෙනවා...
අපි කාන්තාවන්ට ආදරය දෙන්න
දෙන්න ඒ අය තවත් ලස්සන වෙනවා...
ඒක තමයි ඇත්ත...

මුතුමුදලිගේ නිශ්ශංක
ලස්සන කෙටි කතා 50ක් පොතෙන්




ගැහැනියක් කියන්නේ හරිම සුන්දර වස්තුවක්.
හරියට වීදුරු මලක් වගේ.
පිරිමි ආසයි ඒ දිහා බලාගෙන ඉන්න.
ඒ පෙති වලට කිසිම රිදීමක් නොකර අත ගාන්න.
ඒ වීදුරු ඇස් වලින් පරාවර්තනය වන
තම රූපය දිහා බලාගෙන ඉන්න.
කම්මුල් ලැජ්ජාවෙන් හැකිලෙද්දී ඒවා සියුම්ව පිරිමදින්න.
බෙල්ලට තෙත් වෙච්ච තොල් තියලා හීනියට හාදුවක් දෙන්න.

ගොඩක් ගැහැනු ඒ මෘදු, සියුම්, ඉක්මුනු
පිරිමි ගතියට කැමති ඇති.
එහෙත් හැම ගැහැනියෙක්ම එහෙම නැහැ.

සමහර ගැහැනු ආසයි බෙල්ලෙන් ඇදලා ලඟට අරගෙන
තොල් දෙක පැලෙන්න තරම් තදින්, දිව උරාගන්න පිරිමින්ට.
ඇගේ ඇඟිලි මාක් හිටෙන්න තරම්
දැඩිව වැලඳ ගන්න පිරිමින්ට.
කම්මුල් ලැජ්ජාවෙන් හැකිලෙද්දී
ඒවා තවත් රතු කරන්න පුලුවන් පිරිමින්ට.
කොටින්ම වීදුරු වගේ කියලා හිතන අපේ ගැහැනු ශරීරය
හොඳින් ස්පර්ශ කරන, අත පත ගාන පිරිමින්ට.


බාබා X
සීනුව ලිගුවේ එල්වා ගත් බාබා
ප්‍රතිමාව ඉදිරියේ තිබුනු
කොන්ක්‍රීට් කුලුනු දෙක හරි මැදට වන්නට ඇති
සිමෙන්ති පොලවේ හිඳගත්තේය.
ඔහු පාදයන් යෝගියෙකු තබනා ආකාරයට
එකිනෙකට ලන් කොට හිඳගත් අතර
ලිගුවේ වූ සීනුව හැමෝටම පෙනෙන ආකාරයට
එය පොලවේ ගෑවෙන්න තබා ගත්තේය.
ලමේ ආකාරය හොදය...
ඊලගට ඇත්තේ දේවත්වයට පත් වීමයි,
ඒ සදහා මිනිසුන් එකා දෙන්නා
මේ පුදබිමට එන තුරු බලා සිටිය යුතුයල


මුතුමුදලිගේ නිශ්ශංක
එහෙත් මගේ සිතෙහි තවමත්
ඉටු නොවූ කුතුහලාත්මක ආශාවක් ඉතිරි වී ඇත.
හන්නා විසින් පැවසූ කතාවට අනුව
ගෝහාගේ නිවුන් සහෝදරයා
මේ වන විටත් ඇයගේ මිත්තනිය සමඟ
යෙරෙවානයේ ජීවත් විය යුතුය.
ඔහුව දැකිය යුතුය.
ගෝහාත් ඔහුත් නිවුන්නු නම්,
ඔවුන් දෙදෙනාටම ඇත්තේ එකම රූපයක් නම්.
මට ගෝහාගේ රූපය ඔහු තුළින් දැක ගත හැක.
එය මගේ සිතේ සැඟව පවතින්නා වූ
තදබල වූ ආශාවකි.
දිනෙක -
ගෝර්ව බැලීම සඳහා
මම යෙරෙවානයට යන්නෙමි.


එක දවසක් රෑ
මුතුමුදලිගේ නිශ්ශංක
අම්මා කෙනෙක්ට පුලුවන්නම්
තමන්ගේ ලේ කිරි කරලා දරුවෙක්ට පොවන්න
ඒ අම්මගේ ආදරයට බැරිවෙන්නේ නැහැ
මැරිච්ච දුවගේ මලකද හොයාගන්න.
එදා නිදන් ගෙවුනු හැම දවසකම
මගේ ජීවිතේට අරමුනක් තිබුනා.
මම ජීවත් වුනේ ඒ අරමුන වෙනුවෙන්,
ඒ එකම එක අරමුන වෙනුවෙන්,
මගේ දුවව කොහොම හරි හොයාගන්නවා,
එච්චරයි,"


මුතුමුදලිගේ නිශ්ශංක
පව්කාරයිනි,
සූදානම් වන්න
මරණයේ
කෲර ගොදුරක් ලෙස
මිය යන්න...
ඔබවත් නොසිතූ
කුර්රූ මරණයකින්
ඔබ කල පවු වලට වන්දි ගෙවන්න
මරණය ඔබ කරා
තවත් මොහොතකින්
ලගාවනු ඇත


HOVHANNES TUMANYAN
මුතුමුදලිගේ නිශ්ශංක
තාත්ත පිරිමියෙක් වෙලා
ජීවත් වෙනවට වඩා හොදට
ගැහැනියෙක් විදියට ජීවත් වුනා.
කවුරුවත් සැක කලේ නැහැ.
අම්මා එයාට උගන්නපු පිරිමි ගමන
සම්පූර්නයෙන්ම අත හැරලා
ආයෙත් කලින් විදියටම
ගැහැනියෙක් වගේ ඇවිදින්නයි,
ගැහැනියෙක් වගේ කතා කරන්නයි පටන් ගත්තා.
එයාට ඒක හොදට පිහිටලා තිබුනා
ඒක හැකියාවක් සර්,
දෛවය විසින් අසරන කරපු
හැම සංක්‍රාන්තියෙක්ගේම හැකියාවක්


HOVHANNES TUMANYAN
පරිවර්තනය
මුතුමුදලිගේ නිශ්ශංක
වෙරි ගනන්ද ? වෙරි ගනන්ද ?
මෝඩ බල්ලා, වෙරි ගනන්ද ?
කියමින් අර්තෙම් ගිකෝර්ට පයින් ගැහුවා.
ගිකෝර්ට ඒයාගේ අම්මව මතක් වුනා.
අත් දෙකෙන්ම මූන වහගෙන
එයා අම්මා ගැන හිතුවා.
අම්මා ...අම්මා
ගුටිකද්දී ගිකෝර්ගේ කටින් පිටවුනේ
ඒ වචනය විතරයි.
Gikor



**ජීවිතය දිනන්න**
**සතුටින් ජීවත් වෙන්න!**
**තවත් පොතකින් යලිත් හමුවෙමු**
**☺**

*Muthumudalige Nissanka*



**Sudarshi Jayasinghe** හැම කතාවක්ම ගොඩක් රසවත්, ත්‍රාසය ,කුතුහලය වගේම අමුතුම සුන්දරත්වයක් තියෙනවා......



**Dmr Dissanayake** ඇත්තටම හැම කතාවක්ම හරිම ලස්සනයි ..හරිම.කාලෝචිතයි..ඒ වගේම හදවතට දැනෙනවා ❤️



**Sachini Paris** නියමයිනේ අයියේ .මම කතා ඔක්කොම කියවනවා .ගොඩක් ලස්සනයි .දිගටම ලියන්න අයියට ශක්තිය ලැබේවා ! බුදු සරණයි ..



**Apsara Perera** වෙනස්ම විදියකට ලියවුනු , එක හුස්මට කියවගෙන යන්න පුලුවන්, නැවත නැවතත් කියවා රසවිඳින්නට හැකි කෙටි කතා රැසක්.. හැම එකක්ම වගේ හරිම ආසාවෙන් කියෙව්වා.. සුබ පැතුම්. ..!!!



**Harshani Kh** unique and curious stories. most of related with practicle life.always wait for your new story.😊🌟🌟



**Ajantha Silva** මචං ඔයා කතාව ලියන විදිය හරිම අමුතුයි. මම හිතන විදියට එක සරල දෙයක් ඇතුලේ තියන අමුතු දෙයක්.. ඒ දේට පුලුවන් පොත් කියවන්න එතරම් කැමත්තක් නැති කෙනෙකුවත් ඒ කතාවට ඇබ්බැයි කරවන්න. හරියට මට වුණා වගේ😂



**Thushari Wasana** වෙනස්ම ආකෘතියකින් ඔබ ලියන කතා .කුතුහලයෙන් එක දිගටම කියවන්නට පුළුවන් සෑම කතාවක්ම සමාජයට යම් පනිවිඩයක් දෙනවා තව තවත් අපට ලියන්නට ඔබට ශක්තිය ලැබේවා !!!



**Hiruni Nilushika** It's cool, it's interesting to read your short stories



**Asanka Marasinghe Prabarachchi** මේ කතා සේරම එකතු කරලා පොතක් කරන්න ... පුදුම ආසාවකින් ඉන්නේ සේරම කියවන්න ... 👉



**Ganga Fernando** ඔයා ලියන හැම කතාවකම ජීවිතේට වැදගත් මොකක් හරි පනිවිඩයක් තියෙනවා අයියේ.තවත් ලියන්න...ආසයි කියවන්න 🤗



**Pramuka Arachchi** Deeply thoughtful, profoundly compassionate stories of beautifully mixes realism , Wonderful !



**Deepthi Ihalawatte** මම ඔයා ලියන හැම කතාවම කියවනව. ලස්සනයි... good luck and keep it up ❤️



**Malee Wickramage** ඔයාගේ කතා වලින් ගෝහා කතාවට මම ගොඩක් ආසයි..තව ලියන්න අයියා 👏



**Nalaka Dananjaya Rathnayake** මට කෙටිකථා ඔක්කොම කියවන්න බැරි උනා හැබැයි කියවන්න ලැබුණු ටික ඇත්තටම හිතට දැනෙන කොටින්ම කියනවනම් සුපිරි කතා. ජයවේවා අයියා



**Gayana Wickramaarachchi** මුත්තගෙ කතාවල තියෙන්නේ වෙනස්ම ආකෘතියක් , ගොඩක් අයට එහෙම ලියන්න බැහැ.... නියමයි 👌 තව තවත් නිර්මාණාත්මක විශිෂ්ඨ නිර්මාණ ලියන්න,කියන්න ශක්තිය ධෛර්යය ලැබේවා කියලා හදවතින්ම ප්‍රාර්ථනා කරනවා.ජය වේවා.. 💐💐



# රසය , කුතුහලය සහා ත්‍රාසය සමග මේ සෑම කතාවකින්ම ඔබේ ජීවිතයට වටිනා යමක් ඔබට හමුවේවී


Muthumudalige Nissanka

MN Channel

chairman@helppin.org

muthumudaligenissanka.com




ISBN 978-955-35-8370-3

9 789553 583703

# ලස්සන කෙටිකතා 50ක්

මුතුමුදලිගේ නිශ්ශංක

HOVHANNES TUMANYAN

# ගිකෝර්

සෝවියට් සාහිත්‍යයේ
සංවේදීම කතාව



පරිවර්තනය

මුතුමුදලිගේ නිශ්ශංක



# බෝම්බ තුනක්



මුතුමුදලිගේ නිශ්ශංක

# බේබී

ප්‍රේමය කර්මයක් ලෙසද පැමිනිය හැක



මුතුමුදලිගේ නිශ්ශංක

